# මේ මොහොත

ප්‍රථම මුද්‍රණය : 2019



ISBN 978-955-95963-5-6

**ධර්ම දානය පිණිස පමණි.**

**ධර්ම දානය සඳහා මුද්‍රණ විමසීම්.**



දිමුතු ප්‍රකාශන

අංක 103/A, නුවර පාර, යක්කල.
දුරඃ 033-2239662 / 077-8829705
විද්‍යුත් තැපැලඃ dimuthupub@yahoo.com
dimuthupub@gmail.com
නොමිලේ දහම් පොත් කියවීම සඳහා පිවිසෙන්න.
වෙබ්ඃ www.dhammadanabooks.com

**මුද්‍රණය සේවා සැපයීම**

R.K. Advertising & Printing
No. 223/C, Ihala yagoda, Imbulgoda

# පිදුම

ධර්මකාමී

සැදැහැවත්

සැමට

මෙත් සිතින්.

කොස්වත්තේ අරියවිමල හිමි.

## පෙරවදන.

ඉක්මී ගිය අත්දැකීම් නැවත සිහිවෙන කොට **'අතීතය** යන සංකල්පය මැවෙනව. මතු කැමති වන අත්දැකීම් ගැන කල්පනා කරන කොට **'අනාගතය'** මැවෙනව. අලුතෙන් අත්දැකීම් ලබන කොට **'වර්තමානය'** කියන සංකල්පය මැවෙනව. අභිසංස්කරණයන්ට සංචේතනාවන්ට වඩා මෙහි ඇත්තේ මොකක් ද? වර්තමානය කියන්නෙ පුළුල් කාලයක් නො වෙයි. මොහොතක්. ක්‍ෂණ මාත්‍රයක්. මේ මොහොතේ සමුදය වෙන අත්දැකීම් සැණෙකින් ක්‍ෂය වෙනව. අතීත අත්දැකීම් අභිනන්‍දනය කරන්නෙත් ක්‍ෂණමාත්‍ර වූ මේ මොහොතෙහි ම යි. අනාගත අත්දැකීම් අභිනන්‍දනය කරන්නෙත් මේ මොහොතෙ ම යි. දැන් එළඹෙන නිමිති අත්දකින්නෙත් මේ මොහොතෙ ම යි. මේ මොහොත ධර්මයේ හැඳින්වෙන්නෙ පච්චුප්පන්නය කියල. ඒ වචනෙ තේරුම **'ප්‍රත්‍යයන්ගෙන් සමුදය වුණ'** කියන එකයි.

ලෝකයා මේ ප්‍රත්‍යුත්පන්නය ප්‍රඥාවෙන් විනිවිද දකින්නෙ නෑ. මවාගත්තු අතීතයත් අනාගතයත් අතර දෝලනය වෙනව. මේ මොහොතේ කෙරෙන්නෙ සළායතනික විඥ්ඥාණය පිළිබිඹු කරන නාමරූප අත්දැකීම් මනසිකාරය ඔස්සේ දෙයක් බවට පත් කරගැනීම බව හොඳින් තේරුම් ගතයුතු වෙනව. මේවාට මුල් වෙන්නෙ ඡන්‍දරාගය. සමුදය වෙන්නෙ ඵස්සය ප්‍රත්‍යය කරගෙන. මුණගැසෙන්නෙ මනසිකාරයට. කය, වචනය, මනස හැසිරෙන්නෙ ඊට අනුව. මනසට තැනක් ලැබුණා කියන්නෙ කර්ම සකස් වෙනව කියන එකයි. කලහවිවාද, විලාප කියමින් හැඬීම, ශෝක කිරීම, මසුරුකම, මානය, අතිමානය, කේලම සමුදය වෙන්නෙ ඡන්‍දරාගය නිසා බව කලහවිවාද සූත්‍රයේ දැක්වෙනව. ප්‍රතිඵලය වෙන්නෙ භවය. ජරාමරණ. සුගතියට වැඩියෙන් දුගතිය.

නිවනට නැමුණ සිතක් ඇති කෙනා අතීත අරමුණු මේ මොහොතට ඇදගෙන සතුටු වෙන්න යන්නෙ නෑ. **(පුරාණං නාභිනන්‍දෙය්‍ය)** මේ මොහොතේ ලැබෙණ නිමිති ගැන සතුටු වෙන්න යන්නෙත් නෑ. **(නවෙ ඛන්තිං න කුබ්බයෙ)** සැණෙකින් ක්‍ෂයවන නිමිති ගැන ශෝක කරන්නෙත් නෑ. **(හීයමානෙ න සොචයෙ)** එබඳු කෙනා සංසුන්ව හැසිරෙනව.

මේ සංසුන් බව පිණිස අවශ්‍ය දැක්ම පුද්ගලයා වෙත ප්‍රදානය කරන්නට ගත් උත්සාහයක් තමයි, **"මේ මොහොත"**

කෘතිය. හරි දැක්ම හරි කල්පනයට ප්‍රත්‍යය වෙනව. හරි කල්පනය පුද්ගලයාගේ චර්යාව නිවැරදි කරනව. මේ සකස් වීම පදනම් කරගත් නිවැරදි උත්සාහය, නිවැරදි සිහිය ඇති තැන පුබුදින්නෙ සමාධි චිත්තය. එය නිවැරදි ඤාණයට නිවැරදි විමුක්තියට මග හෙළි කරනව. යථාභූතය පිරිසිඳ නො දත් **(අපරිඤ්ඤාතං)** පුහුදුන් මට්ටමේ ම අප සිටියයුතු නෑ. 'පිරිසිඳ දතයුතු ය' **(පරිඤ්ඤෙය්‍යං)** කියන තැනට අප එළඹිය යුතු ම යි. නිසි මෙනෙහි කිරීම වන යෝනිසෝමනසිකාරය ඒ පිණිසයි.

මේ කරුණ පැහැදිලි කිරීමේ අරමුණ ඇතිව පුර පෝ දින වල බෙදා හැරිය දහම් පත්‍රිකා පෙළක් මේ මොහොත කෘතියේ ඇතුළත් වෙනව. මේ දහම් පත්‍රිකා පොතක් වශයෙන් හෙළි දැක්වුවොත් මැනැවැයි යෝජනා ඉදිරිපත් වුණ නිසා එය සපුරා ලීමක් වශයෙනුයි මෙසේ **"මේ මොහොත"** කෘතිය සුළු සකස් කිරීම් කීපයකින් යුතුව **පිරිසිදු ධර්ම දානයක්** වශයෙන් ඔබ අතට පත් වෙන්නෙ. මෙය දහම් පත්‍රිකා මාලාවක් නිසා එක ම කරුණ නැවත නැවතත් කියැවෙන අවස්ථා තියෙනව. එය දොසක් වන නමුත් කියවන්නාට අපහසුවකට වඩා කරුණු තේරුම් ගැනීමට උපකාර වන්නක් බැවින් ඒ අයුරින් ම තිබෙන්නට හැර ඇති බව සලකන්න.

මේ කෘතිය මුද්‍රණද්වාරයෙන් ඔබ අතට පත් කිරීම සඳහා **කෘත්‍ය සම්පාදනය කළ සැමටත්** මුද්‍රණ කාර්යය මැනැවින් ඉටු කරදුන් **දිමුතු මුද්‍රණාලයාධිපති එච්. එම්. එච් බණ්ඩාර මහත්මා ඇතුළු කාර්ය මණ්ඩලයටත්** මගේ පුණ්‍යානුමෝදනාව හිමි වෙනව.

කොස්වත්තේ අරියවිමල හිමි.
ආර්ය නිකේතනය,
261/1, ඩී, පරකන්දෙණිය,
ඉඹුල්ගොඩ.

2563
2019. 05. 31

## මේ මොහොත. 01.[1]

අතීත, වර්තමාන, අනාගත කියන තුන් කාලය පටලවා ගැනීම නිසා නිවැරදි දැක්මට බාධා වන විදියේ අවුල් ඇති වෙනවා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ කරුණු නිරවුල් කරගැනීමට උපකාර වශයෙන් **නිරුත්තිපථ සූත්‍රය** දේශනා කළා. නුවණැති මහණබමුණන් විසින් බැහැර නො කරන නිරුක්තිමාර්ග අධිවචනමාර්ග ප්‍රඥප්තිමාර්ග තුනක් තියෙනවා. මේ නිරුක්ති අධිවචන ප්‍රඥප්ති කියන්නෙ අප පාවිච්චි කරන භාෂා ව්‍යවහාරයටයි.

1. දෙයක් අතීතයට ගිය බව කියන කොට අප පාවිච්චි කරන්නෙ 'වූයේ ය' කියල. **(අහොසි)**එතැන දී 'ඇත' කියලවත් 'වන්නේ ය' කියලවත් කියන්නෙ නෑ.

2. යමක් තියෙනවා නම් 'ඇත' කියල කියනව. **(අත්ථී)**'වූයේ ය','වන්නේ ය' කියල කියන්නෙ නෑ.

3. 'වූයේ ය' කියන්නත් 'ඇත' කියන්නත් බැරිනම් එතැනදි කියන්නේ 'වන්නේ ය' කියල. **(භවිස්සති)- (සංඃ නිඃ 3, - 122 පිට)**

ගිය දේට 'ඇත' කියල හිතුවොත් පටලැවිල්ලක්නෙ. ඒ වගේ ම නො වූන අනාගත දෙයකුත් ඇති ගණනට ගත්තොත් ඒකත් පටලැවිල්ලක්. අප අතීත අනාගත වර්තමාන කියන කාල ව්‍යවහාරය කරන්නේ දේවල් සාපේක්ෂ කරගෙන. මොනවා ද, මේ දේවල්. රූපය, විඳීම, හැඳිනීම, චෙතනා, දැනීම ඇරෙන්න වෙන කිසිවක් නො වෙයි. අප සවිඤ්ඤාණක කය සහිතව බාහිර නාමරූප **(නිමිති)**අත්දකිනව කියන්නේ, රූප වශයෙන් විඳීම් වශයෙන් හැඳිනීම් වශයෙන් චේතනා වශයෙන් වෙන් කරල දැනගන්නව කියන එකයි. මම, මගේ කියන හැඟීම මතුවෙන්නෙ එතැන.

අත්දකින වෙලාවෙ ඒව තියෙනව. අත්දැකීම ඉක්මිලා නම් ඒක අතීතයි. ඒ කියන්නෙ නිරුද්ධයි. ඒ අත්දැකීමෙහි දී මැවුණ මම නිරුද්ධයි. දැන් මම මැවෙන්නෙ දැන් අත්දකින දේ ඇසුරිනුයි. අනාගතය තව ම ආවෙ නෑ. ඒ කියන්නෙ අනාගත

---

[1] මේ කෘතියෙහි යොදා ඇති සියලු මූලාශ්‍ර පිටු අංක බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථ මාලාවට අනුව යොදා ඇති බව සලකන්න.

මම තව ම මැවිල නෑ. මේ පැහැදිලි සත්‍යය කාටවත් බැහැර කරන්න බෑ. මේ සත්‍යය නො දකින නිසා තමයි, සක්කායදිට්ඨිය ඇතිවන්නෙ. අතීතෙ මැවුන මමත් මතු මැවෙන මමත් දැන්මැවෙන මමත් එකක් හැටියට ගත්තොත්, වරද වන්නේ ඒකයි. රූප සමූහය ඇත්ත කියල ගන්නව. ඒ ආකාරයට විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් සමූහය ඇත්ත කියල ගන්නව. පඤ්ච උපාදානස්කන්ධ සාර වශයෙන් ගැනීම සක්කායදිට්ඨියයි කියල කියන්නේ ඔන්න ඔය නිසා. ආත්ම හැඟීමක් මවා ගන්නේ උපාදානස්කන්ධ ක්‍රියාකාරිත්වය අනුව.

ඒ නිසා තමයි, බුදුරජාණන් වහන්සේ සබ්බාසව සූත්‍රයේ දී සක්කායදිට්ඨිය ප්‍රහාණය කරන්න නම් දර්ශනයක් අවශ්‍ය බව වදාළෙ. අතීතෙ 'මම' හිටිය ද? 'මම' අතීතෙ නො හිටිය ද? අනාගතේ 'මම' වන්නෙම් ද? අනාගතේ 'මම' නො වන්නෙම් ද? දැන් 'මම' ඉන්නව ද? 'මම' නැද්ද?කියල පුහුදුන් පුද්ගලයා හිතන කොට ඒ හිතන්නෙ, නිරතුරු ඇතිවෙන නිරුද්ධවෙන මමත්වයක් ගැන නො වෙයි. ස්ථිරව ඉන්න 'මම' කෙනෙක් ගැනයි. ආත්මයක් ගැනයි. ආත්ම කියන වචනයේ තේරුම තමා කියන එකයි. තමා සදාකාලිකයි කියල හිතුනොත් ඒකට කියනව, ශාශ්වත දෘෂ්ටිය කියල. ආත්මය තිබිල නැතිවෙනවා කියල හිතුවොත් ඒකට කියනව උච්ඡේද දෘෂ්ටිය කියල. ආත්මය, තමා යනු ඇති දෙයක් නොව ඇතැයි හිතාගත් දෙයක්. මඤ්ඤිතයක්. **(අස්මීති මඤ්ඤිතමෙතං)-(සංඃ නිඃ 4, යවකලාපී සූත්‍රය, 386 පිට)**

මම හැඟීම ඉදිරියට දමාගත්තොත් ඒ තමා අවිද්‍යාව. මමත්වය ඉදිරියට දමාගෙනයි, අත්දැකීම් ගොඩනගන්න කය සකස් කරන්නෙ. වචනය සකස් කරන්නෙ. සිත සකස් කරන්නෙ. සසර දිගු කලක් ඇදී ආවෙ, ඒ නිසා. රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් වලට තෘෂ්ණා කළ නිසා. එක් මොහොතක උපදින සිතක අවයව වන්නේ, දැනීම් ක්‍රියාවලිය හෙවත් විඤ්ඤාණයෙහි පිළිබිඹු වන විඳීම, සංජානනය, සංචේතනය, ස්පර්ශය, මනසිකාරය කියන නාමධර්ම හා ඒ ඔස්සේ නිමිති කරගන්නා රූපධර්මයි. විඤ්ඤාණ නාමරූප සිත් එකක් පසු එකක් වශයෙන් වේගයෙන් ගලා එනවා. නිරුද්ධ වෙනවා. මොහොතින් මොහොත සමුදය වන නිරුද්ධවන

ප්‍රවාහය පුහුදුන් සිතට පෙනෙන්නෙ නෑ. සමුදය දෙකක් අතර නිරෝධය පෙනෙන්නෙ නෑ. තණ්හාව නිසා සමුදයෙන් සමුදයට පනිමින් අතීතයත් අනාගතයත් අතර දෝලනය වෙනව. සියුම් වූ මේ මොහොත දකින්නෙ නෑ.

ඒත් අපට වැදගත් වන්නෙ මේ මොහොතයි. ඒ ඇයි? අවබෝධය උදෙසා අවශ්‍ය සියල්ල වටහා ගත හැක්කේ මේ මොහොතට අවදි වීමෙනුයි. අරමුණු ලෝකයට විඤ්ඤාණය සකස් වන්නේ ඇස කන ආදී ඉඳුරන්ගෙන් දතයුතු රූප ශබ්දාදී නිමිති සාපේක්ෂ කරගෙනයි. ඇස, කන, නැහැය, දිව, කය, මන උපදින්නේ ද රූපාදී නිමිති සාපේක්ෂ කරගෙනයි. රූප, ශබ්ද, ගන්ධ, රස, පහස, සිතිවිලි උපදින්නේ ද ඉන්ද්‍රිය හා විඤ්ඤාණ සාපේක්ෂ කරගෙනයි. නාමරූප සමුදය වන්නේ විඤ්ඤාණය සාපේක්ෂ කරගෙනයි. සළායතන, ස්පර්ශ, වින්දන, තණ්හා, උපාදාන, භව, ජාති, ජරාමරණ සකස්වන්නේ මේ මොහොතෙයි. මෙතැන වැඩ කරන ධර්මන්‍යායය මොකක් ද? 'මෙය ඇති කල්හි මෙය වෙයි.' **(ඉමස්මිං සති ඉදං හොති)** 'මෙය ඉපදීමෙන් මෙය උපදියි.' **(ඉමස්ස උප්පාදා ඉදං උප්පජ්ජති)** 'මෙය නැති කල්හි මෙය නො වෙයි.' **(ඉමස්මිං අසති ඉදං න හොති)** 'මෙය නිරුද්ධ වීමෙන් මෙය නිරුද්ධ වේ.' **(ඉමස්ස නිරොධා ඉදං නිරුජ්ඣති)-(සං: නි: 2, නතුම්හ සූත්‍රය, 100 පිට)** යමක ඇති බව පැනවිය හැක්කේ පවත්නා මොහොතෙහි පමණයි. නිරුද්ධ වූ දෙය ඇත කියා ගතයුතු නෑ.

ඔබ ඊයේ මිහිරි අත්දැකීමක් ලැබුවා නම් එය මේ මොහොතේ 'ඇත' යයි කියන්න බැහැ. එය නිරුද්ධයි. එහෙත් සංස්කාර සටහනක් අනුසය වී තිබෙනවා. මේ මොහොතෙත් ඒ පිළිබඳ කැමති වන්නෙ ඒ නිසයි. **(අභිනන්දති)**වචනයෙන් අගය කරන්නේ ඒ නිසයි. **(අභිවදති)**සිතෙහි වැද සිටින්නේ ඒ නිසයි. **(අජ්ඣොසාය තිට්ඨති)-(සං: නි: 4, නකුලපිතු සූත්‍රය, 238 පිට)** එහෙත් ඒ අත්දැකීම මතක් කරගෙන මිහිර විඳගන්නට බෑ. එය නිරුද්ධ නිසා. නැවත නැවත වින්දනයට යොමු වන්නේ ඒ නිසා. විඳින විඳින වාරයක් පාසා ඉපිද නිරුද්ධ වෙනව. 'ඇත'යයි කිවහැක්කේ විඳින මොහොතේ පමණයි. මේ උපදින්නේ ඔබේ ලෝකයයි. නිරුද්ධවන්නේ ඔබේ ලෝකයයි. ඇත යයි කිවහැක්කේ මේ මොහොත පමණයි. එක සංඥාවක්

ගන්නකොට තිබුණ සංඥාව නිරුද්ධයි. ඒවා මමයි මගෙයි කියල හිතුවට විඤ්ඤාණයේ පිළිබිඹු වීම් පමණයි. අතීතය ගැන හිතුවත් හිතන්න වෙන්නෙ මේ මොහොතෙ. අනාගතය ගැන හිතුවත් හිතන්න වෙන්නෙ මේ මොහොතෙ. එසේ හිතන්නෙත් මනෝවිඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූප හැටියට පමණයි. අතීතයෙත් දැනුත් මතුත් ඇතැයි සිතෙන 'මම' සංකල්ප වල ම නිර්මාණයක්. සතුට, කෝපය, භය, ශෝකය මමත්වය තුළ පදිංචි වෙලා. මමත්වයෙන් යුක්ත වනවිට මේ මොහොත දකින්නෙත් අතීතය ඇසුරු කරගෙන නැත්නම් අනාගතය ඇසුරු කරගෙන. ඒ නිසා මේ මොහොතත් විනිවිද දකින්නෙ නෑ. මේ ආකාරයෙන් පුහුදුන් පුද්ගලයාගේ සංජානන මට්ටම තේරුම් ගන්න ඕන. **(සංජානාති)**මේ පුහුදුන් සංජානන මට්ටමේ අඩුපාඩුව තේරුම් ගැනීම ම දහම් මඟ වඩන සේඛ පුද්ගලයාට වෙසෙස් නුවණ වෙනවා.**(අභිජානාති)** දහම් මඟ පිරිපුන් වෙනකොට පිරිසිඳ දත් අසේඛ පුද්ගලයෙක් වෙනව. **(පරිජානාති) -(මඃ නිඃ 1, මූලපරියාය සූත්‍රය, 10, 12 පිටු)**

සේඛපුද්ගලයාත් අසේඛපුද්ගලයාත් ලෝකව්‍යවහාරය ලෝකනිරුක්තිය, ලෝකප්‍රඥප්තිය ව්‍යවහාර නො කරනව නො වෙයි. පෙර, දැන්, මතු කියන ව්‍යවහාර කරනව. නමුත් ඒකෙ අඩුපාඩුව දන්නව. පුහුදුන් පුද්ගලය වගේ ව්‍යවහාරය පරාමර්ශනය කරන්නෙ නෑ.ඒකෙන් කියැවෙන්නෙ පුද්ගලයාව මෙහෙයවන්න හිතට ඉඩක් ලැබෙන්නෙ නෑ කියන එකයි. හිතට වහලෙක් වෙන්නෙ නෑ. තාලපුට හිමියන්ගේ මේ කියමන දෙස බලන්න. "පෙර මේ සිත කැමති පරිදි කැමති තැනෙක සැපයි කියල හිතෙන විදියට සැරිසරුව. හෙණ්ඩුව ගෙන මතැතකු දමනය කරන සෙයින් අද මම යෝනිසෝමනසිකාරයෙන් ඒ සිත නිග්‍රහයට ලක් කරන්නෙමි." **(ථෙරගාථා. 1135 ගාථාව)**

අතීත දැක්මෙන් වර්තමානය දෙස නො බලන්න. අනාගතය මේ මොහොතට කැමති නො වන්න. අතීතය ගියා. අනාගතය ආවෙ නෑ. මේ මොහොතේ යම් සිතක් පවතින්නේ නම් එහි සමුදය නිරෝධය දකින්න. අතීතය අනාගතය අතර දෝලනය වෙමින් සංකල්පනය විසින් ඇති කරනු ලබන ආශා, ද්වේෂ, විවේචන, සැසඳීම්, චෝදනා, විනිශ්චයන් වෙනුවෙන් ඔබේ ශක්තිය නාස්ති කරන්නට ඉඩහරින්න එපා. අරමුණෙන්

අරමුණට පැන පැන ඉන්නෙ නැතිව සිතිවිලි ප්‍රවාහයේ පරතරයන් ටිකෙන් ටික පෙනේවි. දෛනික වශයෙන් කරන කියන සියලු කටයුතු යාන්ත්‍රිකව සිදු වීමට ඉඩ හැරීම වෙනුවට ඒවා කෙරෙහි පූර්ණ අවධානය යොමු කරමින් කටයුතු කරන්න. සිතේ දොඩමලු බව, කනස්සලු බව අඩුවෙමින් ඇතුළත ශාන්තිය පිබිදෙනවා ඇත.

## මේ මොහොත 2.

අතීත සංස්කාර සටහන් මතු වී ඇවිත් මේ මොහොතේ සිත කළඹනව. අනාගත පැතුම් සැලසුම් ගැන කල්පනා කරමින් මේ මොහොතේ සිත සසල කරගන්නව. මේ සිදුවන්නේ කුමක් ද? මේ මොහොතේ දුක නිර්මාණය කිරීමයි. තවදුරටත් සංකල්පවල ම හිරවීමයි. මෙහෙම කියනකොට කෙනකුට හිතේවි එහෙනම් අතීතයයි අනාගතයයි ඉවතට දාල මනස සංසුන් කරගන්න ඕන කියල. එහෙම හිතල බොහෝ විට කරන්නේ තවත් මොනවා ගැන හරි කල්පනාවකට වැටෙන එක. අතීතයෙන් අනාගතයෙන් මිදෙන්න, මනස නිහඬ කරන්න අමුතුවෙන් වෙහෙසක් ගන්න අවශ්‍ය නැහැ. **කළයුත්තේ මේ සකස් කරන්නේ දුක බව තේරුම් ගැනීමයි.**

බුදුරජාණන් වහන්සේ **දම්සක් සූත්‍රයේ (සං: නි: 5 (2), 272 පිට)** දී දුක නො අඩුව තේරුම් ගතයුතුයයි වදාළ. **(පරිඤ්ඤෙය්‍යං)** දුක ඇති වීමේ හේතු දකිමින් ඒවා බැහැර කළයුතු බව වදාළ. **(පහාතබ්බං)** දුක නැති වෙන්නෙ සමුදයට කරුණු නො යෙදෙන විට බව පසක් කරගන්නැයි වදාළ. **(සච්ඡිකාතබ්බං)** දුක සමුදය නො වීමට මාර්ගය වඩන්නැයි වදාළ. **(භාවෙතබ්බං)**

මෙතැන දුක තේරුම් ගැනීම පිළිබඳව සිතා බලමු. සතුට සැපත උදෙසා තමන් තෝරාගන්නා කවර දෙයක් වුවත් ඒවා තමන් අභිමත ආකාරයෙන් පවතිනවා ඇතැයි කවුරුත් අපේක්ෂා කරනව. ඒ අපේක්ෂාව ඒ අයුරින් ම ඉටු කරන්නට ඒවාට හැකියාවක් නෑ. තමන් සාමාන්‍යයෙන් බලාපොරොත්තු වෙන්නේ සැපයි කියල තමන් හිතන තත්ත්වය ස්ථිරව තියාගන්න. ස්ථිරත්වය තමාගේ කල්පනාවක් පමණයි. ලෝකයට එය සැබෑවක් බවට පත්කරන්න බෑ. අප අත්දකින ඕනෑ ම දෙයක් තුළින් මේ ඇත්ත තත්ත්වය වටහා ගන්නට ඕන.

සැප හෝ දුක් හෝ වශයෙන් සිතන ඕනෑ ම දෙයක් තමාට දෙයක් වෙන්නේ තමන් සිතින් කල්පනය කරගැනීමක් හැටියට. ඕක ධර්මයේ හඳුන්වන්නෙ මඤ්ඤනා කරනව කියල. 'හැඟීමක්' ඇතිකරගන්න එකයි මේ කියන්නෙ. සිතක් පහළ වෙනවා කියන්නේ විඤ්ඤාණයේ නාමරූප පිළිබිඹුවක්

ඇතිවීමය කියන්න දන් අපි දන්නව. විඳීම, හැඳිනීම, චේතනා කිරීම, ස්පර්ශ කිරීම, මෙනෙහි කිරීම කියන නාමධර්ම ඔස්සේ තමයි අපි ඇසින්, කනින්, නහයෙන්, දිවෙන්, කයෙන්, මනසින් යම් රූපධර්මයක් අරමුණු කරන්නේ. මේ නාමරූප පිළිබිඹු වන්නේ වෙන්කර දනගැනීම නමැති විඤ්ඤාණයේ.

මොන සිතිවිල්ල පහළ වුණත් සිදුවෙලා තියෙන්නේ මේ ක්‍රියාවලියයි. මේ නාමරූප දෙක අල්ලාගෙන ඒක ඇත්තයි කියල හිතාගෙන ඉන්නව. ඕක තමයි, මඤ්ඤනා කරනව කියන්නෙ. තමතමන්ගෙ කෙලෙස් වල හැටිහැටියට අල්ලගත්ත රූපයයි, වින්දනයයි, හැඳිනීමයි, චේතනාමය වශයෙන් සකස් කරගත්ත ස්වභාවයයි, වෙන්කර දැක ගැනීමයි ඇත්තක් කියල හිතනව. ඔය ක්‍රියාවලීන් පහ තෘෂ්ණාවෙන් අල්ලගන්න උපාදානස්කන්ධ බව දනගන්න. දෙවියන් සහිත ලෝකයා ම ඉන්නෙ ඔතන. මේ ක්‍රියාවලියට සීමා වෙලා ඉන්නව නම් කල්පගණන් සසර දුකේ ම ඉන්න පුළුවන්. ලෝකයාගේ ම අවුලේ කොටස් කරුවන් වෙලා ඉන්න පුළුවන්.

යම් කෙනෙක් මෙකී ක්‍රියාවලිය දහම තුළින් අහල දනගෙන විශේෂ නුවණකින් ලෝකය තේරුම් ගන්න යොමු වෙන්න ඕන. හැඟීම් වශයෙන් හදාගත්ත දේවල් ස්ථිරව පවත්වන්න බෑ. නාමරූප වල වැදගෙන යම් යම් ආකාරයකින් හිතාගන්නව ද, ඒ හිතාගත්ත දේවල් ඒ ආකාරයෙන් නො තිබී වෙනස් වෙනව. එතකොට පුද්ගලයාගේ ඒ හිතාගත්ත දේ මහ බොරුවක්. බොරුවක් වූ අල්ප දෙයක්. සංකල්පයන්ගෙන් මිදීම නමැති නිවනින් මෙපිට හැම දෙයක ම ඇති බොරුව තමයි අපි මේ තේරුම් ගන්නෙ. මේ කාරණය බුදුරජාණන් වහන්සේ **ද්වයතානුපස්සනාසූත්‍රයේ-(සුඃ නිඃ 729 පිට)** මෙන්න මෙහෙමයි දේශනා කරන්නෙ.

**“අනත්තනි අත්තමානී පස්සලොකං සදෙවකං,**
**නිවිට්ඨං නාමරූපස්මිං ඉදං සච්චන්ති මඤ්ඤති.**
**යෙන යෙන හි මඤ්ඤන්ති තතො තං හොති අඤ්ඤථා,**
**තං හි තස්ස මුසා හොති මොසධම්මං හි ඉත්තරං.”**

මුසාවක් නො වන එක ම ධර්මය නිර්වාණය පමණයි. **(අමොසධම්මං නිබ්බානං)** මේ සත්‍යය අපි පළමුව අහල කියවල දනගන්න ඕන. එහෙම දනගන්නකොට හිතෙන්න ඕන මේ

නාමරූප ලෝකයට රැවටිලා නේද තමන් ඉන්නෙ කියල. මේ රැවටිල්ලෙන් එකවර ම මිදෙන්න කෙනකුට බැරිවෙන්න පිළිවන්. එහෙම හැකි අය ඉන්න පුළුවන්, බාහිය දාරුචීරිය හිමියන් වගේ ඉතා ස්වල්ප දෙනෙක්. ඒ නිසා ඉක්මන් නො වී අනුපිළිවෙළින් ටික ටික මොහොතින් මොහොත **(ථොකථොකං ඛණෙ ඛණෙ)-(ධම්මපද, මලවග්ග 5, ගාථාව)** මේ නුවණ යොදන්න කල්පනා කරන්න. මේ කාර්යය සිදුකළ හැක්කේ මේ මොහොතේ. දැන් අපි එදිනෙදා ජීවිතයේ මෙය පුහුණු කරගන්න හැටි විමසල බලමු.

අපට ජීවිතයේ මිහිරි අත්දැකීම්, අසීරුකම්, ගැටලු, කලකිරීම්, මානසික පීඩා, කායික වේදනා අත්විඳින්න සිදුවෙනව. ඒ කවර වෙලාවක වුවත් අල්ලාගන්න හෝ එයින් පලායන්න හෝ වෑයම් කරන්න එපා. ඒ වෙනුවට කළයුත්තේ එය තේරුම් ගැනීමයි. ඕනෑ ම සතුටුදායක හෝ නො සතුටුදායක හෝ තත්ත්වයක් නාමරූප මැවීමක් බව අමතක කරන්න එපා.

ස්වාමියා, බිරිඳ, මව, පියා, දුව, පුතා, සොයුරා, සොයුරිය යන පවුලේ සම්බන්ධතාව තුළ ද පුද්ගල සිතේ මැවෙන්නේ නාමරූප ලෝකයයි. ඒ ලෝකය තුළ තමන් බලාපොරොත්තු වන සතුටුදායක තත්ත්වය පිළිබඳ මඤ්ඤනාවක් හැම කෙනා තුළ ම තිබෙනව. මමත්වය ඉදිරියට දමාගෙන ඇති කරගන්නා මේ හැඟීම් මුදුන් පැමිණෙන්නේ නැති විට කෝපය, සිත්තැවුල, කලකිරීම විසින් සිත මඩිනු ලබනව. අනිත් අයගෙ වැරැද්ද නිසයි, මට මෙහෙම දුක් විඳින්න වෙලා තියෙන්නෙ, කියල හිතනව. තව තවත් හිතනව. පීඩාව තව තවත් වැඩි වෙනව.

අපි හිතමු, ඔබ දැනගන්නව කවුරු හරි ඔබව විවේචනය කරල, දොස් කියල. එය තමන්ට ප්‍රිය දෙයක් නොවෙයි. කෝපය ඇතිකරන කරුණක්. මෙහෙම වෙනකොට මං කොහොම ද සමාජෙට මූණ දෙන්නෙ කියල හිතෙන්න පුළුවන්. තරහක් ඇතිවීමට පුළුවන්. හොඳයි, මං ඒක එයත් එක්ක බලාගන්නම්, කියල දිග ආරවුලක් ඇතිකර ගන්නත් පුළුවන්.

ඒත් සිත් තැවුල් ඇතිකර ගැනීම, කෝපවීම වෙනුවට ඔය ස්වභාවය ලෝකෙ තියෙන දෙයක්, දොස් නො නඟන ලෝකයක් නැහැ. සිතේ මැවෙන නාමරූප විඤ්ඤාණ අනුව තමයි ඔය කථා කරන්නේ. මමත් මෙතැන නාමරූප විඤ්ඤාණ

ඔස්සේ නො සතුටු සිත් මවාගෙන දුක් ඇති කරගන්න ඕන නෑ. අනුන් මං ගැන ගුණයක් ම කියන්න ඕන කියල හිතන එක ලෝකෙ නො වෙන දෙයක් ගැන පැතීමක්. මේක මට මාව පරීක්‍ෂා කරගන්න හොඳ අවස්ථාවක්. මමත්වයට පහරක් වැදුන කියල නේ ද මං කැළඹෙනව නම් කැළඹෙන්නෙ. ඒ කියූ දොස් කථා අතීතෙට එකතු වෙලා. අනිත්‍ය වෙලා. මං මොකටද තවත් ඕක අල්ලගෙන ඉන්නෙ. මේ විදියට විනිවිද යමින් තේරුම් ගන්නකොට නිරායාසයෙන් ම සිත සංසුන් බවෙහි පිහිටනව. ආරවුලට යාමේ උනන්දුව ක්‍රමයෙන් මැකිල යනව. ප්‍රඥාවෙන් දැක දැක ලෝභ, ද්වේෂ, මෝහාදී අකුසල් සිත් ප්‍රහාණය කරනව කියන්නේ ඕකයි. **(පඤ්ඤාය දිස්වා දිස්වා පහාතබ්බං)-( අං: නි: 6, කාය සූත්‍රය, 72 පිට)** මේ ආකාරයට ප්‍රඥාව වඩන්නේ මේ මොහොතෙයි.

තමා වටා ඇති සැම දෙයක් ම තමන්ට ඕන හැටියට වියයුතුයි කියල හිතන එක දුක කැඳවා ගැනීමක්. තමන්ගේ භාවනාවවත් තමන්ට ඕන හැටියට වියයුතුයි කියල ගතයුතු නෑ. සිත දියුණු කරනවා කියන්නේ දේවල් පාලනය කිරීම නොවෙයි. අපට හමුවන හැම අසීරු කමක් ම, කලකිරීමක් ම අවබෝධයක් ලබාගන්න අවස්ථාවක් උදාකර ඇති බව තේරුම් ගතයුතුයි. අවබෝධය ලබනවා කියන්නෙ ගැටලු, දුක්, කම්කටොලු මැකිල යනව කියන එකයි. එය අවට ලෝකයට බලපෑම් කරල ඇති කරගන්න එකක් නො වෙයි. බාහිර කිසිවකින් නිදහස් වියයුතු යයි සිතිය යුතු නෑ. බාහිරය වෙනස් කිරීම තමන්ගේ කාර්යයක් නො වන බව තේරුම් ගන්න. එය තියෙන හැටියට තියෙන්න අරින්න. මනසින් දෙයක් බවට පත්කරගත්ත දේවල්, තරහ මරහ, ඇබ්බැහි කම්, ඇලුම් කිරීම් වල දිගින් දිගට එල්ලීගෙන සිටීමේ දුක තේරුම් ගන්න. කොතරම් වටිනාකම් දීපු දේවල් වුණත් ඒ වටිනාකම් බොරු බව ස්වල්ප වූ දේ බව **(මොසධම්මං හි ඉත්තරං)-(සු: නි: ද්වයතානුපස්සනා සූත්‍රය, 236 පිට)** දකින්න. ඒවා අල්ලාගෙන ඉන්න තාක් දුක ඇති කරන බව අවබෝධ වෙන කොට ඒවා ක්‍රමයෙන් ගිලිහිලා යනව. අතීතයත් අනාගතයත් පිළිබඳ සිතිවිලි ක්‍රමයෙන් මැකිල යනව. අවබෝධය මුල් කරගත්තම දුක් දෙන දේ පිළිබඳ උනන්දුව නැතිවෙනව. ඊට කියනව **'නිබ්බිදා'** කියල. උනන්දුව නැතිවෙනකොට සිතින්

අල්ලගත් දේවල් සිතින් මැකිල යනව. ඒකට කියනව 'විරාග' කියල. සිතිවිලි මැකී යන පමණට භාවනා වැඩීමත් පහසු වෙනවා. බාහිර ලෝකෙ සමඟ සම්බන්ධතා අඩුවෙනව. මනසට නැඹුරුව වැඩිවෙනව. අවසානයේ සංකල්පනා වලින් නිදහස් වෙනව. එයයි නිවන.

## නිකෙලෙස් සිතක මේ මොහොත

අධිමුත්ත හාමුදුරුවෝ සොරමුලකට හසු වෙලා. බිලිපූජා පිණිස හෝ ධනය පිණිස හෝ මිනිසුන් මරණ සොරමුලක්. ඔවුන්ට හසුවුණ අය බියෙන් තැතිගන්නව. වැලපෙනවා. හොරුන්ට පුදුමයි. අධිමුත්ත හාමුදුරුවන්ට කිසිම බියක් නෑ. 'ඔබට බිය බවක් පේන්න නෑ. සිරුරත් පැහැපත්. මේ වගේ බියකරු මොහොතක වැලපෙන්නේ නැතුව ඉන්නේ කොහොම ද?' කියල මහහොරා අධිමුත්ත හාමුදුරුවන්ගෙන් අහනව.

එතකොට අධිමුත්ත හාමුදුරුවෝ හොරනායකයාට මෙහෙම වදාරනව. "අපේක්ෂාවක් නැති කෙනාට හිතේ දුකක් නෑ. ක්‍ෂය කළ සංයෝජන ඇත්තා විසින් සියලු භය ඉක්මවලයි තියෙන්නෙ. භවතෘෂ්ණාව ක්‍ෂය කරල, ඇතිසැටියෙන් දකින, ස්කන්ධ බර බැහැර කළාම මරණ භයක් නෑ. ම විසින් හොඳින් බඹසර හැසිරිලා තියෙනව. මාර්ගය හොඳින් වඩල තියෙනව. මරණයෙහි භයක් නෑ. ඒක මට සුවවුණ ලෙඩක් වගේ. බඹසර ජීවිතය මම හොඳින් හසුරුවල තියෙනව. ආර්යමාර්ගය හොඳින් වඩල තියෙනවා. ආශ්වාදයක් නැති භවය මම දැක්කා. හරියට බීපු විෂක් වැමැරුවා වගේ. සසර පරතෙරට ගිහිල්ලයි ඉන්නේ. කිසිවක් ගැන උපාදානයක් නෑ. කළයුතු සියල්ල කරලයි තියෙන්නේ. හිසගසාලන දං ගෙඩියෙන් මිදුන කෙනෙක් වගේ ආයුෂය ඉවර වීම ගැන සතුටිනුයි ඉන්නේ. උතුම් ධර්මයට (රහත් බවට) පැමිණිලයි ඉන්නේ. මුලු ලෝකයේ ම 'මෙන්න මේක මගෙයි' කියා කියන්නට දෙයක් නැත. ගිනිගත් ගෙයින් එළියට පැනල ඉන්න මට මරණයෙහි ශෝකයක් නෑ.

මහර්ෂි වූ ශාස්තෘන් වහන්සේ මෙන්න මෙහෙමයි දේශනා කරල තියෙන්නේ. පටිච්චසමුප්පන්ව හටගත් යමක් ඇත් ද, යම් තැනෙක භවයක් ලැබේ ද ඒ සියල්ල ආත්ම අගයෙන් හිස්. බුදුරජාණන් වහන්සේ විසින් යම් ආකාරයකින් දේශනා කරල තියෙනවා ද ඒ ආකාරයෙන් යම් කෙනෙක් දන්නව නම් හොඳින් ගිනියම් වූ යකඩ ගුලියක් වගේ කිසිදු භවයක් ගන්නේ නෑ.

**න මෙ හොති අහොසින්ති භවිස්සන්ති න හොති මෙ,**
**සඞ්ඛාරා විගමිස්සන්ති තත්ථ කා පරිදෙවනා.**

'ඉස්සර මං හිටිය' කියල මට අදහසක් නෑ. මතු 'මම වන්නෙමි'යි කියල අදහසකුත් මට නෑ. සකස් වන සියල්ල ඉක්මිලා යනව. ඉතිං මේකෙ අඬන්න තියෙන්නෙ මොකක් ද?

**සුද්ධං ධම්මසමුප්පාදං සුද්ධං සඞ්ඛාර සන්තතිං,**
**පස්සන්තස්ස යථා භූතං න භයං හොති ගාමණී.**

හුදු ධර්මයන්ගේ පටිච්චසමුප්පන්න බව, හුදු සකස් වූ දේවල පැවැත්ම ඇතිසැටියෙන් දකින පුද්ගලයාට භයක් ඇති වෙන්නෙ නෑ.

**තිණකට්ඨසමං ලොකං යදා පඤ්ඤාය පස්සති,**
**මමත්තං සො අසංවින්දං 'නත්ථි මෙ'ති න සොචති.**

තණකොළ ලී කෑලි සමාන වූ මේ සංස්කාර ලෝකය යම් කලෙක ප්‍රඥාවෙන් දකිනවා ද ඒ තැනැත්තා මමත්වයෙන් ගතයුතු කිසිවක් ලබන්නේ නෑ. එහෙම කෙනා 'මට නෑ' නෙ කියල ශෝක කරන්නෙ නෑ.

**උක්කණ්ඨාමි සසරීරෙන භවෙනම්හි අනත්ථිකො,**
**සො'යං භිජ්ජිස්සති කායො අඤ්ඤො ච න භවිස්සති.**

ශරීරය ගැන මම දැන් උනන්දු වෙන්නෙ නෑ. භවයෙන් මට ඇති ප්‍රයෝජනයකුත් නෑ. මේ කය බිඳෙන එකක්. අනෙක් කයක් ඕන වෙන්නෙත් නෑ.

**යං වො කිච්චං සරීරෙන තං කරොථ යදිච්ඡථ,**
**න මෙ තප්පච්චයා තත්‍ථ දොසො පෙමං ච හෙහිති.**

නුඹට මේ ශරීරයෙන් යම් ප්‍රයෝජනයක් තියෙනවා නම් කැමති විදියකට එය කරන්න. ඒ හේතුවෙන් මට ද්වේෂයක් ඇත්තෙ නෑ. ප්‍රේමයක් ඇත්තෙත් නෑ."

අධිමුත්ත හාමුදුරුවන්ගේ අද්භූත වූ ලොමුදැහැගන්වන මේ වචන අහල ඔද තෙද සිඳීගිය හොරු අවි පැත්තකට දාල මෙහෙම කිවුව.

**කිං භද්දන්තෙ කරිත්‍වාන කො වා ආචරියො තව,**
**කස්ස සාසනමාගම්ම ලබ්භතෙ තං අසොකතා.**

"ස්වාමීනි, ඔබවහන්සේගේ ආචාර්යයන් වහන්සේ කවුද? කුමක් කරල කාගේ ශාසනයට පැමිණිලා ද මෙහෙම ශෝක නැතුව ඉන්න පුළුවන් වුනේ."

මෙතැනදි අධිමුත්ත හාමුදුරුවෝ තමන් වහන්සේගේ ශාස්තෘන් වහන්සේ හඳුන්වල දුන්න. "සියල්ල දන්න, සියල්ල දකින, ලෝකය දිනූ, ලෝකයට දහම් වෙදදුරු වූ ශාස්තෘන් වහන්සේ තමයි මාගේ ආචාර්යයන් වහන්සේ. උන්වහන්සේ තමයි, සියලු දුක් නිමකරන අනුත්තර වූ මේ ධර්මය දේශනා කරල තියෙන්නෙ. උන්වහන්සේගේ ශාසනයට පැමිණිලයි මේ ශෝකනැති බව ලබාගත්තේ." **(ථෙරගාථාපාළි, අධිමුත්ත ථෙරගාථා, 186 පිට)**

සොරු ඍෂිවරයන් වහන්සේගේ සුභාෂිතය අසල, සියලු ම අවි ආයුධ අතහැරල දැම්ම. ඇතැම් කෙනෙක් සොරකමින් වැළකුණා. ඇතැම් කෙනෙක් පැවිද්ද කැමති වුණා. සුගතයන් වහන්සේගේ ශාසනයෙහි පැවිදි වෙලා නුවණැත්තවුන් හැටියට බොජ්ඣඞ්ග ධර්ම බලධර්ම වඩල ඔදවැඩුණ සොම්නස් සිතින් ඉන්ද්‍රියයන් වඩා අසඞ්ඛත වූ නිර්වාණ පදය ස්පර්ශ කළා.

දැන් අපි අපට දැනගන්න අවශ්‍ය දේ ගැන ටිකක් කථා කරමු. කාමාසව භවාසව අවිජ්ජාසව ඇති කල්හියි මම නමැති අවිද්‍යාව ඇති වන්නේ. පච්චයධර්ම සම්බන්ධතාවක් තමයි, මේ පැවැත්ම. අවිජ්ජාව පවතිනව කියන්නේ මමත්වය මැවෙනවා කියන එකයි. තණ්හාව ඇතිවෙනව කියන්නේ 'මගේ' කියල ගත්ත දේවල් ඇතිවෙනව කියන එකයි. එහෙත් මෙතැන සකස් වන්නෙ හුදු ධර්ම ගොඩක් පමණයි. කඹයක් ගැන හිතල බලන්න. එතන තියෙන්නෙ අඟල් හතඅටක් පමණ දිග කොහුකෙඳි ගොඩක්. කඹය කියන සංඥාව ගත්තට එතැන මුල ඉඳං අගට හරය වශයෙන් පවතින එකම දෙයක් නෑ. ලෙහල බැලුවම කඹය වුණේ මොකක් ද කියල කියන්න එකක් නෑ.

රාසි සංඥාව වැහිල ඝනසංඥාවට වැටුනම අපට මම, පුද්ගලයො, දේවල්, තැන් අත්දකිනව. මේ විදියට සම්මතයට රැවටෙන එක තමයි, පුහුදුන් ලෝකයාගේ සිරිත. මේ ධර්මතාව තේරුම් ගත්තම අතීතෙ මම හිටිය ද කියල හිතන්න ඕන නෑ. අනාගතේ මම වන්නෙම් ද කියල හිතන්නත් ඕන නෑ. දැන් මම ඉන්නව ද කියල හිතන්නත් ඕන නෑ. ඝනසංඥාවෙන් මිදිල රාසි

සංඥාවෙන් බලනකොට 'මම', 'මගේ' කියන්නේ නාමරූප වශයෙන් විඤ්ඤාණයේ මවාගැනීම් ක්‍රියාවලියක් බව පෙනෙනවා. සක්කායදිට්ඨිය බිඳෙන්න නම් මේ දැක්මෙන් යුක්ත වෙන්න ඕන. සෝතාපන්න පුද්ගලයාට මේ දැක්ම තියෙන්නේ දිට්ඨාසවය කැඩීයන මට්ටමෙන්. අවිජ්ජාසවය සම්පූර්ණයෙන් ප්‍රහාණය වෙන්නේ අර්හත් භාවයෙන්. අධිමුත්ත හාමුදුරුවන් වහන්සේ 'මම හිටිය කියල සිතකුත් මට නෑ. මතු වන්නෙමි කියල සිතකුත් මට නෑ' කියල කියන්නේ රහතන් වහන්සේ නමක් හැටියට.

'මම' කෙනෙක් නිවන් දකිනව නො වෙයි. මමත්වය නිම වීමයි , නිවන. 'මම වෙමි' කියල ගන්නේ හුදෙක් හැඟීම් මාත්‍රයක්. මඤ්ඤනාවක්. **(අස්මීති භික්ඛවෙ මඤ්ඤිතමෙතං)- (සං: නි: 4, යවකලාපී සූත්‍රය, 386 පිට)** මම කියල කෙනෙක් අල්ලගෙන නිවනක් ගැන හිතන අය නිවන උච්ඡේදයක් කියල රැවටෙනවා. ශාශ්වත වෙන්නවත් උච්ඡේද වෙන්නවත් මෙතන ස්ථිර මමෙක් නෑ. බුදුරජාණන් වහන්සේට පවා ඇතැමෙක් උච්ඡේදවාදියෙක් ය යන චෝදනාව ඉදිරිපත් කළේ සමුදය වය ධර්මතාවෙන් යුතු හුදු ප්‍රත්‍යධර්ම ක්‍රියාකාරිත්වයක් බව දකින්න අසමත් වුණ නිසා.

හැම ධර්මයක් ම සමුදය වෙන්නේ මනසිකාරයෙන්. **(මනසිකාර සම්භවා සබ්බෙධම්මා)- (අං: නි: 5, කිංමූලක සූත්‍රය, 341 පිට)** මනසිකාරයෙන් සම්භවය වන දේවල්, බාහිර ලෝකයේ තියෙන දේවල් බවට, ඉන්න අය බවට නම් ගම් දාගෙන හිතාගැනීම තමයි මෙතැන වැරැද්ද. බාහිර ලෝකෙ මොනවා තිබුණත් අපට පෙනෙන්නෙ, තියන හින්දවත් ඉන්න හින්දවත් නොවෙයි. බලන හින්දයි. බලන්නේ, කෙලෙස් තුළින් තියෙනව, ඉන්නව කියල හිතාගෙන. කෙලෙස් වල හැටියටයි පෙන්නෙ. බැලුවෙ නැත්නම්, කිසිවක් ඇත්තෙත් නෑ. කවුරුවත් ඇත්තෙත් නෑ. එහෙම නම් විඤ්ඤාණයේ පිළිබිඹු වෙන්න නාමරූපත් නෑ. නාමරූප නැත්තං විඤ්ඤාණෙට පිහිටන්න තැනකුත් නෑ. විඤ්ඤාණෙට පිහිටන්න තැනක් නැත්නම් සසරකුත් නෑ. නැති වෙනවා නම් නැති වෙන්නෙ ආත්ම අගයෙන් යුතු මම කෙනෙක් නොවෙයි. මම කියන අවිද්‍යාව. මගේ කියන තණ්හාව. ඔච්චරයි.

## මේ මොහොත නො දකින විට

මෝහය සමඟ එක්ව බැඳී ගිය ලෝකයා ඉඳුරන්ගෙන් අත්දකින ස්වභාවය ඇත්තක් වගේ කියල හිතාගන්නව. අතීතයෙත් තිබුණ, දැනුත් තියෙන, මතුත් තියෙන දේවල් කියල හිතනව. අපි දැන් ධර්මය තුළින් දන්නව, ඉඳුරන්ගෙන් අත්දකින්නේ විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූප කියල. මේ කියන්නේ බාහිර වශයෙන් කිසිවක් නෑ කියල නොවෙයි. බාහිර මොනවා තිබුණත් අපි අත්දකින්නේ අපේ ම කෙලෙස් තුළින් මවන නාමරූප කියන එකයි, මෙතැනින් අදහස් වෙන්නේ. විඳීම්, හැඳිනීම්, චේතනා ඇසුරෙන් ගත්ත, විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමමාත්‍ර රූප වලට වැඩි දෙයක් නොවෙයි, අප අත්දකින්නෙ. ඉතින් ඒ නාමමාත්‍ර රූප ම නේද, පුද්ගලයා බාහිර ලෝකයේ තියෙනව කියල හිතං ඉන්නෙ. ඒවට අපි වචනත් හදල. වචනෙ කියන කොට ම නාමමාත්‍ර රූපෙ බාහිර ලෝකෙන් බලාපොරොත්තු වෙනව. ඇත්තෙන් ම මේ ධර්මතාව බුදුකෙනකුන් වහන්සේ වෙතින් ම ඇරෙන්න කාගෙන් නම් දැනගන්න ද? බුදුරජාණන් වහන්සේ ඇරෙන්න වෙන කවර විශේෂඥය ද, මේ අත්දකින ස්වභාවය බාහිරව තියන දේ ම යි, කියල නො කියන්නෙ?

පුහුදුන් කමේ ඉඳගෙන පව්කම් කර කර සත්වයින් දුකට ම පත්වෙන්නේ මේ රහස නො දන්න නිසා. බුදුරජාණන් වහන්සේ මේ කරුණ ගැන කළ ඉතා පැහැදිලි දෙසුමක් උදාන පාලියේ සඳහන් වෙනව. ඒ දෙසුමට මුල් වෙච්ච කරුණත් දැනගැනීම අවබෝධයට උපකාරයක් වෙනව. එක කාලෙක බුදුරජාණන් වහන්සේ කොසඹෑ නුවර ඝෝසිතාරාමෙ වැඩ ඉන්නව. උදේනී කියන්නේ ඒ ප්‍රදේශයේ රජ්ජුරුවො. මාගන්දිය කියන්නෙ ඒ රජතුමාගෙ එක් බිසවක්. ඇගේ සිතේ බුදුරජාණන් වහන්සේ ගැනත් වෛරයක් තිබුණ. උදේනී රජුගේ බිසව වෙන්න පෙර ඇගේ පියා මගන්දියාව බුදුරජාණන් වහන්සේට විවාහ කරදෙන්න බලාපොරොත්තු වුනා. තමන්වහන්සේ කෙලෙස් නැසූ අයකු බවත් මෙවන් කයක් පයින්වත් ස්පර්ශ කරන්නට නො වටින බවත් වදාළ. මෙයින් ලජ්ජාවට පත් ඇය බුදුරදුන් කෙරෙහි කෝප වුනා. ඔය සිද්ධියෙන් පස්සෙයි, උදේනී

රජුගේ බිසවක් වුනේ. කොසඹෑ නුවර වැඩ ඉන්න කොට උන්වහන්සේගෙන් පලිගන්න මාගන්දියා නොයෙක් උපක්‍රම කළා. උදේනි රජතුමාට හිටිය තවත් බිසවක්. ඇය දහමට ලැදි කෙනෙක්. ඇය සාමාවතී. ඛුජ්ජුත්තරා කියන ඇගේ සේවිකාව මල් ගෙන එන්නට ගිය අවස්ථාවක බුදුරජාණන් වහන්සේගෙන් බණ ඇසුව. ඒ ඇසූ දහම ඛුජ්ජුත්තරාගෙන් අසා සාමාවතී බිසව දහමෙහි පැහැදුනා. නිතර නිතර සේවිකාවගෙන් අසා දැනගන්නා ධර්මය සාමාවතී බිසව ඇතුළු පන්සියයක් ස්ත්‍රීන්ට ම දහමෙහි පැහැදෙන්න හේතු වුනා. බුදුරජාණන් වහන්සේ කෙරෙහි පැහැදී සිටීම මාගන්දියගේ කෝපය සාමාවතී කෙරෙහිත් යොමු වුනා. ඇයගෙන් පලිගැනීමේ අවසාන උත්සාහය වුනේ උදේනි රජු උයනට ගිය අවස්ථාවක සාමාවතී ඇතුළු සියලු ස්ත්‍රීන් සමඟ ඇගේ ප්‍රාසාදයට ගිනිතැබීමට කටයුතු සැලැස්වීමයි. සුපුරුදු මෙත්තා භාවනාවෙන් යුතුව ඒ සියලු දෙනා ම කළුරිය කළා.

පෙරවරුයෙහි කොසඹෑ නුවර පිඬු පිණිස වැඩි භික්ෂූන් වහන්සේලා මේ සිද්ධිය දැන බුදුරජාණන් වහන්සේට දන්වල, ඒ උපාසිකාවන්ගේ පරලොව තත්ත්වය විමසුව. ඒ හැම දෙනා ම සෝවන්, සකෘදාගාමි, අනාගාමි ඵලයන්ට පත් වූ අය බවත් සුගතිගාමී වී ඇති බවත් බුදුරජාණන් වහන්සේ වදාළ.

අන්න ඒ අවස්ථාවේ බුදුරජාණන් වහන්සේ වදාළ උදාන ගාථාව ඉතා ම වැදගත්.

**මොහසම්බන්‍ධනො ලොකො   භබ්බරූපො'ව දිස්සති,**
**උපධිසම්බන්‍ධනො බාලො   තමසා පරිවාරිතො,**
**සස්සති විය ඛායති   පස්සතො නත්ථි කිඤ්චනං.**

**(ඛුඃ නිඃ 1, උදානපාලි, උදේනසූත්‍රය, 288 පිට)**

මේ උදානයේ තේරුම පළමුව වටහා ගනිමු. **"මෝහය සමඟ බැඳුන සත්වයා ලෝකය වියහැකි දෙයක් කියල දකිනව. උපධීන් හා බැඳුන අනුවණයා මෝහය නමැති අඳුරෙන් වටවෙලා ඉඳගෙන උපධීන් සදාකාලිකයි කියල හිතනව. නුවණින් බලන කෙනාට ඇලෙන්න, ගැටෙන්න, රැවටෙන්න තරම් මොකුත් නෑ."**

භෞතික වශයෙන් විශ්වය කෙබඳු වුනත් අප දන්නේ ඉඳුරන් ඇසුරෙන් දැනගන්නා ස්වභාවයයි. මේ නාමමාත්‍ර රූප

වලට තමයි, පුද්ගලයො ඇලෙන්නෙ. ගැටෙන්නෙ. රැවටෙන්නෙ. අත්දකින්න කැමති විදියටයි, ලෝකය දෙස බලන්නෙ. මේකෙ වරදක් පුද්ගලයා දකින්නෙ නෑ. මාගන්දිය දුටුවෙ, තමන්ගෙ රූපය වටිනා ම දෙයක් කියල. කෙලෙස් නැසූ බුදුපියාණන් වහන්සේට එහෙම පෙනෙන්නෙ නෑ. උන්වහන්සේ දකිනව, ජාති ජරා ව්‍යාධි මරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාසයන්ට කරුණක් බව. උදේනි රජුගේ හිත දිනාගන්නත් සාමාවතී බිසව කෙරේ රජුගේ හිත බිඳුවන්නත් කූට උපක්‍රම සැලසුම් කරමින් මාගන්දිය බිසව රැස් කළේ ම අකුසල්. උපධි සම්පත් වලට බැඳිච්ච සිතක් ඇති කෙනාගේ මෝහයේ තරම ඉන් පෙනෙනව. රජුගේ අගබිසව හැටියට තියන සැපසම්පත් සදාකාලිකයි, කියල ඇය සිතන්නට ඇති. විදසුන් නුවණින් බැලුවොත් තමයි, මෙතන ගන්න දෙයක් නෑ, කියල පේන්නෙ. විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූප ලෝකය තුළ මොනව ද, ස්ථිර සාර වශයෙන් ගන්න තියෙන්නෙ?. මොකුත් නෑ කියල දන්නේ නෑ. මොහඳුරෙන් වෙලුනම ඇත්තේ මොන විදසුන් නුවණක් ද? අන්තිමට මගඵල ලාභී සාමා ඇතුළු පන්සියයක් අන්තඃපුර ස්ත්‍රීන් ද්වේෂයෙන් ගිනිබත් කළා. නාමරූප ලෝකය කියන්නේ විඤ්ඤාණයේ මායාව බව අවබෝධ කරගෙන සිටි ඒ අය සුගතිගාමී වුණා. මාගන්දියාට දිට්ඨධම්මික වශයෙන් ම විපාක පටන් ගන්නව මිසක් මතු උරුම වන්නේ මොන සුගතියක් ද?

මේ මොහොත පිළිබඳව මුළාවෙළා අතීතයේ අනාගතයේ දෝලනය වන සිතකට කරන්න පුළුවන් දේ, ඔච්චරයි. විඤ්ඤාණයේ මැවෙන නාමරූප ලෝකය වියහැකි දෙයක් කියලයි, බුදුබණ දැනගන්නකම් හැම සසර සත්වයෙක් ම සිතා සිටින්නෙ. ගෙදරදොරේත් ගමේ රටේත් ලෝකයේත් තියෙන තරමක් ප්‍රශ්න, ගැටලු, දුක් දොම්නස් වලට හේතුව ඔය නො වැටහීමයි. ඒ බව නො දන්න අය බාහිර හේතු සාධක හොය හොය ප්‍රශ්න විසඳන්න හදනව. සැපවත් වෙන්න හදනව.

අද සමාජයේ නවීන සුවපහසු කම් තිබුණත් මිනිස්සුන්ගෙ හිත්වල සතුටක් නෑ. සහනයක් නෑ. එකිනෙකාට දුක සැලසුම් කරනවා. නාමරූප ලෝකය පිළිබඳව 'මම', 'මගේ' කියන උපාදානය නිසයි, එහෙම කරන්නේ. ඒ සැලසුම් කරන

දුක් අනෙකා වැළඳගන්නෙත්, ඒ මුළාව නිසා ම යි. පුහුදුන් සමාජයෙන් ඔයිට වඩා දෙයක් බලාපොරොත්තු වෙන්න බෑ. පුහුදුන් කවුරුත් අනුන්ට බලය පෙන්වන්නට කැමතියි. අනුන්ට ඉහළින් ජීවත්වෙන බව පෙන්නන්න කැමතියි. 'අපට කොහෙන් ද, එහෙම සැපක්' කියල තවත් කෙනෙක් පරාජිත ලෙස හිතන්නේත් මේ මුළාව නිසා ම යි.

මේ මමත්වය ම නාමරූප මැවීමක් කියල අවබෝධ වෙන කොට පුහුදුන් සමාජයේ මිනුම් දඬු අහකට විසුවෙනව. ඒවා සංකල්ප මාත්‍ර බව පෙනෙන්නට පටන් ගන්නව. අනුන් කරන්නන් වාලේ දිට්ඨානුගතියෙන් කටයුතු කරන්නට යන්නෙ නෑ. විදසුන් නුවණින් දකින කෙනාට මේ ලෝකෙ පොරකාල දිනාගන්න තරම් දෙයක් නෑ. එබඳු අය යම් සැපක් ලැබුවත් ඒ නිසා ආඩම්බර වෙන්නෙ නෑ. තමා උසස් කර අනෙකා පහත් කර සිතන්නෙ නෑ. උපධි සම්පත් අනුභව කරන්නෙ නුවණින් යුක්තවයි. ඒවාට ගිජු නෑ. **(අගථිතො)** ඒවාට මුළාවෙන්නෙ නෑ. **(අමුච්ඡිතො)** හිතින් ගිලගන්නෙ නෑ. **(අනජ්ඣාපන්නො)**දුක් දොම්නස් නැති ලෞකික සැපතක් නැති බව දකිනව. **(ආදීනව දස්සාවී)** කොයි දේ වුනත් අන්තිමට අතහරින්න සිදුවන දේ බව දනගෙනයි, පරිහරණය කරන්නෙ. **(නිස්සරණපඤ්ඤෝ පරිභුඤ්ජති)-(සංඃ නිඃ 4, රාසිය සූත්‍රය, 598 පිට)**

එබඳු අවබෝධයෙන් යුතු අය දුක මගහරවා ගන්න පඤ්චකාමගුණයෙන් තොර සැපයකුත් දන්නව. ඒ තමයි, සමාධි සුවය. විදසුන් නුවණ ඇති කෙනා පස්කම් සුවයේ ආස්වාදය නුවණින් දන්න අයෙක්. පුහුදුන් මනසින් යුතු පුද්ගලයා ආස්වාදය විඳගත්තත් එය නුවණින් දන්න කෙනෙක් නොවෙයි. විඳගන්නා මට්ටමෙන් ආස්වාදය දනගත්තා වෙන්නෙ නෑ. ආස්වාදයේ සමුදයත් නිරෝධයත් දක්කොත් තමයි, එය දනගත්තා වෙන්නෙ. නාමයත් රූපයත් ප්‍රත්‍යය කරගෙන ස්පර්ශය වෙනව. ස්පර්ශය ඇති කල්හි වින්දනය වෙනව. වින්දනය තමයි ආස්වාද කරන්නේ. මේ ප්‍රත්‍ය නිරෝධයෙන් ආස්වාදයත් නිරුද්ධ වෙනව. මේ ස්වභාවය තේරෙනකොට ආස්වාදය ස්ථිර නැති බව තේරුම් යනව. ස්ථිරව රඳවා ගන්න බැරි ආස්වාදයක් පතාගෙන මිනිසා කොතරම් නම් වෙහෙස පීඩා විඳිනව ද? ඒ තතු දන්නා අය පස්කම් සුවය ජීවිතයේ එක

ම පරමාර්ථය කරගන්නේ නෑ. ආදීනව දන්න නිසා. අත්මිදීමක් දකින නිසා. මේ මොහොතේ නො දකින සිත නිසා මාගන්දියා මහත් අවැඩක් සලසාගත්ත. අන්තිමට පැතූ කිසිවක් හිමි නෑ.

## මේ මොහොතේ උතුම් හුදෙකලාව

1. **අතීතං නාන්වාගමෙය්‍ය නප්පටිකඞ්ඛෙ අනාගතං,**
**යදතීතං පහීනං තං අප්පත්තඤ්ච අනාගතං.**

අතීතය අනුගමනය නො කරන්න. අනාගතය නො පතන්න. යමක් අතීත ද එය ප්‍රහීණ ය. යමක් අනාගත ද එය පැමිණ නැත.

2. **පච්චුප්පන්නං යො ධම්මං තත්‍ථ තත්‍ථ විපස්සති,**
**අසංහීරං අසඞ්කුප්පං තං විද්වා මනුබ්‍රෑහයෙ.**

වෙත එළඹි ධර්මයන් එතැන එතැන ම විදර්ශනා කරන්න. නුවණැත්තා නො සැලෙන සුලු නො නැසෙන සුලු විදර්ශනාව වඩයි.

3. **අජ්ජෙව කිච්චං ආතප්පං කො ජඤ්ඤා මරණං සුවෙ,**
**න හි නො සඞ්ගරං තෙන මහාසෙනෙන මච්චුනා.**

අද ම කෙලෙස් තවන වීර්යය වඩන්න. මරණය හෙට වේ යයි දන්නේ කවු ද? මහත් සේනා ඇති මාරයා සමඟ කවර නම් මිතුරු ගිවිසුමක් ද?

4. **එවං විහාරිං ආතාපිං අහොරත්තමතන්දිතං,**
**තං වෙ භද්දෙකරත්තොති සන්තො ආචික්ඛතෙ මුනි.**

මෙසේ වෙසෙන කෙලෙස් තවන වැර ඇති දිවා රෑ අලස නො වූ පුද්ගලයා උත්තරීතර හුදෙකලාවෙහි ඇලුනේයයි ශාන්ත වූ මුනිවරයන් වහන්සේ ප්‍රකාශ කෙරේ. **(මඃ නිඃ 3, මහාකච්චානභද්දෙකරත්ත සූත්‍රය, 412 පිට)**

මේ ගාථා හතර තේරුමත් එක්ක මතක තියාගැනීම වටිනව. මෙහි එන කරුණු බෙදා හඳුනා ගැනීමෙනුයි හොඳට තේරෙන්නෙ. අපි එහෙම තේරුම් ගන්න බලමු.

⋆ **අතීතං අන්වාගමෙතිඃ** අපි ඉස්සරවෙලා තේරුම් ගනිමු,අතීතය අනුගමනය කරනවා කියල මොකක් ද අපි කරන්නෙ, කියල. අතීතෙ මෙසේ මගේ ඇස තිබුණ, රූප තිබුණ - කන තිබුණ, ශබ්ද තිබුණ -නැහැය තිබුණ, ගන්ධ තිබුණ - දිව තිබුණ, රස තිබුණ - කය තිබුණ, පහස තිබුණ - මනස තිබුණ, කල්පනා තිබුණ, කියල අතීත අත්දැකීම් ගැන හිතන එකටයි, අතීතය අනුගමනය කරනව, කියන්නෙ. එතකොට අතීත ඉන්ද්‍රිය

හා අරමුණු වල විඥානය ඡන්‍දරාගෙන් බැඳිලයි තියෙන්නෙ. විඥානය ඡන්‍දරාගෙත් එක්ක බැඳිල නිසා ඒවා ගැන වෙසෙසින් සතුටු වෙනව. පහුගිය එව්වත් එක්ක සතුටු වෙන එකට තමයි කියන්නෙ, අතීතය අනුගමනය කරනව, කියල. මේ අතීත අත්දැකීම් අනුගමනය කරන්නෙ මේ මොහොතෙදියි.

**අතීතං නාන්වාගමෙති: එ**තකොට අතීතය අනුගමනය නො කරන්නේ කොහොම ද? සළායතන වලින් ලබාපු අතීත අත්දැකීම් ගැන නො සිතා ඉන්න එකයි. එතනදි විඥානය අතීතය සමඟ ඡන්දරාගයෙන් බැඳෙන්නෙ නෑ. එසේ නො බැඳෙන නිසා ඒවා ගැන වෙසෙසින් සතුටු වෙන්නෙ නෑ. එනිසා අතීතය අනුගමනය කිරීමක් නෑ.

★ **අනාගතං පටිකඞ්ඛති:** අනාගතය පතනව කියන්නෙ මොකක් ද? අනාගතයෙදිත් මේ විදියෙන් මගේ ආයතන වන්නේ ය. මතු ඒවායේ අරමුණුත් වන්නේ ය, කියල, නො ලැබුණ දේ ලබාගැනීම පිණිස පැතුම් ඇති කරගන්නව. එසේ ප්‍රාර්ථනා කරගැනීමෙන් සතුටු වෙනව. අනාගතය පතන්නෙත් මේ මොහොතෙ.

**අනාගතං න පටිකඞ්ඛති:** අනෙක් අතට අනාගතය නො පතා ඉන්නෙ කොහොම ද? සළායතන වලින් නො ලැබුණ දේ ලැබීම පිණිස සිත නො පිහිටුවීමෙනුයි. එසේ සිත පිහිටුවන්නේ නැත්නම් ඒවා ගැන සතුටු වීමක් නෑ. ඒ නිසා මතු ප්‍රාර්ථනා නෑ. අනාගතය නො පැතීම කියන්නේ ඕකයි.

★ **පච්චුප්පන්නෙසු ධම්මෙසු සංහීරති:** සාමාන්‍යයෙන් මේ මොහොතේ සිදුවෙන්නේ සළායතනික අරමුණු වලට ඇදී යාමයි. ඒ ඇදීයාම සිදුවන්නෙ කොහොම ද? යම් ඇසක් යම් රූපයක් වේ නම් ඒ දෙක මේ මොහොතේ එකිනෙකට ප්‍රත්‍යය වීමෙන් උපදින ඒව. **(යඤ්චාවුසො චක්ඛුං යෙ ච රූපා උභයමෙතං පච්චුප්පන්නං)** මේ ආකාරයට කනයි ශබ්දයයි, නාසයයි ගන්ධයයි, දිවයි රසයයි, කයයි පහසයි, මනසයි ධම්මයි උපදින්නෙත් මේ මොහොතෙ. මේ යුගල වෙන වෙන ම උපදින්නෙ මේ මොහොතෙ. 'උභයමෙතං පච්චුප්පන්නං' කියල දක්වල තියෙන්නෙ ඒ අදහසයි. කලින් තිබුණත් නොවෙයි. මතු දිගින් දිගට තියෙනවත් නෙවෙයි. මේ මොහොතෙ උපදිනව. නිරුද්ධ වෙනව. මේ මොහොතේ උපන් දෙයෙහි ඡන්‍දරාගයෙන්

බැඳුණ විඥානය වේ. **(තස්මිං පච්චුප්පන්නෙ ඡන්දරාග පටිබද්ධං හොති විඤ්ඤාණං)**විඥානය ඡන්දරාගයෙන් බැඳුණ බැවින් ප්‍රත්‍යුත්පන්න ඇසත් රූපයත් පිළිබඳව වෙසෙසින් සතුටු වෙයි. **(ඡන්දරාගපටිබද්ධත්තා විඤ්ඤාණස්ස තදභිනන්දති)** මේ සතුටු වීම නිසා මේ මොහොතේ උපදින ධර්මයන් කෙරෙහි ඇදෙනව. **(තදභිනන්දන්තො පච්චුප්පන්නෙසු ධම්මෙසු සංහීරති)** ආයතන සයේ ම ක්‍රියාකාරිත්වයෙන් වෙන්නෙ මේකයි.

**පච්චුප්පන්නෙසු ධම්මෙසු න සංහීරති:** මේ මොහොතේ ධර්මයන් කරා ඇදී නො යන්නේ කොහොම ද? මේ මොහොතෙහි උපදින ඉන්ද්‍රියයෙහි හා අරමුණෙහි විඥානය කැමැත්තෙන් ඇල්මෙන් බැඳෙන්නෙ නැත්නම් සතුටු වීමක් අභිනන්දනයක් නෑ. අභිනන්දනයක් නැත්නම් මේ මොහොතේ උපදින ධර්මයන්හි 'මගේ' ය, කියල තණ්හා වශයෙනුත් 'මම' ය, කියල දෘෂ්ටි වශයෙනුත් ඇදෙන්නෙ නෑ.

දැන් මේ අපි කථා කළේ අතීතය අනුගමනය කරන්නෙත් නැතිව, අනාගතය පතන්නෙත් නැතිව, මේ මොහොතේ උපදින ධර්මයන්හි 'මම', 'මගේ' වශයෙන් ඇදෙන්නෙත් නැතිව, සළායතනික සම්බන්ධතාව පිළිබඳව විදර්ශනාව වඩන හැටි.

★ ★ ★ ★ ★ ★ ★

★ ස්කන්ධ වශයෙනුත් මෙය තේරුම් ගන්න ඕන. තමන් කියල තමාට හසු වෙන්නෙ රූප ගොඩක්. විඳීම ගොඩක්. සංඥා ගොඩක්. සංස්කාර (චේතනා) ගොඩක්. විඥාන (දැනීම්) ගොඩක්. අතීතෙත් සිදු වුනේ මේ පංචස්කන්ධ ගොඩනැගීම. මම අතීතයේ මෙබඳු රූප විඳීම ලැබීමි'යි, අතීත පංචස්කන්ධ කෙරෙහි තණ්හාවෙන් සිත යොමු කරන එකට කියනව අතීතය අනුගමනය කරනව කියල.

එසේ අතීත ස්කන්ධ කෙරෙහි තණ්හාවෙන් සිත යොමු නො කරනව නම්, ඒ තමයි, අතීතය අනුගමනය නො කිරීම.

★ මතු මෙබඳු රූප විඳීම සංඥා සංස්කාර විඥාන තණ්හාවෙන් පතනව.

මතු මතුත් මේ පංචස්කන්ධ කැමති නො වන්නේ නම්, ඒ අනාගතය නො පැතීමයි.

★ **පච්චුප්පන්නෙසු ධම්මෙසු සංහීරති:** අරමුණු ලැබෙනව කියල සිදුවන්නෙ විඳීම්, හැඳිනීම්, චේතනා, කියන නාමධර්ම

ඔස්සේ වර්ණරූප ශබ්දරූප ආදී සළායතනික රූපධර්ම වෙන්කොට දැනගැනීමයි. ඒ කියන්නෙ විඤ්ඤාණ නාමරූප සකස් වීමයි. එතකොට මේ නාම, රූප විඤ්ඤාණ කියන්නේ සිතක අවයව බව දගන්න ඕන. මෙතන සැකසෙන්නෙ රූපය, විඳන, හැඳිනීම (සංඥා), චේතනා (සංස්කාර), දැනීම් (විඤ්ඤාණ). ආර්යධර්මය නො දන්න පුහුදුන් පුද්ගලයා මේ ස්කන්ධ 'මම' කියල ගන්නව. තමා රූපවිඳනාදී ස්කන්ධ සහිතයි කියල ගන්නව. තමා කෙරෙහි ස්කන්ධ වේ ය කියල ගන්නවා. ස්කන්ධයන්හි තමා වේ ය කියල ගන්නව. මේ කොයි විධියෙන් නමුත් ස්කන්ධ ඇසුරින් ආත්ම අගයක් ගොඩනගා ගන්නව. මේ තමයි සක්කායදිට්ඨිය.

**පච්චුප්පන්නෙසු ධම්මෙසු න සංහීරති:** මේ මොහොතේ ස්කන්ධ ධර්මයන් කරා ඇදී නො යන්නේ කොහොම ද? ආර්යධර්මය දන්නා පුද්ගලයා 'ස්කන්ධ මම'යි කියල ගන්නෙ නෑ. 'මම ස්කන්ධ සහිතයි' කියල ගන්නෙ නෑ. 'තමා කෙරෙහි ස්කන්ධ වේ' ය කියල ගන්නෙ නෑ. 'ස්කන්ධයන්හි තමා වේ' ය කියල ගන්නෙ නෑ. මේ ආකාරයෙන් මේ මොහොතේ උපදින ස්කත්ධයන්හි මගේ (තණ්හා), මම (දිට්ඨි) වශයෙන් ඇදෙන්නෙ නෑ. ඔය විදියෙන් තමයි, අතීත ස්කන්ධ අනුගමනය කරන්නෙත් නැතිව, අනාගත ස්කන්ධ ධර්ම පතන්නෙත් නැතිව, මේ මොහොතේ උපදින ස්කන්ධ ධර්මයන්හි ඇදෙන්නෙත් නැතිව ස්කන්ධ පිළිබඳව විදර්ශනාව වඩන්නෙ. **(ම: නි: 3, ආනන්දභද්දෙකරත්ත සූත්‍රය, 406 පිට)**

මේ විදියෙන් තමා මවාගන්නා අත්දැකීම් ලෝකය අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන්, මගේ නො වේ, මම නො වෙමි, මාගේ ආත්මය නො වේ, යනුවෙන් අද අද ම වෙසෙස් නුවණින් දකින්න ඕන. කල්ප ගණන් අපි සසර ඇදී ආවේ, මේ වෙසෙස් නුවණ නො තිබුණ නිසා ම යි. මරණය හෙට වේදැයි දන්නේ කවුද? අප සසර රැවටුනේ විඤ්ඤාණයේ නාමරූප මායාවටයි. ඒ බව දකිනකොට නාමරූප ලුහුබැඳීමට ඇති උනන්දුව නැති වෙනව. ඡන්දරාගය මැකී යනව. විමුක්තිය උදාවෙනව.

## කර්මයෙන් මිදෙන්නට දතයුතු මේ මොහොත

ධර්මයේ සඳහන් වෙනව, සත්වයා අසඞ්ඛ්‍ය කල්ප ගණනක් තිස්සේ සසර ඇදී එනව, කියල. ආත්මසාරයක් නැතිව කොහොම ද එහෙම ඇදී ආවෙ. මමත්වය ඉදිරියට දාල, කරපු කර්ම නිසා තමයි, එහෙම ඇදී ආවෙ. යම් කර්මයක් මමත්වය ඉස්සරහට දාල කළා නම් එයට පුද්ගලයා වගකියන්න ඕන. සත්වයා කර්මයේ විපාක විඳින්නෙත් මමත්වය ඉස්සරහට දාල. අපි හිතමු, සසර පෙර යම් පව්කමක විපාකය පුද්ගලයා දැන් දුක සේ විඳිනව කියල. ඔහු මේ දුකට කැමති නෑ. මේ දුකෙන් අත්මිදෙන්න උගුලෙන් ගැලවෙන්න දඟලන හාවෙක් වගේ නොයෙක් දේ කරනව. බැරිතැන අඬනව, වැලපෙනව. ඒ කියන්නෙ විපාක විඳිනකොට විඳින්නෙත් මමත්වය ඉස්සරහට දාල කියන එකයි. බාහිර කෙනකුට දොස් නගල, උඹ තමයි, මට මේ වින්නැහිය කළේ කියල කියනව. මෙහෙම දඟලන කොට මතු විඳවන නවකර්ම ගොඩනැගෙනව. තමන්ගෙ පෙර කර්මයක විපාකයක් කියල දන්නෙ නෑ. බුදුරජාණන් වහන්සේ මේ නියාමය කියල දෙනකම් අපි කවුරුවත් දන්නෙ නෑ.

යම් දුකක් විඳින කොට මෙය මගේ ම පැරණි කර්මයක විපාකයක් කියල හිතනව නම් දුකේ අමාරු කම් ටික ටික අඩුවෙනව. මත්තට විපාක විඳින්න කර්මය දිග්ගැස්සෙන එකත් නැති වෙනව. බණ අහන කවුරුත් දන්නව, ලෝභයත් ද්වේෂයත් මෝහයත් සසරට පමුණුවන කර්ම බිහිවෙන්න කරුණු වෙනව කියල. "ලෝභයෙන් ද්වේෂයෙන් මෝහයෙන් කරපු කර්මය අකුශලයක්. **(තං කම්මං අකුසලං)**ඒක දොස් සහිතයි. **(සාවජ්ජං)**දුක් විපාක ගෙන දෙන්නක්. **(දුක්ඛවිපාකං)**ඒ කර්මය අනෙක් පව්කම් රැස්කිරීමටත් හේතු වෙනව. **(කම්මසමුදයාය සංවත්තති)**කර්මය නිරුද්ධ කිරීම පිණිස පවතින්නෙ නෑ", **(න තං කම්මං කම්මනිරොධාය සංවත්තති)**කියන එකයි, බුද්ධ වචනය. **(අං: නි: 1, තිකනිපාත, සම්බෝධිවග්ග 9 සූත්‍රය, 470 පිට)**

දුක් විපාක විඳිනකොට තවත් කර්ම රැස් වෙන්නෙ, විපාක විඳින වෙලාවෙත් ලෝභයෙන් ද්වේෂයෙන් මෝහයෙන් දඟලන හින්ද. එතකොට කර්මනිරෝධයක් වෙන්නෙ ම නෑ.

විපාක විඳින වෙලාව අතීතයවත් අනාගතයවත් නො වෙයි. මේ මොහොත. අනාගතේ විඳින්න වෙන විපාකත් විඳිනකොට මේ මොහොත වෙලා. කර්මයෙන් මිදෙන්න කටයුතු කරන්න වෙන්නෙ මේ මොහොතේ. ඒ හින්දා අතීතයත් අනාගතයත් අල්ලාගෙන මේ මොහොතේ කර්ම ගොඩ නගන හැටිත් ටිකක් තේරුම් ගන්න ඕන.

අතීතෙ ඡන්දරාගයට කරුණු වෙච්ච අරමුණු ගැන හිත හිතා මේ මොහොතෙත් තෘෂ්ණාව උපදවනව. ඒවට කියනව අතීත ඡන්දරාගට්ඨානීය ධර්ම කියල. අනාගතේ ලබන්න කැමති වෙන අරමුණු ගැනත් මේ මොහොතේ හිත හිතා තෘෂ්ණාව උපදවනව. ඒවට කියනව අනාගත ඡන්දරාගට්ඨානීය ධර්ම කියල. මේ මොහොතේ ඡන්දරාගයට කරුණු වන අරමුණු ලැබෙන කොට ඒවා ගැන හිත හිතා තෘෂ්ණාව උපදවනව. ඒවට කියනව පච්චුප්පන්න ඡන්දරාගට්ඨානීය ධර්ම කියල. මේ අතීත එව්වයි, අනාගතේ කැමති වන එව්වයි, දැන් ලැබෙන ඒවයි ගැන හිත හිතා ඉන්න එකට කියනව අනුවිතර්කනය කරනවා, අනුවිචාරණය කරනවා කියල. **(අනුවිතක්කෙති අනුවිචාරෙති)**එහෙම හිත හිතා ඉන්නකොට තෘෂ්ණාඡන්දය ඇති වෙනව. **(ඡන්දො ජායති)** තෘෂ්ණාඡන්දය ඇතිවෙනකොට ඒ කැමති වන එව්වත් එක්ක බැඳෙනව. **(ඡන්දජාතො තෙහි ධම්මෙහි සංයුත්තො හොති)** බුදුරජාණන් වහන්සේ දේශනා කරනව, 'සිත පිළිබඳ යම් ඇලීමක් වේ ද, එය මම සංයෝජනය යයි කියමි'යි කියල. **(එතමහං භික්ඛවෙ සංයොජනං වදාමි යො චෙතසො සාරාගො)** ඉතින් මේ තුන් ආකාරය ම සංසාර කර්ම රැස්කිරීමට කරුණු වෙනව, කියල බුදුරජාණන් වහන්සේ දේශනා කරනව. **(තීණිමානි භික්ඛවෙ නිදානානි කම්මානං සමුදයාය)-(එම, 10 සූත්‍රය, 470 පිට)**

අද කාලෙ කර්මය පිළිගන්න අය වුනත් හිතාගෙන ඉන්නෙ ඉඳල හිටල පවක්, ඉඳල හිටල පිනක් තමයි, තමන්ගෙන් කෙරෙන්නෙ කියල. කායකර්ම වචීකර්ම හැමතිස්සෙම නො වුණත් මනඃකර්ම නිතරම සිදු වෙන්න පුළුවන් බව අමතක කරන්න හොඳ නෑ. ඕන ම අත්දැකීමක දී තෘෂ්ණා අනුසයක් රැස්වෙනවා නම් භවයට ඇදෙන කර්ම රැස්වීමක් බව දකින්න ඕන. අතීත තෘෂ්ණාවන් අරභයා හෝ වේවා අනාගත

තෘෂ්ණාවත් අරහයා හෝ වේවා මේ මොහොතේ අරමුණු පිළිබඳ තෘෂ්ණාව හෝ වේවා කර්ම සකස් කරන්නෙ මේ මොහොතේ බව හොඳින් වටහා ගන්න.

මේ විදිහට කර්ම සමුදය ගැන දැනගන්නකොට කෙනකුට හිතෙන්න පුළුවන්, 'එහෙම නම් මේ කර්මයෙන් මිදෙන්නෙ කොහොමද, මගෙ අම්මේ' කියල. බුදුරජාණන් වහන්සේ යමක් අපට පැහැදිලි කරල දෙන්නෙ අපව අතරමං කරල දාන්න නොවෙයි. සැනසීමට මගක් හඳුන්වල දෙන්න, බව අමතක කරන්න එපා. බුදුරජාණන් වහන්සේ තවත් කර්ම රැස්කිරීමට කරුණු වන හේතු තුනක් දේශනා කරනව. අලෝභය අද්වේෂය, අමෝහය කර්ම රැස්වීමට කරුණුයි, කියල දේශනා කරනව. මේවා කුසල් මුල් කියල, අපි දන්නව. කුසල මූලයකින් රැස්වෙන්නෙ කුසල්. **(තං කම්මං කුසලං)** ඒ කර්මයේ දොසක් නෑ. **(තං කම්මං අනවජ්ජං)** සැපවිපාක සහිතයි. **(සුඛවිපාකං)** ඒ කර්මය කර්මනිරෝධය පිණිසයි, හේතු වෙන්නෙ. **(තං කම්මං කම්මනිරොධාය සංවත්තති)**භවගාමී කර්ම රැස්කිරීම පිණිස හේතු වෙන්නෙ නෑ. **(න තං කම්මං කම්මසමුදයාය සංවත්තති)**

බුදුරජාණන් වහන්සේ කර්මය නිරුද්ධ කරන්න වැඩිය යුතු කුසලය හැටියට වදාළේ කුමක් ද? නිබ්බේධික සූත්‍රයේ දී 'මේ ආර්යඅෂ්ටාංගික මාර්ගය ම කර්මය නිරුද්ධ කරන මාර්ගයයි' කියල, දේශනා කරනව. **(අයමෙව අරියො අට්ඨඞ්ගිකොමග්ගො කම්මනිරොධගාමිනී පටිපදා)-(අං: නි: 4, නිබ්බෙධික සූත්‍රය, 208 පිට)** සීලයත් සමාධියත් ප්‍රඥාවත් තමයි, වඩන්න ඕන. සීලය සමාධිය පිණිසයි. සමාධිය ප්‍රඥාව පිණිසයි. ප්‍රඥාව උපාදානස්කන්ධ නිරෝධය පිණිසයි.

ලෝභයෙන් ද්වේෂයෙන් මෝහයෙන් කළ කර්මයක් නිසා යම් තැනෙක පුද්ගලයාගේ ආත්මභාවය පහළ වේ ද, එහි ඒ කර්මය විපාක දෙයි. **(යත්‍ථ තං කම්මං විපච්චති)** යම් තැනෙක ඒ කර්මය විපාක දේ ද, ඒ කර්ම විපාකය, මේ අත් බැව්හි හෝ ඊ ළඟ අත්බැව්හි හෝ, අනෙක් අත්බවයක හෝ විඳියි. **(යත්‍ථ තං කම්මං විපච්චති තත්‍ථ තස්ස කම්මස්ස විපාකං පටිසංවේදෙති දිට්ඨෙ වා ධම්මෙ උපපජ්ජෙ වා අපරෙ වා පරියායෙ)-(අං: නි: 1, තිකනිපාත, දෙවදූතවග්ග, 4 සූත්‍රය, 248 පිට)** මේ කර්මය විපාක දීමට බුදුරජාණන් වහන්සේ උපමාවක්

දක්වනව. පැලවීමේ ශක්තිය ඇති බීජ සකස් කළ බිමක වැපුරුවාම නිසි කලට වැසි ලැබෙන කොට හොඳින් වැඩෙනවා වගේ කර්මය විපාක දෙන බව දේශනා කරනව. ඉතින් මේකෙ අනික් පැත්තත් අපි තේරුම් ගන්න ඕන.

අපි කලින් කථාකළා අලෝභ, අදෝස, අමෝහ කුසල මුල් වලිනුත් කර්ම බිහිවන බව. ඒ කර්ම ක්‍ෂය වෙන්නේ කොහොමද කියලත් අපි වටහාගන්න ඕන. අලෝභයෙන් කළ කර්මය ලෝභය ප්‍රහීණ වෙන කොට ප්‍රහීණයි. ඒක මෙහෙමයි, බුදුහාමුදුරුවො දේශනා කරල තියෙන්නෙ. "මහණෙනි, අලෝභයෙන් කරනලද, අලෝභයෙන් හටගත්, අලෝභය හේතු කොටගෙන, අලෝභය ප්‍රත්‍යය කොට ඇති යම් කර්මයක් වේ ද, ලෝභය පහ වූ බැවින් මෙසේ ඒ කර්මය ප්‍රහීණ වේ." **(යං භික්ඛවෙ අලොභපකතං කම්මං අලොභජං අලොභනිදානං අලොභසමුදයං ලොභෙ විගතෙ එවං තං කම්මං පහීණං හොති.)-(එම, 250 පිට)** අන්න ඒ ආකාරයෙන් ම ද්වේෂය ප්‍රහීණ වෙනකොට අද්වේෂයෙන් කළ කර්මයත් ප්‍රහීණයි. මෝහය ප්‍රහීණ වෙනකොට අමෝහයෙන් කළ කර්මයත් ප්‍රහීණයි. හරියට කරටිය කැපූ තල්ගසක් ඉන්දුවත් පැලවෙන්නෙ නැතුවා වාගෙ. ඉන් පැහැදිලි වෙන්නෙ, අලෝභ අදෝස අමෝහ කර්ම අවසානයේ දී සංසාර විමුක්තිය සඳහා උපකාර වන බවයි.

මේ කර්මය ක්‍ෂය කරන්න මේ මොහොතේ කළයුත්තෙ කුමක් ද, කියල අවසාන වශයෙන් අපි තේරුම් ගනිමු. කර්මය කියන්නෙ චේතනාව බව ඔබ දන්නව. සිතා යම් කර්මයක් කයින්, වචනයෙන්, සිතින් කරන්නේ නම් ඒක මමත්වය ඉදිරියට ඇවිත් කළ කර්මයක්. **(චෙතනාහං භික්ඛවෙ කම්මං වදාමි, චෙතයිත්වා කම්මං කරොති කායෙන වාචාය මනසා)** කර්මයට මුල් වුනේ සළායතනික ස්පර්ශයයි. **(ඵස්සො භික්ඛවෙ කම්මානං නිදානසම්භවො)-(අංඃ නිඃ 4, නිබ්බෙධික සූත්‍රය, 208 පිට)** ස්පර්ශය ඇති තැන තමයි, විඳනය, සඤ්ඤාව, චේතනාව ක්‍රියාත්මක වෙන්නෙ. නව කර්ම කරනකොටත් පැසුණු කර්ම විපාක විඳිනකොටත් තියෙන්නෙ මේ ප්‍රත්‍ය සම්බන්ධතාව. ස්පර්ශයෙන් විඳන තණ්හා උපාදානයට වැටීම වෙනුවට මේ ප්‍රත්‍ය සම්බන්ධතාවේ සමුදයත් නිරෝධයත් නුවණින් දකිමින් එහි අනිත්‍ය බව දුක් බව අනාත්ම බව මගේ ය, මම ය, මාගේ

ආත්මය ය, වශයෙන් ගතයුත්තක් නැති බව සම්මර්ශනය කරනකොට පරණ කර්ම ක්‍ෂය වෙනව. නවකර්ම බිහි වීම වළකිනව. එය කළයුත්තේ මේ මොහොතෙ.

## ඉදප්පච්චයතාව මේ මොහොතෙදියි.
## විදසුන් වැඩියයුත්තෙත් මේ මොහොතෙදියි.

ලෝකයේ බොහෝ දෙනෙක් හිතාගෙන ඉන්නව පුද්ගලත්වයෙන් ඉන්න තමාත් අන් අයත් අත්දකින ලෝකයත් මැවුම්කාර දෙවියකු විසින් ඈත අතීතෙක මවන්න ඇත කියල. එහෙම පිළිගැනීමක් ඇති තැන දුකෙන් මිදෙන්න කියල අපට ගතහැකි කිසිම ක්‍රියාමාර්ගයක් ගන්න පදනමක් නෑ. තවත් කෙනෙක් හිතනව මේ ඔක්කොම ඉබේ ඇතිවන්න ඇත කියල. එහෙම ගත්තම කිසි ම දේක හේතු ඵල සම්බන්ධයක් නෑ. එතැනදිත් පවතින තත්ත්වය පිළිගන්නව මිසක් දුකෙන් මිදෙන්න කියල ගතහැකි ක්‍රියාමාර්ගයකට පදනමක් නෑ. තවත් කෙනෙක් හිතනව සියල්ල වෙන්නෙ පූර්ව කර්ම හේතුවෙන් ය කියල. සියල්ල පූර්ව කර්මයෙන් නියත වෙලා නම් එතැනදිත් පවතින තත්ත්වය පිළිගන්නව මිසක් දුකෙන් මිදෙන්න ක්‍රියාමාර්ගයක් ගන්න ඉඩක් නෑ. මේ ඔක්කොම අතීතයේ හේතු දකින්න ගිහිල්ල ඇතිකරගත්ත මත.

බුදුදහමෙත් කර්ම නියාමය පිළිගන්න නමුත් සියල්ල කර්මයේ ආධිපත්‍යයට යටත් ය කියල කියන්නෙ නෑ. තථාගතවරයන් වහන්සේගෙන් දහම් අසන අය තමා අතින් පාපකර්ම සිදු වී තිබීම ගැන පසුතැවිලි වීම වෙනුවට පාපයෙන් අකුශලයෙන් වැලකෙනව. එමඟින් පව්කම ප්‍රහාණය වෙනව. මෙසේ පව්කම ඉක්මී යනව, **(එවමෙතස්ස පාපස්ස කම්මස්ස පහානං හොති, එවමෙතස්ස පාපස්ස කම්මස්ස සමතික්කමො හොති)** කියල සංඛධම සූත්‍රයේ **(සං: නි. 4/580 සිට)** දක්වනව. පුද්ගලයාගේ කර්ම ගොඩනැගීම සිද්ධවෙන්නෙ මේ මොහොතෙ ක්‍රියාකරන ආකාරය අනුව. කර්මයෙහි විපාක විඳවන මොහොත වන්නෙත් මේ මොහොත. විපාක වැල්පොලී කරගන්නෙ නැතුව එය ඉක්මවන්න යම් පිළිවෙත් මඟක් අනුගමනය කරනවා නම් ඒක කරන්න වෙන්නෙත් මේ මොහොතෙ. මේ මොහොතේ ක්‍රියාවලිය සකස් වන නියාමයට කියන්නෙ ඉදප්පච්චයතාව කියල.

ඉදප්පච්චයතා යන්නේ තේරුම **'මෙය ඇති කල්හි මෙය වේ'** යන පච්චය සම්බන්ධතාවයි. තව විදියකින් කියනවා නම් **'මෙය ඇති වීමත් සමඟ මෙය ඇති වේ'** යන

සම්බන්ධතාවයි. මේ තමයි, සමුදය ස්වභාවය. නිරෝධ ස්වභාවයේ දී අපි තේරුම් ගන්නට ඕන, **'මෙය නැති කල්හි මෙය නො වේ', 'මෙය නිරුද්ධ වීම් සමඟ මෙය නිරුද්ධ වේ'** කියන ධර්ම නියාමය. මෙහෙම කිව්වට ම මේක තේරෙන්නෙ නෑ. සාමාන්‍යයෙන් අපි හිතන්න පුරුදු වෙලා තියෙන්නෙ, ඇහින් කනින් නැහැයෙන් දිවෙන් කයින් මනසින් කලක ඉඳන් තියෙන දේවල් අත්දකිනව කියල. මේ මොහොතේ ප්‍රත්‍ය සම්බන්ධතාව සමඟ මැවෙන ස්වභාව බව දකින්නෙ නෑ.

සසර කල්ප ගණන් අප කරගෙන ආවෙ, අතීතෙ අනාගතේ අතර දෝලනය වෙවී ආපු එක. මේ මොහොත ගැන නුවණින් දකින්න සැලකිලිමත් වුනේ නෑ. මේ පිළිබඳ බුදුබණ අහල, නුවණින් මෙනෙහි කරල, ධම්මානුධම්ම පටිපත්තියෙහි යෙදෙනකම් පෙනෙන්නෙත් නෑ. පස්කම්ගුණ ප්‍රියකරන, එහි ඇලුණ, ඉන් සතුටුවන අයට මේ ඉදප්පච්චයතා පටිච්චසමුප්පාදය දකින්න අපහසුයි කියල, බුදුරජාණන් වහන්සේ අරියපරියේසන සූත්‍රයෙහි දේශනා කරල තියෙනව. **(ආලයරමාය බො පන පජාය ආලයරතය ආලයසම්මුදිතාය දුද්දසං ඉදං ඨානං යදිදං ඉදප්පච්චයතාපටිච්චසමුප්පාදො)-(මඃ නිඃ 1, අරියපරියෙසන සූත්‍රය, 498 පිට)**

මේ අසීරුතාව නිසා තමයි සාති හාමුදුරුවන් වහන්සේට 'එක ම විඤ්ඤාණය සසර දුවනව, සැරිසරණව, අනෙකක් නො වෙයි' කියන දුර්මතය ඇති වුනේ. එතැන දී බුදුරජාණන් වහන්සේ සාති භික්ෂුවගෙන් 'විඤ්ඤාණය කියන්නෙ කුමක් ද', කියල ඇසුව. එතකොට සාති හාමුදුරුවෝ කියනව 'ස්වාමීනි, යමක් වචන කථා කරන්නේ ද, වේදනා විඳින්නේ ද, ඒ ඒ තන්හි කුශලාකුශල කර්මයන්ගේ විපාක විඳින්නේ ද ඒ මේ විඤ්ඤාණයයි' කියල උත්තර දුන්න.

'හිස් පුරුෂය, ම විසින් කාට නම් මෙසේ දම් දෙසුවයි කියල ද නුඹ දන්නෙ' කියල විමසල, තව දුරටත් මෙහෙම දේශනා කරනව. 'හිස් පුරුෂය, මවිසින් ප්‍රත්‍යයන්ගේ සම්බන්ධතාවක් නැතිව විඤ්ඤාණයේ හටගැනීමක් නැතැයි, නොයෙක් අයුරින් විඤ්ඤාණය පටිච්චසමුප්පන්න යයි දේශනා කරල තියෙනව නේ ද, එච්චරක් ද, හිස් පුරුෂය, තමනුත් වැරදි විදියට අරගෙන අපව ද වැරදි ලෙස නියෝජනය කරනවා.

තමාත් ගුණ නසා ගන්නව. බොහෝ අකුසලුත් රැස් කරගන්නව. මෙය ඔබට දිගු කලක් අහිත පිණිස දුක් පිණිස පවතිනව' කියල දේශනා කළා.

විඤ්ඤාණයේ පටිච්චසමුප්පන්න බව බුදුරජාණන් වහන්සේ දේශනා කළේ මේ ආකාරයටයි. ඇසත් රූපයත් ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය ඇති වේ නම් එය චක්ඛුවිඤ්ඤාණයයි. කනත් ශබ්දයත් ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය උපදී නම් ඒ සෝතවිඤ්ඤාණයයි. නාසයත් ගන්ධයත් ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය උපදී නම් ඒ ඝාණවිඤ්ඤාණයයි. දිවත් රසයත් ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය උපදී නම් ඒ ජිව්හාවිඤ්ඤාණයයි. කයත් පහසත් ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය උපදී නම් ඒ කායවිඤ්ඤාණයයි. මනසත් ධම්මත් ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය උපදී නම් ඒ මනෝවිඤ්ඤාණයයි.

මේ ආකාරයෙන් විඤ්ඤාණය උපදින්නේ මේ මොහොතෙ. එයට තනිව උපදින්න බෑ. බාහිර වශයෙන් නිමිත්තක් ගන්න ඕන. ඇහැ කන ආදී ඉඳුරන්ගෙන් නිමිත්තක් ගන්නව කියන්නේ විඤ්ඤාණයෙන් ඉන්ද්‍රියයි අරමුණයි වෙන්කර ගන්නව කියන එකයි. ඇහැ ඉන්ද්‍රිය වන විට වර්ණරූපය තමයි, නිමිත්ත. ඇහැ නැත්තනම් වර්ණරූපයක් නිමිති වෙන්නෙ නෑ. වර්ණරූප නිමිත්තක් නැත්නම් ඇස උපදින්නෙත් නෑ. අතීතෙ රූප දකින වෙලාවල ඒ ඒ මොහොතට ඇස උපන්න. රූපය උපන්න. (හැම ඉන්ද්‍රියයක් ගැන ම මේ විදියට තේරුම් ගන්න ඕන.) ඒවා ඉක්මිලා ගිහිල්ල. ඒවා දැන් මනසට අරමුණු වන ධම්මාලම්භන පමණයි. හැබැයි අතීතය ගැනත් හිත හිතා මේ මොහොතෙ ඡන්දරාගෙන් බැඳෙන්න පුළුවන්. ප්‍රතිපදාව වඩන පුද්ගලයා අතීතය අනුගමනය කරන්නෙ නෑ. මතු කැමතිවන දේවලුත් මේ මොහොතට නෑ. ඒත් මේ මොහොතෙ අනාගත පැතුම් ගැනත් අභිනන්දනය කරන්න පුළුවන්. ප්‍රතිපදාව වඩන පුද්ගලයා අනාගත අභිනන්දනය කරන්නෙ නෑ.

මේ මොහොතේත් සළායතනික වශයෙන් ලැබෙන අරමුණු වලට පුද්ගලයා ඇඳෙන එකනෙ සාමාන්‍ය සිරිත. යම් ඇසකුත් යම් රූපයකුත් වේ ද ඒ දෙක ම ප්‍රත්‍යුත්පන්නයි. ඒ කියන්නෙ, මේ මොහොතෙ උපදිනව කියන එකයි.

**(යඤ්චාවුසො චක්ඛුං යෙ ච රූපා උභයමෙතං පච්චුප්පන්නං)** ඒ ප්‍රත්‍යුත්පන්න ඇසෙහිත් රූපයෙහිත් ඡන්දරාගයෙන් බැඳුණ විඤ්ඤාණය වේ ද, ඡන්දරාගයෙන් බැඳුණ බවක් වේ ද, එය අභිනන්දනය කරයි. එසේ අභිනන්දනය කරන කොට මේ මොහොතේ උපදින ධර්මයන් කෙරෙහි ඇදී යයි. **(තස්මිං පච්චුප්පන්නෙ ඡන්දරාගපටිබද්ධත්තං හොති විඤ්ඤාණං. ඡන්දරාගපටිබද්ධත්තා විඤ්ඤාණස්ස තදභිනන්දති. තදභිනන්දන්තො පච්චුප්පන්නෙසු ධම්මෙසු සංහීරති)-(මඃ නිඃ 3, මහාකච්චානභද්දෙකරත්ත සූත්‍රය, 420 පිට)** කන ශබ්දය ආදී අනෙක් ඉන්ද්‍රිය අරමුණු කෙරෙහිත් ඇදී යන්නෙ මේ ආකාරයටයි. එහෙම ඇදී නො යන්නට නම් අරමුණු අභිනන්දනය කිරීමෙන් වළකින්න ඕන. ඒකට යෝනිසෝ-මනසිකාරයෙන් යුතුව ප්‍රතිපදාව වඩන්න ඕන.

ප්‍රතිපදාවේ දී අතීතය අනුගමනය නො කිරීමත් අනාගතය අභිනන්දනය නො කිරීමත් පුහුණු කරන්නෙ පච්චුප්පන්න මේ මොහොතෙ. අතීතෙ මතක්වෙලා එනකොට ඡන්දරාගයට වැටෙන්නෙ නැතුව මේ මොහොතේ විඤ්ඤාණයේ පිළිබිඹුවන්නෙ නාමරූප මායාව බව දකින්න ඕන. ඇතිව නැති වන සිත්මාත්‍ර බව නුවණින් දකින්න ඕන. අනාගත සිහින මැවීම් වශයෙන් මතු කැමතිවීම් ඇතිවෙනකොට නාමරූප පිළිබිඹු බව නුවණින් සම්මර්ශනය කරන්න ඕන. මේ මොහොතෙ අරමුණු ලෝකයට හසු වෙලා ඒ ඒ අරමුණු අභිනන්දනය කරන්නෙ නැතිව, ඒ ඒ තන්හි ම නුවණින් සම්මර්ශනය කරන්න ඕන. නාමරූප වශයෙන් දකින්න ඕන. මේ මොහොතේ ප්‍රත්‍යධර්ම සබඳතා වශයෙන් සැකසෙන සිත් බව දකින්න ඕන. මේ මොහොතේ සිදුවුන දෙය බව **(භූතං)**දකින්න ඕන. ප්‍රත්‍යයන්ගෙන් සකස් වූ දේ බව දකින්න ඕන. **(සංඛතං)**චේතනාමය වශයෙන් ගොඩනැගුණ දේ බව දකින්න ඕන. **(චෙගතයිතං)**පටිච්චසමුප්පන්න බව දකින්න ඕන. **(පටිච්ච-සමුප්පන්නං)- (අංඃ නිඃ 6, කිඤ්දිට්ඨික සූත්‍රය, 338 පිට)** ඒ සිත් අනිත්‍ය බව දකින්න ඕන. බාහිර තියන දේවල් අනිත්‍ය බව දැකීම නොවෙයි, මෙතන කෙරෙන්නෙ. බාහිර දේවල් අනිත්‍ය බව කවුද නො දන්නෙ. ඒකට බුදු කෙනෙක් පහළ වෙන්න ඕන නෑ. බාහිර නිමිති වශයෙන් ඇතැයි සිතා රැවටී සිටින නාමරූප

ප්‍රතිබිම්බයන්ගේ අනිත්‍ය බව දකින්න කියලයි බුදුහාමුදුරුවො දේශනා කරන්නෙ. මේ සිත් දුක සකස් කරන බව දකින්න ඕන. තමන්ගේ කැමැත්තට අනුව පවත්වන්නට බැරි අනාත්ම ධර්ම බව දකින්න ඕන. මේ මොහොතේ පටිච්චසමුප්පන්නව ඉන්ද්‍රිය අරමුණු ලෝකය සකස් වන විට, ඒ ඒ තන්හි තණ්හාවෙන් අභිනන්දනය කිරීම **(තත්‍ර තත්‍රාභිනන්දිනී)**වෙනුවට, ඒ ඒ තන්හි විදර්ශනාව **(තත්‍ථ තත්‍ථ විපස්සති)**වැඩිය යුත්තෙ ඔන්න ඔය ආකාරයට.

## පැණැස මේ මොහොතෙදියි.

දහම හරියට දැනගන්නා තුරු ලෝකෙ ඉන්න අය, ඇතැමෙක් භවයට ඇලිල, බැඳිල ඉන් සතුටු වෙන අය. භවනිරෝධයට බණ කිව්වට ඔවුන් එහි පහදින්නෙ නෑ. භවයට ඇලෙනව. **(ඕලීයන්ති)** මේ ශාශ්වත වාදීන්. තව කට්ටියක් ඉන්නව, භවයට කැමති නෑ. 'මරණින් පස්සෙ ආත්මය උච්ඡේදයට විනාශයට යනව නම් ඒක ම ශාන්තයි ප්‍රණීතයි, ඇත්ත තත්ත්වෙ ඒකයි' කියල හිතනව. ඒ අය දුක නිරුද්ධ කරන්න මඟ නො වඩා දුකින් මිදීමක් පතන නිසා අතිධාවනය කරන අය. **(අතිධාවන්ති)**මේ උච්ඡේදවාදීන්.මේ දෙගොල්ලම 'ආත්මය ඇත' කියල හිතන අය. 'මම' යයි කිවහැකි ආත්මයක් පිළිගත් අය මේ දෙකෙන් කොයි එකකට හරි වැටෙනව. මේ මොන නිගමනය ගත්තත් ඒ හැම කෙනෙක් ම නිගමන ගන්නේ රූප, විඥාන, සංඥා, චේතනා, දැනීම් ඇසුරෙන්. ඒ කියන්නෙ, ස්කන්ධ ඇසුරින්. ධර්මය දැනගන්නකම් කවුරුත් ඉන්නෙ ඔය දෙකෙන් එකක. වැඩියෙන් ඉන්නෙ දෙවැන්නෙ. ඒ අයගෙ සසර නතර වෙන්නෙ නෑ.

පැණැස ඇති කෙනා දකින්නෙ ඔහොම නො වෙයි. භව, විභව දෙකට ම නො වැටී අර කියාපු ස්කන්ධ නමැති භූත ධර්ම 'මෙය ඇති කල්හි මෙය වේ' කියන පටිච්චසමුප්පාද ධර්ම න්‍යායය අනුව සිදුවන ආකාරයයි දකින්නේ. **(භූතං භූතතො පස්සති)** එහෙම දැකල ඒ ස්කන්ධ ධර්මයන්හි ප්‍රඥාවෙන් යුක්ත කළකිරීමට පත්වෙලා විරාගයට නිරෝධයට පැමිණෙනව. **(..භූතස්ස නිබ්බිදාය විරාගාය නිරොධාය පටිපන්නො හොති)** පැණැස ඇති කෙනාගෙ දැකීම ඔහොමයි. **(චක්ඛුමන්තො ච පස්සන්ති)**

අතීතෙ සිට පවතිනවා ය කියල හිතන, මතු අනාගතෙත් පවතිනව කියල හිතන, නැත්නම් විනාශ වෙනව කියල හිතන දේවල් ගැන ඔහු කරදර වෙන්නෙ නෑ. මේ මොහොතේ සමුදය වන දේ සමුදය ධර්මයක් **(භූතං)**හැටියට දකිනව. **(ඛුඃ නිඃ 1, ඉතිවුත්තකපාළි, දිට්ඨිගතසූත්‍රය, 374 / 376 පිටු)** එහෙම දැකල ඒ භූතධර්මයාගේ ඉක්මීමත් දකිනව. **(යෙ භූතං භූතතො දිස්වා භූතස්ස ච අතික්කමා)** යම් කෙනෙක් එහෙම දකිනව නම්, ඒ අය භවතණ්හාව ක්ෂය කරල 'විපරීත නො වූ සත්‍යය' නමැති නිවනේ නිවෙනව. **(යථාභූතෙ විමුච්චන්ති භවතණ්හා පරික්ඛයා)** 'යමක් සමුදය ධර්මයක් වේ ද, ඒ සියල්ල නිරෝධ ධර්මයි' කියල දකින පුද්ගලයා **(භූතපරිඤ්ඤො)** භවතණ්හාවත් විභවතණ්හාවත්

නැති කෙනෙක්. සමුදය ධර්මයන්ගේ නිරෝධයෙන් නැවත භවයක් සැකසෙන්නෙ නෑ.

මේ කාරණය ම තවත් සූත්‍රයකින් තව ආකාරයකට තේරුම් ගන්න බලමු. බුදුරජාණන් වහන්සේ හමුවට එන සමහර කෙනෙක් 'දුක තමා විසින් කරපු එකක් ද', කියල අහනව. **(සයං කතං දුක්ඛං)**ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනව 'එහෙම කියන්න එපා' කියල. ඊට පස්සෙ අහනව 'දුක අනුන් විසින් කරපු එකක් ද' කියල. **(පරං කතං දුක්ඛං)** එතැනදිත් වදාරන්නෙ 'එහෙම කියන්න එපා' කියල. 'දුක තමා විසිනුත් අනුන් විසිනුත් කරන ලද දෙයක් ද' **(සයං කතඤ්ච පරංකතඤ්ච දුක්ඛං)** කියල අහපුවාමත් 'එහෙම කියන්න එපා' කියල වදාරණව. 'දුක තමා විසිනුත් නො කළ අනුන් විසිනුත් නො කළ ඉබේ ඇති වූවක් ද' **(අසයංකාරං අපරංකාරං අධිච්චසමුප්පන්නං දුක්ඛං)** ඊලඟට අහන කොටත්'එහෙම කියන්න එපා' කියල වදාරණව. **(සං: නි: 2, අචෙලකස්සප සූත්‍රය, 32 / 34 පිටු)**

මේ ප්‍රශ්න හතරට ම 'එහෙම කියන්න එපා' **(මා හෙවං)**කියල වදාළම සාමාන්‍ය කාටත් හිතෙන්නෙ 'මේක මහ පුදුම කථාවක් නෙ' කියල. අර ප්‍රශ්න අහපු අයටත් එහෙම හිතිල ද කොහෙද, අහනව 'එහෙනම් භවත් ගෞතමයෙනි දුකක් නැද්ද' කියල. එතකොට, බුදුරජාණන් වහන්සේ 'දුකක් නැතුව නො වෙයි, දුකක් තියෙනව' කියල දේශනා කරනව. ඊ ලඟට අහනව 'භවත් ගෞතමයන් දුක දන්නෙ නැද්ද, දකින්නෙ නැද්ද' කියල. එතැනදි බුදුරජාණන් වහන්සේ දේශනා කරනව, 'මම දුක නො දන්නව නො දකිනව නෙවෙයි, මම දුක දන්නව, දකිනව' කියල.

'දුක තමන් කරන ලද්දකුත් නො වෙයිලු. අනුන් කළ දේකුත් නො වෙයිලු. තමන් විසින් හෝ අනුන් විසින් කරන ලද දේකුත් නො වෙයිලු. ඉබේ හටගත්තත් නො වෙයිලු. එහෙනම් භාග්‍යවතුන් වහන්සේ මට දේශනා කරන්න, දුක කියන්නෙ මොකක් ද කියල' යනුවෙන් ඉල්ලා හිටිනව.

මුල දී ම 'කරන්නා ම විඳියි' කියල පිළිගැනීමක් තියෙන කොට 'දුක තමා විසින් කරන ලද්දක් ය' යන පිළිගැනීම ඇති වෙනව. එහෙම කියන කෙනා ශාශ්වත දෘෂ්ටියට වැටෙනව. **(සො කරොති සො පටිසංවෙදියතී'ති ඛො කස්සප, ආදිතො සතො 'සයං කතං දුක්ඛං' ති ඉති වදං සස්සතං එතං පරෙති)** කය මැරුණත් නො මැරෙණ සදාකාලිකව ඉන්න එක ම මම කෙනෙක් ආත්මයක් ඇතැයි කියන වැරදි පිළිගැනීමක් මෙතන තියෙන්නෙ.

මුල දී ම 'අනෙකෙක් කරයි, අනෙකෙක් විඳියි' කියන පිළිගැනීම ඇති විට දුක්ඛ වේදනාවකින් පෙළෙන පුද්ගලයාට හිතෙන්නෙ 'දුක අනුන් විසින් කරන ලද දෙයක්' කියල. එහෙම කෙනා වැටෙන්නෙ උච්ඡේද දෘෂ්ටියට. **(අඤ්ඤො කරොති අඤ්ඤො පටිසංවෙදියතී'ති ඛො කස්සප, වෙදනාභිතුණ්ණස්ස සතො 'පරං කතං දුක්ඛං'ති ඉති වදං උච්ඡේදං එතං පරෙති)**උච්ඡේදවාදය කියන්නෙ ආත්ම අගයකින් යුතු පුද්ගලත්වයක් පිළිඅරගෙන ඒ ආත්මයේ විනාශ වීමක් දකින චින්තාවට. බොහෝ දෙනා හිතාගෙන ඉන්නෙ සත්වයෙක් කියන්නෙ කයක් ශරීරයක් කියල. ඒ අය හිතන්නෙ 'කය ම මම'යි කියල. ආත්මයයි කියල. එතකොට කය මැරුණම ආත්මයත් ඉවරයි. උච්ඡේදයි. අනික්කෙනෙක් කරපු කර්මයකටමට දුක් විඳින්න වෙලා, කියල මේ දෘෂ්ටිය ඇති කෙනාට හිතෙන්නෙ. එහෙම හිතන අය අද සමාජෙත් ඕනතරම් ඉන්නව.

මේ අන්ත දෙකට ම නො ගොහින්, ඒ දෙක ම ප්‍රතික්ෂේප කරල බුදුරජාණන් වහන්සේ මැදුම් පිළිවෙතක ඉඳල ධර්මය දේශනා කරනව. **(එතෙ තෙ උභො අන්තෙ අනුපගම්ම මජ්ඣෙන තථාගතො ධම්මං දෙසෙති.)**පැවැත්ම තුළ සදාකාලික ආත්මයක්වත් කලක් තිබී විනාශ වන ආත්මයකවත් නෑ. ඒ කියන්නෙ භවදිට්ඨියට හෝ විභවදිට්ඨියට හෝ පවතින කරුණක් නෑ. ඇත්තේ සිදු වූ **(භූතං)**, සකස් වූ **(සංඛතං)**, චේතනාමය වශයෙන් ප්‍රකට වූ **(චේතයිතං)**, ප්‍රත්‍යයන්ගෙන් උපන් **(පටිච්චසමුප්පනං)** ධර්මයන්ගේ සමුදය හා නිරෝධයයි. ඒ කියන්නේ 'මෙය ඇති කල්හි මෙය වේ', 'මෙය නැති කල්හි මෙය නො වේ' යන ධර්මන්‍යායයට අනුව සමුදය වන හා නිරුද්ධ වන ධර්මයි.

මේ ප්‍රත්‍ය සම්බන්ධතාව තුළ උපදින්නේ දුක මිසක් ආත්මයක් නො වේ. නිරුද්ධ වන්නේ ද දුක මිසක් ආත්මයක් නො වේ. සදාකාලික වෙන්න හරි විනාශ වෙන්න හරි දෙයක් මෙතන නෑ. උපදින්නේත් දුකමයි. නිරුද්ධ වන්නේත් දුකමයි. දුක උපදිනව කියන්නේ අවිජ්ජා සංඛාර විඤ්ඤාණ නාමරූප සළායතන ඵස්ස වෙදනා තණ්හා උපාදාන භව ජාති ජරාමරණ සෝක පරිදෙව දුක් දොම්නස් උපායාස කියන සමස්ත ක්‍රියාවලියේ සමුදයයි. අවිද්‍යාව ඉතිරි නො කොට නිරුද්ධ වීමෙන් සංඛාර විඤ්ඤාණා දී සෙසු ප්‍රත්‍යයන් නිරුද්ධ වීම සමස්ත දුකෙහි නිරෝධයයි.

මේක තේරුම් ගන්නේ අතීතයක් අනාගතයක් අල්ලගෙන නො වෙයි. අතීතෙ සිදුවුනෙත් මතු සිදුවන්නෙත්

අමුතු දෙයක් නො වෙයි. දැන් මේ සිදුවන විදියමයි. දුක්ඛ සූත්‍රයේ දී බුදුරජාණන් වහන්සේ 'දුක් හටගැනීම කවරේ ද' කියන ප්‍රශ්නය නගල මෙහෙමයි උත්තර දෙන්නෙ. ඇසත් රූපයත් එකිනෙකට ප්‍රත්‍ය වීමෙන් චක්ඛුවිඤ්ඤාණය උපදිනව. මේ තුනේ එක් වීම තමයි, ස්පර්ශය. ස්පර්ශය ප්‍රත්‍යයෙන් විඳැනය වෙනව. විඳැනය ප්‍රත්‍යයෙන් තණ්හාව වෙනව. දුක ඇති වෙනව කියන්නෙ මේකයි. **(චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං. තිණ්ණං සඞ්ගති ඵස්සො. ඵස්සපච්චයා වෙදනා. වෙදනා පච්චයා තණ්හා. අයං ඛො භික්ඛවෙ දුක්ඛස්ස සමුදයො.)- (සං: නිඃ 2, දුක්ඛ සූත්‍රය, 112 පිට)** ආයතන හයෙන් ම කෙරෙන්නෙ මේ ආකාරයෙන් දුක ඇති වීම.

මේ තණ්හාව ඉතිරි නොකොට නිරෝධයෙන් උපාදාන භව ජාති ජරාමරණ සෝක පරිදෙව දුක් දොම්නස් උපායාස යන සමස්ත දුක ම නිරුද්ධ වෙනව. දුක මිසක් කෙනෙක් ආත්මයක් විනාශ වෙනව නො වෙයි.

අතීතෙ සසරක් තිබුණෙ මේ ක්‍රමයෙන් දුක ඇති වුන නිසා. මතු සසරක් වන්නෙත් මේ දුක ඇති වීමේ නියාමය ක්‍රියාත්මක වෙනවා නම් තමයි. මම, මගේ කියල හිතන්නෙ මේ සවිඤ්ඤාණක කයත් නාමධර්ම ඔස්සේ විඤ්ඤාණයේ පිළිබිඹු වන සියලු නිමිතිත් බව දැනගන්න. එතකොට මම, මගේ කියල ගන්නෙ හිතාගන්න දේවල් පමණයි. හිතාගන්න දේ වලට ස්ථිර සාර වටිනාකම් දෙන්නේ අවිද්‍යාව නිසා. හිතාගන්න දේවල් තමයි සමුදය වන්නෙ, නිරුද්ධ වන්නෙ. නිරෝධය දකින්නෙ විදසුන් නුවණින්.

## විනිවිද යා යුතු මේ මොහොත

සාමාන්‍ය පුද්ගලයා වැඩිවශයෙන් සිටින්නෙ එක්කෝ අතීතයේ ලැබුණ දේවල්, නො ලැබුණ දේවල් ගැන හිත හිතා. නැත්නම් අනාගතයේ කැමති වන දේවල් ගැන හිත හිතා. මේක තමයි සාමාන්‍ය සංජානන මට්ටම. **(සඤ්ජානාති)**හැබැයි සසර දුකෙන් මිදෙන්න ඔය මට්ටමේ ම ඉඳල නම් බෑ. විශේෂ නුවණකින් බලන්න වෙනව. **(අභිජානාති)**ඒකටකියනව යෝනිසෝමනසිකාරයකියල. බුදුරජාණන් වහන්සේ ඒ නුවණ අපට හඳුන්වල දෙනව.එම විශේෂ නුවණින් බලනකොට තමයි ප්‍රඥාව පිරිපුන් වෙන්නේ. **(පරිජානාති)** දුක් කෙළවර වීම එතැනයි.

ඔය අතීත අත්දැකීම් ගැන තණ්හාවෙන් හිතහිතා ඉන්නෙත් අනාගතයේ ලැබේවායි තණ්හාවෙන් හිතහිතා ඉන්නෙත් මේ මොහොතෙ. එනිසා මොකක් ද වෙන්නෙ? මේ මොහොත නුවණින් පෙනෙන්නෙ නැතිව යන එකයි. මේ මොහොත පෙර ලැබූ අත්දැකීම් පිළිබඳ තණ්හාවෙන් හෝ මතු ලබන්නට ඇති අත්දැකීම් පිළිබඳ තණ්හාවෙන් හෝ දැන් ලබන අත්දැකීම් පිළිබඳ තණ්හාවෙන් හෝ වැහිල ගිහින්. අතීතය එක අන්තයක්. අනාගතය දෙවන අන්තය. මේ මොහොත **(පච්චුප්පන්නං)**මැදයි. මේ අතීතය පිළිබඳවත් අනාගතය පිළිබඳවත් තණ්හාවෙන් ඇලෙන්නෙ මැද ඇති මේ මොහොතෙයි. එහෙම නම් මේ මොහොතේ ප්‍රඥාව භාවිතා කරනවා නම් මැද ඇලීමක් වෙන්නෙ නෑ. එතකොට මතුභවයට කරුණු සකස් වෙන්නෙ නෑ. දුක් කෙළවර වෙන්නෙ ඒ ආකාරයෙන්.

**"යං පුබ්බෙ තං විසොසෙහි පච්ඡා තෙ මාහු කිඤ්චනං,**
**මජ්ඣෙ චෙ නො ගහෙස්සසි උපසන්තො චරිස්සසි."**
**(සුත්තනිපාත, අත්දණ්ඩ සූත්‍රය, 298 පිට)**

මේ අත්තදණ්ඩ සූත්‍රයේ එන දේශනාවක්. ඒකෙ තේරුම අනුව හිතල බැලුවොත් අතීත අත්දැකීම් ඇසුරින් උපන් සංස්කාර වියලවා දමනව නම් අනාගතයෙහි කැමති වන අත්දැකීම් පිළිබඳ සංස්කාර ඇතිවීම වළක්වා ගන්නව නම් මධ්‍යයෙහි එනම්ඃ මේ මොහොතෙහි ලැබෙන අරමුණු කෙලෙස් සිතින් අල්ලා නො ගන්නේ නම් ඒ හැකියාව ඇති පුද්ගලයා උපශාන්තව හැසිරෙනවා ඇත.

ඔබ ඊයේ ප්‍රිය රූපයක් දැක්ක කියල හිතමු. එය නැවත නැවතත් දකින්න ඇත්නම් කියලත් හිතුන. මෙතැන වුනේ සසර ගොඩනැගීමක්. සුභනිමිත්තක් හින්දා විඳීම් හැඳිනීම් චේතනා

ඔස්සේ රාගානුසය ගොඩනැගුන. මේක කර්ම සකස් කිරීමක්. පටිස නිමිත්තක් නම් තරහ ගිහින් පටිසානුසය ගොඩනැගෙනව. රාගයක් ද්වේෂයක් නැතත් අත්දකින දෙය ඇත්තක් කියල ගන්නව නම් අත්දකින මම ඇත්තෙක් කියල ගන්නව නම් එතැන ඇත්තේ අයෝනිසෝමනසිකාරය නිසා ගොඩනැගෙන අවිජ්ජානුසයයි. මේ විදියට ආයතන හයෙන් ම අත්දැකීම් නැවත නැවතත් ලබන්න ගියාම බොහෝ විට පස්පවට දසඅකුසලයට වැටෙමින් දුක් විපාක දෙන පව්කමුත් කරගන්නව. එතකොට සසර සකස් වෙනව විතරක් නොවෙයි, දුක් විපාකත් විඳින්න වෙනව. සතර අපායික දුක් විඳින්නත් සිදු වෙනව.

තමන් ලෝභයෙන් රාගයෙන් පතන විඳීම් දිනාගැනීමට අවහිරතා ඇතිවෙනකොට තරහ ගන්නව. රාග ද්වේෂ මෝහ අකුසල් මුල් තුන ම එතන වැඩකරනව. මේ ක්‍රියාත්මක වෙන්නේ විඤ්ඤාණයත් නාමත් රූපත් අවයව කොට ගත් ඇතිවන නැතිවන සිත් ප්‍රවාහයක් බව බුදුරජාණන් වහන්සේ මතක් කරල දෙනකම් පුද්ගලයා දන්නෙ නෑ. ඒ හින්දා කය වචනය වැරදි විදියට පාවිච්චි කරනව. මේ ගොඩනගන්නෙ දුක්විපාක ගෙනදෙන කර්ම.

ඒ නිසා අපි තේරුම් ගන්න ඕන මේ මොහොත මැවෙන්නේ විඤ්ඤාණ නාමරූප අවයව කරගත් සිතකින් කියල. මේ මොහොත ඉක්මුණා කියන්නෙ අතීතය. ඒ කියන්නේ සිත ඇතිවුණා, නැතිවුණා කියන එකයි. සිත අනිත්‍ය බව ඒ අයුරින් තේරුම් ගන්න ඕන. මනසේ රඳවාගත් මගේ ය, මම ය, මාගේ වටිනා දෙය ය, යන හැඟීම නිසා නැවත නැවතත් ඒ අත්දැකීම (සංකල්පනා ලෝකය) කැමති වෙනව. ඒත් ඒක අනිත්‍ය වෙලා. පුද්ගලයා බාහිර නිමිති වලට ඇදිල යනව වගේ පෙනුනට, ඇත්ත වශයෙන් ම ඇදෙන්නෙ තමන් ම මවාගත් සංකල්පනා ලෝකයට. මේ කාරණය නිවීහැනෙහිල්ලේ තේරුම් ගන්න බලන්න.

පුද්ගලයාට අතීතයක් අනාගතයක් මේ මොහොතක් මැවෙන්නෙ ආයතන හයේ අත්දැකීම් වලට සාපේක්ෂවයි. ඉන් තොරව වෙන ම කාලය කියල එකක් පුද්ගලයාට කල්පනය කරගන්න බෑ. ඉක්මී ගිය අත්දැකීම් පිළිබඳව සංස්කාර මවන්නෙත් මේ මොහොතෙ නම් මතු මතුත් කැමති වන අත්දැකීම් පිළිබඳව සංස්කාර මවන්නෙත් මේ මොහොතෙ නම් දැන් ලබන අත්දැකීම් පිළිබඳ සංස්කාර මවන්නෙත් මේ හොහොතෙ නම් විනිවිද දැකියයුත්තේ මේ මොහොතයි.

දැන් අපි මේ මොහොත විනිවිද දකින ආකාරය පිළිබඳ බුදුවදන තේරුම් ගන්නට බලමු. මේ මොහොත විනිවිද දකිනව

කියන්නේ තණ්හාවෙන් මැද වැහෙන්න ඉඩක් නැතුව යනව කියන එකයි. දහම්මග දන්න කෙනා වර්ණරූපයක් පෙනෙනවත් සමගයි ඇස උපදින්නෙ කියල දන්නව. ශබ්දයක් ඇහෙනවත් සමගයි කන උපදින්නෙ කියල දන්නව. ගන්ධයක් දැනෙනවත් සමගයි නාසය උපදින්නෙ කියල දන්නව. රසයක් දැනෙනවත් සමගයි දිව උපදින්නෙ කියල දන්නව. ඵොට්ඨබ්බයක් දැනෙනවත් සමගයි කය උපදින්නෙ කියල දන්නව. සංකල්පයක් ඇතිවීමත් සමගයි මනස උපදින්නෙ කියල දන්නව. ඉන්ද්‍රියයන් උපදින්නේ ඒවාට අදාළ අරමුණු ඉදිරිපත් වී ඇත්නම් පමණයි. අරමුණු උපදින්නේත් ඉන්ද්‍රියයන් උපදිනවාත් සමගයි. මේ ඉන්ද්‍රියයන්ට අදාළ අරමුණු ඉක්මී ගියා කියන්නේ අනිත්‍ය වුණා කියන එකයි. ඒ සමග ම ඉන්ද්‍රියයනුත් අනිත්‍යයට යනව. ඒ අනුව ඉන්ද්‍රියයන් උපදින්නෙත් අරමුණු උපදින්නෙත් මේ මොහොතෙ. දහම්මග දන්න කෙනා මෙතැනදි ක්‍රියා කරන්නෙ කොහොම ද, කියල දැන් බලමු. දහම්මග දන්න කෙනා අතීත ඇස, අනාගත ඇස අනිත්‍යයි කියල දකිනව. **(චක්ඛුං අනිච්චං අතීතානාගතං)** මින් මොහොතකට කලින් හෝ අරමුණක් දකිද්දී උපන් ඇස දැන් අනිත්‍ය වෙලා. මතු යමක් ඇසින් අරමුණු කරගන්න කැමති වෙනවා නම් ඒ ඇසත් අනිත්‍යයි. මේ මොහොතේ උපදින ඇසත් අනිත්‍යයි කියන එක කියන්න ම දෙයක් නෑ. **(කො පන වාදො පච්චුප්පන්නස්ස)** ඔය විදියට ම අතීත අනාගත රූපත් අනිත්‍යයි, කියල දකිනව. **(රූපා අනිච්චා අතීතානාගතා)** මේ මොහොතෙ උපදින රූපත් අනිත්‍යයි කියල කියන්න ම දෙයක් නෑ. මේ විදියට අතීත අනාගත හා මේ මොහොතේ ඉන්ද්‍රියයනුත් නිමිතිත් අනිත්‍ය බව දකිමින් අතීත ඇසෙහි අපේක්ෂාව නැතිකරගන්නව. **(අතීතස්මිං චක්ඛුස්මිං අනපෙක්ඛො හොති)**අතීත රූප වල අපේක්ෂාවත් නැතිකරගන්නව. **(අතීතෙසු රූපෙසු අනපෙක්ඛො හොති)**අනාගත ඇස පතන්නෙ නෑ. **(අනාගතං චක්ඛුං නාභිනන්දති)** අනාගත රූප පතන්නෙත් නෑ. **(අනාගතෙ රූපෙ නාභිනන්දති)**මේ විදියට අතීතයෙන් අනාගතයෙන් මිදෙමින් මේ මොහොතේ උපදින ඇස පිළිබඳවත් මේ මොහොතේ අරමුණු වන රූප පිළිබඳවත් **(පච්චුප්පන්නානං රූපානං)**ප්‍රඥාවෙන් යුක්තව කලකිරීම පිණිස යොමු වෙනව. **(නිබ්බිදාය)** නො ඇලීම

පිණිස යොමු වෙනව. **(විරාගාය)**නිරෝධය පිණිස යොමු වෙනව. **(නිරොධාය පටිපන්නො හොති)- (සං: නි: 4, දුතිය අජ්ඣත්තානිච්ච සූත්‍රය, 08 පිට)** හැම ආයතනයක් ගැනමත් මේ ආකාරයටයි, වැඩියයුත්තෙ.

මේ යොමු වීම තමයි ප්‍රතිපදාවට බැසගන්නව කියන්නෙ. **"පටිපන්නො හොති"** කියන්නෙ පටිපදාවට බැසගත්ත කෙනෙක් වෙනව කියන එකයි. මේ ප්‍රතිපදාවෙහි නියැලෙන පමණට තමයි, ඉන්ද්‍රිය අත්දැකීම් ලෝකයෙන් නිදහස් වීම සිද්ධවන්නෙ. ඉන්ද්‍රිය අත්දැකීම් ලෝකය කියන්නෙ විඤ්ඤාණයේ මැවෙන නාමරූප ලෝකය බව තේරුම් ගන්න ඕන. නාමරූප කිව්වෙ විඳීම් හැඳිනීම් කල්පනය කිරීම් ඔස්සේ නිමිති කරගන්නා රූප බව තේරුම් ගන්න ඕන. ඔය විදියට විඤ්ඤාණයත් එහි මැවෙන නාමරූපත් අනිත්‍ය වන බවයි, තේරුම් ගතයුත්තෙ. කෙලෙස් තුළින් ලෝකය අත්දකින කොට නාමරූප මැවීමක් කියල පුහුදුන් සිතට පෙනෙන්නෙ නෑ. ඉතින් ඇලෙනව ගැටෙනව රැවටෙනව. සමාධිගුණයකුත් වඩා ගත්තොත් පුහුදුන් සංජානන මට්ටම ඉක්මවමින් අභිජානන මට්ටමින් වෙසෙස් නුවණින් බලන්න පහසු වෙනව. පිරිසිඳ දැක්මෙන් ප්‍රතිපදාව කෙළවර වෙනව. එතැනින් දුක් මැවීම නිමයි.

## දෘෂ්ටීන්ගෙන් මිදීමට මේ මොහොත දැකීම

මේ මොහොතේ සමුදය වන සිත නුවණින් දකිනවා නම් දෘෂ්ටි බිහිවෙන්නෙ නෑ. සත් වශයෙන් ඇති යමක් පිළිගන්නා තැන දෘෂ්ටි බිහිවෙනව. 'සත්' යන්නෙහි අරුත 'ඇති බව' යන්නයි. 'සත්‍යය' යන වචනයෙන් ලෝකයා බලාපොරොත්තු වෙන්නේ 'ඇති දෙය' යන්නයි. 'සත්වයා' යන්නෙන් බලාපොරොත්තු වෙන්නෙ 'ඇත්තා' යන්නයි. මෙහෙම හිතන ලෝකයා කැමති වෙන්නෙ දිගින් දිගට පවතිනව දකින්න. 'මම පවතිනව. දේවල් පවතිනව' කියන තැන ඉඳගෙනයි, හිතන්නෙ. මේ තමයි, 'භව' කියන ස්වභාවය. කලක් තිබිල නැතුව යන එකට කියනව 'විභව' කියල. භවය හොඳයි කියල හිතන කෙනා තමයි, සදාකාලික බවක් පිළිගන්නෙ. ඒ තමයි, ශාශ්වත දෘෂ්ටිය. විභවය හොඳයි, කියල හිතන කෙනා කලක් තිබිල නැති වීමක් පිළිගන්නව. ඒ තමයි උච්ඡේද දෘෂ්ටිය. මම ඉන්නව දේවල් තියෙනව කියල ගත්ත තැන මේ දෘෂ්ටි බිහිවෙනවා ම යි.

මෙහෙම දෘෂ්ටියට වැටිල ඉන්න ලෝකයාට සම්‍යක් සම්බුදුවරයන් වහන්සේ නමක් භව නිරෝධයට ධර්මය දේශනා කරනව. භවයට ඇලුණ, ගැලුණ, ඉන් සතුටු වන අයට භව නිරෝධය පිණිස දම් දෙසන කොට එහි සිත් වැදගන්නෙ නෑ. පහදින්නෙ නෑ. පිහිටන්නෙ නෑ. ස්ථිරව වෙන්නෙ නෑ. මේ විදියට ඇතැම් කෙනෙක් (භව නිරෝධයෙහි) පසුබානව. මේ තමයි, භවය හොඳයි කියල ගන්න ශාශ්වත දෘෂ්ටිය ඇති අයගෙ පසුබැම් ස්වභාවය. **(ඔලීයන්ති එකෙ)**

විභවය හොඳයි කියල ගන්න අය හිතන්නෙ මෙහෙමයි. යම් හෙයකින් කයෙහි බිඳීමෙන් පසු මේ ආත්මය සිඳේ නම් නැසේ නම් මරණින් මතු නො වේ නම් එය ම ශාන්තයි, ප්‍රණීතයි, ඇත්තත් ඒකයි, කියල හිතනව. උච්ඡේද දෘෂ්ටිය ඇති අයගෙ අතිධාවනකාරී ස්වභාවය ඕකයි. **(අතිධාවන්ති එකෙ)**ඔවුන් භවයෙන් මිදෙන්න ප්‍රතිපදාවක් දන්නෙ නෑ. මේ සකස් වෙන්නෙ භව විභව දෘෂ්ටි දෙකයි.භවයට ඇලෙන කොට භවතණ්හාව. විභවයට ඇලෙන කොට විභවතණ්හාව.

මේ භවදිට්ඨි විභවදිට්ඨි දෙකෙන් ම මිදෙන්න නම් විශේෂ නුවණකින් බලන්න වෙනව. ඇත්ත දකින්නේ නුවණැස ඇති අය ම යි. **(චක්ඛුමන්තො ච පස්සන්ති)** මෙතැනදි බුදුරජාණන් වහන්සේ **භව විභව** යන වචන දෙක වෙනුවට **භූත** කියන වචනය පාවිච්චි කරනව. **භූත** කියන්නෙ සිදු වූ කියන තේරුම ඇති අතීත කෘදන්ත පදයක්. එහෙමයි කියල දුර

අතීතයක් ගැන හිතන්න ඕන නෑ. අරමුණු අත්දකින අවස්ථාවේ රූප වශයෙන් විඳුන වශයෙන් හැඳිනීම් වශයෙන් චේතනා වශයෙන් දැනීම් වශයෙන් ඉදිරිපත් වුණ ස්කන්ධ ගැන කියන කොට **භූත** කියන වචනයයි යොදන්න වෙන්නෙ. ස්කන්ධ උපන් කල්හි ම ස්කන්ධ වශයෙන් ඒ මොහොතෙ ම දකිනවා නම් එසේ දැක එහි කලකිරීමට නො ඇලීමට නැති කිරීමට යොමු වෙනව නම් එබඳු නුවණින් යුක්ත අයයි, ඇති සැටියෙන් (යථාභූත වශයෙන්) දකින්නෙ. මේක තමයි දුකින් මිදෙන ප්‍රතිපදාව. ප්‍රතිපදාව වැඩීමට මේ මොහොත උපයෝගි කරගතහැකි වෙන්නෙ ඔය විදියෙන්. **(භූතං භූතතො පස්සති, භූතං භූතතො දිස්වා භූතස්ස නිබ්බිදාය විරාගාය නිරොධාය පටිපන්නො හොති.)-(ඛු: නි: 1, ඉතිවුත්තකපාළි, දිට්ඨිගත සූත්‍රය, 376 පිට)**

මේ භූත කියන තත්ත්වය සකස් වෙන්නෙ ආයතන ක්‍රියාකාරිත්වය තුළයි. එය සිදු වෙන්නෙ මේ මොහොතෙ. බාහිර ලොකෙ දේවල් දිගින් දිගට තියෙනව කියල ගන්නෙත් තිබිල ඉවර වෙනව කියල ගන්නෙත් මම ඉන්නව කියල හිතාගත් පුද්ගලයා. මොහොතක් මොහොතක් පාසා සිදුවෙමින් තියෙන පෙනෙනවා, ඇසෙනවා, ආඝ්‍රාණය වෙනවා, රසදැනෙනවා, ස්පර්ශවෙනවා, කල්පනාවෙනවා කියන සිදුවීම තුළයි, ලෝකය මැවෙන්නෙ. අත්දකින මම මැවෙන්නෙ. දැන් අපි දන්නව මනසිකාරය යොමු වෙලා සළායතනික වශයෙන් ස්පර්ශ වන අරමුණු විඳීම් හැඳිනීම් චේතනා වශයෙන් වෙන්කර දැනගැනීම් ක්‍රියාවලියක් තමයි, මේ විඤ්ඤාණයේ මැවෙන්නෙ කියල. නාමරූප සමුදයෙන් සිත සමුදය වෙනව **(නාමරූප සමුදයා චිත්තස්ස සමුදයො)**කියල කියන්නෙ ඕකයි. නාමරූප නිරුද්ධ නම් හිතත් නිරුද්ධයි. **(නාමරූපනිරොධා චිත්තස්ස අත්‍ථගමො)-(සං: නි: 5 (1), සමුදය සූත්‍රය, 330 පිට)** මේ වැඩකරන්නෙ 'ඉමස්මිං සති ඉදං හොති' **(මෙය ඇති කල්හි මෙය වේ)**'ඉමස්මිං අසති ඉදං න හොති' **(මෙය නැති කල්හි මෙය නො වේ)**කියන ධර්මන්‍යායය. එය අතීතයවත් අනාගතයවත් නොවෙයි.

නුවණැසින් දකින්න ඕන ධර්මතාව එයයි. මෙතන සමුදය වෙන්නේ මනසිකාරය යෙදෙන කොට ස්පර්ශය වෙන රූපයි. **(රූප)** ඒ පිළිබඳ විඳීමයි. **(වෙදනා)** හැඳිනීමයි. **(සඤ්ඤා)** විඳීමට හැඳිනීමට අනුරූප චේතනායි. **(සංඛාරා)** අරමුණ වෙන්කර දැනගැනීමයි. **(විඤ්ඤාණ)** මේ තමයි සිතක අවයව. ස්කන්ධ කියන්නෙ මේවට. මේ පහ ලං වී අල්ලාගත්ත නිසා පංචඋපාදානස්කන්ධ කියනව. මේ ස්කන්ධ මුණගැසුනේ මනසිකාරයට. **(මනසිකාරසම්භවා සබ්බෙධම්මා)** මේ ධර්ම සමුදය වුනේ නාමරූප ස්පර්ශය ප්‍රත්‍යයෙන්. **(ඵස්සසමුදයා**

**සබ්බෙධම්මා)** මේ ක්‍රියාවලියට මුල් වුනේ ඡන්දරාගය. **(ඡන්දමූලකා සබ්බෙධම්මා) (අං: නි: 5, කිංමූලක සූත්‍රය, 344 පිට)** ඒ කියන්නෙ තණ්හාව.

තණ්හාව තමයි පුද්ගලත්වය උපදවන්නෙ. **(තණ්හා ජනෙති පුරිසං)- (සං: කි: පඨමජනෙති සූත්‍රය, 68 පිට)** තණ්හාවට ප්‍රත්‍යය වෙන්නෙ විඳීනය. තණ්හාව ප්‍රත්‍යය කරගෙනයි, උපාදානය (ලං වී අල්ලාගැනීම) පවතින්නෙ. මොනව ද අල්ලගන්නෙ. රූප, විඳීන, සංඥා, සංස්කාර, විඥාන. සිදුවන්නේ ප්‍රත්‍ය සම්බන්ධතාවක් පමණක් නම්, අල්ලගන්නෙ කවුද? අන්න 'මම' එළියට පණින තැන. යථාභූත දැක්මට අනුව රූපසමුදයට ප්‍රත්‍යය වෙන්නෙ ආහාර. විඳීනයට සංඥාවට සංස්කාර වලට ප්‍රත්‍යය වෙන්නෙ ඵස්සය. විඥානයට ප්‍රත්‍යය වෙන්නෙ නාමරූප. මමෙක් පේන්න නෑ. මේ නැති මම කෙනෙක් මැවෙන්නෙ උපාදානය ඇති තැන. රූපය උපාදානය කොට 'මම වෙමි' යන්න වේ. **(රූපං උපාදාය අස්මීති හොති)** විඳීනය උපාදානය කොට 'මම වෙමි' යන්න වේ. **(වෙදනා උපාදාය අස්මීති හොති)** සංඥාව උපාදානය කොට 'මම වෙමි' යන්න වේ. **(සඤ්ඤං උපාදාය අස්මීති හොති)** සංස්කාර උපාදානය කොට 'මම වෙමි' යන්න වේ. **(සංඛාරෙ උපාදාය අස්මීති හොති)** විඥානය උපාදාන කොට 'මම වෙමි' යන්න වේ. **(විඤ්ඤාණං උපාදාය අස්මීති හොති)- (සං: නි: 3, ආනන්ද සූත්‍රය, 180 පිට)** දැන් මම මැවිල. විඥානයේ පිළිබිඹු වන නිමිති මගේ ලෝකය වෙලා.

ඉතින් රැවටෙමින් ඇලෙනව. **(ලෝභ)** රැවටෙමින් ගැටෙනව. **(ද්වේෂ)** ඇලුනේ නැතත් ගැටුනේ නැතත් රැවටිල්ල තියෙනව. **(මෝහ)**උපාදනය ප්‍රත්‍යයෙන් දැන් සකස් වෙන්නේ භවය. සමහරු භවයෙහි සතුටු වෙවී **(සක්කායාභිරතියෙන් යුතුව)** සදාකාලික සැප තැනක් හොයනව. ඒ අය ශාශ්වත දෘෂ්ටියට වැටිල ඉන්නව. නිවන ගැන හිතන්නෙත් ශාශ්වත දෘෂ්ටියෙන්. සමහර අය විභවය හොඳයි, ඒක තමයි ඇත්ත කියල උච්ඡේද දෘෂ්ටියට වැටිල ඉන්නව. ඔවුන් ද **සක්කායාභිරතියෙන්** මිදිල නෑ. සිදුවීම් මනසේ චිත්‍රණය වන ස්වභාවයන් බව දන්නෙ නෑ. යම් සේ සිදුවන්නේ ද ඒ ආකාරය පිළිබඳව ඥානදර්ශනයක් **(යථාභූතං ඤාණදස්සනං)**ඔවුන්ට නෑ. භවයට ම ඇලුණ ඔවුන් ජාති ජරාමරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාසයන්ගේ සංසිඳීමක් දකින්නෙ නෑ. එහෙම අයට බුදුරජාණන් වහන්සේ වදාරණ නිවන පෙනෙන්නෙත් උච්ඡේදයක් හැටියට. දහම හරිහැටි දැනගන්න තුරු හැම කෙනෙක් ම ඉන්නෙ ඔය තත්ත්වයෙ. මේ මනසේ චිත්‍රණය වන

සළායතනික ලෝකයේ අනිත්‍ය බව දුක් බව අනාත්ම බව මගේ ය, මම ය, මාගේ ආත්මය ය ගතයුත්තක් නොවන බව දකින්නේ යථාභූත ඤාණදස්සනයෙන් යුතු වන විටයි. දිගු කලක් සසර ඇදී ආවේ ඒ තරම් කාලයක් ම මේ සිත විසින් රවටනු ලැබූ නිසා ම ය. **(දීඝරත්තං ඛො හො අහං ඉමිනා චිත්තෙන නිකතො වඤ්චිතො පලුද්ධො)-(මඃ නිඃ 2, මාගන්දිය සූත්‍රය, 302 පිට)**

ප්‍රත්‍යයන්ගෙන් උපන් **(පච්චුප්පන්න)** බව නො දැක නිමිති පිළිබඳව මම ය, මගේ ය යන හැඟීමෙන් යුතුව ලෝභයෙන් ද්වේෂයෙන් මෝහයෙන් හැසිරෙනකොට රැස්වෙන්නේ රාගානුසය. පටිඝානුසය. අවිජ්ජානුසය. තවත් විදියකින් කිව්වොත් භවය සැකසෙන කර්ම. කර්මයට සැප හෝ දුක් හෝ විපාක ලැබෙනව. ලැබෙන සුවදුක් මම මගේ කියල ගන්නෙ නැතිව කර්ම විපාක කියල දකිනව නම් කර්ම ගෙවෙනව මිසක් භවයට පොලී වෙන්නෙ නෑ. සළායතනික නාමරූප ලෝකය අනිත්‍ය දුක්ඛ අනාත්ම වශයෙන් දකිනව නම් අලුත් භවකර්ම බිහිවෙන්නෙත් නෑ. සළායතන නිරෝධය ම යි නිවන. යම් තැනෙක ඇස, කන, නැහැය, දිව, කය, මන නිරුද්ධ වේද, රූප, සද්ද, ගන්ධ, රස, ඵොට්ඨබ්බ, ධම්ම මැකී යේ ද, ඒ ආයතනය දැනගන්න යයි බුදුරජාණන් වහන්සේ වදාරණව. **(සෙ ආයතනෙ වෙදිතබ්බෙ)- සංඃ නිඃ 4, කාමගුණ සූත්‍රය, 206 පිට)** භික්ෂූන්ගෙන් ඇරයුම් ලැබ ඒ බුද්ධ වචනයට අරුත් දෙන ආනන්ද හිමියෝ සළායතන නිරෝධය සළකා භාග්‍යවතුන් වහන්සේ මෙය වදාරණ ලද බව පවසනව. **(සළායතනනිරොධං ඛො එතං ආවුසො භගවතා සන්ධාය භාසිතං)- (එ, ම 210 පිට)** ඊට අටුවා සපයන බුද්ධඝෝෂ හිමි සළායතන නිරෝධය යනු නිවන බව දක්වනව. **(සළායතනනිරොධො වුච්චති නිබ්බානං.)-(සාරත්ථප්පකාසිනී 3, 25 පිට හේඃ මුඃ)**

## ප්‍රහාණය කළයුතු අකුසල් මුල්

අප ජීවත් වන්නේ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පස්කම්ගුණ ඇති ලෝකෙක. මිනිස් කයකින් ඉන්න කොට මානුෂික පංචකාමගුණය ලැබෙනව. ඇහැට වර්ණරූප පෙනෙනව. කනට ශබ්දරූප ඇහෙනව. නැහැයට ගන්ධරූප ලැබෙනව. දිවට රසරූප ලැබෙනව. කයට පහස ලැබෙනව. මනස මේ අත්දැකීම් භුක්තිවිඳිනව. මේ ක්‍රියාවලියෙ වරදක් දොසක් පුද්ගලයට පෙනෙන්නෙ නෑ. මේවා ලබාගන්න තියෙන ඕනකමට කියනව රාගය කියල. ඒ ඕනකම් සපුරාගන්න බාධා ඇති වෙනකොට ද්වේෂය ඇති වෙනව. ද්වේෂය නිසා ගැටෙනව. ඇලෙන්න ගැටෙන්න සූදානම් වෙච්ච මම කෙනෙකුත් ඉන්නව. ඇලෙන්න ගැටෙන්න දේවලුත් තියෙනව. ඇලුනෙ නැතත් ගැටුනෙ නැතත් දේවලුත් තියෙනව. මමත් ඉන්නව කියලයි හැමෝ ම හිතන්නෙ. ඔය ස්වභාවය තමයි මෝහය කියන්නෙ. ඉතින් මේ ස්වභාවය තිබුණම මොකද, කියලයි, සාමාන්‍ය පුද්ගලයා හිතන්නෙ. මේකෙ වරදක් දකින්නෙ නෑ. පංචකාමගුණ හැකිතාක් දිනාගන්න පුළුවන් නම් ඒක ජීවිතයේ සාර්ථකත්වයක් කියලයි, හිතන්නෙ. ඒ නිසා තරඟකාරී ලෙස කාමගුණ සතුකර ගැනීමේ ව්‍යායාමයක වැඩිවශයෙන් මනුෂ්‍යයා යෙදිල ඉන්නව.

එක පරිබ්‍රාජක කෙනෙක් දවසක් ආනන්ද හාමුදුරුවන් මුණගැහෙන්න ආව. පරිබ්‍රාජක කියන්නෙ හැමතැන ම ඇවිදින කෙනෙක් කියන එකයි. ඒ ඇවිදින්නෙ නිකම්ම නොවෙයි. පොදු සම්මත ලෝකයෙන් ඈත් වෙලා යම් ගැඹුරු ප්‍රශ්න කොටසක් හිතේ තියාගෙන ඒවාට නිසි පිළිතුරු දන්න කෙනෙක් ඉන්නව නම් ඒ ඇසුර ලබාගෙන සත්‍යාවබෝධය ලබන්නයි. ඉතින් ආනන්ද හාමුදුරුවන් වහන්සේ හම්බවෙන්න ආ ඡන්න කියන මේ පරිබ්‍රාජකයා උන්වහන්සේගෙන් මෙහෙම අහනව.

භවත් ආනන්දයෙනි, ඔබවහන්සේලාත් රාගය ප්‍රහාණය කරන්න කියනව. ද්වේෂය ප්‍රහාණය කරන්න කියනව. මෝහය ප්‍රහාණය කරන්න කියනව. ඔබවහන්සේලා එහෙම කියන්නේ රාගයේ ද්වේෂයේ මෝහයේ මොන වැරැද්දක් දැකල ද?

01. එතැන දී ආනන්ද හාමුදුරුවො මෙහෙම ප්‍රකාශ කරනව. කෙනක් රාගයෙන් රත් වුණාම, රාගසිතිවිල්ලට යට වුණාම, හැම පැත්තෙන් ම රාගය විසින් යටකරගත්තම තමන්ට ම දුක් පිණිසත් හිතනව. අනුන්ට දුක් ඇති වෙන විදියටත් හිතනව. තමන් හා අනුන් කියන දෙපසට ම දුක් පිණිසත් හිතනව.

තමන්ගේ හිතේ හටගත්ත දුක් දොම්නසක් විඳිනව. රාගය බැහැර වෙලා නම් තමන්ට දුක් ඇතිවෙන විදිහට හිතන්නෙ නෑ. අනුන්ට දුක් ඇතිවෙන විදිහට හිතන්නෙත් නෑ. ඒ දෙපසට ම දුක් ඇතිවෙන විදිහට හිතන්නේ නෑ. දුක් දොම්නසුත් නෑ.

02. කෙනක් රාගයෙන් රත් වුණාම, රාගයට යට වුණාම, හැම පැත්තෙන් ම රාගය විසින් යටකරගත්තම කයින් දුසිරිත් කරනව. වචනයෙන් දුසිරිත් කරනව. සිතින් දුසිරිත් කරනව. රාගය බැහැර වෙලා නම් කයින් වචනයෙන් සිතින් දුසිරිත් කරන්නෙ නෑ.

03. කෙනෙක් රාගයෙන් රත් වුණාම, රාගයට යට වුණාම, හැම පැත්තෙන් ම රාගය විසින් යටකරගත්තම තමන්ට වැඩ සැලසෙන හැටි ඇතිසැටියෙන් දන්නෙ නෑ. අනුන්ට වැඩ සැලසෙන හැටි ඇති සැටියෙන් දන්නෙ නෑ. ඒ දෙපසට ම වැඩ සැලසෙන හැටි ඇති සැටියෙන් දන්නෙ නෑ. රාගය බැහැර වෙලා නම් ආත්මාර්ථයත් දන්නව. පරාර්ථයත් දන්නව. උභයාර්ථයමත් දන්නව.

මේ ආකාරයෙන් ම ද්වේෂය ගැනත් මෝහය ගැනත් ආනන්ද හාමුදුරුවො කරුණු පැහැදිලි කළා. ඒ අනුව අපට පැහැදිලිව පෙනෙනව, රාගයත් ද්වේෂයත් මෝහයත් පුද්ගලයාටත් සමාජයටත් මානසික දුක් ඇතිකරනව. කායදුශ්චරිතයත් වචීදුශ්චරිතයත් මනෝදුශ්චරිතයත් ඇති කරනව. ආත්මාර්ථය පරාර්ථය අඳුනන්නෙත් නැතුව යනව.

ඒ නිසා මේ රාගය, ද්වේෂය හා මෝහය ඇතිසැටිය දැකීම වහල දානව. **(අන්ධකරණො)** නුවණැස පිබිදීමට බාධා කරනව. **(අචක්ඛුකරණො)** අඥාන බව ඇති කරනව. **(අඤ්ඤාණකරණො)**ප්‍රඥාවට පවතින්න බෑ. **(පඤ්ඤා-නිරෝධිකො)** දුක පැත්තටමයි අයිති වෙන්නෙ. **(විඝාත-පක්ඛිකො)** නිවන පිණිස පවතින්නෙත් නෑ. **(අනිබ්බාණ-සංවත්තනිකො)- (අං: නිඃ 1, තිකනිපාත, ආනන්දවග්ග, 1 සූත්‍රය, 384 පිට)** ඇවැත්නි, මෙන්න මේ ආදීනව දැකලයි, රාගයට ද්වේෂයට මෝහයට ප්‍රහාණයක් පනවන්නෙ. මේ ඡන්න කියන පරිබ්‍රාජකයාට තේරුණා රාගය ද්වේෂය මෝහය ප්‍රහාණය කළයුතු ස්වභාවයක් තමයි කියන එක. රාගය ද්වේෂය මෝහය නිසා පුද්ගලයකු තමන්ටත් අනුන්ටත් දුක් පිණිස හිතනව කියන එක මේ ජීවිතය තුළ දී ම තේරුම් ගන්න පුළුවන්. ඒ වගේ ම රාගය, ද්වේෂය, මෝහය නිසා කයින් වචනයෙන් සිතින්

දුසිරිතට යොමු වෙන්න ඇති ඉඩකඩ වැඩියි කියන එකත්, මේ ජීවිතය තුළ දී ම තේරුම් ගන්න අමාරු නෑ. ඒ වාගේ ම රාගය, ද්වේෂය, මෝහය නිසා පුද්ගලයාට ආත්මාර්ථයත් පරාර්ථයත් දෙක ම තේරුම් ගන්න බැරිවෙනව කියන එකත් මේ ජීවිතය තුළ දී ම තේරුම් ගන්න පුළුවන්.

මේ කාරණය වැටහුණාම ඡන්න පරිබ්‍රාජකයාට ඇති වුණ ප්‍රශ්නය තමයි, එහෙනම්, ඔය රාගය, ද්වේෂය, මෝහය ප්‍රහාණය කරන්න මොකක් හරි ප්‍රතිපදාවක් තියෙනව ද, කියන එක. ඔහු ඇසුව ආනන්ද හිමියන්ගෙන් එහෙම ප්‍රතිපදාවක් තියෙනව ද, කියල. ඔව්, එහෙම ප්‍රතිපදාවක් තියෙනව, කියල ආනන්ද හාමුදුරුවො වදාළ. ඊට පස්සෙ පිරිවැජිය අහනව මොකක් ද, ඒ ප්‍රතිපදාව , කියල.

අනඳ හිමියන්ගේ පිළිතුර මෙකයි. "නිවැරදි දැකීම, නිවැරදි සංකල්පනය, නිවැරදි වචනය, නිවැරදි ක්‍රියාව, නිවැරදි ආජීවය, නිවැරදි උත්සාහය, නිවැරදි සිහිය, නිවැරදි සමාධිය කියන මේ මාර්ගාඞ්ග අට තමයි, රාගය, ද්වේෂය, මෝහය ප්‍රහාණය කරන්න තියෙන, මාර්ගය , ප්‍රතිපදාව." නිවැරදි දැක්ම, නිවැරදි සංකල්පනය අයිති වෙන්නෙ ප්‍රඥාවට. නිවැරදි වචනය, නිවැරදි ක්‍රියාව, නිවැරදි ආජීවය අයිති වෙන්නෙ සීලයට. නිවැරදි වායාමය, නිවැරදි සිහිය, නිවැරදි සමාධිය අයිති වෙන්නෙ සමාධියට.

දැන් මෙතන දක්වන ප්‍රඥාව, දහම් මඟ වඩන පිළිවෙතෙහි හික්මෙන අපට වැදගත් වන ප්‍රඥාවයි. මේ ප්‍රඥාව හඳුන්වන්නෙ 'සේඛපඤ්ඤා' කියල. දහම් ඇසීම තුළින් අවිජ්ජා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, විඳන, තෘෂ්ණා, උපාදාන, භව, ජාති, ජරාමරණ කියන පටිච්චසමුප්පාද ප්‍රත්‍ය සම්බන්ධතාව දකිනවා නම් ඇතිසැටියෙන් ම දුක නුවණින් දන්නව කියල කියන්න පුළුවන්. අවිද්‍යාවෙන් වැහිල තෘෂ්ණාවෙන් බැඳිල සිටින සත්වයාගේ මේ ප්‍රත්‍යසම්බන්ධතාව දුකේ ඇතිවීම කියල නුවණින් දකිනවා නම් ඒ දුකෙහි සමුදය ඇතිසැටියෙන් දැකීමයි. ඒ ප්‍රත්‍යධර්මයන් ගේ නිරෝධය දකිනවා නම් ඒ දුකෙහි නිරෝධය ඇතිසැටියෙන් නුවණින් දැකීමයි. එසේ දකිමින් ආර්යඅෂ්ටාඞ්ගික මාර්ගය දුක නිරුද්ධ කරන පිළිවෙත හැටියට දකිනවා නම්, ඒ තමයි, සේඛ පඤ්ඤා කියන්නෙ.

මේ සේඛ පඤ්ඤාව ඇති කෙනා වරදෙහි බිය දක්නා සුලුව වචනය, ක්‍රියාව, ආජීවය නිරවුල් වන පරිද්දෙන් ශික්ෂා පදයන් සමාදන් වෙමින් ශික්ෂණයට පත් වීම, සේඛ සීලයයි. පිළිවෙත වඩන්නා පිළිබඳ වූ සීලයයි.

මේ විදියට සකස් වන සේඛපඤ්ඤාවත් සේඛසීලයත් සේඛ සමාධිය වැඩෙන්නට උපකාර පිණිස පවතිනව. බුදුදහමේ කථා කරන සම්මා සමාධිය (ධ්‍යාන සිත් හතර) ලෝකෝත්තර මාර්ගාංගයක් වශයෙන් වැඩෙන්නේ දැක්ම, සංකල්ප, වචනය, ක්‍රියාව, දිවිපැවැත්ම යන අඞ්ග අරියා අනාසවා ලෝකුත්තර මග්ගඞ්ගා යන තත්ත්වයෙන් වායාමය හා සතිය ඔස්සේ වැඩීම පදනම් කරගෙනයි. සමාහිතයේ ශක්තිමත් වන විට නිවැරදි ඤාණය, නිවැරදි විමුක්තිය යන අඞ්ග වැඩේ.

මෙසේ සකස් වන සීලය, සමාධිය හා ප්‍රඥාව පිරිපුන් බවට පත්වන විට අසේඛ සීලය වේ අසේඛ සමාධිය වේ. අසේඛ පූඥාව වේ. ඡන්න සූත්‍රයට අනුව රාගයෙත් දොසයේත් මෝහයේත් ආදීනව පැහැදිලිව හඳුනා ගෙන සළායතනික අත්දැකීම් ලැබෙන මොහොතේ ම නුවණින් සැලකීම ප්‍රතිපදාවට විධිමත්ව බැසගැන්ම පිණිස අවශ්‍ය වන සම්මර්ශනය බව දතයුතු ය. මෙතැනදි ක්‍ෂය වෙන්නෙ රාගය, ද්වේෂය, මෝහය.

## අකුසල් මුල් සන්තාපයට හේතුවයි.

බුදු වූ අලුත බුදුරජාණන් වහන්සේ උරුවේලාවේ නේරඤ්ජනා නදීතෙර බෝමැඩ වැඩ වෙසෙනව. ඒ අවස්ථාවේ සතියක් ම විමුක්තිසුඛපටිසංවේදීව වැඩසිටි උන්වහන්සේ ඒ සමාධියෙන් නැගිල ලෝකයා දෙස බුදුනුවණින් බැලුව. මහත් වූ ප්‍රඥාවෙන් මහත් වූ කරුණාවෙන් එසේ බලාවදාරණ බුදුරජාණන් වහන්සේට පෙනුණ ලෝකයා රාගයෙන් උපදින ද්වේෂයෙන් උපදින මෝහයෙන් උපදින නොයෙක් දැවිලි වලින් දැවෙන බව. මුලුමහත් සසර දුක ම ඇතිවෙන්නේ රාගය ද්වේෂය මෝහය නිසා. සංසාර සත්වයො මේ නිසා තනාගන්නා දුක් නා නා මාදිලියෙන් යුක්තයි. මේ ස්වභාවය දුටු බුදුරජාණන් වහන්සේට ඇති වුණේ මහත් ධර්ම සංවේගයක්. ඒ නිසා උන්වහන්සේගේ සිතින් උදාන වාක්‍යයක් ගලා ගියා. ඒ උදානය ටිකක් තේරුම් ගනිමු.

මේ ලෝකයා රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන් හටගත් සංතාපයෙන් යුක්තයි. **(අයං ලොකො සන්තාපජාතො)** ආයතන සයේ ස්පර්ශයට ගැති වෙලා. **(ඵස්සපරෙතො)** ලෙඩ කුඩුවකට ආත්මය කියල කියනව. **(රොගං වදති අත්තතො)** මේ සළායතනික අත්දැකීම් ලෝකෙය ඇසුරෙන් 'මම'කියල 'මගේ' කියල හිතාගැනීම් ස්භාවයක් තියෙනව. **'මඤ්ඤති'** කියන පාලි ක්‍රියාපදයෙන් අදහස් වෙනේනෙ **'හිතාගනියි'** කියන එකයි. ඇස කන නැහැය ආදී ආයතන ඇසුරෙන් ලැබෙන අත්දැකීම් ලැබෙන්නේ විඳීම් හැඳිනීම් චේතනා ඔස්සේ කෙලෙස් තුළින් දැකීමක් බව ඔබ දැන් දන්නව. ඒ විදියට ගත්තාම පුද්ගලයාගෙ අත්දැකීම් කියන්නෙ හිතාගත්ත හිතලු. වෙන මොකුත් නෙවෙයි. ඒ විදියට යම් යම් දේකින් මඤ්ඤනා කරයි ද, ඒවා තමයි මේ අනිත්‍යතාවට යන්නෙ. **(යෙන යෙන හි මඤ්ඤති තතො තං හොති අඤ්ඤථා)**අනිත්‍ය වීමයි ඒ අත්දැකීම් වල ස්වභාවය. ස්ථිරව තියාගන්න බෑ. පවත්වාගන්න ඇති කැමැත්තට තමයි භවතණ්හාව කියල කියන්නෙ. අනිත්‍ය ගතියෙන් යුක්ත මේ භවයේ ඇලුණු භවයට ගැති වුණ මේ ලෝකයා භවය ම කැමති වෙනව. **(අඤ්ඤථාභාවී භවසත්තො ලොකො භවපරෙතො භවමෙවාභිනන්දති)** මෙතැන දී සතුටු වෙන්න තියෙන්නෙ අනිත්‍ය දේවල්. ඒත් ඒවා අනිත්‍ය වෙනව නම් සතුටත් කඩා වැටෙනව. ඒ නිසා ලෝකයා අනිත්‍ය වෙනවට බයයි. **(යදභිනන්දති තං භයං)**නැතිවෙයි කියල බය වෙවී ඉන්නකොට හරිම දුකයි. **(යස්ස භායති තං දුක්ඛං)** ඒ නිසා බුදුරජාණන් වහන්සේ වදාළ ශාසන බ්‍රහ්මචරියාවෙ වෙසෙන්නේ භවයෙන්

මිදීමටයි. **(භවවිප්පහානාය ඛො පනිදං බ්‍රහ්මචරියං වුස්සති)** මේ සාකච්ඡාව කළේ උදානපාලියෙ ලෝකවෝලෝකන සූත්‍රය ඇසුරෙන්. **(ඛු: නි: 1, 192 පිට)**

දැන් අපට පැහැදිලියි, අනිත්‍ය ස්වභාවයට විරුද්ධව පවත්වාගන්න යාමයි දුක, කියන බව. මේ පැවැත්මක් බලාපොරොත්තු වෙන එක තමයි, මෝහය කියන්නෙ. අවිද්‍යාව කියන්නෙ. මේක රැවටීමක්. ඇලෙන්න මමෙක් ඉන්නව, ඇලෙන්න දෙයක් තියෙනව කියල ගන්නකොටයි, ලෝභය වැඩෙන්නෙ. මෝහය ලෝභය තුළත් තියෙනව. ගැටෙන්න මමෙක් ඉන්නව ගැටෙන්න දෙයක් තියනව කියල ගන්නකොටයි, ද්වේෂය වැඩෙන්නෙ. ද්වේෂය තුළත් මෝහය තියෙනව. ඇලුනෙ නැතත් ගැටුනෙ නැතත් නියත මමෙක් ඉන්නව, නියත දේවල් තියනව කියල ගන්න එකටයි මෝහය කියන්නෙ. ඒ අනුව ලොකු ම අකුසලය තමයි මෝහය. ඉතින් මේ රාග, ද්වේෂ, මෝහ නිසා ලෝකයා සන්තාපයට පත් වෙන්නෙ ඒවායින් අකුසල් සකස් වන නිසා. අකුසල්මුල් කියන්නේ ඒ හින්දා.

ඕවා අකුසල්මුල් වෙන්නෙ කොහොම ද, කියලත් තේරුම් ගන්න ඕන. අංගුත්තර තිකනිපාතෙ මහාවග්ගයෙ නවවැනි සූත්‍රයේ **(අං: නි: 1, 358 / 360 පිටු)**මේ කාරණය විස්තර වෙන්නෙ මෙහෙමයි. ලෝභයක් නම් ඒක අකුසලයක්. **(යදපි භික්ඛවෙ ලොභො තදපි අකුසලං)**ලෝභ තැනැත්තා යමක් කයින් වචනයෙන් සිතින් රැස්කරනවා නම් ඒකත් අකුසලයක්. **(යදපි ලුද්ධො අභිසඞ්ඛරොති කායෙ වාචාය මනසා තදපි අකුසලං)**ලෝභියා ලෝභයෙන් මැඩිල ඊට යටත් වූ සිතින් 'මමයි බලවතා, මට බලය පාවිච්චි කරන්න පුළුවන්' කියල අනෙකාට **නැති දේකින්(අසතා)**වධයෙන් බන්ධනයෙන් ධනහානි කිරීමෙන් ගැරහීමෙන් නෙරපීමෙන් යම් දුකක් උපදවනවා නම් ඒකත් අකුසලයක්. **(යදපි ලුද්ධො ලොභෙන අභිභූතො පරියාදින්නචිත්තො පරස්ස අසතා දුක්ඛං උපදහති, වධෙන වා බන්ධනෙන වා ජානියා වා ගරහාය වා පබ්බාජනාය වා බලවම්හි බලත්‍ථො ඉති තදපි අකුසලං)** මෙන්න මේ ආකාරයට ලෝභයෙන් උපන්, ලෝභය හේතු කරගත්ත, ලෝභය ප්‍රත්‍යය කරගත්ත නොයෙක් පවිටු අකුසල ධර්මයන් ඇති වෙනව. මේ ආකාරයට ම, ද්වේෂයෙනුත් මෝහයෙනුත් අකුසල් රැස්වෙන බව දේශනා කරනව.

බුදුරජාණන් වහන්සේ තවදුරටත් භික්ෂූන් වහන්සේලා අමතල මෙහෙම දේශනා කරනව, ඔය කියන අකුසල් වලින් යුක්ත පුද්ගලයා සුදුසු වෙලාවට සුදුසු වචනය කියන කෙනෙක්

නො වෙයි. **(අකාලවාදී)** කියන්නෙ සිදු නො වූවක් ම යි. **(අභූතවාදී)** කියන්නෙ අධර්මයක් ම යි. **(අධම්මවාදී)** හික්මෙන්න සුදුසු දෙයක් කියන්නෙ නෑ. **(අවිනයවාදී)** එහෙම වෙන්නෙ කුමක් නිසා ද? මෙවන් පුද්ගලයා නැති දෙයකින් කෙනකු පීඩාවට පත්කරනව වගේ ම **ඇති දෙයක් කියනු ලබන කල්හිත් (භූතෙන බො පන වුච්චමානො)** ඊට නිඥා කරනව. පිළිගන්නෙ නෑ. මේ කාරණය අනුව බලන කොට කලින් කී දේ බොරු තමයි, කියල ගැටලුව ලිහන්න උත්සාහ ගන්නෙ නෑ.

මෙන්න මේ හින්දා ලෝභයෙන් මැඩුණ පුද්ගලයා අකාලවාදියෙක් වෙනව. අභූතවාදියෙක් වෙනව. අධර්මවාදියෙක් වෙනව. අවිනයවාදියෙක් වෙනව. මෙබඳු පුද්ගලයා ලෝභයෙන් උපන් අකුසල් සිත්වලින් මැඩිල, ඊට යටත් වෙලා මේ ජීවිතයෙදි ම වෙහෙස ආයාසය දැවිලි නිසා දුකසේ වාසය කරනව. එබඳු කෙනා මරණින් මත්තෙ බලාපොරොත්තු වියයුත්තෙ දුගතිය ම තමා. ද්වේෂ, මෝහ අකුසල් මුල් වලිනුත් දුගතිය හදාගන්නෙ මේ ආකාරයට ම බවත් බුදුරජාණන් වහන්සේ දේශනා කළා.

බුදුරජාණන් වහන්සේ මෙතැනදි උපමාවකුත් දෙනව. යම් සේ සල්ගසක් හෝ දැවගසක් හෝ කොලොම් ගසක් හෝ මුදුන දක්වාම වැවුණ මාලුවා වැල් තුනකින් වැහිල ගියාම වැඩීම නතර වෙලා ටිකෙන් ටික මැරිල යනව වාගේ ලෝභයෙන් ද්වේෂයෙන් මෝහයෙන් මැඩුණ කෙනා මේ ජීවිතයෙදිත් වෙහෙස ආයාස දැවිලි සහිතව දුක සේ වාසය කරනව. මරණින් මතු දුගතියටත් වැටෙනව. ලෝභයට ද්වේෂයට මෝහයට අකුසල් මුල් කියන්නෙ ඇයි, කියල දැන් ඔබට හොඳින් වැටහෙනව ඇති.

මේ අකුසල මුල් නිසා සකස් වෙන්නෙ දසඅකුසලය. එහෙනම් කුසල් මුල් නිසා සකස් වෙන්නෙ දසකුසලය බව ඔබට වැටහෙනවා ඇති. දසකුසලය කියන්නෙ කයින් කෙරෙන ප්‍රාණඝාත, හොරකම, කාමමිථ්‍යාචාරය අකුසල් තුනත් බොරුව, කේලම, රළුවදන්, හිස්වදන් යන වචනයෙන් කෙරෙන අකුසල් හතරත් විසමලෝභ, ව්‍යාපාද, දසවස්තුක මිථ්‍යාදෘෂ්ටි යන මනසින් කෙරෙන අකුසල් තුනත් අතහරින එක. මේ අවබෝධය තහවුරු කරගත් කෙනාත් මාර්ගසම්මාදිට්ඨියෙන් නිවන් මගට බැස දුක් කෙළවර කරන්න සුදුසු කෙනෙක් බව සැරියුත් මහරහතන් වහන්සේ සම්මාදිට්ඨි සූත්‍රයෙදි දේශනා කරනව.

අපි මුලින් ම හඳුනාගත්ත රාග ද්වේෂ මෝහ ඇති පුද්ගලයා ස්පර්ශයට ගැති වෙලා දුක්තැවුල් හදාගන්නව කියල. විඳනයට ප්‍රත්‍යය වන්නෙ ඔය ස්පර්ශයනෙ. සුඛවිඳනයට ඇලෙන කොට රාගානුසය වැඩෙනව. දුක්ඛවිඳනයට ගැටෙන

කොට පටිඝානුසය වැඩෙනව. මේ දෙක අන්ත දෙකක් නෙ. අදුක්ඛමසුඛ විඳීනය තමයි මැද. හැම අයුරින් රාගානුසය බැහැර කොට **(සබ්බසො රාගානුසයං පහාය)** පටිඝානුසය දුරුකොට **(පටිඝානුසයං පටිවිනොදෙත්‍වා)** කියල මෙතන කියන්නෙ අන්තදෙක බැහැරකර කියන එකනෙ. දැන් මැද ඉතුරු වෙලා තියෙන්නේ අදුක්ඛමසුඛ කියන මෝහයට වැටෙන කරුණ. මෙතැන දි තමයි, මම වෙමි කියන දෘෂ්ටිය මානය පිළිබඳ අනුසය සිඳදමන්නෙ. **(අස්මීති දිට්ඨිමනානුසයං සමූහනිත්‍වා)** ඒ අනුසය සිඳෙනකොට සිඳෙන්නේ අවිද්‍යාව නමැති මහා මෝහය. අවිද්‍යාව සිඳ විද්‍යාව උපදවා මේ ජීවිතයේ දී ම දුක් කෙළවර කරනව. **(අවිජ්ජං පහාය විජ්ජං උප්පාදෙත්‍වා දිට්ඨෙව ධම්මෙ දුක්ඛස්සන්තකරො හොති)- (මඃ නිඃ 1, සම්මාදිට්ඨි සූත්‍රය, 112 පිට)** හඳුනාගන්නා දහම් කරුණු නිවනට යොමු කරල දකින්න උත්සාහ ගන්න.

## රාගයත් ද්වේෂයත් මෝහයත් එකිනෙකින් වෙනස් වන්නේ කෙසේ ද?

අකුසල මූලයන් තුන ප්‍රතිපදාව වඩන අය හොඳින් අවබෝධ කරගන්න ඕන. දිනක් බුදුරජාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලා අමතල ප්‍රශ්නයක් ඇහැව්ව. ඔය අන්‍ය තීර්ථකයින් ඔබලාගෙන් ඇහැව්වොත් **"රාග, ද්වේෂ, මෝහ කියන මේ ධර්ම තුනේ විශේෂය මොකක් ද අදහස මොකක් ද වෙනස මොකක් ද** , කියල, ඔබලා මොකක් ද, දෙන උත්තරේ?

එතැනදි භික්ෂූන් වහන්සේලා බුදුරජාණන් වහන්සේගෙන් ම පිළිතුරු බලාපොරොත්තු වුනා. එහෙනම් මහණෙනි, හොඳින් මෙනෙහි කරන්නැයි පවසමින් මෙහෙම පිළිතුරු දෙන්නැයි වදාළ. **"ඇවැත්නි, රාගය වරද වශයෙන් අඩුයි, ප්‍රහාණය කරන්න අමාරුයි. ද්වේෂය වරද වශයෙන් බලගතුයි, ප්‍රහාණය කරන්න ලේසියි. මෝහය වරද වශයෙන් බලගතුයි, ප්‍රහාණය කරන්න අමාරුයි."**

| රාගය | ද්වේෂය | මෝහය |
|---|---|---|
| රාගය වරද වශයෙන් බලගතු නෑ. **(අප්පසාවජ්ජො)** | ද්වේෂය වරද වශයෙන් බලගතුයි. **(මහාසාවජ්ජො)** | මෝහය වරද වශයෙන් බලගතුයි. **(මහාසාවජ්ජො)** |
| ප්‍රහාණය කිරීම අමාරුයි. **(දන්ධවිරාගී)** | ප්‍රහාණය කිරීම ලේසියි. **(ඛිප්පවිරාගී)** | ප්‍රහාණය කිරීම අමාරුයි. **(දන්ධවිරාගී)** |

දැන් මෙතනින් බලගතු ම අකුශලය මෝහය බව පෙනෙනව. **මෝහය වරදිනුත් වැඩියි. බැහැර කරන්නත් අමාරුයි.** ඒත් බොහෝ දෙනාට හිතෙන්නෙ රාගයයි ද්වේෂයයි තමයි බලගතු ම කියලයි. මෝහය බලගතු වෙන්නෙ එය රාගය සහ ද්වේෂය දෙකට ම සම්බන්ධ නිසා. මෙතැනදී මේ රාගය, ද්වේෂය හා මෝහය උපදින්නත්, ඉපදිලා බහුලව වැඩෙන්නත් හේතුව මොකක් ද, ප්‍රත්‍යය මොකක් ද කියල බුදුරජාණන් වහන්සේ පැහැදිලි කරල දෙනව. රාගය ඇතිවෙන්න හේතුව වෙන්නේ පුද්ගලයා තමන්ට ප්‍රියයි කියලා හිතන පඤ්චකාමගුණික නිමිතියි. **(සුභනිමිත්තන්තිස්ස වචනීයං)**මේ සුභනිමිති නුනුවණින් මෙනෙහි කරනකොට නො තිබිච්ච රාගය

උපදිනව. උපන් රාගය බහුලව වැඩෙනව. **(තස්ස සුභනිමිත්තං අයොනිසොමනසිකරොතො අනුප්පන්නො චෙව රාගො උප්පජ්ජති උප්පන්නො ච රාගො භියොභාවාය වෙපුල්ලාය සංවත්තති)**

ඊලඟට නූපන්න ද්වේෂය උපදින්නත් උපන් ද්වේෂය වැඩෙන්නත් හේතුව වෙන්නෙ මොකක් ද කියල පැහැදිලි කරනව. ද්වේෂය ඇති වෙන්න හේතුව තමන්ට නුරුස්සන දේ මෙනෙහි කිරීමයි. **(පටිඝනිමිත්තන්තිස්ස වචනීයං)** තමන් කැමති නැති දේ නුනුවණින් මෙනෙහි කරනකොට නො තිබිච්ච තරහව උපදිනව. උපන් තරහව බහුලව වැඩෙනව. **(තස්ස පටිඝනිමිත්තං අයොනිසොමනසිකරොතො අනුප්පන්නො චෙව දොසො උප්පජ්ජති උප්පන්නො ච දොසො භියොභාවාය වෙපුල්ලාය සංවත්තති)**

ඊලඟට නූපන්න මෝහය උපදින්නත් උපන් මෝහය වැඩෙන්නත් හේතුව වෙන්නෙ මොකක් ද කියල පැහැදිලි කරනව. මෝහය ඇතිවෙන්න හේතුව ශුභ, පටිඝ නිමිති නොවුණත් ලැබෙන නිමිති නුනුවණින් මෙනෙහි කිරීමයි. **(අයොනිසොමනසිකරොතිස්ස වචනීයං)**නුනුවණින් මෙනෙහි කරනකොට නො තිබිච්ච මෝහය උපදිනව. උපන් මෝහය බහුලව වැඩෙනව. **(තස්ස අයොනිසොමනසිකරොතො අනුප්පන්නොචෙව මොහො උප්පජ්ජති උප්පන්නො ච මොහො භයොභාවාය වෙපුල්ලාය සංවත්තති)-(අංඃ නිඃ 1, තිකනිපාත, මහාවග්ග, 08 සූත්‍රය, 356 පිට)**

රාගයට හේතු වන ප්‍රිය නිමිතිත් ද්වේෂයට හේතුවන නුරුස්සන නිමිතිත් අපට තේරුම් ගන්න අමාරු නෑ. ඒත් මෙතන තේරුම් ගන්න අමාරු ම කාරණය තමයි, මෝහයට හේතුව. ඒ තමයි, අයෝනිසෝමනසිකාරය. ඒකට අපි සරළ වචනය හැටියට පාවිච්චි කළේ නුනුවණින් මෙනෙහිකිරීම කියල. ඒත් පැහැදිලියි කියල කියන්න බෑ. ඒක පැහැදිලි කරගන්න ටිකක් මහන්සි ගම්මු. නුවණින් **(යොනිසො)** නුනුවණනින් **(අයොනිසො)**කියන ටික මදකට අමතක කරල මෙනෙහිකිරීම **(මනසිකාර)** කියන ටික ඉස්සරවෙලා අරන් බලමු. පොඩ්ඩක් නතරවෙලා බලන්න, ඔබේ හිතට මොනවාද කල්පනා වෙන්නේ කියල. ඔබට උවමනාවක් ඇතත් නැතත් නොයෙක් දේවල් කල්පනා වෙනව. පහුගිය දේවල්, ඉස්සරහට කරන්න තියෙන දේවල්, එහෙම නැත්නම් මේ වෙලාවෙ ම යෙදෙන මොකක් හරි අරමුණක් ගැන, කල්පනා වෙනව ඇති. මනසිකාරය කියන්නෙ ඔය ස්වභාවයට. මෙතැනදි පැහැදිලි වෙනවා ඇති, හැම දෙයක්ම මුණගැසෙන්නෙ මනසිකාරයට නේද, කියල.

**(මනසිකාරසම්භවා සබ්බෙධම්මා) (අං : නි :5 කිං මූලක සූත්‍රය 341 පිට)** මනසිකාරය නැත්නම් තමන් කියල හෝ තමන්ගෙ කියල හෝ තමන්ට කියල හෝ ගන්න දෙයක් තියෙයි ද, කියල හිතල බලන්න. මනසිකාරයට තමයි ඔක්කොම දේවල් පටලැවිල එන්නෙ. එතකොට තියෙන්නෙ එතන අයෝනිසෝමනසිකාරය.

ඔය ඔක්කොම පටලවාගන්නෙ තමන් ඉන්නව කියල දනෙන සියුම් මේ මොහොතෙ. ඒත් පහුගිය දේ වලින්, ඉස්සරහට ඇතැයි කියල හිතෙන දේ වලින් සියුම් මේ මොහොත වැහිල. 'මම ඉන්නව' කියන හැඟීම ඇතිවෙන්නේ සළායතනික රූපයක් අල්ලගෙන. විඳීමක් අල්ලගෙන. හැඳිනීමක් අල්ලගෙන. චේතනාවන් අල්ලගෙන. දැනීම් අල්ලගෙන. **(රූපං උපාදාය අස්මීති හොති, නො අනුපාදාය. වේදනං ....සඤ්ඤං... සංඛාර... විඤ්ඤාණං උපාදාය අස්මීති හොති නො අනුපාදාය)-(සං: නි: 3, ආනන්‍ද සූත්‍රය, 180 පිට)** එතකොට මම කියන්නෙත් දේවල් කියන්නෙත් එකිනෙකට යැපෙන ස්වභාව. ඒ බව නො දැක ඒ ස්වභාව වල ස්ථිරබවක් දකිනව නම් මෝහය, අවිද්‍යාව කියන්නෙ, ඒකටයි. රාගයෙන් ඇලුනෙ මෝහය නිසා. ද්වේෂයෙන් ගැටුනෙ මෝහය නිසා. ඇලුනෙ නැතත් ගැටුනෙ නැතත් මම වෙමි, දේවල් ඇත කියල ගන්නෙත් මෝහය නිසා. මේ මෝහය තමයි, වරද වශයෙන් බලගතු. **(මහාසාවජ්ජ)** අයින් කරන්නත් අමාරු. **(දන්‍ධවිරාගී)**

බුදුරජාණන් වහන්සේ නාම, රූප හා විඤ්ඤාණ වශයෙන් සිතක් බෙදල දැක්වූයේ සංකල්පනා වශයෙන් පටලවා ගන්නා අරමුණු ලෝකය විදසුන් නුවණින් විනිවිද යමින්. සසර නිමකරන්න නම් අපත් මේ සත්‍යය නුවණින් දකින්න ඕන. රාගයයි, ද්වේෂයයි, මෝහයයි ප්‍රහාණය කරන්න පුළුවන් වෙන්නෙ, නාමරූප ලෝකය විනිවිද දැකීමෙන්. එතැනදි අවශ්‍ය වෙන්නෙ යෝනිසෝමනසිකාරය. සංකල්පයන්ගේ ප්‍රභවය හේතු ප්‍රත්‍ය වශයෙන් දකිනව කියන එකයි ඒකෙ අදහස. රාගයෙත් ද්වේෂයෙත් මෝහයෙත් වෙනස දැන් අපට පැහැදිලියි. මේවා අපි තේරුම්ගන්නේ රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන් මිදෙන්න ඕන නිසා. බුදුරජාණන් වහන්සේ ඒවායෙන් මිදීම පිණිස ප්‍රත්‍යය වෙන ධර්ම හැටියට දේශනා කළේ මොනවද කියල දැන් අපි හඳුනගනිමු.

1. අන්‍යතීර්ථකයො ඇහුවොත්, නූපන් රාගය නූපදින්නත් උපන් රාගය ප්‍රහාණය වෙන්නත් ප්‍රත්‍යය වෙන්නෙ මොකක් ද, කියල අශුභනිමිත්තය කියල කියන්න. **(අසුභනිමිත්තන්තිස්ස වචනීයං)**මෙතැනින්

අදහස් වෙන්නෙ කාමගුණික අරමුණු අශුභ වශයෙන් මෙනෙහි කිරීමයි.

2. නූපන් ද්වේෂය නූපදින්නත් උපන් ද්වේෂය ප්‍රහාණය වෙන්නත් ප්‍රත්‍යය වෙන්නෙ මොකක් ද කියල ඇහැව්වොත් මෛත්‍රීචේතෝවිමුක්තියයි, කියන්න. **(මෙත්තාචෙතොවිමුත්තිස්ස වචනීයං)**

3. නූපන් මෝහය නූපදින්නත් උපන් මෝහය ප්‍රහාණය වෙන්නත් ප්‍රත්‍යය වෙන්නෙ මොකක් ද, කියල ඇහැව්වොත් යෝනිසෝමනසිකාරයය, කියන්න. **(යොනිසොමනසිකාරොතිස්සවචනීයං)**

මේ දහම්පත්ඉරුව කියවන ඔබත් දැන් දන්නව, රාගයත් ද්වේෂයත් මෝහයත් එකිනෙකින් වෙනස් වෙන හැටි. ඒවා ප්‍රහාණය කරන්න නම් වැඩිය යුත්තේ මොනවා ද කියලත් දන්නව. සීලයෙහි පිහිටගෙන අසුභමනසිකාරය වඩන්න. මෙත්තාචේතෝවිමුත්තිය වඩන්න. විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූප ලෝකය යෝනිසෝමනසිකාරයෙන් විනිවිද දකින්න. දැන් අපි දැනගතයුතු දේ දැනගත්ත. මොකට ප්‍රමාද වෙන්න ද?

## රාගය ප්‍රහාණයට වැඩියයුතු අසුභ නිමිත්ත

උපන් රාගය ප්‍රහීණ වෙන්නත් නූපන් රාගය නො උපදින්නත් වැඩිය යුත්තෙ අසුභ නිමිත්තය කියල දැන් ඔබ දන්නව. එදිනෙදා ජීවිතයේ දී රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ පංචකාමගුණ අපට නිතර අරමුණු වශයෙන් ලැබෙනව. විශේෂයෙන් කය මුල්කරගත්ත මේ නිමිති ප්‍රිය නම් සිතේ ඇල්මක් ඇති වෙනව. මේ වැඩෙන්නෙ සුභසඤ්ඤා. සසර සුභසඤ්ඤා වැඩුණ නිසා දැනුත් අපි මාංශ කයක් ලබාගෙන ඉන්නව. සද්ධර්මය දැනගන්නකම් හැම කෙනෙක් ම හිතන්නේ අවිද්‍යාවෙන් වැහුන නිසා කය තමන් හැටියට. තණ්හාවෙන් යුක්ත නිසා කය තමාගේ හැටියට.

සං: නි: 2, බාලපණ්ඩිත සූත්‍රයේ බුදුරජාණන් වහන්සේ මෙහෙම දේශනා කරනව. "මහණෙනි, අවිද්‍යාවෙන් වැහුන තෘෂ්ණාවෙන් යුක්ත බාලයාගේ මේ කය හටගත්ත. කුමක් නිසා ද? දුක් කෙළවර කරන්න බඹසර නො වසපු නිසා. ඒ නිසා තිබුණ කය බිඳුනම අනෙක් කයකට පැමිණුනා. කයකට පැමිණුනාම ජාති ජරාමරණ සෝක පරිදෙව දුක් දොම්නස් උපායාස වලින් මිදීමක් නෑ." **(සං: නි: 2, බාලපණ්ඩිත සූත්‍රය, 38 පිට)** එතකොට අපට තේරෙන්න ඕන අසුභය වඩන්නේ නැවත නැවතත් කයකට පැමිණීමේ දුකින් මිදෙන්නට බව.

ප්‍රතිපදාවට බැසගන්න හැම කෙනකුට ම ඕන කරන ඥානදර්ශනයක් තියෙනව. ඒ තමයි, රූපීමය මේ කය සතර මහාභූත රූපයන්ගෙන් හැදුන එකක්. මව්පිය සබඳතාවෙන් ඇරඹුණ එකක්. බත් පිට්ටු ආදියෙන් පෝෂණය වෙන එකක්. අනිත්‍ය එකක්. ඉලීම් පිරිමැදීම් වශයෙන් පවත්වා ගතයුතු එකක්. බිඳී විනාශ වන එකක්. තමන්ගේ මේ විඤ්ඤාණය (නිමිති වෙන් කරල දැනගන්නා ස්වභාවය) කයෙහි බැස සිටිනව. බැඳිල තියෙනව, කියන දැකීම. **(මः නි: 2, මහාසකුළුදායි සූත්‍රය, 356 පිට)** මේ කයෙහි තියෙන්නේ පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන මහාභූතරූප. ඒවා වෙන කොහෙන්වත් ගෙනාපු දේවල් නො වෙයි. මේ බාහිර ලෝකයේ තියෙන ඒවමයි. ආහාර ගන්න කොට, බීම ජාති බොනකොට, හුස්ම ගන්නකොට, ආහාර ගිලින කොට තමයි බාහිර භූතරූප ශරීර ගත වෙන්නේ. ඒ ශරීරගත වෙච්ච දේවල් මගේ කියලත් හිතනව. මම කියලත් හිතනව. මා පිළිබඳ හරවත් දෙය කියලත් ගන්නව. කයට ඕන හරිය පෝෂ්‍ය පදාර්ථ වෙනව. ඉවත් කළයුතු හරිය නවදොරින්, හමෙන් පිට වෙනව. උපාදින්න කයේ හැටි ඔහොමයි. බුදුරජාණන් වහන්සේ අපට කියල දුන්න මහාභූතරූප දැනගන්න අණුදක්න ඕන නෑ.

කෙස් පැලෙන තර්ක ඕන නෑ. පඨවි කියන්නෙ, තද හෝ බුරුල් හෝ ගතියට. ආපෝ කිව්වෙ බැඳෙන ගතියට. තෙත ගතියට. උණුසුම් ගතියට සිසිල් ගතියට තේජෝ කියල කිව්ව. පිම්බෙන, සැලෙන ගතියට වායෝ කිව්ව. තේරුම් ගන්න හරි ලේසියි. මේ භූතරූප වෙන වෙන ම පවතින්නේ නෑ. එකටමයි පවතින්නේ. උදාහරණයක් හැටියට කයේ මාංශය ගත්තොත් එහි පඨවි ගුණය ප්‍රකටව තියෙන නමුත් ආපෝ තේජෝ වායෝ ධාතුගුණත් එහි තියෙනව.

කයේ තියෙන තදගතියට කියනව ආධ්‍යාත්මික පඨවිධාතුව කියල. කෙස්, ලොම්, නිය, දත්, සම, මස, නහර, ඇට, ඇටමිදුළු, වකුගඩු, හෘදයමාංශය, අක්මාව, දලබුව, බඩදිව, පෙනහලු, බඩවැල්, අතුණුබහන්, නො පැසුණු ආහාර, අසුචි කියන්නේ මේ කයේ පඨවි ගතිය වැඩි කොටස්. ආහාර ගන්නකොට බාහිර පඨවිධාතුව කයට එකතු කරගන්නව. බාහිර පඨවිධාතුවත් ආධ්‍යාත්මික පඨවිධාතුවත් දෙකක් නොවෙයි එකමයි. ඒ නිසා ඒවා මගේ කියල, මම කියල, මාගේ ආත්මය කියල ගන්න වටින්නෙ නෑ. මගේ නොවෙයි, මම නොවෙයි, මාගේ ආත්මය නො වෙයි කියල ඇතිසැටියෙන් නුවණින් දකින කොට පඨවිධාතුවෙහි සිත කලකිරෙනව. එහි සිත ඇලෙන්නෙ නැතුව යනව.

කයේ දියර ස්වභාවයට කියනව ආපෝධාතුව කියල. මේ ආපෝධාතුවත් ආධ්‍යාත්මික ආපෝධාතුව බාහිර ආපෝධාතුව වශයෙන් දෙ ආකාරයි. පිත, සෙම, සැරව, ලේ, දහදිය, තෙල්මන්ද, කඳුළු, වුරුණු තෙල්, කෙළ, සොටුවැල්, සඳමිදුළු, මුත්‍රා, තවත් කිසියම් දියරගති ඇති දේ කයේ තියෙනවා නම් ඒ සියල්ල ආධ්‍යාත්මික ආපෝධාතුවයි. මේ සියල්ලත් බාහිර ආපෝධාතුවත් දෙකක් නො වෙයි, එකමයි. එසේ වූ ආපෝධාතුව මගේ කියල, මම කියල, මා පිළිබඳ හරවත් දෙය කියල ගැනීම රැවටීමක් වගේ ම දුක වැළඳගැනීමක්. ඒ බව නුවණින් දකිනකොට ආපෝධාතුවෙහි සිත කළකිරෙනව. එහි සිත ඇලෙන්නෙ නැතුව යනව.

තේජෝධාතුවත් ආධ්‍යාත්මික හා බාහිර වශයෙන් දෙ ආකාරයි. ආධ්‍යාත්මික තේජෝධාතුව නිසා තමයි මේ කය තැවෙන්නෙ. දිරාපත් වෙන්නෙ. දැවෙන්නෙ. කෑමට, බීමට ගත්ත දේවල් ජීර්ණ වෙන්නෙ. මේ කයේ තවත් උපාදින්න තේජෝධාතු ක්‍රියාකාරිත්වයක් තියෙනව නම් ඒ ඔක්කොම බාහිර තේජෝධාතුවෙන් වෙනස් දේ නො වෙයි. ඒ කිසිවක් මගේ ය, මම ය, මගේ හරවත් දෙය ය කියල ගතයුතු නෑ කියල නුවණින්

දකින කොට තේජෝධාතුවෙහි සිත කලකිරෙනව. එහි සිත ඇලෙන්නෙ නැතුව යනව.
වායෝධාතුවත් ආධ්‍යාත්මික හා බාහිර වශයෙන් දෙ ආකාරයි. හුස්ම ගන්නකොට බාහිර වායෝධාතුව ආධ්‍යාත්මික වෙනව. ආහාර ගිලිනකොටත් එහෙමයි. ආධ්‍යාත්මික වායෝධාතුව ශරීරයේ ක්‍රියාත්මක වෙන්නෙ උඩට නැගෙන වාතය, යටට බස්නා වාතය, අතුණු වලත් ඉන් පිටතත් පවතින වාතය, අඟපසඟ චංචල වෙනකොට ක්‍රියාත්මක වන වාතය, ආශ්වාසවාතය, ප්‍රශ්වාසවාතය වශයෙන්. බාහිර වායෝධාතුවමයි මේ ආධ්‍යාත්මික වෙලා තියෙන්නේ. ඒ කිසිවක් මගේ ය, මම ය, මා පිළිබඳ හරවත් දෙය ය, කියල ගන්න බැරි බව නුවණින් දකින කොට එහි සිත් අලවන්න නැති බව වැටහෙනව.
මම, අනෙකා, සැමියා, බිරිඳ, දුව, පුතා, පෙම්වතා, පෙම්වතිය, නෑයා, මිත්‍රයා, සතුරා, අසුවල් ජාතිකයා, අසුවල් කුලේ කෙනා ආදීවශයෙන් අරගෙන තියෙන්නෙ ඔය ධාතු ගොඩවල්. විඥානයෙන් සංඥාවෙන් චේතනාවෙන් වටිනාකම් දීල තියෙන්නේ මහාභූත ගොඩවලට. ඉන්ද්‍රිය සැපතෙහි කැමැත්ත, තරහව, ඇලිමැලි ගතිය, නො සන්සුන් කම, සැකය කියන නීවරණ වලින් මැඬුණ පුද්ගලයා කයෙහි ශුභසංඥා ඇතිකර ගන්නව. එතකොට රාගානුසය වැඩෙනව. සසරෙ වැඩුණ රාගානුසය නිසා දැන් අපි කයකට බැඳිල ඉන්නව. දැනුත් රාගානුසය වැඩුණොත් මතුත් කයට හසුවෙනවා. නුවණ මඳ පුද්ගලයා නැවත නැවතත් මව්ගැබට එන බව බුදුරජාණන් වහන්සේ දේශනා කරනව. **(පුනප්පුනං ගබ්භමුපෙති මන්‍දො)** ඒ නිසා නැවත නැවතත් උපදිනව. මැරෙණවා. **(පුනප්පුනං ජායති මීයති ච)** නැවත නැවතත් අමුසොහොනට ගෙන යනව. **(පුනප්පුනං සීවථිකං හරන්ති) (සං: නි: 1, උදය සූත්‍රය, 310 පිට)** ඇවිදින, සිටින, හිඳින, නිදන මේ කය නැමෙනව. දිගහැරෙනව. ඇට නහරින් බැඳිල. මසින් ආලේපනය වෙලා. හමෙන් වැහිල. නියම ස්වභාවෙ පේන්නෙ නෑ. නොයෙක් කුණප කොටස් වලින් පිරිල. දොරටු නවයකින් අපවිත්‍ර දේ වැගිරෙනව. සමින් ඩහදිය කුණු වැගිරෙනව. යම් වෙලාවක මළොත් ඉදිමුණු නිල් වුණු ඒ සිරුර සොහොනෙ අතහරිනව. නෑයන්ගේ අපේක්ෂාව එතැනින් ඉවරයි. **(අනපෙක්ඛා හොන්ති ඤාතයො)** ඊට පස්සෙ ඒකට ඇදෙන්න සත්තු. ඒ නිසා කයෙහි ඇතිසැටිය නො අඩුව දකින්න ඕන. මේ කය යම් සේ ද ඒ කයත් එසේ ම යි. ඒ කය යම් සේ ද මේ කයත් එසේ ම යි. එහෙම දැකල ආධ්‍යාත්මික කයෙහිත් බාහිර කයෙහිත් ඇල්ම අතහරින්න ඕන. මේ වගේ කයකින් යම් කෙනෙක් උඩඟුකම ඇති කරගන්නව නම්, අනුන්

පහත් කොට සිතනව නම් ඇති සැටිය නො දැකීම හැරෙන්න වෙන මොකක් ද? **(එතාදිසෙන කායෙන යො මඤ්ඤේ උණ්ණමෙතවෙ, පරං වා අවජානෙය්‍ය කිමඤ්ඤත්‍ර අදස්සනා) (සුඃ නිඃ විජය සූත්‍රය, 62 පිට)**

අශුභ මනසිකාරය ගැන පොදු සමාජයට කියනවට අද ඇතැම් කෙනෙක් කැමති නෑ. ඒත් සමාජයේ රාගයට නිමිති බහුල වෙලා. එය වැඩිහිටි මනසටවත් දරන්න බැරි තරම්. ගැටවර මනසක් කොහොම දරන්න ද? ඒ නිසා අද සමාජයේ අශෝභන සිදුවීම්, ජීවිත හානි, මානසික වියවුල් වැඩි වෙලා. සමාජ සම්මත සදාචාර සීමාවන් ආරක්‍ෂා වෙන්න නම් පොදු සමජයටත් අශුභ මනසිකාරය අවශ්‍යයි. සෝතාපන්න ගෘහස්ථයාත් පස්කම් සුව විඳිනව. යුගදිවි පවත්වනව. දරුවන් ලබනව. සළායතනික අත්දැකීම් ලෝකය කියන්නෙ බාහිර දේ වලට නොව විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූප වලට බවත් දන්නව. මතු රාගයෙන් මිදීමත් අපේක්‍ෂා කරනව. එබඳු ගිහිශ්‍රාවකයින්ට රාගය, ලෝභය අපායගමනීය පාපයකට තරම් බලගතු වෙන්නෙ නෑ.

## ද්වේෂය ප්‍රහාණයට වැඩියයුතු මෙත්තා චේතෝවිමුත්තිය

උපන් ද්වේෂය ප්‍රහීණ වෙන්නත් නූපන් ද්වේෂය නො උපදින්නත් වැඩියයුත්තෙ මෙත්තා චේතෝවිමුත්තිය. මෛත්‍රී භාවනාව යනුවෙන් ඔබ වැඩියෙන් ව්‍යවහාර කරන්නේ එයටයි. මින් කරන්නේ කා කෙරෙහිවත් සතුරු සිතක් ඇති නො කරගැනීමට පුහුණු වීම. මෛත්‍රී චිත්තය වැඩියයුත්තෙ සියලු සත්ත්වයන් අරමුණු කරගෙනයි. සියලු දෙනාට ම පාහේ පාඩම් තියෙන මෙත්ත සූත්‍රයෙන් තමන්ට පහසුවෙන් වැටහෙන මට්ටමට සියලු සත්ත්ව සන්තතිය හඳුනාගන්න.

**(සබ්බෙ සත්තා භවන්තු සුඛිතත්තා)- (සුඃ නිඃ, මෙත්ත සූත්‍රය, 44 පිට) (තසා)** තැතිගත් සත්ත්වයෝ, **(ථාවරා)** තැති නො ගත් සත්ත්වයෝ, **(දීඝා)**දීර්ඝ සත්ත්වයෝ, **(මහන්තා)** මහත සත්ත්වයෝ, **(මජ්ඣිමා)** මධ්‍යම ප්‍රමාණෙ සත්ත්වයෝ, **(රස්සකා)** මිටි සත්ත්වයෝ, **(අණුක)** සියුම් සත්ත්වයෝ, **(ථූලා)** තරබාරු සත්ත්වයෝ, **(දිට්ඨා)** පෙනෙන්න ඉන්න සත්ත්වයෝ, **(අද්දිට්ඨා)** පෙනෙන්න නැති සත්ත්වයෝ, **(දූරෙ)**දුර සිටින සත්ත්වයෝ, **(අවිදූරෙ)**ළඟ සිටින සත්ත්වයෝ, **(භූතා)**ඉපදී සිටින සත්ත්වයෝ, **(සම්භවෙසී)** උපතක් සකස් වෙමින් ඉන්න සත්ත්වයෝ. මේ තමයි සත්ත්ව සන්තතිය. තමන්ට හිතාගත හැකි මට්ටමට සත්ත්ව සන්තතිය අරමුණු කරගන්න. තමතමන්ගෙ විඤ්ඤාණ ක්‍රියාවලිය විසින් මවල දෙන නාමරූප ලෝකයට රැවටී සිටින මේ හැම සත්ත්වයෙක් ම අසරණයි. තමනුත් ඒ අතර සිටිමින් අනෙකකුට ද්වේෂ කරන්න තරම් දෙයක් මෙතැන නෑ. ඒ නිසා ඒ සියලු සත්ත්වයෝ සුවපත් වෙත්වා, කියල සියල්ලන්ට මෙත් සිත පතුරවන්න.

බුදුරජාණන් වහන්සේ මතක් කරන්නෙ දිසා හයකට බෙදල මෙත් වඩන්න කියලයි. තමන්ගෙන් ඉදිරි දිශාව, දකුණත් දිශාව, පිටුපස දිශාව, වමත් දිශාව, උඩ දිශාව, යට දිශාව හැටියට දිශා අනුපිළිවෙළ සලකා ගන්න. ඉදිරි දිශාවෙන් ආරම්භ කරන්න. **ඉදිරි දිශාවේ වෙසෙන සියලු සත්ත්වයෝ සුවපත් වෙත්වා.** කියල නැවත නැවතත් මෙනෙහි කරමින් ඉදිරි දිශාවේ අනන්තයට ම සිත යොමු කරන්න. අපි හිතමු එසේ විනාඩි පහක් මෙත් සිත වැඩුව කියල. ඊ ළඟට දකුණත් දිශාවට විනාඩි පහක්. ඔය පිළිවෙළින් දිශා හයට ම මෙත්වඩල උඩ යට සරස සියලු සත්ත්වයන්ට ම මෙත් සිත වඩන්න. මේ සඳහන් කළේ මෙත්තාචේතොවිමුත්තිය වැඩීම පිළිබඳව පමණක් නොව සිවුබඹ විහරණයන් ම වඩන ආකාරය පිළිබඳව බුදුරජාණන් වහන්සේ සූත්‍ර දේශනා වල දක්වා ඇති ආකාරයයි. කලක්

මෙසේ පුරුදු කරගෙන යනකොට සමාධිමත් බවත් අත්දැකගන්න පුළුවන්. ඒ සමාධිමත් බව ගැඹුරුට දියුණු කරන්නත් පුළුවන්.

කෝපය, භීතිය, අසහනය, සැකය, අමනාපය වැනි සෘණාත්මක සිතිවිලි වලට යට වෙවී ඉන්නෙ නැතුව, මෙත්සිතින් කරුණාවෙන් කටයුතු කිරීමෙන් තමයි, අපේ දිවිමගේ සියලු වලගොඩැලි සමහන් කළහැක්කේ. චේතනාව කර්මය බව, අප මේ දැන් ගතකරන දිවියේ ඇස, කන, නැහැය, දිව, කය, මන යනු පුරාණ කර්මය බව බුදුවදන තුළින් අපි දන්නව. කර්ම රැස්කරන්නෙ මමත්‍වය සුවපත් කරන්න ගිහිල්ල. තමන් ම මවන දුක් දොම්නස් වලට බාහිරින් වගකිවයුත්තන් දකින්න ගියාම විඳල ඉවර කරන්න තියෙන කර්ම වලට වැල් පොලිත් එකතු කරගන්නව. අපේ අකුසල කර්ම විපාක අලුත් කර්ම ඇතිකරන්න හේතු වෙන්නෙ ඒ විදියට. සසර සැප දුක් දෙක ම මමත්‍වය ඉදිරියට අරගෙන ගොඩනගන චේතනාමය ක්‍රියාවන්ගේ ප්‍රතිඵල බව තේරුම් ගතයුතුයි. මෙත් සිත මුසු කරගන්නව නම් අලුත් අකුසල කර්ම හැදීම අඩුවෙනව. පරණ කර්ම ණය ගෙවෙන ගමන් අලුතෙන් ණය නො වෙන්නට බුද්ධිමත් වෙන්න ඕන. ව්‍යාපාද විහිංසා සංකල්ප සකස් නො වන පමණට අතහැරීම **(නෙක්ඛම්ම සංකප්ප)** දියුණු වෙනව.

මෙත්තා, කරුණා, මුදිතා, උපෙක්ඛා **(සිව්බඹවිහරණ)** කියන චේතෝවිමුත්ති හතර ම උගන්වන අං: නි: 6, කරජකාය සූත්‍රය පටන් ගන්නේ කර්මය ගැන සිහිපත් කරල. "මහණෙනි, විපාක නොවිඳ දැන දැන කළ, රැස්කළ කර්මයන්ගේ කෙළවර වීමක් මම නො කියමි." **(නාහං භික්ඛවෙ සඤ්චෙතනිකානං කම්මානං කතානං උපචිතානං අප්පටිසංවිදිත්‍වා ව්‍යන්තීභාවං වදාමි.)**විපාක දීම මේ භවයෙදි ම හෝ ඊළඟ භවයෙදි හෝ මතුභවයකදි හෝ වෙන්න පුළුවන්. ලෝභයෙන් ද්වේෂයෙන් මෝහයෙන් නො මැඩුණ ආර්යශ්‍රාවකයා එළඹි සිහියෙන් යුතුව පිළිවෙළින් හතරදිසාවත් උඩත් යටත් වෛර නැති, ව්‍යාපාද නැති මෛත්‍රී සහගතසිත පතුරුවා වාසය කරනව. ඒ තැනැත්තා මෙහෙම දැනගන්නව. "පෙර මගේ සිත නො වැඩූ සිතක්. පටු සිතක්. දැන් මගේ සිත හොඳින් වඩන ලද සිතක්. ලෝභයෙන් ද්වේෂයෙන් මෝහයෙන් කළ යම් කර්මයක් තියෙනව නම් එය ඒ සිතේ ඉතිරිවෙන්නෙ නෑ. **(න තං තත්‍රාවසිස්සති)** එය එහි රැඳෙන්නෙ නෑ. **(න තං තත්‍රාවතිට්ඨති)"** කියල.

ඊළඟට බුදුරජාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලාගෙන් අහනව, "මහණෙනි, ළදරු කල පටන් යම් දරුවෙක් මෛත්‍රී චිත්ත විමුක්තිය වඩනව නම් පව්කමක් කරයි කියල හිතනව ද?" 'ස්වාමීනි, එවැන්නක් නො වේ ම ය'යි භික්ෂූන් වහන්සේලා

පිළිතුරු දුන්න. ඊළඟට 'පව් කරන්නෙ නැත්නම් දුක් ස්පර්ශකරන්න වෙයි ද', කියල ඇසුව. 'පව් කරන්නෙ නැත්නම් කෙසේ නම් දුක් ස්පර්ශ වෙන්න ද'යි භික්ෂූන් වහන්සේලා ප්‍රකාශ කළා. බුදුරජාණන් වහන්සේ මෙත්තාභාවනාව හඳුන්වා දීල තියෙන්නේ කුඩා දරුවකුටත් වටහාගෙන වඩන්න පුළුවන් ආකාරයට. මේවා අපි ප්‍රයෝජනයට ගන්න ඕන.

ඒ නිසා මේ සූත්‍රයේ දී බුදුරජාණන් වහන්සේ ස්ත්‍රී පුරුෂ කවුරුන් විසිනුත් මෙත්තාචේතෝවිමුත්තිය වැඩියයුතු යයි වදාරණව. **(භාවෙතබ්බා බො පනායං භික්ඛවෙ මෙත්තාචේතො-විමුත්ති ඉත්ථියා වා භික්ඛවෙ පුරිසෙන වා.)**ස්ත්‍රියගේ හෝ පුරුෂයාගේ මේ කරජකායය පරලොව ගෙනියන්න බෑ. **(ඉත්ථියා වා භික්ඛවෙ පුරිසස්ස වා නායං කායො ආදාය ගමනීයො.)**මහණෙනි, මනුෂ්‍යයාට ඇතුළත සිතක් තිබෙනව. **(චිත්තන්තරො භික්ඛවෙ මච්චො)** මෙත්සිත වඩන පුද්ගලයා ඒ සිතින් "මේ ලෝකයෙහි ම විසින් මේ කරජකයින් පෙර යම්කිසි පව්කමක් කරන ලද නම් ඒ සියල්ල මෙ ලොවෙහි දී ම වින්ද යුතු වෙයි. එය අනුව යන්නක් නො වන්නේ ය." කියල දැනගන්නව. **(යං බො මෙ ඉධ කිඤ්චි පුබ්බෙ ඉමිනා කරජකායෙන පාපකම්මං කතං, සබ්බං ඉධ වෙදනීයං, න තං අනුගං භවිස්සති)- (අං: නිඃ 6, කරජකාය සූත්‍රය, 554 / 558 පිටු)** මේ විදිහට මෙත්තාචේතොවිමුත්තිය වඩනව නම් අර්හත්‍වයට පැමිණීමට නො ලැබුණොත් මේ ලොව දීම අනාගාමී විය හැකි බව බුදුරජාණන් වහන්සේ දේශනා කරනව. මෙත්තාචේතෝවිමුත්තිය සමථ භාවනාවක් නිසා එමඟින් නිවන් අවබෝධය සිදුවන්නෙ කොහොමද කියන ප්‍රශ්නයත් විසඳගන්න ඕන.

දිනක් ආනන්ද හිමියන් මුණගැසුණ අට්ඨකනාගර නමැති ගෘහපතියා ආස්‍රවයන් ක්ෂය කරල නිවනට පැමිණෙන ධර්මයක් බුදුරජාණන් වහන්සේ දේශනා කරල තියෙනව ද, කියල ඇසුව. එහි දී එකක් නොවෙයි, එකොළහක් ම දේශනා කළා. මෙත්තාචේතෝවිමුත්තියත් ඉන් එකක්. ඒක මෙහෙමයි.

"තවද ගෘහපතිය, භික්ෂුව, මෛත්‍රී සහගත සිතින් එක් දිශාවක් පතුරුවා වාසය කරයි. එසේම දෙවන දිශාව, එසේම තුන්වැනි දිශාව, එසේම සතරවැනි දිශාව, උඩ යට සරස හැමතන්හි ම ලොව සියල්ලන් කෙරෙහි ම විපුල වූ, මහත් බවට ගිය, අප්‍රමාණ වූ, අවෛරී වූ, ව්‍යාපාද නැති මෛත්‍රී සහගත සිතින් පතුරුවා වෙසෙයි. ඔහු මෙසේ සිතයි. මේ මෙත්තාචේතෝවිමුත්තිය සකස් කරගත් දෙයකි. **(අභිසඞ්ඛතා)** චේතනාවෙන් නිපදවන ලද්දකි. **(අභිසඤ්චෙතයිතා)** යමක් සකස්

කරන ලද නම්, චේතනාවෙන් නිපදනව ලද නම් එය අනිත්‍යය. නිරුද්ධවන ස්වභාව ඇත්තේ යයි දැනගනියි. ඔහු එහි සිටියේ ආස්‍රවයන් ක්‍ෂය කිරීමට පැමිණෙයි. ආස්‍රවයන් ක්‍ෂය වීමට නො පැමිණේ නම් එම සමථ විදර්ශනා ධර්මරාගයෙන් ඒ ධර්මයන්හි ඇලී ඕරම්භාගීය සංයෝජන ක්‍ෂය කිරීමෙන් ඕපපාතික වෙයි. බඹලොවින් ආපසු නො එන ස්වභාව ඇතිව එහි ම පිරිනිවෙයි." **(අංඃ නිඃ 6, අට්ඨකනාගර සූත්‍රය, 650 පිට)** දැන් අපට පැහැදිලියි මෛත්‍රී චිත්ත විමුක්තිය විදර්ශනාවට ලක් කිරීමෙන් තමයි, මෙතැනදි නිවන් අවබෝධ වෙන්නෙ, කියන බව. සමථසමාධි චිත්තයකත් තියෙන්නෙ කාමසංඥා වලට වඩා සියුම් වූ පංචඋපාදානස්කන්ධ. ඒ ස්කන්ධ අනිත්‍යාදී වශයෙන් සම්මර්ශනය කිරීමෙදි තමයි විදර්ශනාව වැඩෙන්නෙ. **අංඃ නිඃ 2, තතිය, චතුත්ථ පුග්ගල සූත්‍ර (246 /248 පිටු)** වලින් තව විස්තර දැගන්න පුළුවන්. එදිනෙදා ජීවිතයේ සංහිඳියාවටත්, කර්ම බලපෑම් ලිහිල් කරගැනීමටත්, භාවනාවේ බාධක දුරු කරගැනීමටත් මෛත්‍රී භාවනාව බොහොම වටිනව.

## මෝහය ප්‍රහාණයට ප්‍රත්‍යය වන යෝනිසෝමනසිකාරය.

උපන් මෝහය ප්‍රහාණය වෙන්නත් නූපන් මෝහය නූපදින්නත් යෝනිසෝමනසිකාරය ප්‍රත්‍යය වෙන හැටි දැන් අපි සාකච්ඡා කරල බලමු. අපි දැනටමත් මේ දහම් ලිපි මාලාවෙ මීට අදාළ යම් යම් කරුණු පැහැදිලි කරල තියෙනව. බොහොම සැලකිල්ලෙන් මේ යෝනිසෝමනසිකාරය තේරුම් ගන්න ඕන. ඉස්සරවෙලා අපි මේ වචනයේ තේරුම පැහැදිලි කරගන්න බලමු. **'යෝනි'** කියන්නේ ප්‍රභවස්ථානය, උප්පත්තිස්ථානය, උපදින තැන. **'යොනිසෝ'** කියන්නෙ **'උපතේ පටන්'** කියන තේරුමෙන්. එතකොට **'යෝනිසෝමනසිකාර'** කියල කියන්නේ 'උපතේ පටන් මෙනෙහි කිරීම' කියන එකයි. ඔය තමයි, වචනෙ තේරුම. මොනවායේ උපතේ පටන් ද? ප්‍රත්‍යය ධර්මයන්ගේ උපතේ පටන්. එය හොඳින් මතක තියාගන්න.

මේ යෝනිසෝමනසිකාරය තමයි, ප්‍රඥාවේ මූලබීජය. දැනගතයුතු අනික් කාරණය තමයි, මේ ප්‍රඥාවේ මූලබීජය අප කාටත් තියෙනව, කියන එක. හැබැයි, බුදුහාමුදුරුවො කියල දෙනකම් අපි ඒ බව දැනගෙන හිටියෙ නෑ. දැනට තමන්ට යෝනිසෝමනසිකාරය ඇතිබව දන්නෙ නැත්නම් එය දැනගන්න, දන්නව නම් එය දියුණු කරගන්න, අපි දිගට කථාකරමු. අපි මේ දහම්ලිපි පෙළ පටන්ගත්තෙ 'මේ මොහොත' කියන මාතෘකාව ඇසුරු කරගෙන. අපි ආයතන වලින් දැනගන්න **(විඤ්ඤාණ)**රූපධර්ම **(රූපසඤ්ඤා)**අත්දකින්නෙ, විඳින්නෙ, හඳුනගන්නෙ, සංකල්පනය කරන්නෙ, ස්පර්ශකරන්නෙ මෙනෙහිකරන්නෙ **(නාම)** මේ මොහොතෙ. නාමරූප සමුදයෙන් සිතක් හටගන්නව **(නාමරූපසමුදයා චිත්තස්ස සමුදයො)- (සංඃ නිඃ 5 (1), සමුදය සූත්‍රය, 330 පිට)** කියන්නේ මේකයි. මෙබඳු සිත් ප්‍රවාහයක් සමුදය වෙනව. අස්තයට යනව. තණ්හාව නිසා අස්තයට යාම අපට පෙනෙන්නෙ නෑ. සමුදයෙන් සමුදය අල්ලාගෙන පවතිනව කියල හිතාගන්නව. අපි අත්දකින්නෙ මේ සිත් ප්‍රවාහය මගින් මැවෙන ස්වරූපය කියල අපි දන්නෙ නැත්නම් අපට හිතෙන්නේ මේ අත්දකින 'දේවල්' දිගට තියෙනව කියල. මේ අත්දකින 'මම' දිගට ඉන්නව කියල. මේ අනවබෝධයට තමයි කියන්නෙ, අවිද්‍යාව කියල. තව විදියකින්

කියනව නම් සක්කායදිට්ඨිය. මේ රැවටීමට හේතුව තමයි, අයෝනිසෝමනසිකාරය. මේ අනවබෝධය ඇතිතාක් සසරක් සැකසෙනවා ඇත. ඒ නිසා බුදුරජාණන් වහන්සේ මෙහෙම දේශනා කරනව. "ප්‍රඥාවෙන් පිරිහුණු මේ දෙවියන් සහිත ලෝකයා දෙස බලන්න. නාමරූප දෙක අල්ලාගෙන මෙය ඇත්තයි කියල කල්පනා කරනව." **(පඤ්ඤාය පරිහානෙන පස්ස ලොකං සදෙවකං, නිවිට්ඨං නාමරූපස්මිං ඉදං සච්චන්ති මඤ්ඤති)- (බුඃ නිඃ 1, ඉතිඃ වුඃ, පඤ්ඤාපරිහානි සූත්‍රය, 364 පිට)**

ඉතින් මේ නාමරූප වශයෙන් විඤ්ඤාණයේ මැවෙන ලෝකය ඇත්තය කියල හිතනව නම් එතැන තියෙන්නෙ මේ අයෝනිසෝමනසිකාරය. දැන් අපි කලින් තේරුම් ගත්තනෙ, මේ වචනෙ තේරුම 'උපතේ පටන් මෙනෙහි කිරීම' කියල. උපත කියනකොට අතීත උපතක් ගැන නොවෙයි මේ කියන්නෙ. මේ වෙලාවෙ සිදුවෙන සකස් වීමක් ගැනයි මේ කියන්නෙ. අතීතය නො වුණා කියලවත්, අනාගතය නො වන්නේ ය කියලවත් නොවෙයි, මේ කියන්නෙ. මේ මොහොතේ යම් ප්‍රත්‍ය සම්බන්ධතාවක් වෙයි නම් අතීතෙ වුනෙත් එච්චරයි. අනාගතයේ වන්නෙත් එච්චරයි. ඒ නිසා මේ මොහොතේ ප්‍රත්‍ය සම්බන්ධතාව තේරුම් ගත්තම හොඳට ම ඇති.

දවසක් භද්‍රක කියල ගම්දෙටුවෙක් බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ල, 'ස්වාමීනි, මට දුකෙහි සමුදයත් අස්තයට යාමත් පැහැදිලි කරදෙන්න' කියල ඉල්ලාහිටිය. ඒ වෙලාවෙ බුදුරජාණන් වහන්සේ 'ගාමිණි, මම අතීතයේ මෙසේ විය, කියල අතීතය සලකාගෙන දුකේ ඇතිවීම, නැතිවීම ගැන කථා කළොත් ඔබට, 'මේ කථාව ඇත්ත ද' කියල සැකයක් ඇතිවෙනව. අනාගතය සළකාගෙන කථා කළොත් ඒත් සැක ඇති වෙනව. ඒ නිසා මම මෙතන ඉන්න ඔබට දුකේ සමුදයත් අස්තයත් කියල දෙන්නම්' කියල වදාළ.

උන්වහන්සේ කොහොම ද, ඒක පැහැදිලි කළේ කියල බලමු. ඔබ වෙසෙන ඔය උරුවේලකප්ප ගමේ ඉන්න මිනිසුන් අතරින් යමකුට දුකක් විපතක් වුනොත් ඔබේ හිතටත් දොම්නස් ඇතිවෙන අය ඉන්නව ද, කියල බුදුහාමුදුරුවො අහපුවාම, භද්‍රක කියනව 'ඔව්, එහෙම අය ඉන්නව' කියල. ඊළඟට අහනව, යමකුට දුකක් විපතක් වුනාට ඔබේ සිතට දොම්නස් ඇති නො

වන අයත් ඉන්නව ද, කියල. 'ඔව්, එහෙම අයත් ඉන්නව' කියල භද්‍රක උත්තර දුන්න. මෙතැනදී බුදුරජාණන් වහන්සේ විමසනව, 'යමකුට විපතක් වුනාම ඔබේ සිත දොම්නස් වෙනව නම් ඒ ඇයි, කියල. එතකොට භද්‍රක කියනව 'ඒ අය කෙරෙහි මගේ හිතේ ඡන්දරාගයක් තියෙන නිසයි', කියල. 'එතකොට සමහර අයට විපතක් වුනාම ඔබේ සිතට දොම්නසක් නො වන්නෙ ඇයි, කියල අහපුවාම භද්‍රක කියනව, 'ඒ අය කෙරෙහි මගේ හිතේ ඡන්දරාගයක් නැති නිසයි', කියල. දැන් දුකට මුල මොකක් ද, කියන එක භද්‍රකගෙන් ම කියැවිලයි තියෙන්නෙ.

මේ කථාබහ පිළිබඳව බුදුරජාණන් වහන්සේ නිගමනය වශයෙන් මෙහෙම දේශනා කරනව. "ගාමිණී, ඔබ මේ දැක්ක, දැනගත්ත අකාලික වූ පැමිණි බැසගත් මේ ධර්මය අතීත අනාගත දෙකටත් දාල තේරුම් ගන්න. අතීත දුකට හේතුවත් ඡන්දරාගයයි. අනාගත දුකට හේතුවත් ඡන්දරාගයයි. ඡන්දරාගය දුකට මුලයි. **(ඡන්දොහි මූලං දුක්ඛස්ස)**මේ පැහැදිලි කිරීමෙන් සතුටු වුන භද්‍රක තවදුරටත් මෙහෙම කියනව. 'චිරවාසී කියන මගේ පුත්කුමරා ඉන්නෙ නුවරින් බැහැර. මම නිතර පුතාගේ දුක සැප බලාගෙන එන්නට, පුරුෂයෙක් යවනව. ඒ පුරුෂයා ආපසු නො එනතාක් 'අනේ මගේ පුතාට දුකක් නො වේවා කියල හිතමින් මම ඉන්නේ හරිම දුකෙන්. 'ආසාව ම දුකට මුලයි' කියල ඔයිනුත් දැනගන්න' කියල, සඳහන් කරන ගමන් බුදුරජාණන් වහන්සේ තවත් කාරණයක් සිහිපත් කළා.

භද්‍රක, මොකක් ද හිතන්නෙ මේ ගැන. ඔය චිරවාසිගේ මව (භද්‍රකගේ බිරිඳ) ඔබ විසින් දැකලවත් නැති අහලවත් නැති කාලෙ, ඔබට ඇය කෙරෙහි ඡන්දයක් රාගයක් ප්‍රේමයක් තිබුණ ද, කියල බුදුරජාණන් වහන්සේ විමසුව. ස්වාමීනි, එවැන්නක් නො වී ය, කියල භද්‍රක කියනව. ඇහුවයින් පස්සෙ දැක්කයින් පස්සෙ තමයි, ප්‍රේමයක් උපන්නෙ. දැන් චිරවාසීගේ මවට දුකක් විපතක් වුනොත් භද්‍රකටත් දුකයි. **(සං: නි: 4, භද්‍රක සූත්‍රය, 592 පිට)**

බුදුරජාණන් වහන්සේ දුකට මුල ඡන්දරාගය බව පැහැදිලි කළේ මේ මොහොතේ අත්දැකීම් අනුව තේරුම් ගන්න පුළුවන් විදිහට. අතීතය අනාගතය පටලවාගත්තෙ නැ. ඡන්දරාගය ඇති කල්හි දුක වේ. ඕක මේ මොහොතේ තේරුම් ගන්නවා විනා

ඉතිහාස ප්‍රවෘත්ති වලින් වැඩක් නෑ. අනාගත වාක්‍ය වලින් වැඩක් නෑ. බාවරී කියන බ්‍රහ්මණ ආචාර්වරයාගේ ශිෂ්‍යයකු වන හේමක නමැති මානවකයා නුවණින් යුක්ත කෙනෙක් හැටියට වැදගත් ඉල්ලීමක් කළා. "භාග්‍යවතුන් වහන්ස, මේ ගෞතම ශාසනයට කලින් ගුරුවරු මට කියල දුන්නු ඔක්කොම, 'මෙසේ වුනාලු, මෙසේ වන්නේලු' **(ඉච්චාසි ඉති භවිස්සති)** කියන විදියේ මෙසේ මෙසේ යයි උපන් කථා. ඒව නිකම් තර්ක වැඩෙන කථා. ඒව මගේ හිත්ගත්තෙ නෑ. ඒ නිසා මුනීන්‍ද්‍රයාණෙනි, යම් දහමක් දැන සිහියෙන් හැසිරෙමින් ලෝකයේ විසත්තිකා නම් තණ්හාව තරණය කළහැකි නම්, එබඳු තෘෂ්ණාව වනසන දහමක් මට දේශනා කරන්න." ඕකයි, ඒ ඉල්ලීම. ඒ වෙලාවෙ බුදුරජාණන් වහන්සේ මෙහෙම දේශනා කරනව.

**"ඉධ දිට්ඨ සුත මුත විඤ්ඤාතෙසු පියරූපෙසු හේමක,**
**ඡන්දරාගවිනොදනං නිබ්බාන පදමච්චුතං**
**එතදඤ්ඤාය යෙ සතා දිට්ඨධම්මාභිනිබ්බුතා**
**උපසන්තා ච තෙ සදා තිණ්ණො ලොකෙ විසත්තිකං"**

"හේමක, මේ ලෝකෙ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම වශයෙන් (දිට්ඨ සුත මුත විඤ්ඤාත) ලබන ප්‍රිය දේවල් පිළිබඳව ඡන්දරාගය ප්‍රහාණය වූ, ච්‍යුතියක් නැති නිර්වාණය වෙයි.

යමෙක් සිහියෙන් යුතුව මෙය දැනගෙන මේ ජීවිතයේ දී ම නිවුනේ ද සංසිඳුනා වූ ඔවුහු හැමකල්හි තෘෂ්ණාව තරණය කළාහු වෙති." **(සුඃ නිඃ හේමක සූත්‍රය, 334 පිට)**

ඕකයි, බුදුහාමුදුරුවො දුන්න පිළිතුර. ඡන්දරාගය ප්‍රහාණය කරන්න තියෙන්නෙ සළායතනිකව ලැබෙන ප්‍රිය අරමුණු පිළිබඳවයි. ඒව උපදින්නෙ මේ මොහොතෙ. සිහියෙන් යුතුව කටයුතු කරන්න පුළුවන් වෙන්නෙ මේ මොහොතෙ උපදින ඒව ගැන. ඇලීම් ගැටීම් රැවටීම් වෙනුවට මේ විඤ්ඤාණය විසින් මවල දෙන නාමරූප පිළිබිඹු නේද කියල නුවණින් බලන එකයි කළයුත්තෙ. මම ය, මගේ ය, කියල සතුටු වෙමින් තෘෂ්ණා කරන්න දෙයක් නො වෙයි. **(නාභිනන්දති)** පාරට්ටු කරමින් මානය ඇතිකර ගන්න දේකුත් නො වෙයි. **(නාභිවදති)** හිතින් ගිලගෙන දෘෂ්ටි වශයෙන් වැදගන්න දේකුත් නො වෙයි. **(නාජ්ඣොසාය තිට්ඨති)**

## සක්කායදිට්ඨි ප්‍රහාණයට යෝනිසෝමනසිකාරය.

බුදුරජාණන් වහන්සේ **සබ්බාසව සූත්‍රයෙදි (මඃ නිඃ 1, 18 පිට)** දේශනා කරනව මෙහෙම. අයෝනිසෝමනසිකාරයෙන් යුක්ත කෙනාට අලුතෙන් ආස්‍රව උපදිනව. උපන් ආස්‍රව වැඩෙනව කියල. අනෙක් අතට සඳහන් කරනව, යෝනිසෝමනසිකාරයෙන් යුක්ත කෙනාට අලුතෙන් ආස්‍රව උපදින්නෙ නෑ. උපන් ආස්‍රව ප්‍රහීණ වෙනව කියල. දැන් අපටත් ඕන අලුත් ආස්‍රව උපදවන්නෙ නැතුව උපන් ආස්‍රව ප්‍රහීණ කරන්න. ඒක නෙ නිවන් මඟ.

නොයෙක් නොයෙක් ආකාරයෙන් ප්‍රහාණය කළයුතු ආස්‍රව තියෙනව. අපි මෙතනදි ගනිමු, පළවෙනි එක. ඒ තමයි, නුවණින් දැකීමෙන් ප්‍රහාණය කළයුතු ආස්‍රව. **(දස්සනා පහාතබ්බා ආසවා)** දැන් මේ පින්වතුන් යම් ප්‍රමාණයකට ධර්මය දන්න, සීලය, සමාධිය, ප්‍රඥාව වඩාගන්න ඕන කියල හිතන, සසරින් මිදෙන්න ඕන කියල හිතන, ඒකට ටික ටික හරි උත්සාහ කරන පිරිසක්. දැන් අපි ටිකකට හිතල බලමු, ඔය කියාපු විදියට ධර්ම මාර්ගය ගැන උනන්දුවක් නැති කාලයක් අපේ ජීවිතවල තිබුණනෙ. ටිකක් හිතල බලන්න, ඒ කාලෙ අපි කොහොම ද හැසුරුනේ කියල. වැරදි කර කර ම හිටිය කියල කියන්න නොවෙයි, මේ හදන්නෙ. ඕන තරම් වැරදිත් වෙන්න ඇති. හරි දේවලුත් කරන්න ඇති. පවතින තත්ත්වය කිසිම විමසීමක් නො කර බාර අරන්, හිතේ ඕනෑ එපාකම් වලට අනුව හිටිය එකයි කළේ. දැනට වුනත් සියලු වැරදි අතහැරිල නැතුව ඇති නෙ. ලෝභ, ද්වේෂ, මෝහ තියෙනව නෙ. හැබැයි සමහරවිට ටිකක් හරි අඩු ඇති. ඒ කොහොම වුනත් ඉන්ද්‍රිය හයේ ස්පර්ශයයි, මනසිකාරයයි තමා අපිව හසුරුවන්නේ. ස්පර්ශ වෙන දේට මනසිකාරය යොමු වෙනකොට ඡන්දරාගයට වැටෙනව. විඳනයට යොමු වෙනව.

මේ කියපු තත්ත්ව යහපත් පැත්තට වෙනස් වෙන්නෙ සිහිනුවණ, සමාධිගුණ වැඩෙන පමණට. ඒ ස්වභාව තහවුරු වෙන්නෙ ප්‍රඥාව වැඩෙන පමණට. ඉතින් අප දහම් අසන්නේ, ධර්මසාකච්ඡා කරන්නෙ, දහම් පොත් කියවන්නේ සුතසම්පදාව දියුණු කරගන්න. නො ඇසූ දේ අසා දැනගන්න. දන්න දේ

වඩාත් පැහැදිලි කරගන්න. සැකසංකා දුරුකරගන්න. සම්මා දිට්ඨිය පැහැදිලි කරගන්න. එහෙම දැනගන්නා කරුණු දරාගන්න ඕන. වචන වශයෙන් ම ප්‍රගුණ වෙන්න ඕන. එතකොට මනසින් විමසා බලන්න ලේසියි. දුක්ම හොඳින් අවබෝධ වෙන්නෙ එතකොට. **(දිට්ඨියා සුප්පටිවිද්ධා)** දර්ශනයෙන් ප්‍රහාණය කළයුතු ආස්‍රව ගැන දැනගන්න කොට අපට වැදගත් කරුණ තමයි. මනසිකාරය. මෙනෙහි කළයුත්තෙ මොකක් ද, මෙනෙහි නො කළයුත්තෙ මොකක් ද, කියල අපට ම තේරුම් ගන්න පුළුවන් වෙන විදියෙ මිණුම් දණ්ඩක් බුදුහාමුදුරුවො අපට දීල තියෙනව.

යම් මෙනෙහි කිරීමක් නිසා සිතට කාම සිතිවිලි ගලා එනව නම් ඒක මෙනෙහි නො කළයුත්තක්. **(කාමාසව)** යම් මෙනෙහි කිරීමක් නිසා සසරින් මිදීම වෙනුවට පවතින්න ම ඇති කැමැත්ත සිතට ගලා එනව නම් ඒකත් මෙනෙහි නො කළයුත්තක්. **(භවාසව)** යම් මෙනෙහි කිරීමක් නිසා මේ උපාදානස්කන්ධ ලෝකය දුකයි කියල පෙනෙන්නෙ නැත්නම්, මේ දුක බිහිකරන්නෙ තණ්හාවයි කියල පෙනෙන්නෙත් නැතිනම්, තණ්හාව නැත්නම් මේ දුකත් නෑ කියල පෙනෙන්නෙත් නැත්නම්, තණ්හාව නිරුද්ධ කරන මඟක් පෙනෙන්නෙත් නැත්නම් සිතින් ගලායන්නෙ **අවිජ්ජාසව.** මේ ආස්‍රව සිතේ උපදිනව නම් තම තමන්ට ම දැනගන්න පුළුවන්, මේ මෙනෙහි කිරීම් නො කළයුත්තක් කියල. එහෙම තේරෙන්නෙ දහම ඇසුරු කිරීම නිසා කාමාසව, භවාසව, අවිජ්ජාසව වලින් මිදෙන්න ඕන කියල හිතක් අපට ඇති වෙලා තියෙන හින්දයි.

එහෙම හිතක් නැති අය ලෝකෙ කොච්චර නම් ඇද්ද. කාමසිතිවිලිවල වරදක් නො දකින, පවතින්න ම තියෙන කැමැත්තේ වරදක් නො දකින, මේ රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් කියන්නෙ දුක කියල නො දකින ගතිය තමයි, දහම්මඟට බිහිනකම් හැම දෙනා තුළ ම තියෙන්නෙ. මහාමාලුංක්‍යපුත්ත සූත්‍රයේ දී බුදුරජාණන් වහන්සේ දහම්මඟට නො බැස දහම දන්නව, දකිනව කියලවත් කියන්න බෑ, කියල වදාළේ ඒ හින්දයි. **(මඃ නිඃ 2, මහාමිලුඞ්ක්‍ය සූත්‍රය, 168 පිට)**

දැන් අපේ මූලික අරමුණ සක්කායදිට්ඨිය ප්‍රහාණය කිරීමට යෝනිසෝමනසිකාරය යොදාගන්නෙ කොහොම ද,

කියන එකනෙ. මේක ටිකක් හිමින් සැරේ ඉවසිල්ලෙන් තේරුම් ගන්න ඕන එකක්. අපි සසරක ඇදී ආවෙ, සසර පැවැත්මට ගැලපෙන සිතිවිලි ක්‍රමයක් අපට තියෙන නිසා. බුදුහාමුදුරුවෝ අපට කියල දෙන්නේ ඊට වෙනස් මඟක්. සංසාර සැඩපහරට විරුද්ධව යන ගමනක්. ඒ හින්දා අපි මේක පැහැදිලි කරන්න පාවිච්චි කරන වචන කොච්චර ලිහිල් කළත් පණිවිඩේ නුහුරුයි. වටහා ගන්න අපහසු ඒ නිසා. අපහසු වුනත් තේරුම් ගන්න බැරි නෑ. අපි උත්සාහ කරමු.

ඉස්සරවෙලා අපි කෙටියෙන් සක්කායදිට්ඨිය හඳුනා ගනිමු. සත් + කාය කියන වචන දෙක එකතු වෙලා තමයි, සක්කාය කියන වචනය හැදෙන්නේ. 'සත්' කියන්නෙ 'ඇති' කියන අදහසයි. දේවලුත් ඇත කියා ලෝකයා හිතනව. පුද්ගලයනුත් ඇත කියා ලෝකයා හිතනව. තමාට මං ඉන්නව කියල හිතෙන්නෙත්, තවත් අය ඉන්නව තියල හිතෙන්නෙත්, දේවල් තියෙනව කියල හිතෙන්නෙත් මේ ඉන්ද්‍රිය හයේ අත්දැකීම් අනුව. ආයතන හයට ම නිමිති වෙන්නෙ රූප සංඥා. ඒවා විඳනය කරනව, හඳුනාගන්නව, චේතනා මවනව, දැනීම් ලබනව. මේ විදියට මැවෙන රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් රාශියට කියනව 'කාය' කියල. මෙසේ එකක් පසු එකක් වශයෙන් වේගයෙන් ඇතිව නැතිවන සිත් ප්‍රවාහයක්, ගලායන්නෙ. ඒ සිත් ප්‍රවාහයෙහි සිත් අතර පරතරයන් නො දකින නිසා මවාගන්නා ස්වභාවය ඇත්තයි කියල හිතනව නම් ඒ තමයි, සක්කායදිට්ඨිය.

අපි සිනමා උපමාවෙන් තේරුම් ගනිමු. සේයා පටයේ එකක් පසු එකක් වශයෙන් ඇති පිංතූර, වේගයෙන් තිරය මත වැටෙන කොට, අපි දකින්නෙ පිංතූර වේගය නොවෙයි. සිනමා වෘත්තාන්තයක්. චිත්‍රපට නිෂ්පාදකයින් යම් සංස්කරණයක් කළත් අවසන් වතාවට ප්‍රේක්ෂකයත් තමන්ගෙ කෙලෙස්වල හැටිහැටියට සංස්කරණය කරගන්නව. සංසාරික සත්‍වයාගේ සක්කායදිට්ඨියත් ඒ වගේ. 'මම' කියන්නෙ දිගින් දිගට තියෙන ඒකකයක් නො වෙයි. අත්දැකීම් සිත් ප්‍රවාහය වගේ ම සමුදය වන නිරුද්ධ වන සංඥා ප්‍රවාහයක්. සමුදය පැත්තෙන් අල්ලගෙන අල්ලගෙන යනකොට නිරෝධය පේන්නෙ නෑ.

විද්‍යුතයේ උපමාවෙනුත් අපි මෙය තේරුම් ගනිමු. විද්‍යුතය ගමන් කරන්නේ තරංග වශයෙන්. පරිගණක තිරය මත පෙනෙන මවුස් පොයින්ට් එක දිගටම එකක් සේ පෙනුණත් එය වේගයෙන් එහා මෙහා කරන විට එය වෙන් වෙන් වූ මවුස්පොයින්ට් රැසක් වශයෙන් පෙනෙනව. විද්‍යුතයේ තරංග ස්වභාවයයි ඒ ප්‍රකට වෙලා පෙනෙන්නෙ. මවුස්පොයින්ට් එක එකතැන තියෙනකොට එකක් වශයෙන් ම යි පෙනෙන්නේ. ඒ වගේ සිත එකක් වගේ අපට දැනුනත් සමුදය නිරෝධ ප්‍රවාහයක්. සිත් ප්‍රවාහයේත් සමුදය විතරයි අපට හසු වෙන්නෙ. නිරෝධය පේන්නෙ නෑ. දේවල් දිගටම කලක් පවතිනව, මම ඉන්නව, පුද්ගලයො ඉන්නව කියල හිතෙන්නෙ ඒ නිසා. විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූප අත්දැකීම් බව දන්නෙ නෑ. ඕක තමයි, සක්කායදිට්ඨිය. බුදුරජාණන් වහන්සේ දේශනා කරනව, සිත් ප්‍රවාහයක් බව නො දන්න අයට සක්කායනිරෝධය සඳහා කොච්චර බණ කිව්වත් එහි සිත වැදගන්නෙ නෑ කියල. **(සක්කාය නිරොධාය ධම්මෙ දෙසියමානෙ චිත්තං න පක්ඛන්‍දති)**පහදින් නෙ නෑ කියල. **(නප්පසීදති)** පිහිටන්නෙ නෑ කියල. **(න සන්තිට්ඨති)**මිදෙන්නෙ නෑ කියල. **(න විමුච්චති)**

දවසක් ආනන්‍ද හාමුදුරුවෝ භික්ෂූන් අමතල සඳහන් කරනව, ඔය මන්තානිපුත්ත පුණ්ණ හාමුදුරුවෝ අපි නවකයො කාලෙ මෙන්න මේ අවවාදයෙන් අපට බොහොම උපකාර කළා. "ඇවැත් ආනන්‍දයෙනි, අල්ලගැනීමක් තියෙනකොට තමයි, 'වෙමි' යන්න වෙන්නෙ. අල්ලගැනීමක් නැත්නම් නෑ. **(උපාදාය ආවුසො ආනන්‍ද අස්මී'ති හොති, නො අනුපාදාය)** මොකක් අල්ලගත්තොත් ද 'වෙමි' යන්න වෙන්නෙ? මොකක් අල්ලගත්තෙ නැත්නම් ද, 'වෙමි' යන්න නො වෙන්නෙ? රූපය, වින්‍දනය, සංඥාව, සංස්කාර, විඥාන කියන මේ ස්කන්‍ධ අල්ලගත්තොත් තමයි, 'වෙමි' යන්න වෙන්නේ නැත්නම් නෑ."

ඊළඟට පුණ්ණ හාමුදුරුවො අහනව, මොක ද ඇවැත් ආනන්‍ද හිතන්නෙ රූපය නිත්‍ය ද, අනිත්‍ය ද? ඇවැත්නි අනිත්‍යයි. වේදනාව, සඤ්ඤාව, සංඛාර, විඤ්ඤාණය නිත්‍ය ද, අනිත්‍ය ද? අනිත්‍යයි ඇවැත්නි. යමක් අනිත්‍ය නම් එය සැප ද, දුක ද? දුකයි ඇවැත්නි. යමක් අනිත්‍ය නම්, දුක නම්, විපරිනාමී

නම්, එය මගේ ය, මම වෙමි, මාගේ ආත්මයයයි දකින්න සුදුසු ද? නැත, ඇවැත්නි.

එහෙනම් ඇවැත් ආනන්ද, අතීත අනාගත වර්තමාන, තමා පිළිබඳ වූ ද, බාහිර වූ ද, ගොරෝසු වූ ද, සියුම් වූ ද, හීන වූ ද, ප්‍රණීත වූ ද, දුර වූ ද ළඟ වූ ද සියලු ම රූප, විඳීම, හැඳිනීම්, සංඛාර, විඤ්ඤාණ මගේ නොවෙයි, මම නො වෙමි, මාගේ ආත්මය නොවෙයි කියල ඇති සැටියෙන් මනා නුවණින් දකින්න.

එහෙම දකින ධර්මය දන්න ආර්යශ්‍රාවකයා, ප්‍රඥාවෙන් යුක්තව මේ ස්කන්ධ පහ පිළිබඳ කළකිරෙනව. ඇලෙන්නෙ නෑ. ඇලෙන්නැතුවම මිදෙනව. මිදුනම මිදුනයි කියල දැනගන්නව. උපාදාස්කන්ධ සකස් වීම නතර වෙනව. බඹසර වැස නිම වෙනව. තවදුරටත් කරන්න දෙයක් නෑ කියල නුවණින් දැනගන්නව. මේක තමයි පුණ්ණ හාමුදුරුවන්ගෙ අවවාදය.

මේ ගැන ආනන්ද හාමුදුරුවො කියන්නේ මේකයි. ආයුෂ්මත් පුණ්ණ හාමුදුරුවො නවක වූ අපට මේ අවවාදය දීමෙන් බොහෝ උපකාර කළා. උන්වහන්සේගේ මේ දහම් අවවාදය අහල මවිසින් ධර්මය අවබෝධ කරනු ලැබුව. ඒ කිව්වෙ සෝවන් වුනා කියල. **(ධම්මො අභිසමෙතො)- (සං: නි: 3, ආනන්ද සූත්‍රය, 180 / 182 පිටු)**

දැන් අපට පැහැදිලියි, සළායතනික නිමිති ගන්න කොට පහළ වෙන රූප, විඳීම, හැඳිනීම්, චේතනා, විඤ්ඤාණ අල්ලගෙනයි, 'මම' බිහි වෙන්නෙ. මම ස්ථිරව ඉඳගෙන අනිත්‍ය වූ ස්කන්ධ හදනව නොවෙයි. ස්කන්ධ උපාදානයත් එක්ක මම බිහි වෙනව. එතකොට ස්කන්ධ සමුදයත් එක්ක මම සමුදය වෙනව. ස්කන්ධ නිරෝධයත් එක්ක මම නිරුද්ධ වෙනව. මේ ක්‍රියාවලිය දිගින් දිගට සිදුවෙන කොට හිතනව දේවල් තියෙනව කියල. මම ඉන්නව කියල. නිරුද්ධ වීම පෙනෙන්නෙ නැත්තෙ තණ්හාවෙන් වැහිල හින්ද. ඒ හින්ද වෙන්නෙ සමුදයෙන් සමුදය ගැටගැහෙනව. එහෙම සක්කායසමුදයෙන් සක්කායසමුදය මූට්ටු වෙනකොට නිරෝධය පේන්නෙ නෑ.

මම වෙන ම ඉඳගෙන තියෙන ලෝකයක් අත්දකිනව කියන රැවටිල්ල දැන් හුඟක් දුරට පැහැදිලි ඇති. සිල්ගුණ,

සමාධිගුණ දියුණු කරගනිමින් මේ කථාකළ ප්‍රඥාවත් හොඳට දියුණු කරගන්න.

දැන් අපි පටන්ගැම්මෙදි මතක් කළ සබ්බාසව සූත්‍රයට ආයෙත් යොමු වෙමු. එහි සඳහන් වෙනව, නූපන් ආස්‍රව උපදින, උපන් ආස්‍රව වැඩෙන අයෝනිසෝමනසිකාරයක් ගැන. "මං අතීතෙ හිටිය ද? මං අතීතෙ හිටියෙ නැද්ද? අතීතෙ කවරෙක් වුණා ද? අතීතෙ කෙසේ වුණා ද? කවරෙක් ව ඉඳල කවරෙක් වුණා ද? මං අනාගතේ වෙනව ද? මං අනාගතේ වෙන්නැද්ද? මං අනාගතේ කවරෙක් වන්නේ ද? මං අනාගතේ කෙසේ වන්නේ ද? මං අනාගතේ කවරෙක් වී කවරෙක් වන්නේ ද? දැන් මම ඉන්නව ද? දැන් මම නැද්ද? මං කවරෙක් වෙම් ද? මං කෙසේ වෙම් ද? මේ සත්වයා කොහෙන් ද, ආවෙ? කොහාට ද යනනෙ?" මේක නුනුවණින් මෙනෙහි කිරීමක්.

පටිච්චසමුප්පාද ධර්මන්‍යායය අනුව ස්කන්ධයන්ගේ සමුදය නිරෝධය දන්නෙ නැති පුහුදුන් පුද්ගලයාගේ අයෝනිසෝමනසිකාරය මේකයි. සමුදය නිරෝධය දන්නෙ නැතුව මේ විදියට මෙනෙහි කරන්න ගියාම අවිජ්ජා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ඵස්ස, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති, ජරාමරණ ප්‍රත්‍යයන්ගේ සබඳතාව පෙනෙන්නෙ නෑ. එහෙම ඉඳගෙන ගන්න මොන නිගමනය වුණත් දෘෂ්ටියක්. මේ අයෝනිසෝමනසිකාරය නිසා දෘෂ්ටි හයකින් එකකට කෙනෙක් වැටෙන්න පුළුවන් කියල බුදුරජාණන් වහන්සේ දේශනා කරනව.

1. මාගේ ආත්මය තියෙනව.
2. මාගේ ආත්මය නෑ.
3. මම ම ආත්මය හැඳින ගනිමි.
4. මම ම අනාත්මය හැඳින ගනිමි.
5. අනාත්ම වූ මම ම ආත්මය හැඳින ගනිමි.
6. මා සතු කථා කරන, සුවදුක් විඳින, ඒ ඒ තැන කුසලාකුසල විපාක විඳින ආත්මය නිත්‍ය ය, ස්ථිර ය, සදාකාලික ය, නො වෙනස් වනසුලු ය. **(මඃ නිඃ 1, සබ්බාසව සූත්‍රය, 22 පිට)**

මම වෙනමත් ආත්මය වෙනමත් ගත්තම තමයි, ඔය දෘෂ්ටි ඇති වෙන්නෙ. මම කිව්වත්, ආත්මය කිව්වත්, මොන වචනෙ කිව්වත්, ඒ රූප, වින්‍දන, සංඥා, චේතනා, දැනීම් ඔස්සේ මැවෙන හැඟීමක් පමණයි. **(මඤ්ඤනා)** මම වෙමි යන්න හැඟීමක් පමණයි. **(අස්මීති භික්ඛවෙ මඤ්ඤිතමෙතං)- (සං: නි: 4, යවකලාපී සූත(ය, 386 පිට)**මේ මඤ්ඤනාව හැඟීම සකස් වුන නිසා අතීත සසරක් සැකසුනා. මතුත් ඒ හැඟීම වන්නේ නම් අනාගත සසරක් සැකසේවි. මම හැඟීම ඉදිරියට ගැනෙන විටයි, කර්ම බිහිවෙන්නෙ. මම හැඟීම ඉදිරියට ගත්ත කියන්නේ ක්‍රියාවේ වගකීම බාරගත්ත කියන එකයි. එහෙනම් ඒ කර්ම වලට විපාක විඳින්න වෙනව. නිවන උදෙසා මාර්ගසම්මාදිට්ඨිය නැති කෙනකුට වුනත් මෙලොව ඇත **(අත්‍ථි අයං ලොකො)**, පරලොව ඇත **(අත්‍ථි පරො ලොකො)**, හොඳ නරක ක්‍රියාවන්ගේ ප්‍රතිවිපාක ඇත **(අත්‍ථි සුකටදුක්කටානං කම්මානං ඵලං විපාකො)**කියන මේ කම්මස්සකතා සම්මාදිට්ඨිය තියෙන්න ඕන. එහෙම අය තමයි, දසකුසලයෙන් යුක්ත වන්නෙ. එහෙම අයට තමයි, නිවන් මගට ඇරයුම් ලැබෙන්නෙ. ඒ බව ධම්මපදයේ සඳහන් වෙනව.

**වාචානුරක්ඛී මනසා සුසංවුතො**
**කායෙන ච අකුසලං න කයිරා,**
**එතෙ තයො කම්මපථෙ විසොධයෙ**
**ආරාධයෙ මග්ගං ඉසිප්පවෙදිතං.**
**(ඛු: නි: 1, ධම්මපද, මග්ගවග්ග 9 ගාථාව, 94 පිට)**

එබඳු අය ආර්ය උතුමන් ඇසුරෙන් නිසි දහම් උපදේශය ලබාගෙන උපාදානස්කන්‍ධ වශයෙන් මේ සකස් වන්නේ දුක ය කියල නුවණින් මෙනෙහි කරනව. මේ දුකෙහි සමුදයය, මේ දුකෙහි නිරෝධයය, මේ දුක නැති කරන මගය, කියල නුවණින් මෙනෙහි කරනව. ඒ විදියට නුවණින් මෙනෙහි කරන කොට සක්කායදිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බතපරාමාස කියනදර්ශනයෙන් ප්‍රහාණය කළයුතු සංයෝජන තුනක් ප්‍රහීණ වෙනව. මෙයයි සෝතාපන්න වීම.

සක්කායදිට්ඨිය නැති වුණාට 'මම වෙමි' යන මානය, අවිද්‍යාව නිරුද්ධ වෙන්නෙ අර්හත්‍වයෙන්. කාමලෝකයට නො එන අනාගාමී පුද්ගලයටත් අණුසහගත අස්මිමානයක් වන බව

**ඛේමක සූත්‍රයෙන්** පෙනෙනව. **(සං: නි: 3, 224 පිට)** සකදාගාමි කෙනාට සංයෝජන තුන ප්‍රහීණ වීමට අමතරව කාමරාග, පටිඝ තුනී වුනා විතරයි. සංයෝජන තුන ප්‍රහීණ වී තියෙන සෝවන් පුද්ගලයට, රාගය, ද්වේෂය, මෝහය අපායගමනීය පාපයකට තරම් බලගතු නෑ. දිට්ඨිසම්පන්න පුද්ගලය සක්කායදිට්ඨියත්, විචිකිච්ඡාවත්, සීලබ්බතපරාමාසයත්, අපායගමනීය රාගයත්, අපායගමනීය ද්වේෂයත්, අපායගමනීය මෝහයත් උපදවන්න සුදුසු නැති බව **අං: නි: 4, අභබ්බ සූත්‍රයෙහි (248 පිට)** දක්වෙනව. ඒ කියන්නෙ දුගතිගාමී වෙන්න තරම් බලගතු අකුසලයක් ලෝභය, ද්වේෂය, මෝහය තුළින් වෙන්නෙ නෑ කියන එකයි. දෘෂ්ටි ගොඩනැගීමට තරම් බලගතු නැතත් 'වෙමි' යන මානය තියෙනව. එපමණට කර්මත් රැස් වෙනව. ඒත් පංචදුශ්චරිතයට, දෙසැටක් දෘෂ්ටි වලට ආපහු යන්නෙ නෑ. **(අභබ්බො දිට්ඨිසම්පන්නො පුග්ගලො අනාගමනීයං වත්‍ථුං පච්චාගන්තුං)- (අං: නි: 4, අභබ්බට්ඨාන සූත්‍රය, 248 පිට)**

බුදුරජාණන් වහන්සේ 'මං අතීතෙ හිටිය ද', 'මං අනාගතේ වෙනව ද', 'දැන් මං ඉන්නව ද' කියල සිතීම අයෝනිසෝමනසිකාරයක් කියල වදාළේ ඇයි? පුහුදුන් පුද්ගලය ඒ ගැන හිතන්න ගිහිල්ල පටලැවෙන්නෙ කිසියම් දෘෂ්ටියක නිසා. එහෙත් දහම්මග දන්න එය වඩන කෙනා සම්‍යක්දෘෂ්ටිකයි. ප්‍රත්‍යුත්පන්න ප්‍රත්‍ය සම්බන්ධතාව නුවණින් දකිනව. දුක යනු එයයි, කියන්න දන්නව. අතීත සසර සකස් වුනෙත් ඒ දුක්නියාමය අනුව බව නුවණින් දකිනව. අනාගත සසර සකස් වන්නෙත් ඒ දුක්නියාමය අනුව බව නුවණින් දකිනව. එබඳු කෙනා ස්කන්ධ ප්‍රත්‍යුත්පන්න බවත් **(භූතං)**, සකස් වූ බවත් **(සංඛතං)**, සිතාගත් දේ බවත් **(චෙතයිතං)** පටිච්චසමුප්පන්න බවත් **(පටිච්චසමුප්පන්නං)**අනිත්‍ය බවත්, දුක් බවත්, අනාත්ම බවත් මගේ ය, මම වෙමි, මාගේ අත්මය ය'යි නො ගතයුතු බව නුවණින් දකිනව. මේක පුහුදුන් සංජානන මට්ටමේ ඉඳගෙන කරන වැඩක් නොවෙයි. සත්පුරුෂ ඇසුරින්, සද්ධර්මශ්‍රවණයෙන්, යෝනිසෝමනසිකාරයෙන්, ධම්මානුධම්ම පටිපත්තියෙන් කරන වැඩක්. **සංජානාති** කියන මට්ටම ඉක්මවා **අභිජානාති** කියන මට්ටමේ වෙසෙස් නුවණින් කරන වැඩක්. එබඳු කෙනා සම්මාදිට්ඨිය ද මතු අත්හළ යුතු බව දන්නව.

**(තස්ස ච උත්තරිං නිස්සරණං යථාභූතං පජානාති)- (අං: නි: 6, කිංදිට්ඨික සූත්‍රය, 338 පිට)** අවසන **පරිජානාති** කියන මට්ටමෙන් අවබෝධය පිරිපුන් වෙලා අසේඛයෙක් වෙන්නෙ යට කී ලෙස කටයුතු කරන සේඛ පුද්ගලයින්.

බුදුරජාණන් වහන්සේ පුහුදුන් පුද්ගලයාට කරුණාවෙන් දම් දෙසන්නේ පිළිවෙතෙහි සේඛයකු බවට පත් කිරීම උදෙසායි. භව, විභව දෘෂ්ටි අතර දෝලනය වෙමින් විචිකිච්ඡා බහුල නම් ඒ පුද්ගලයා බුදුරදුන්ගේ කරුණාව හඳුනාගනීවි යයි කිව නො හැකි ය. යෝනිසෝමනසිකාරය භාවිත කරන්නේ නම් දහම්මඟ ඇරඹෙනවා ඇත.

## සක්කායසමුදය හා සක්කායනිරෝධය.

පසුගිය ලිපියේ ආනන්ද සූත්‍රය අනුව ‘මම වෙමි’ යන හැඟීම ඇතිවෙන්නේ කොහොම ද කියන එක දැන් තරමක් පැහැදිලි ඇති. රූප, විඳීම්, හැඳිනීම්, චේතනා (සංඛාර), දැනීම් (පංචස්කන්ධ) අල්ලගෙන තමයි, මම මැවෙන්නෙ. ඒව අල්ලගෙන ම තමයි, මම අත්දකින දේවල් කියල මොනව හරි මවාගන්නෙත්. තැන්, දේවල්, පුද්ගලයින් හැටියට යම් යම් අත්දැකීම් ලබන්නෙත්. පුහුදුන් පුද්ගලයා මේ පංචඋපාදානස්කන්ධ ඇසුරින් විසි ආකාරයකින් සක්කායදිට්ඨියට වැටෙන බව බුදුරජාණන් වහන්සේ දේශනා කරනව.

රූපය තමා ය කියල දකිනව. **(රූපං අත්තතො සමනුපස්සති)**තමා රූපය සහිතයි කියල දකිනව. **(රූපවන්තං වා අත්තානං)**තමා තුළ රූපය ඇතැයි දකිනව. **(අත්තනි වා රූපං)**රූපයෙහි තමා ඇතැයි දකිනව. **(රූපස්මිං වා අත්තානං)-(සංඃ නිඃ 3, නකුලපිතු සූත්‍රය, 04 / 06 පිටු)** ඔය විදියට රූපස්කන්ධය ඇසුරින් ඇතිවන සක්කායදිට්ඨිය හතරාකාරයි. විඳීනය තමා ය කියල දකිනව. තමා විඳීනය සහිතයි කියල දකිනව. තමා තුළ විඳීනය ඇතැයි දකිනව. විඳීනයෙහි තමා ඇතැයි දකිනව. සංඥාව තමා ය කියල දකිනව. තමා සංඥා සහිතයයි දකිනව. තමා තුළ සංඥාව ඇතැයි දකිනව. සංඥාවෙහි තමා ඇතැයි දකිනව. සංස්කාර තමා ය කියල දකිනව. තමා සංස්කාර සහිතය කියල දකිනව. තමා තුළ සංස්කාර ඇතැයි දකිනව. සංස්කාරයන්හි තමා ඇතැයි කියල දකිනව. විඤ්ඤාණය තමා ය කියල දකිනව. තමා විඤ්ඤාණය සහිතයයි කියල දකිනව. තමා තුළ විඤ්ඤාණය ඇතැයි දකිනව. විඤ්ඤාණයෙහි තමා ඇතැයි දකිනව. මේ තමයි ඒ සක්කායදිට්ඨිය ඇතිවන විසි ආකාරය.

මෙතැනදි අපි තේරුම් ගන්න ඕන, මේ ස්කන්ධ පහේ තමා ඇත්තෙත් නෑ, ඉන් පිටත කොහෙවත් තමා ඇත්තෙත් නෑ. එහෙනම් මේ අත්දැකීම් ලබන මම කවු ද? ඉන්නෙ කොහෙ ද? මේ ස්කන්ධ උපාදානය වීම ම තමයි, මම කියන්නෙ. තණ්හාව ඇති තැනයි, උපාදානය වෙන්නෙ. තණ්හාව තමයි පුද්ගලත්වය මවන්නෙ. **(තණ්හා ජනෙති පුරිසං) - (සංඃ නිඃ 1, පඨමජනෙති**

**සූත්‍රය, 68 පිට)** උපාදානස්කන්ධ සමුදය වුණා කියන්නෙ සිතක් පහළ වුණා කියන එකයි. සිත් පහළ වෙනව. නිරුද්ධ වෙනව. එසැණින් ඊළඟ සිත. සිත් සමුදය වෙනව. නිරුද්ධ වෙනව. ඇතිවන නැතිවන සිත් වේගයක්. වහා ඉපදී නැතිවන යමක් වේ නම් සිත වගේ වෙන දෙයක් මම දකින්නෙ නෑ, ඒ පරිවර්තනයට උපමාවක් කියන එකත් පහසු නෑ කියල බුදුරජාණන් වහන්සේ දේශනා කරනව. **(නාහං භික්ඛවෙ අඤ්ඤං එකධම්මම්පි සමනුපස්සාමි, යං එවං ලහුපරිවත්තං, යථයිදං චිත්තං. යාවඤ්චිදං භික්ඛවෙ උපමායපි න සුකරා යාව ලහුපරිවත්තං චිත්තන්ති)- (අං: නි: 1, ඒකකනිපාත, සූකවග්ග, 08 සූත්‍රය, 18 පිට)**

දැන් මේ වේගෙ හින්දා අපට වෙන වෙන ම සිත් හසු වෙන්නෙ නෑ. අපි හිතන්නෙ එක ම හිතක් කියල. මම වෙමි කියන සංඥාවත් සිත් වේගයට සමානව ම සමුදය වෙනව. නිරුද්ධ වෙනව. ඒ බව අපට හසු වෙන්නෙ නෑ. ඉතින් අපි හිතාගන්නව මම දිගට ම ඉන්නව කියල. මහ ම රැවටීමක් නෙ වෙලා තියෙන්නෙ. පොඩ්ඩක් එහෙම නෙමෙයි. ගණන් කරන්න බැරි තරම් කල්ප ගානක්. මොහොතින් මොහොත මැවෙන මමෙක් දිගින් දිගට අල්ලගෙන. ස්ථිර මම කෙනෙක් කියලයි හිතාගන්නෙ.

මේක පහසුවෙන් තේරුම් ගන්න, අපි උදාහරණයක් ගනිමු. මේ සමාජෙ චිත්‍රපටි නො බලපු කවුරුවත් ඇතෙයි කියන්න බැරි තරම්. සේයා පටයෙ තියෙන්නෙ එකක් පසු එකක් පිංතූර. තත්ත්පරයට පිංතූර විස්සක් තරම් ප්‍රමාණයක් එකක් පසු එකක් සිනමා තිරයට වැටෙනව. ඊළඟ තත්ත්පරයෙ තවත් විස්සක්. ඔය විදියට විනාඩියකට පිංතූර 1200 ක් වැටෙනව. පැයකට 72000 ක් වැටෙනව. සිනමාව නරඹද්දි නම් ඕක ගණන් කරගන්න බෑ. අපි දකින්නේ තිරේ වැටෙන තත්ත්වය නො වෙයි. නළු නිළි රංගනයක්. සිනමා වෘත්තන්තයක්. ඇහැයි හිතයි දෙක ම රවට්ටගැනීමක් හැටියටයි සිනමාව රස විඳින්නෙ. ඒ ඒ අයගෙ කෙලෙස් වල හැටි හැටියට ඒක තවතවත් විචිත්‍ර වෙනව.

ඉතින් ඔය විදියට ම තමයි අපි මේ දීර්ඝ සංසාරෙත් මවාගෙන ඉන්නෙ. තමාව මවාගත්ත විතරක් ද? නැනෙ. ඔය ඔක්කොම සළායතනික රූප නිමිති මවාගන්නෙත් ඔහොම ම

තමා. රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් වශයෙන් අල්ල ගත්තු ඒවට අපි නම් දාල තියෙන්නෙ. නමකුත් දැම්මනම් ඉතින් ස්ථිර ම තමා. දවසක් දේවතාවෙක් බුදුරජාණන් වහන්සේගේ ප්‍රශ්නයක් ඇහැව්ව. "ඔක්කොම යටත් කරගෙන සිටින්නෙ මොකක් ද? ඊට වඩා දෙයක් නෑ, කියන්න පුළුවන් නම් ඒ මොකක් ද? හැමදෙනා ම මොකේට ද, වසඟ වෙලා ඉන්නෙ?." ඕකයි ප්‍රශ්නෙ. බුදුරජාණන් වහන්සේ ගත්කටට ම වගේ උත්තරයක් දුන්න. බලමු ඒක. "නාමය සියල්ල යටපත් කොට සිටියේ ය. **(නාමං සබ්බං අන්වභවී)** නමෙන් එහා දෙයක් නැත. **(නාමා භියෙ‍ය්‍යා න විජ්ජති)**හැමෝ ම නාමය නමැති එක ම කාරණේ වසඟයට ගියාහු ය. **(නාමස්ස එකධම්මස්ස සබ්බෙව වසමන්වගූ)- ( සං: නි: 1, නාමසූත්‍රය, 72 පිට)** විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූප වලට තමයි අපි නම් දාන්නෙ. ඊට පස්සෙ ඒ නම් වලින් කියැවෙන දේවල් ලෝකෙ තිබියයුතුයි කියල බලාපොරොත්තු වෙනව. දැන් ඉතින් මමත් ඉන්නව. මං අත්දකින දේවලුත් තියෙනව. බාහිර ලෝකෙ මොනව තිබුණත් අපට ලෝකය මැවෙන්නෙ, විඤ්ඤාණයෙහි පිළිබිඹු වන නාමරූප හැටියට. මේක ක්‍රියාවලියක්. ක්‍රියා මාත්‍රයක්. නාමධර්ම ඔස්සේ අල්ලන රූපයට, විඳනයට, හැඳිනීමට, සකස් කිරීමට, වෙන්කර දැනගැනීමට කැමැත්තක් **(ඡන්දො)** ඇල්මක් **(රාගො)**, සතුටක් **(නන්දි)**, ආශාවක් **(තණ්හා)** ඇතිව ඇලෙන හින්ද තමයි, විශේෂයෙන් ඇලෙන හින්ද තමයි 'සත්ත' කියන ව්‍යවහාරය කරන්නෙ. **(තත්‍ර සත්තො තත්‍ර විසත්තො තස්මා සත්තොති වුච්චති)-(සං: නි: 3, සත්ත සූත්‍රය, 342 පිට)** මේ සත්වයො නම්කර කියන දේවල් ගැන සංඥා ඇති අය. **(අක්ඛෙය්‍ය සඤ්ඤිනො සත්තා)**නම්කර කියන දේ වල ම පිහිටා ඉන්න අය. **(අක්ඛෙය්‍යස්මිංපතිට්ඨිතා)** නම්කර කියන දේවල් පිළිබඳව දන්නෙ නැතුව මාරයාගේ වසඟයට යනව. **(අක්ඛෙය්‍ය අපරිඤ්ඤාය යොගමායන්ති මච්චුනො)- (සං: නි: 1, සමිද්ධි සූත්‍රය, 22 පිට)**

මේක අපි නිදර්ශනයකින් තේරුම් ගනිමු. දවසක් මාරයා වජිරා භික්ෂුණිය අපහසුතාවට ලක් කරන්න ඇගෙන් ප්‍රශ්නයක් ඇහැව්ව. "මේ සත්වයා ඇති කළේ කවුද? සත්වයා ඇතිකළ කෙනා කොහි ද? සත්වයා හටගත්තෙ කොහි ද? කොහෙ ද

නිරුද්ධ වෙන්නෙ?" මේ මාරයා බව දැනගෙන වජිරා තෙරණින් වහන්සේ ගාථා තුනකින් මෙහෙම උත්තර දෙනව. **(සං: නි: 1, වජිරා සූත්‍රය, 246 පිට)**

**1. කින්නු සත්තොති පච්චෙසි මාරදිට්ඨිගතන්නු තෙ,**
**සුද්ධසඞ්ඛාරපුඤ්ජොයං නයිධ සත්තූපලබ්භති.**

**2. යථාහි අඞ්ගසම්භාරො හොති සද්දො රථො ඉති,**
**එවං ඛන්ධෙසු සන්තෙසු හොති සත්තොති සම්මුති.**

**3. දුක්ඛමෙවහි සම්භොති දුක්ඛං තිට්ඨති වෙති ච,**
**අඤ්ඤත්‍ර දුක්ඛා සම්භොති නාඤ්ඤත්‍ර දුක්ඛා නිරුජ්ඣති.**

අපි බලමු මේ ගාථා තුනේ තේරුම කොහොම ද කියල. "මාරයො, කුමක් සත්වයෙක් කියල අදහනව ද? එය නුඹේ මාරදෘෂ්ටියක් නේද? මේ තනිකර සංස්කාර ගොඩක්. මෙහි සතෙක් ලැබෙන්නෙ නෑ. අංගෝපාංග ටික 'රථය' කියන ශබ්දය වෙනව වගේ ස්කන්ධයන් ඇති කල්හි 'සත්වයා' කියන සම්මුතිය වෙනව. ඇතිවෙන්නෙත් දුකමයි. පවතින්නෙත් දුකමයි. දුක හැර අනෙකක් ඇති නො වේ. දුක හැරෙන්නට අනෙකක් නිරුද්ධ නො වේ." තමාව දැනගත්ත කියල තේරුම් ගත්ත මාරය නො සතුටින් පලාගියා.

දැන් අපට ටික ටික තේරෙනව, විඤ්ඤාණ නාමරූප සිත් ප්‍රවාහයකින් අප අත්දකින්නේ හුදු සම්මුති පමණක් බව. දැන් අපි මේ පවත්වාගෙන යන සමාජ ව්‍යාපාරෙට අයිති ඔක්කොම සම්මුති පමණයි. පවුල් සංස්ථා, ස්වාමි භාර්යා මව්පිය දූ දරු සබඳතා, ගේ දොර, වතුපිටි, යානවාහන, මංමාවත්, ආණ්ඩු, අමාත්‍යංශ, දෙපාර්තමේන්තු, හිරගෙවල්, වධකාගාර, යුද්ධ, උගත්කම්, නූගත්කම්, නිලතල, නම්බුනාම, පදවි, ථානාන්තර, උසස්වීම්, පහතවැටීම්, කැපිලි, කෙටිලි, දුක්දොම්නස්, සැපහසුකම්, දුප්පත්කම්, පොහොසත්කම්, බඩුභාණ්ඩ, උපකරණ, පස්පවු, දසඅකුසල්, නරක, තිරිසන්, ප්‍රේත, අසුර, දිව්‍ය, බ්‍රහ්ම ඕව කියන්න ගියොත් ඉවරයක් නෑ. ඔය ඔක්කොම සම්මුති. මම කියන හැඟීමක් මවාගෙන සම්මුතියෙ ම කැලති කැලති ඉන්න

එක තමයි සංසාරෙ. අපි සාමාන්‍යයෙන් සංජානනය කරන මට්ටම තමයි ඔය. යෝනිසෝමනසිකාරයෙන්, වෙසෙස් නුවණින් බලන්නෙ නැත්නම් ඔතන ම තමයි.

මේ සකස් වීමට තමයි බුදුහාමුදුරුවො දේශනා කරන්නෙ, සක්කායසමුදය කියල. පුහුදුන් පුද්ගලයා ඉන්නෙ සක්කායසමුදය පැත්තෙ. සමුදයෙන් සමුදයට බැඳිල. ඒත් ඒ බව දන්නෙ නෑ. සක්කායනිරෝධයක් තියෙනව කියල දකින්නෙ ම නෑ. නිරෝධය තණ්හාව හින්ද වැහිල. නුවණැස වැහිල. දිගින් දිගට ඉන්න මම කෙනෙක් ගැන හිතාගෙන ඉන්නව. කල්ප ගණන් සසර ඇදුන. මතු සසරක් සකස් වෙන්නෙත් මේ හින්ද. මාංශ කයකට අහුවුණාම සසර පේන්නෙත් නෑ. මුළාව වැඩි වෙනව. **මජ්ඣෙ සූත්‍රයට (අංඃ නිඃ4, 188 පිට)** අනුව සක්කාය එක අන්තයක්. සක්කායසමුදය දෙවන අන්තය. මැද සක්කාය නිරෝධය. තණ්හාව නමැති මැහුම්කාරි සමුදයෙන් සමුදය මූට්ටු කරනව. අර චිත්‍රපටියෙ පිංතූර අතර පරතරය අපි නො දකින ආකාරයමයි මෙතැනත්. රූප, විඳීම්, හැඳිනීම් චේතනා, දැනීම් මොහොතක් මොහොතක් පාසා ඇතිවෙන නැතිවෙන බව දකින්නෙ නෑ. මම හොහොතක් මොහොතක් පාසා ඇතිවෙන නැතිවෙන බව දකින්නෙ නෑ. මේ මොහොතේ සිදු වන මේ දෙය ම තමා අතීතයේ සිදු වූයෙත් මතු සිදුවන්නෙත්.

එහෙම දිගින් දිගට ඉන්න, එක ම මම කෙනෙක් ගැන හිතාගෙන, අතීතෙ මං හිටිය ද, නැද්ද, අනාගතේ මං වෙනව ද නැද්ද, දැන් මං ඉන්නව ද, නැද්ද කියල හිතන්න ගිහිල්ල පුහුදුන් සිත ආත්ම සංකල්පවල තවතවත් පටලැවෙනව. එසේ මෙනෙහි නො කළයුතුයි කියල බුදුරජාණන් වහන්සේ සබ්බාසව සූත්‍රයේ වදාළේ ඒ නිසා. එය මෙනෙහි නො කළයුතු දේ මෙනෙහි කිරීමක්. අයෝනිසෝමනසිකාරයක්. එහෙම දේශනා කරන්න හේතුව මේකයි. සක්කායදිට්ඨිය ඇති පුහුදුන් සිතට ඕව මෙනෙහි කරන්න ගිහිල්ල දෘෂ්ටි වලට නො වැටී ඉන්න බෑ. බ්‍රහ්මජාල සූත්‍රයේ දක්වන දෘෂ්ටි 62 ට ම පදනම සක්කායදිට්ඨිය.

එහි සඳහන් වෙනව සමාධි ශක්තිය දියුණු කරගත් ඇතැම් මහණබමුණන් පුබ්බෙනිවාසානුස්සති ඥානයෙන් පෙර භවය පමණක් නොව කල්ප ගණන් සිහිපත් කළාය කියල. මේ මේ නම් ගොත්, වර්ණ, ආහාර, සුව, දුක්, ආයුෂ සහිතව හිටිය

බව සිහිකළා ය කියල. අන්තිමට ඔවුන් තහවුරු කරගත්තෙ ආත්ම දෘෂ්ටිය. ඇයි ඒ? ඔවුන් ඉදප්පච්චයතා පටිච්චසමුප්පාදය දන්නෙ නැති නිසා. එනිසා ම ඔවුන් කල්පනා කළේ දුක නැති කරන්න නම් සැප පමණක් ඇති ස්ථිර තැනකට පත් වෙන්න. එහෙම හිතාගෙන නෙවසඤ්ඤානාසඤ්ඤායතනයේ උපන්නත් ස්ථිර සැපතකට ගියා නො වෙයි කියන බව බුදුරජාණන් වහන්සේ පෙන්නුව. කරන්න තියෙන්නෙ ස්ථිර තැනක් හොයන එක නෙවෙයි, භවනිරෝධයයි. **(භවනිරොධො නිබ්බානං)- (අං: නිඃ 6, සාරිපුත්ත සූත්‍රය, 18 පිට)**

ඒත් බුදුරජාණන් වහන්සේ වගේ ම අභිඥාලාභී රහතන් වහන්සේලාත් අතීත භව සිහිපත් කළාය කියල සඳහන් වෙනව. මහාසච්චක සූත්‍රයේ බුදුරජාණන් වහන්සේ එසේ සිහිපත් කළබව සඳහන් කරනව. මොකට ද ඉතින් එහෙම සිහිකරන්නෙ කියල කෙනකුට ප්‍රශ්නයක් ඇතිවෙන්න පුළුවන්. සෙල්ලමකට නෙවෙයි, ඒවා ශ්‍රාවකයාට සිහිපත් කළාම තමයි, භවදුකේ තරම වැටහෙන්නෙ. අස්මිමඤ්ඤනාව නිසා නේද, මෙච්චර භවදුකක් සැකසෙන්නෙ, කියල වැටහෙන්නෙ. බුදුරජාණන් වහන්සේ යම් දෘෂ්ටියක් මතවාදයක් ප්‍රතික්ෂේප කරන්නෙ, විරුද්ධවෙන්න ඕන හින්දවත්, නො දන්න නිසාවත් නෙවෙයි. හැම දෘෂ්ටි ආශ්වාදයක් ම විඳින්නෙ ස්පර්ශයෙන්. **(ඵස්සපච්චයා)** දෘෂ්ටියක් ගන්නෙ මෙහෙමයි, **(එවංගහිතා)** කියන එක බුදුහාමුදුරුවො දන්නව. ඒකෙ ගතිස්වභාවයත් **(එවංගතිකා)**දන්නව. ඒ දෘෂ්ටිය නිසා වන පරලොව තත්ත්වයත් **(එවං අභිසම්පරායාති)** දන්නව. එනිසා එයින් මත්තෙහි කළයුත්තත් දන්නව. **(තතො ච උත්තරිතරං පජානාති)** ඒ දැනගත්තත් ඒ ඥානය ගැනවත් උන්වහන්සේට දෘෂ්ටිපරාමර්ශනයක් නෑ. **(න පරාමසති)** තමාම කෙලෙස් නිවීම දැනගත්තා. **(පච්චත්තඤ්ඤේව නිබ්බුති විදිතා)** ඒ දෘෂ්ටි ආශ්වාදයන්ගේ සමුදයත් අත්‍ථගමයත්, අස්සාදයත්, ආදීනවයත්, නිස්සරණයත් දැන උපාදාන රහිතව මිදුනා. **(වෙදනානං සමුදයඤ්ච අත්‍ථගමඤ්ච අස්සාදඤ්ච ආදීනවඤ්ච නිස්සරණඤ්ච යථාභූතං විදිත්වා අනුපාදා විමුත්තො භික්ඛවෙ තථාගතො)-(දීඃ නිඃ 1, බ්‍රහ්මජාල සූත්‍රය, 28 පිට)** ඔය කියන ආකාරයෙන් බුද්ධ කියන ශාස්තෘත්වයෙහි තරාතිරම ශ්‍රාවකයො දැනගන්න එපැයි.

අපට තේරුම් ගන්න තව දෙයක් තියෙනව. 'මම' මොහොතක් පාසා සකස් වෙනව නම් ස්ථිර මම කෙනෙක් නොවෙයි නම් සසරක් සකස් වෙන්නෙ ඇයි, කියන එකයි. කලිනුත් මතක් කළා, තණ්හාව තමයි පුද්ගලත්වය මවන්නෙ කියන එක. ඒ වගේ ම නිරෝධය නො පෙන්වා සමුදයෙන් සමුදය ගැටලන්නෙ තණ්හාව විසින් කියලත් කිව්ව. මේ සමුදය නිරෝධය නො දැන මම ස්ථිරව ඇතැයි හිතා ගැනීම තමයි අවිද්‍යාව කියන්නෙ. මම යන්න මොහොතක් මොහොතක් පාසා සමුදය වන ධර්මතාවක් වුනත් පුහුදුන් පුද්ගලයා හිතන්නෙ මම දිගින් දිගට ඉන්න කෙනෙක් කියලනෙ. ඒ නිසා මමත්වය ඉදිරියට දාගෙනයි ක්‍රියා කරන්නෙ. ලෝභ, ද්වේෂ, මෝහ අකුසල් මුල් වලින් පෙළඹිලා "මමයි බලවතා, මම බලයෙන් වැඩක් ඇති කෙනෙක්" **(බලවම්හි බලවතො ඉතිපි)**කියල හිතාගෙන අන් අයට කරදර විපත් ඇති කරනව. මේ කරන්නෙ දුක් ගෙන දෙන පව්කම්. මම හැඟීම ඉස්සරහට දාලා කටයුතු කළා කියන්නෙ ඒකෙ වගකීම තමන් ගත්ත කියන එකයි. එහෙනම් විපාක විඳින්නත් ඕන. මම හැඟීම ඉස්සරහට දාගෙන විපාක විඳින කොටත් කර්මය වැල් පොලී කරගන්නව. සසර නතර වෙන්නෙ නෑ. කෙනකු තුළ කුසලය වැඩෙනව කියන්නෙ මම හැඟීම **(අස්මි මඤ්ඤනාව)** ක්‍රමයෙන් ලිහිල් වෙනව කියන එකයි. කුසලය වැඩෙන්නට නම් නිරෝධය දකින්න ඕන. නැවත නැවත භවයට පැමිණෙන්නෙ නිරෝධය නො දැකීම නිසයි. **(නිරොධං අප්පජානන්තා ආගන්තාරො පුනබ්භවං)-( සුඃ නිඃ ද්වයතානුපස්සනා සූත්‍රය, 236 පිට)** නිරෝධය දකින කොටයි, සමුදයත් හරියට තේරෙන්නෙ.

බණ අහන්නෙ, කියවන්නෙ මේ කාරණා දැනගන්න. කුසල් පිළිවෙත දැනගන්න. උපාදානස්කන්ධසිත් ප්‍රවාහය තුළයි මම මැවෙන්නෙ කියන බව දැනගන්න. මේ මොහොතේ සිදුවන සමුදය නිරෝධ ක්‍රියාවලිය නො දකින පුද්ගලයා සම්මුති මට්ටම තමයි, සියල්ල ම කියල හිතනව. විදසුන් නුවණ නැත්නම් ධ්‍යාන අභිඥා ලැබුවත් සම්මුති මට්ටමෙන් මිදෙන්නෙ නෑ. පුද්ගලයෝ ඉපදිලා කලක් ඉඳල මැරෙණව දැක්කට, දේවල් ඇති වෙලා කලක් තිබිල විනාශ වෙනව දැක්කට සමුදය නිරෝධය දැක්ක වෙන්නෙ නෑ. බුදුවරයන් වහන්සේ නමක් ලොවට හෙළි කළ

අනිත්‍යතාව දක්ක වෙන්නෙ නෑ. කලක් ඉන්නව, කලක් තියෙනව කියන තැනදි උපදින්නෙ භවදිට්ඨිය. කලක් ඉඳල මියගියා, කලක් තිබිල විනාශ වුනා කියන තැන උපදින්නෙ විභව දිට්ඨිය. ලෝකසත්වයා රූපධර්මයන් දැකල භව විභව දිට්ඨි තීන්දු කරනව. **(රූපෙසු දිස්වා විභවං භවඤ්ච විනිච්ඡයං කුරුතෙ ජන්තු ලොකෙ)- (සුඃ නිඃ කලහවිවාද සූත්‍රය, 274 පිට)**

බුදු වී සතියක් සමාපත්ති සුවයෙහි වැඩසිට ඉන් නැගීසිටි බුදුපියාණන් ලෝකයාව දක්කෙ මෙහෙමයි. රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන් දැවෙන සත්වයා හටගත් සන්තාප ඇත්තෙක්. ස්පර්ශයට ගැති වුණ කෙනෙක්. තමා යයි කියන්නෙ රෝගයකට. යම් යම් ආකාරයෙන් හිතාගන්නවද එය එයින් අන් සැටියක් ම වෙනව. **(යෙන යෙන හි මඤ්ඤති තතො තං හොති අඤ්ඤථා)** (දැන් අපි දැනගන්න ඕන මේ වෙනස් බවට යන්නෙ සිත් බව. සිතක් කියන්නෙ විඤ්ඤාණයෙහි පිළිබිඹු වන නාමරූප බව) හිතාගන්නා ස්වභාවය කොච්චර වෙනස් වුණත් පැවැත්මටයි ඇලෙන්නෙ පැවැත්මටයි ගැති වෙන්නෙ. පවත්වා ගන්නමයි කැමති වෙන්නෙ. **(අඤ්ඤථාභාවී භවසත්තො ලොකො භවපරෙතො භවමෙවාභිනන්දති)** කැමති පැවැත්ම වෙනස් වෙනවට බයයි. **(යදභිනන්දති තං භයං)** වෙනස් වෙනවට බය හින්ද දුකයි. **(යස්ස භායති තං දුක්ඛං)** මේ සසුන් පිළිවෙත තියෙන්නෙ පැවැත්ම දුරලන්න. **(භවවිප්පහානාය)** යම් දුක් නැති පැවැත්මක සදාකාලික වීමට හිතුවට එහෙම තැනක් නෑ.ඒක ශාශ්වත දෘෂ්ටියක්. උච්ඡේදයෙන් දුක ඉවර කිරීමකුත් නෑ. බුදුපියාණන් වහන්සේ මේ ගැන මෙහෙමයි සඳහන් කරන්නෙ.

1. යම් මහණ බමුණු කෙනෙක් යම් භවයක සදාකාලික වීමෙන් භවදුකින් මිදීමක් කියනව නම් ඒ අය භවයෙන් මිදුන අය නොවයි. **(යෙහි කෙචි සමණා වා බ්‍රාහ්මණා වා භවෙන භවස්ස විප්පමොක්ඛමාහංසු සබ්බෙ තෙ අවිමුත්තා භවස්මාති වදාමි)**
2. යම් මහණ බමුණු කෙනෙක් උච්ඡේද දෘෂ්ටියෙන් භවයෙන් නික්මීමක් කිව්වා නම් ඒ අය භවයෙන් බේරුණ අය නොවෙයි.**(යෙ වා පන කෙචි සමණා වා බ්‍රාහ්මණා වා විභවෙන භවස්ස නිස්සරණමාහංසු සබ්බෙ තෙ අනිස්සටා**

**භවස්මාති වදාමි)-(ඛු: නි: 1, උදානපාළි, ලොකවොලොකන සූත්‍රය, 192 / 194 පිටු)**

උපාදානස්කන්ධ නමැති වත්කම **(උපධි)** තමයි දුකට මුල. උපාදානය නැත්නම් දුකක් නෑ. අවිද්‍යාව නිසා සළායතනික වශයෙන් මවන සිත් වලට ඇලී සිටින තාක් භවයෙන් මිදීමක් නෑ. උපාදානය ඇත් නම් භවයත් එතන ම යි. මේ කරුණ මැරුණයින් පස්සෙ ඇතිවන භවයකට පමණක් සීමා කරල හිතනව නම් මේ මොහොතේ සක්කායනිරෝධය දකින්න බැරි වේවි.

## සක්කායසමුදයෙන් මිදීමට දතයුතු වැඩියයුතු කුමක් ද?

බුදුරජාණන් වහන්සේ සත්‍වයා කියන ව්‍යවහාරය කරන්නෙ රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් යන ස්කන්ධ වලට ඇති ඇල්ම නිසා බව දැන් අපි ධර්මය තුළින් දන්නව. රූප අරමුණු වෙන්නේ සළායතනික නිමිති වශයෙන් කියලත් දන්නව. සළායතනත්, එමගින් අරමුණු වන නිමිතිත් මේ මොහොතේ සමුදය වන බවත් දන්නව. ස්පර්ශයෙන් මනසිකාරයෙන් යුතුව විඳීම් හැඳිනීම් චේතනා වශයෙන් අත්දකින්නේ උපාදාය රූප, එනම්: නාමමාත්‍ර රූප බවත් අපි කොතෙකුත් කථාකරල තියෙනව. ඒ නාමමාත්‍ර සමුදය වෙන්නේ විඳීන, සංඥා, චේතනා, ස්පර්ශ, මනසිකාර යන නාමධර්ම සමුදයත් සමගයි කියන්න අපි දැන් දන්නව. නාමධර්ම නැතිව රූපධර්මවත් රූපධර්ම නැතිව නාමධර්මවත් සමුදය වෙන්නෙ නෑ, කියන බව අපි දන්නව. මේ නාමරූප සමුදය වෙන්නෙ විඤ්ඤාණ සමුදයත් සමගයි. නාමරූප සමුදයෙන් තමයි, සිතේ සමුදය සිදුවන්නෙ. **(නාමරූප සමුදයා චිත්තස්ස සමුදයො)- (සං: නි: 5 (1), සමුදය සූත්‍රය, 330 පිට)** මේවා සමුදය වෙන්නේ එකකට එකක් ප්‍රත්‍යය වෙමින්. තනිව ඇතිවන දෙයක් නෑ.

මෙවන් අවයව සහිත සිත් ප්‍රවාහයකින් තමයි අපේ අත්දැකීම් සකස් වෙන්නෙ, කියන බවත් දැන් දන්නව. මේ ටික සඳහන් කළේ නැවත මතක් කරගැනීමක් හැටියට. එකක් පසු එකක් වශයෙන් සිත් ප්‍රවාහයක් ගලාගියාට අපට සිත් ප්‍රවාහයක් බව පෙනෙන්නෙ නෑ. අපි හිතන්නෙ එක හිතකින් ඉන්නව කියල. රූප, විඳීම් හැඳිනීම්, චේතනා සකස් වීම් (සංස්කාර), දැනීම් (විඤ්ඤාණ) කියන උපාදානස්කන්ධ අල්ලගෙන සිතක් සිතක් පාසා තමයි, මම මැවෙන්නෙ. **(උපාදාය අස්මීති හොති)**එතැනදිත් වෙන්නෙ එක ම මම කෙනෙක් ඉන්නව කියල රැවටෙන එකයි. දුක තමයි, මේ සකස් වෙන්නෙ. ඒ බව නො දන්න එක තමයි, අවිද්‍යාව කියන්නෙ. මම වගේ ම උපාදායරූපත් නිරෝධය නො දකින නිසා දිගට පවතිනව කියල රැවටෙනව. මෙන්න මේ ස්වභාවය තමයි, උපාදාන ප්‍රත්‍යයෙන් භවය වේ **(උපාදාන පච්චයා භවො)**කියල පටිච්චසමුප්පාද දේශනාවේ සඳහන් වෙන්නෙ. මේ විදියට අත්දැකීම් වශයෙන්

තමයි දේවල් සකස් වෙන්නෙ. එහෙම සකස් වන දේවලට උපධි කියල ධර්මයේ ව්‍යවහාර වෙනව. මේ උපධි ප්‍රත්‍යය කරගෙන තමයි, දුක ඇති වෙන්නෙ. **(උපධිං පටිච්ච දුක්ඛමිදං සම්භොති)**මේ අල්ලාගන්නා ඔක්කොම ක්‍ෂය වුනොත් දුකෙහි හටගැනීමක් නෑ. **(සබ්බූපාදානකඛයා නත්‍ථි දුක්ඛස්ස සම්භවො)** මෙය ඇති කල්හි මෙය වෙයි. මෙය ඉපදීමෙන් මෙය උපදියි. කියන ධර්ම න්‍යායයට අනුව තමයි, අපේ අත්දැකීමට අයත් හැම ස්වභාවයක් ම සමුදය වෙන්නෙ. **"භූත"** කියන වචනය බුදුරජාණන් වහන්සේ යොදන්නෙ මෙසේ සමුදය වන ධර්ම වලට. ඒවා සැබැවින් ම ඇති දේ, පවතින දේ හැටියට ගන්නෙ අවිද්‍යාව නිසා.

සංසාර සත්‍වයා සමුදය පැත්ත අල්ලගෙන හිටියට සමුදය වන ධර්ම ප්‍රවාහයක් කියල දන්නෙ නෑ. හිතාගෙන ඉන්නෙ පැවැත්මක් ඇති දේ කියල. දිගින් දිගට ඉන්න මම කෙනෙක් කියල හිතා ගන්නේ සමුදය නො දන්න නිසා. සමුදය වන බව දන්නෙ නෑ වගේ ම, නිරෝධය දන්නෙත් නෑ. පුහුදුන් පුද්ගලයා දන්නෙ නිරෝධය නො වෙයි. පුද්ගලයො කලක් ඉඳල මැරෙණව, දේවල් කලක් තිබිල විනාශ වෙනව, කියලයි දන්නෙ. මෙය නැති කල්හි මෙය නො වෙයි. මෙය නිරුද්ධවීමෙන් මෙය නිරුද්ධ වෙයි. කියන නිරෝධ ධර්මතාව දන්නෙ නෑ. මේ කියන අනවබෝධය නිසා පැවැත්මක් ඇතැයි රැවටී සිටීම තමයි, අවිද්‍යාව. අවිද්‍යාවෙන් මැඩුණ ස්කන්ධයන්හි ඇලුණ සත්වයො භවයෙන් මිදෙන්නෙ නෑ. **(අවිජ්ජාය පරෙතා භූතා භූතරතා භවා අපරිමුත්තා)**

ඒ අනුව සත්වයා රූප වේදනාදී ස්කන්ධ වශයෙන් අල්ලාගන්නා හැම ස්වභාවයක් ම අනිත්‍යයි දුකයි. විපරිණාමියි. **(සබ්බෙ තෙ භවා අනිච්චා දුක්ඛා විපරිණාමධම්මා) (බුඃ නිඃ 1, 194 පිට)** මේ කථා කළේ පුද්ගලයාගේ සිත් ප්‍රවාහය තුළ මවාගන්නා රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් අනිත්‍ය බවයි. දුක් බවයි. විපරිණාමී බවයි. බාහිර වාස්තවික ලෝකයත් එහි අඩංගු දේවලුත් ගැන නොවෙයි. හැබැයි, ඒවත් අනිත්‍යයි. ඒත් ඒ අනිත්‍යතාව විතරක් දැන ගත්තාට සසර දුක නිවෙන්නේ නෑ. සත්තසුරියුග්ගමන සූත්‍රයේ දී බුදුරජාණන් වහන්සේ දේශනා කරනව මේ මහපොළොවත් ලෝකවිනාශයේ දී අළුත් දැළිත්

නැතිවෙන විදියට විනාශ වෙනව කියල. විද්‍යාඥයොත් ද්‍රව්‍ය පරමාංශුව වන පරමාණුව විශ්ලේෂණය කරල දැන් කියනව, ද්‍රව්‍යය කියල දෙයක් නොවෙයි තියෙන්නෙ ශක්ති කියල. බාහිර පරමාණුව ගැන දැන ගැනීමෙන් නිවන් පිළිවෙතට වැඩක් නෑ. එහෙම දැන ගත්තට විදර්ශනාවක් වැඩුණා වෙන්නෙ නෑ. බුදුරජාණන් වහන්සේ බාහිර රූපධර්ම පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන මහාභූතරූප වලින් සකස් වෙනව කියල. මහාභූත කියන්නෙ කිසියම් රසායණයක් එහෙම නෙවෙයි. ඉලෙක්ට්‍රෝන, ප්‍රෝටෝන, නියුට්‍රෝන වගේ දෙයක් නොවෙයි. අපට ද්‍රව්‍යය අත්දකින්නට ලැබෙන විදිය අනුවයි, එහෙම හඳුන්වන්නෙ. තදට බුරුලට දැනෙන නිසා පඨවි කියනව. බැඳෙනසුලු ගතිය, තෙත ගතිය නිසා ආපෝ කියනව. රස්නෙට සීතලට දැනෙන නිසා තේජෝ කියනව. පිම්බෙන, සැලෙන, චංචලවෙන ගතිය නිසා වායෝ කියනව. ඒ අපට අත්දකින්නට ලැබෙන විදිය. ද්‍රව්‍ය ලෝකෙ මොනව තිබුණත් අපට අත්දකින්නට ලැබෙන ආකාරය අනුවයි බුදුසමය කථා කරන්නෙ. අත්දැකීමේ හැටියට තමා සංකල්පනා බිහිවෙන්නෙ. පුද්ගලයා දේවල් කියල කියන්නේ අත්දැකගන්නා ස්වභාවයන්ට. ඒ අනුව බුදුසමය රූපය කියල කථා කරන්නේ ද්‍රව්‍යයක් ගැන නෙවෙයි. රූපසංඥාවක් ගැනයි.

ලස්සනයි, කියන සම්මතය දීපු රූපයක් ඇසට අරමුණු වුණා කියල හිතන්න. ඇසට අරමුණු කරගත හැක්කේ වර්ණයත් හැඩයත් පමණයි. එතැනට කෙලෙස් තුළින් ලස්සන අවලස්සන කියන ඇගයීම ආරෝපණය කරන්නෙ, තමන්මයි. පෙනෙන කයේ හෝ වස්තුවේ හෝ ලස්සනක්වත් අවලස්සනක්වත් නෑ. ඒ හින්ද තමයි අංගුත්තර නිකායේ නිබ්බෙධික සූත්‍රයේ දි බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ, පුද්ගලයාගේ කාමය කියන්නෙ සංකල්පනාරාගයයි කියල. **(සංකප්පරාගො පුරිසස්ස කාමො)**විවිධාකාර වූ ලෝකය කාමය නො වෙයි. **(නෙතෙ කාමා යානි චිත්‍රානි ලොකෙ)** බාහිර ලෝකයේ විවිධාකාර දේ ඔහේ තියෙන තැන්වල එහෙම ම තියෙනව. **(තථෙව තිට්ඨන්ති චිත්‍රානි ලොකෙ)- (අං: නි: 4, නිබ්බෙධික සූත්‍රය, 202 පිට)** බාහිර මොන දේකට වුණත් තමන් ඇලුම් කරනව වගේ දැනුනට, අන්තිමට තමන් මවාගන්නා සංකල්පනාවටයි ඇලිල තියෙන්නෙ කියන බව හොඳට කල්පනා කරල තේරුම් ගන්න.

බාහිර ලෝකය පිළිබඳව රූප, ශබ්ද, ගන්ධ, රස, ඵොට්ඨබ්බ වශයෙන් විඳීම්, හැඳිනීම්, චේතනා ඔස්සේ අල්ලාගන්නා සංකල්පනා ලෝකයටයි, පුද්ගලයා බැඳී සිටින්නෙ. ඒත් සංකල්පනයකටයි, මේ ඇලිල සිටින්නෙ කියල පුහුදුන් පුද්ගලයා දන්නෙ නෑ. දිගින් දිගට ඉන්න මම දිගින් දිගට ඉන්න කෙනකුට හෝ දිගින් දිගට තියන දෙයකට ආශ කරනව කියලයි හිතන්නේ, මේ පවතිනවා කියන කල්පනාව තමයි භවදිට්ඨිය කියන්නෙ. 'කෙනෙක් කලක් ඉඳල මියයනව. දෙයක් කලක් තිබිල විනාශ වෙනව' කියල ඇති කරගන්නා කල්පනාව විභව දිට්ඨියයි. ලෝකයා රූප දැකලයි, භව, විභව දිට්ඨි ගොඩනගන්නෙ. **(රූපෙසු දිස්වා විභවං භවඤ්ච විනිච්ඡයං කුරුතෙ ජන්තු ලොකෙ)** ඒ සංකල්පනාමය තත්ත්වයන් අන් අයුරකට යා නො දී දිගින් දිගට පවත්වා ගැනීමට ඇති කැමැත්ත භවතණ්හාවයි. පවත්වාගන්න අකැමති දුකක් හෝ අකැමති දෙයක් හෝ ඉවරයක් වෙනව දකින්න කැමති වෙන කොට ඒක විභවතණ්හාව. මැරුණම ආයෙ උපදින්නැත්නම් හොඳයි කියල කැමති වීම විභවතණ්හාව.

මේ විදියට කරුණු තේරුම් ගන්නකොට වැටහෙනව වාස්තවික ලෝකය ගැන වුනත් අපට ඇත්තේ සංකල්පනාමය වශයෙන් ඇතිකරගත් සංඥාමාත්‍ර පමණයි, කියන එක. හැම ධර්මයක් ම බිහිවෙන්නේ මනසිකාරයෙන් ය, **(සබ්බෙධම්මා මනසිකාරසම්භවා)**කියල බුදුරජාණන් වහන්සේ වදාරන්නේ ඒ නිසා. හැම ධර්මයක් ම සමුදය වෙන්නෙ ස්පර්ශයෙන් කියල වදාරන්නෙ ඒ නිසා. **(ඵස්ස සමුදයා සබ්බෙධම්මා)** කැමැත්ත, ආශාව, ඡන්දය මුල් වෙලා තමයි, අත්දැකීමට හසුවන කොයි දේත් සමුදය වෙන්නෙ. **(ඡන්දමූලකා සබ්බෙධම්මා)**හැම දේ ම යොමුවෙලා තියෙන්නෙ වින්දනයට. **(වෙදනා සමොසරණා සබ්බෙධම්මා)**

පැවතීම, පැවතිලා විනාශ වීම කියන්නෙ, ස්පර්ශය, මනසිකාරය, ඡන්දරාගය, වින්දනය කියන පුද්ගල අත්දැකීම් පිළිබඳ කරුණක්. අපේ අත්දැකීම් යම් සේ සමුදය වුණා ද ඒ ආකාරය තමයි, **'යථාභූත'** කියන්නෙ. මේ ස්වභාවය මනා නුවණින් දකිනව නම් පැවැත්ම පිළිබඳ තණ්හාව ප්‍රහාණය වෙනව. **භවතණ්හා පහීයති)**විනාශයක් පතන්නෙත් නෑ. **(විභවං**

**නාභිනන්දති)** හැම අයුරකින් ම මේ භව, විභව තණ්හාව ක්‍ෂය වී ඉතිරියක් නැතිව ම මැකී නිරුද්ධ වෙනව නම් ඒ තමයි, නිවන. **(සබ්බසො තණ්හානං ඛයා අසෙසවිරාගනිරොධො නිබ්බානං) (ඛුඃ නිඃ 1, 194 පිට)** එසේ නිවුන පුද්ගලයාට උපාදානයක් නැති නිසා භවදුකක් නෑ. මාරයා අභිභවනය කරල. මාරයා සමඟ වූ යුද්ධයෙන් දිනල. ඒ උත්තමය සියලු භවයන් ඉක්මවල.

මේ කරුණු ටික කථා කරන කොට වැඩි වශයෙන් ඇසුරු කළේ උදානපාළියේ ලෝකවෝලෝකන සූත්‍රය. දහම්මග තේරුම් ගන්න නම් දහම්මග වඩන්න නම් අපි සසරට හසුවෙලා ඉන්නෙ මොන දෝසය නිසා ද කියන බව වටහා ගන්න ඒ සූත්‍රය ඉතා ම වැදගත්. ඒ වගේ ම සූත්‍රයක් තමයි, ඉතිවුත්තකපාළියෙ දිට්ඨිගත සූත්‍රය. භව විභව දිට්ඨී හඳුන ගන්නෙ නැතිව නිවන් අරමුණේ වැදගත් කමක් පෙනෙන්නෙත් නෑ. භවදිට්ඨියෙ ඉන්න දෙවිමිනිසුන්ට භවනිරෝධය පිණිස බණ කිව්වට තේරෙන්නෙ නෑ. පහදින්නෙ නෑ. පිහිටන්නෙ නෑ. භවනිරෝධයට හිත පසුබානව. **(ඔලීයන්ති)**විභවදිට්ඨියෙ ඉන්න කෙනා හිතාගෙන ඉන්නේ මරණයෙන් භවය ඉවර වෙයි කියල. ප්‍රතිපදාවක් නැතිව විභවයක් කැමති වීම අතිධාවනයක්. **(අතිධාවන්ති)**මේ පිළිබඳව කලින් ධර්මපත්‍රිකාවෙත් අපි සඳහන් කළා. මේ දිට්ඨිවල දෝසය දකල නුවණින් බලන්න පුළුවන්නම් තමයි, ප්‍රතිපදාව ඇරඹෙන්නෙ. නුවණැස ඇත්තා ම යි දකින්නෙ. **(චක්ඛුමන්තොව පස්සන්ති)- (ඛුඃ නිඃ 1, දිට්ඨිගත සූත්‍රය, 376 පිට)** භව, විභව දිට්ඨී ඇතිවෙන හැටි, සිදුවන ආකාරයෙන් දකල ඒවායේ කලකිරීමට, විරාගයට, නිරෝධයට පිළිපන් කෙනා තමයි, ප්‍රතිපදාව අරඹල තියෙන්නෙ.

සංසාරික පුද්ගලය අත්දකින හැම ස්වභාවයක් ම අත්දකින්නෙ නාමරූප සමුදයෙන් ඇතිවන සිතකින්. නාම රූප සම්බන්ධතාව ස්පර්ශය ප්‍රත්‍යය කරගෙනයි, ඇතිවෙන්නෙ. **(නාමඤ්ච රූපඤ්ච පටිච්ච ඵස්සා)** ඒත් දහම නො දන්නා පුද්ගලයා. ඒ බව දන්නෙ නෑ. මේ ස්පර්ශයට පැවැත්මක් නෑ. ඇතිවුණ ගමන් නැතිවෙනව. නාමරූපත් ඇතිවුණ ගමන් නැති වෙනව. මනසිකාරය යෙදිල නම් තියෙන්නෙ නැවතත් ඇති වෙනව. එසැනින් නැති වෙනව. වෙසක් තොරණේ විදුලි බුබුල දල්වපුවාම අපි දකින්නෙ නොයෙක් ආලෝක රටා. එතැන සිදු

වෙන්නෙ පත්තුවෙනව නිවෙනව ආයෙත් පත්තු වෙනව. ආයෙත් නිවෙනව කියන ටිකයි. දැල්වීමට සමගාමීව නිවෙන එකත් සිද්ධ වෙනව. ඒත් නරඹන්නා නිවෙන පැත්ත නො සලකා දැල්වීම් ම අල්ලාගෙන ආලෝකරටා අත්දකිනව. ඒ වගේමයි මේ සිත් ප්‍රවාහයත්. පැවැත්මක් ඇති සේ පෙනෙන්නෙ සමුදය පැත්ත මිසක් නිරෝධ පැත්ත නො පෙනෙන නිසා. නිරෝධය නො දන්නා නිසා නැවතත් භවයට පැමිණෙනව. **නිරොධං අප්පජානන්තා ආගන්තාරො පුනබ්භවං)**නිරෝධය නො පෙනෙන්නෙ තණ්හාව නිසා. තණ්හාවට වැහිල නිසා. ධර්මය නො දන්නා පුද්ගලයා සමුදය පැත්තේ හිටියට මේ අත්දැකීම අවශ්‍ය ප්‍රත්‍ය සම්බන්ධතාවෙන් සමුදය වීමක් බව දකින්නෙ නෑ. ඔහු හිතන්නේ දිගින් දිගට ඉන්න මම දිගින් දිගට පවතින දේවල් අත්දකිනව කියල. කෙටියෙන් කිව්වොත් සමුදය සිත පිළිබඳ කරුණක්. නිරෝධයත් එහෙමයි.

දැන් අපි දන්නව සිතක අවයව මොනව ද කියල. ආයෙත් මතක්කර ගන්න. ස්පර්ශයෙන් සමුදය වන සළායතනික රූපනිමිති මනසිකාරයටයි හම්බ වෙන්නෙ. විඳන සංඥා චේතනා අනුවයි විඳගන්නෙ. හඳුනගන්නෙ. චේතනා මවන්නේ. මේවා වෙන්කර දැනගන්නා ස්වභාවය තමයි විඤ්ඤාණය. මේ තමයි සිතක අවයව. මේ අවයව සහිත සිතක් සමුදය වූ සැණින් නිරුද්ධ වෙනව. මේ එක අවයවයකටවත් තනිව ඇතිවෙන්න බෑ. නාමරූප සමුදය වෙන්නෙ, ස්පර්ශය ප්‍රත්‍යයෙන් කියල අපි කලින් සඳහන් කළා. විඤ්ඤාණය තමයි මේ නාමරූප පිළිබිඹු කරන්නෙ. මනසිකාරය යෙදෙන නිසා ස්පර්ශය ප්‍රත්‍යයෙන් නාමරූප සමුදය වෙනව. ඒ නිසා අපට පේනව. ඇහෙනව. ආඝ්‍රාණය වෙනව. රස දැනෙනව. පහස දැනෙනව. කල්පනා වෙනව. ඕක මම කරන දෙයක් නෙවෙයි. ප්‍රත්‍ය සම්බන්ධතාව ඇති තැන සිදුවන ක්‍රියාවලියක්.

මේ ස්පර්ශය එක අන්තයක්. මනසිකාරය ඔස්සේ ආයතන හය අනුව සමුදය වන මේ ස්පර්ශය ප්‍රත්‍යය කරගෙන සමුදය වන නාමරූප ධර්ම චලනය වන ධර්ම. ව්‍යය වන ධර්ම. විපරිණාමයට පත්වන ධර්ම. අන්‍යථාභාවයට යන ධර්ම. එසේ අනිත්‍ය වුවත් තණ්හාව නිසා නැවතත් ස්පර්ශයට යොමුවෙනව. ඒ ස්පර්ශය දෙවන අන්තයයි. නැවතත් නාමරූප සමුදය වෙනව.

මේ විදියට තණ්හාව නිසා ඵස්සයෙන් ඵස්සයට යොමුවෙමින් සිත් ප්‍රවාහයකින් අත්දැකීම් ලැබෙණකොට අපට අනිත්‍යතාව පෙනෙන්නෙ නෑ. නැවත නැවතත් වේගවත්ව සමුදයවන නිරුද්ධවන සිත් සන්තතිය අපට පෙනෙන්නෙ නෑ. සිතේ පරිවර්තන වේගයට උපමාවක් කියන්නත් අපහසුයි කියල බුදුරජාණන් වහන්සේ වරෙක දේශනා කරනව. **(උපමායපි න සුකරා යාව ලහුපරිවත්තං චිත්තං)**ඒ පරිවර්තනය නො දකින නිසා සංසාරික පුද්ගලය ඉන්නෙ ඝනසංඥාවට වැටිල. මම ඉන්නව, අත්දකින දේවල් තියෙනව, කියන මුළාවට වැටිල.

ස්පර්ශයෙන් ස්පර්ශය සම්බන්ධ කරන්නේ තණ්හාව විසිනුයි. ස්පර්ශ දෙකක් අතරත ඵස්සනිරෝධයයි. තණ්හාව නිසා ඵස්සනිරෝධය පෙනෙන්නෙ නෑ. නිරෝධය නො දකින නිසා නැවත නැවතත් උපාදානයට භවයට පැමිණෙනව. බාවරී බ්‍රාහ්මණයාගේ ශිෂ්‍ය තිස්සමෙත්තෙය්‍ය මානවකයා වරක් බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රශ්නයක් ඇහැව්ව. "මේ ලෝකෙ සතුටින් ඉන්නෙ කවුද? කම්පනයන් නැත්තෙ කාට ද? අන්ත දෙක අතහැරල මැද නුවණින් නො ඇලෙන්නෙ කවුද? මහාපුරුෂයා ය කියන්නේ කවුද? තණ්හා නමැති මැහුම්කාරිය ඉක්මගියේ කවුද?" එහි දී බුදුරජාණන් වහන්සේ මෙහෙම වදාරනව. "කාමයෙහි බඹසර ඇති, පහ වූ තෘෂ්ණාව ඇති, හැමකල්හි සිහියෙන් යුතුව විමසා නිවුන භික්ෂුවක් වේ නම් ඔහුට කම්පනයන් නැත."

**"සො උභන්තමභිඤ්ඤාය, මජ්ඣෙ මන්තා න ලිප්පති,**
**තං බ්‍රෑමි මහාපුරිසොති සොධ සිබ්බනිමච්චගා."**

"ඔහු අන්තදෙක දැනගෙන මැද නුවණින් නො ඇලෙයි. ඔහු මහාපුරුෂයා යයි කියමි. ඔහු තණ්හාව නමැති මැහුම්කාරිය ඉක්ම ගියේ ය."

එක් දිනක් පිණ්ඩපාතයෙන් අනතුරුව මණ්ලමාලයෙහි රැස් වූ ස්ථවිර භික්ෂූන් අතරත මෙබඳු කථාබහක් ඇති විය. ඇවැත්නි, පාරායනයේ මෙත්තෙය්‍ය ප්‍රශ්නයේ දී භාග්‍යවතුන් වහන්සේ වදාරණ එක් අන්තය කුමක් ද? දෙවන අන්තය කුමක් ද? මැද කුමක් ද? මැහුම්කාරිය කවුද? යනුයි, ඒ. එහි දී ස්ථවිර භික්ෂූන් අතරින් සය නමකගෙන් පිළිතුරු සයක් ඉදිරිපත් වුණා.

| | | |
|---|---|---|
| ඵස්සය | ඵස්සනිරෝධය | ඵස්සසමුදය |
| අතීතය | වර්තමානය | අනාගතය |
| සුඛවේදනා | අදුක්ඛමසුඛවෙදනා | දුක්ඛවේදනා |
| නාමය | විඤ්ඤාණය | රූපය |
| අජ්ඣත්තික ආයතනඃ | විඤ්ඤාණය | බාහිර ආයතන |
| සක්කාය | සක්කායනිරෝධය | සක්කායසමුදය |

මේ තමයි අන්ත දෙකයි මැදයි. මැද නො පෙනෙන ලෙස අන්ත දෙක සම්බන්ධ කරන්නේ තණ්හාව නමැති මැහුම්කාරිය බව හැම පිළිතුරක ම සමානයි. මින් කෝකද හරි කියල බුදුරජාණන් වහන්සේගෙන් විමසුවාම, උන්වහන්සේ සඳහන් කළේ මේ පිළිතුරු හය ම හරි බවයි. එහෙත් තිස්සමෙත්තෙය්‍ය සූත්‍රයේ දී උන්වහන්සේ අදහස් කළේ ඵස්සයත් ඵස්ස සමුදයත් උභයාන්තය බවත් ඵස්සනිරෝධය මධ්‍යය බවත් ය. දහම්මගෙහි උනන්දුවක් ඇති අයට මේ පිළිතුරු හය ම වැදගත්.

නිවන් ප්‍රතිපදාව වැඩෙන්නෙ අන්තවල නො වෙයි. මැද නො ඇලී ප්‍රඥාවෙන් විනිවිද යාමක් හැටියටයි. විදසුන් භාවනාව ඒ පිණිසයි. රූප, විඳීම්, හැඳිනීම්, චේතනා (සංස්කාර), දැනීම් සිත් ප්‍රවාහය තුළ සමුදය වන ස්වභාව බව නො දැක පවත්නා දේ හැටියට, මම මගේ හැටියට ගත්තොත් ඒ සක්කායදිට්ඨියයි. සංසාර සත්වයා සක්කාය නමින් හැඳින්වෙන ස්කන්ධ වල ඇලී සිටිමින් එහි නිරෝධය නො දැක සක්කායසමුදයට යොමු වෙනව. සක්කායදිට්ඨිය බිඳහෙලීමේ මර්මස්ථානය තමයි, නිරෝධ අවස්ථාව.

ඒ සඳහා සූදානම් වන කෙනා සියලු සිත් ඇතිව නැති වන ධර්ම බව සම්මර්ශනය කරමින් දැනගන්න ඕන. මේ එක හිතක්වත් තමන් හදපු ඒව නො වෙයි. අපේ ම කෙලෙස් සහගත පෙළඹවීම් වලින් පෝර දමන එකයි, මෙතැන කෙරෙන වරැද්ද. පෝර දාන්නෙ නැත්නම් සිත්වලට මැකී යන්නයි, සිද්ධ වෙන්නෙ. මම මගේ කියන මමත්වය ඉස්සරහට දැමීම තමයි, කෙලෙස් සහගත පෙළඹීම් වලින් කෙරෙන්නෙ. ඒ නිසා අත්දැකීම් ලැබෙන විට ටික ටික හෝ තමන් හැදූ දේ නො වන බව නුවණින් දකින්න. පෙනෙන විට බලන්නට නො යා 'පෙනෙවා' යයි සලකාගන්න. සෙසු ආයතනික අරමුණු ගැනත් මේ ආකාරයෙන් ම සලකාගන්න.

## දහම පිබිදෙන්නට නම්....

දැනට තමන්ට නැති, නමුත් තමන්ට ඕනැයි කියල හිතන දේවල් සතුකරගන්න අපි මමත්වය ඉස්සරහට දාගෙන උත්සාහ කරනව. 'සසර දුකයි, නිවනයි සැනසීම' කියල බුදුහාමුදුරුවෝ දේශනා කරනකොට අපටත් ඕන කරනව නිවන ලබාගන්න. වෙළඳ දැන්වීම් වල කියනව වාගේ 'නිවනේ සාඩම්බර හිමිකරුවකු වෙන්න'. නිවන පිණිසත් ඡන්දය වායාමය අවශ්‍යයි. හැබැයි මමත්වය වෙනුවට ප්‍රඥාව ඉදිරියට ගන්න ඕන. කෙලෙස් වලට විරෝධය පෑමෙන් වැඩක් නෑ. අවබෝධයට අවශ්‍ය ප්‍රත්‍ය ධර්ම සකස් වන ආකාරයට ක්‍රියා කිරීමයි, කළයුත්තෙ. නිවන විතරක් නොවෙයි, දහම්මගට අවශ්‍ය ප්‍රත්‍යයන් පුබුදින්නෙත් ධර්මය විසින් ම බව අපි දැනගන්න ඕන.

මේ ගැන දැනගන්න හොඳ දේශනාවක් තමයි චේතනා කරණීය සූත්‍රය. ඒ සූත්‍රය අනුව දුසිල්කෙනාගෙ හිත ඇලීම්, තැවීම්, රැවටීම් නිසා විපිළිසරයි. සීලසම්පන්නයාගේ හිතේ පසුතැවිලි නෑ. පසුතැවිලි නො වේවා කියල අමුතුවෙන් හිතන්න ඕන නෑ. පසුතැවිලි නැත්නම් ප්‍රමෝදය ලැබේවා කියල හිතන්න දෙයක් නෑ ප්‍රමෝදය තියෙනව. ප්‍රමෝදය ඇති කෙනාට ප්‍රීතිය උපදීවායි හිතන්න දෙයක් නෑ. ප්‍රීතිය උපදිනව. මේ ක්‍රමයෙන් වටහා ගන්න. ප්‍රීතිය ඇති කෙනාට ස්වභාවයෙන් ම කය සංසිඳෙනව. කය සංසිඳුන කෙනාට සැපය ඇති වෙනව. සැපය ඇති කෙනාට චිත්තසමාධිය ඇති වෙනව. චිත්තසමාධිය ඇති කෙනාට ඇතිසැටිය පිළිබඳ දැනුම දැකුම (යථාභූතඤාණදස්සනය) ඇතිවෙනව. ඇතිසැටිය දන්න දකින කෙනාට ප්‍රඥාවෙන් යුක්ත කලකිරීම ඇති වෙනව. කලකිරුණ කෙනාට විමුක්ති ඥානදර්ශනය ඇති වෙනව. සූත්‍රයේ අන්තිමට සඳහන් වෙන්නෙ "මහණෙනි, මේ ආකාරයෙන් භවත්‍රය සංඛ්‍යාත මෙතෙරින් නිර්වාණය වූ එතෙරට යාම සඳහා ධර්මයෝ ම ධර්මයන් පවත්වන්නාහ. ධර්මයෝම ධර්මයන් පුරන්නාහ." කියලයි. **(ඉති ඛො භික්ඛවෙ ධම්මාවධම්මෙ අභිසන්දන්ති, ධමමාවධම්මෙ පරිපූරෙන්ති අපාරා පාරං ගමනාය)- (අං: නි: 6, චේතනාකරණීය සූත්‍රය, 06 පිට)** මේ ස්වභාවයන් තේරුම් ගන්න කොට ප්‍රතිපදාව වඩන එක අමාරු වෙන්නෙ නෑ පහසු වෙනව.

මෙතැන දී අවශ්‍ය වෙන්නෙ තමන්ගේ මැදිහත් වීම කොයි විදියෙක් කළොත් ඇද්ද කියල තේරුම් ගැනීමයි.

අපි සසර ඇදී ආවෙ ඇයි. අකුසල් මුල් නිසා. ලෝභය හින්ද ඇලුණ. ද්වේෂය හින්ද තැවුන. මෝහය හින්ද මුළාවුණා. සුභනිමිති මමයි, මගෙයි කියල ගත්ත නිසා රාගානුසය වැඩුණ. පටිඝනිමිති මමයි, මගෙයි කියල ගත්ත නිසා පටිඝානුසය වැඩුණ. ඇලීම් ගැටීම් නැතිවුණත් විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූප මමයි, මගෙයි කියල ගත්ත නිසා අවිජ්ජානුසය වැඩුණ. රාගානුසය වැඩුණෙත් අවිජ්ජානුසයත් එක්කමයි. පටිඝානුසය වැඩුණෙත් අවිජ්ජානුසයත් එක්කමයි, කියන එක අමතක කරන්න එපා. එහෙනම් මේ තුනෙන් බලගතුම අකුසල මූලය තමයි, අවිජ්ජාව, මෝහය. වරද වශයෙනුත් බලගතුයි. **(මහාසාවජ්ජො)** බැහැර කිරීමත් අමාරුයි. **(දන්ධවිරාගී)**

තත්ත්වය මෙහෙම නම් පුද්ගලයාට සිල්වත් වෙන එකත් ලේසි නෑ. නීවරණ බලගතු නිසා. සාමාන්‍යයෙන් කෙනකුගෙ කැමැත්ත පංචකාමයටයි. **(කාමච්ඡන්ද)** ගැටෙන තැවෙන ගතියෙන් යුක්තයි. **(ව්‍යාපාද)**අලසයි. **(ථීනමිද්ධ)** නොසංසුන්කම්, පසුතැවිලි, විසිරිලි සහිතයි. **(උද්ධච්චකුක්කුච්ච)** දෙගෙඩියා, සැකමුසු කම් සහිතයි. **(විචිකිච්ඡා)**එබඳු සිතක් ඇතිව සිල්වත් වෙන්න හිතුවට ඒක ලේසි නෑ කියන එක අමුතුවෙන් කියන්න දේකුත් නොවෙයි. ඒ හින්ද ආගමික ජීවිතය තමාට ම පීඩාකර ගැනීමක් කියල කෙනකුට හිතෙන්නත් පුළුවන්. අපි මුලින් කථාරපු චේතනාකරණීය සූත්‍රයේ කථාකරන්න පටන් ගත්තෙ සීලසම්පන්නයාගේ ඉඳල. විපිළිසර නො වීම ශීලයේ ආනිශංසයයි කියල. එහෙනම් ශීලය පිබිදෙන්නෙ කොහොම ද කියල සොයල බලමු.

**අං: නි: 6., (204 / 208 පිටු) අවිජ්ජා සූත්‍රය** මෙතැන දි ප්‍රයෝජනවත්. එහි සඳහන් වෙනව, ඉහළ කඳුකරයට වැසි වැස්සොත් ස්වභාවයෙන් ම වැව් පොකුණු ඇල දොල ගංගා පුරවමින් මහමුහුදත් පිරෙනව. අන්න ඒ වගේ ඒ කියන්නෙ ඉහළ කඳුකරයට වහිනව වගේ අවශ්‍ය කරන්නේ සත්පුරුෂයන් ඇසුරු කිරීමට ලැබීම. **(සප්පුරිසංසෙවො)**ඒක තමයි දහම්මග වැඩෙන්න අවශ්‍ය මූලික ම ප්‍රත්‍යය. ඒ මූලික ප්‍රත්‍යය සම්පූර්ණ වුණා කියන්නෙ බුදුරජාණන් වහන්සේ වැනි ආර්ය උතුමන්

ඇසුරින් හරි වෙනත් කිසියම් සත්පුරුෂයකුගෙන් හරි සද්ධර්මය අසන්නට ලැබීමයි. **(සද්ධම්මසවනං)** හරියට ධර්මය අසන්න ලැබෙනවිටයි පුද්ගලයකු නුවණ පිබිදෙන්න පටන්ගන්නෙ. මෙච්චර කලක් තිබුණ අයෝනිසෝමනසිකාරය වෙනුවට යෝනිසොමනසිකාරය පිබිදෙන්න පටන් ගන්නව. **(යොනිසොමනසිකාරො)**නුවණින් බලනව කියන්නේ මෙච්චර කලක් විඤ්ඤාණයේ මැවෙන නාමරූපයට නේ ද රැවටිලා තියෙන්නෙ කියන බව දැනගෙන ඒ අනුව අත්දැකීම් තේරුම් ගන්නව කියන එකයි. මේ මොහොතේ සකස්වන අත්දැකීම් බව දකිනව කියන එකයි. අත්දැකීම් මැවෙන හේතු ප්‍රත්‍යයන් දකිනව කියන එකයි. දිගුකලක් තිස්සේ මේ සිත විසින් නේද මම රවටනු ලැබුවෙ කියල තේරුම් ගන්නව කියන එකයි. මේ විදියට යොනිසෝමනසිකාරය වැඩ කරනකොට සිහිනුවණ සපිරෙන්න පටන් ගන්නව. **(සතිසම්පජඤ්ඤො)**

මෙච්චර කාලයක් හිතා හිටියේ ඇහැ තියෙනව. වර්ණරූපත් තියෙනව. තියන හින්ද බලනව. කියලයි. සාමාන්‍ය සංජානන මට්ටම අනුව නම් ඒකත් ඇත්ත වගේ තමයි. ඒත් වෙසෙස් නුවණින් **(අභිජානනයෙන්)**සලකනකොට වැටහෙනව බැලුව හින්දයි පෙනුනෙ කියල. මුලින් වෙන්නෙ පෙනෙන එක. ඒ එක්කම බලන්න පටන් ගන්නව. විඳීම් හැඳිනීම්, චේතනා ඔස්සෙ විඤ්ඤාණය විසින් මවල දුන්න, රූපසංඥාවක් බව දන්නෙ නෑ. ඉතින් ඇහැ මෙතන. රූපෙ එතන. විඤ්ඤාණය විසින් වෙන් කරල දුන්න කියල දන්නෙවත් නෑ. තණ්හාවට වැහිල හින්ද විඤ්ඤාණය ගැන දන්නෙවත් නෑ. ඇහැයි, රූපයයි, විඤ්ඤාණයය තුන්පොළක තියෙනව වගේ හිතුනට මේ තුන සමුදය වෙන්නෙ එකට ම යි. බාහිර ලෝකෙ මොනව තිබුණත් චක්ඛුප්‍රසාදයයි, විෂයරූපයයි, චක්ඛුවිඤ්ඤාණයයි සමුදය වුනේ මේ මොහොතෙ. ආයතන හයෙන් ම කෙරෙන වැඩේ ඕකයි.

ඉතින්, සතිසම්පජඤ්ඤය නැත්නම් මොක ද, වෙන්නේ. බාහිර දේවල් හොය හොය සතුටු වෙන්න බලනව. මේ ධර්මතා යෝනිසෝමනසිකාරයෙන් කටයුතු කරමින් වටහා ගන්න මහන්සි ගන්නකොට සතිසම්පජඤ්ඤය සපිරෙනව. ඉතින් මේ සිහිනුවණ නිසා සපිරෙන්නෙ මොකක් ද? ඉන්ද්‍රිය සංවරය. **(ඉන්ද්‍රියසංවරං)** ඉන්ද්‍රියසංවරය තියෙනව නම් සපිරෙන්නෙ

මොකක් ද? කායසුචරිතය. වාක්සුචරිතය. මනෝසුචරිතය. **(තීණි සුචරිතානි)**කයේ, වචනයේ, සිතේ, හැදියාව තමයි සීලය කියන්නෙ. මෙතෙන්ට එන්න සත්පුරුෂ සංසේවනයෙ ඉදන් කොච්චර දේවල් සකස් වෙන් ඕන ද? දැන් ආපස්සට ටිකක් හිතල බලන්න. මේ විදියට සුචරිතය සකස් වෙනවා කියන්නෙ සතරසතිපට්ඨානයත් පිරිපුන් වෙනව. ඒ නිසා සප්ත බෝධ්‍යඞ්ග ධර්මත් පිරිපුන් වෙනව. ඒ හින්ද ම විද්‍යාවිමුක්තිය පිරිපුන් වෙනව.

ධර්මයෝම ධර්මයන් පුබුදුවනව කියන්නෙ ඕකයි. එතකොට නිවන් දකිනව කියන එක කෙනකුගෙ වැඩක් නො වෙයි. ධර්මයන්ගේ පිරිපුන් වීමක්. ධර්මයන් පිරිපුන් වීමේ තත්ත්වය ඒක නම් 'මම සිල්වත් වෙමි', 'මම සමාධිමත් වෙමි', 'මම ප්‍රඥාවන්ත වෙමි', 'මම නිවන් දකිමි' කියල මමත්වය ඉදිරියට ගන්නව නම් ඒකෙන් පෙනෙන්නේ 'මට කිසියම් තත්ත්වයකට පත්වෙන්න වුවමනා කරනව' කියන එකයි. එය තමන්ගේ ම අනන්‍යතාවක් ගොඩනගා ගැනීම පිළිබඳ අපේක්ෂාවකට වැඩි දෙයක් නො වෙයි. අපි හිතල බලමු සීලය ගැන. සීලයට අවශ්‍ය පසුබිම සකස් වෙලා තියෙනව නම් ඒ සමග ම සීලය පිබිදෙනවා ඇති.

ආර්ය අෂ්ටාඞ්ගික මාර්ගයට අනුව නිවැරදි වචනය, නිවැරදි ක්‍රියාව, නිවැරදි ආජීවය කියන්නේ සීලය බව අපි දන්නව. කෙනකුගෙ කය වචනය හැසිරවෙන්නෙ ඒ තැනැත්තාගෙ කල්පනා වලට අනුව. ඒ කියන්නෙ හිතන විදියට. ඒක තේරෙනව නෙ. එතකොට කල්පනා කරන්නේ, දෘෂ්ටි වලට, පිළිගැනීම් වලට අනුව. සංකල්ප විතර්ක ගොඩනැගෙන්නෙ හිතේ. සංසාරෙ අපි හුරු පුරුදු වුනේ, පංචකාමගුණය පිළිබඳ කාමවිතර්ක ගොඩනගන්න. ව්‍යාපාද විහිංසා විතර්ක ගොඩනගන්න. එහෙම නම් වචනයෙන් කයින් සිතින් දුසිරිත් ක්‍රියාත්මක වෙන්නේ ඒ පුරුදු පුහුණු වෙච්ච විතර්ක වලට අනුව. 'මම'ඇත්තෙක්. 'දේවල්' ඇත්තයි. කියන සක්කායදිට්ඨිය නිසා තමයි, කාම, ව්‍යාපාද, විහිංසා විතර්ක ගොඩනැගුවෙ. ඒ විතර්ක වලට අනුව තමයි, හැසිරුනේ. දැනුත් ඒ දේ ම නම් කෙරෙන්නෙ, මතුත් එය ම කරනවා ඇත. සසරත් නිම නො වෙනවා ඇත. මෙන්න මේ සත්‍යය දැනගෙන අප කළයුත්තේ

නිවරදි දැක්මට පැමිණීමයි. සම්මාදිට්ඨිය හරියන කොට තමයි කල්පනා නිවැරදි වෙන්නෙ. කල්පනා නිවැරදි වුනොත් තමයි සීලය පිබිදෙන්නෙ. අපි සම්මාදිට්ඨිය පිණිස දැනගන්න ඕන ප්‍රධාන ම කාරණය තමයි, ඉදප්පච්චයතා පටිච්චසමුප්පාදයට අනුව සළායතනික අත්දැකීම් ලෝකය සකස් වන ආකාරය තේරුම් ගැනීම.

නිවන් පිළිවෙතේ දි කාමවිතර්ක වෙනුවට වැඩෙන්න ඕන නෙක්ඛම්මවිතර්ක. ඒ කියන්නෙ කාමය අතහැරියයුතු දෙයක් කියල වැටහෙන තරමටවත් සම්මාදිට්ඨිය සකස් වෙන්න ඕන. ව්‍යාපාද විතර්ක වෙනුවට අව්‍යාපාද සංකල්පනා වැඩෙන්න ඕන. තවත් කෙනකුට සතුරු වෙන්න තරම් දෙයක් නැති බව දකින්න පුළුවන් වෙන්න ඕන. ඒ කියන්නෙ මෛත්‍රී චිත්තයක් වැඩෙන්න ඕන. විහිංසා විතර්ක වෙනුවට අවිහිංසා සංකල්පනා පිබිදෙන්න ඕන. තවත් කෙනකුට දුක් සැලසුම් නොකරන්නට තරම් කරුණාවක් තියෙන්න ඕන.

මේ විදියට අකුසල විතර්ක වෙනුවට කුසලවිතර්ක ඇති වෙන්නට නම් සම්මාදිට්ඨිය ඕන. ධර්මය දැනගන්න ධර්මයෙ අර්ථ පරීක්ෂා කරන්න ඕන. මහාචත්තාරීසක සූත්‍රයේ සම්මාදිට්ඨිය ඇති කෙනා නිවැරදි කල්පනයෙහි සමත් වේ යයි, සඳහන් වෙන්නෙ ඒ අර්ථයෙන්. **(සම්මාදිට්ඨිස්ස සම්මාසංකප්පං පහොති)**කල්පනා නිවැරදි වෙනකොට වචනය නිවැරදි වෙනව. **(සම්මාසංකප්පස්ස සම්මාවාචා පහොති)**වචනය නිවැරදි වෙනකොට කායික හැසිරීමුත් නිවැරදි වෙනව. **(සම්මාවාචස්ස සම්මාකම්මන්තො පහොති)** ක්‍රියා නිවැරදි වෙනකොට දිවිපැවැත්ම නිවැරදි වෙනව. **(සම්මාකම්මතස්ස සම්මාආජීවො පහොති)- (මඃ නිඃ 3, මහාචත්තාරීසක සූත්‍රය, 218 පිට)**හැසිරීම් බිහිවෙන්නෙ කල්පනා වලට අනුවයි. කල්පනා සකස් වෙන්නෙ දැක්මට අනුවයි.

අපට සසර **අනුසය** වෙච්ච කෙලෙස් තියෙනව. සළායතන වලින් අත්දැකීම් ලැබෙණකොට අනුසය වුණ කෙලෙස් අවදි වෙනව. ඒකට කියනව **පරියුට්ඨාන** කියල. ඒ කෙලෙස් වලට අනුගත වුනොත් සිල් පද බිඳෙනව. එහෙම සිල්පද බිඳෙනකොට කියනව **වීතික්කමන** කියල. මේ විදියෙන් පවු සිදුවෙන්නෙ අවිද්‍යාවයි තෘෂ්ණාවයි නිසා. මේ අනුව

සම්මාදිට්ඨිය නැතිව සිල්වත් බව බලාපොරොත්තු වෙන්න බෑ. අපට සිල්වත් වෙන්න ගැලපෙන විදියට බාහිර ලෝකය සකස් වෙලා තියෙන්න ඕන කියල, බලාපොරොත්තු වෙන එක වැරදියි. සීලය අපතුළ පිබිදෙන දෙයක් වෙන්න ඕන. එතනදි වැදගත් වෙන්නෙ මනස. කාමවිතර්ක මැකී යන්නෙ අතහරින්න තරම් ප්‍රඥාවක් තියෙනකොටයි. ව්‍යාපාද විතර්ක මැකී යන්නෙ මෛත්‍රීසහගත වෙන්න තරම් ප්‍රඥාවක් තියෙනකොටයි. විහිංසා විතර්ක මැකී යන්නෙ කරුණාවන්ත වෙන්නට තරම් ප්‍රඥාවක් තියෙනකොටයි. එපමණට ම සීලයත් පිබිදෙනව.

අනික් අය ගැන අවංක කරුණාවක් මෛත්‍රියක් ඇතිවෙන්නෙ ප්‍රඥාව තියෙනව නම් තමයි. ප්‍රඥාවන්තය දන්නව, මම මැවෙන්නෙ රූප, විදීම්, හැඳිනීම්, චේතනා, දැනීම් අල්ලගෙනයි, කියන්න. මෙතන රූප කියන්නෙ ආයතන හයෙන් ම නිමිති වන රූපසංඥා බව දන්නව. විඳින්නෙ, හඳුනගන්නෙ, චේතනා මවන්නෙ මේ රූපසංඥා පිළිබඳව බව දන්නව. මම කියන්නෙ මේ ප්‍රත්‍ය සම්බන්ධතාව ඔස්සේ ඇතිකරගත්ත හැඟීම් මාත්‍රයක් පමණක් බව දන්නව. සසර සකස්වෙන්නෙ මේ රූපසංඥා, විඥාන, හැඳිනීම්, චේතනා, දැනීම් සහිත සිත් ප්‍රවාහය සාරවශයෙන් ගැනීමේ වරද **(සක්කායදිට්ඨිය)** නිසා බව දන්නව. මෙසේ දන්නා ප්‍රඥාවන්තයා සක්කායාභිරතිය දුර්වල කරමින් ඉන්නෙ. ඒ හින්දා මමත්වය ඉදිරියට අරන් කෙනකුගෙ දිවි තොරකරන්නෙ නෑ. අන්සන්තකයක් පැහැරගන්නෙ නෑ, මෛථුන සදාචාරය උල්ලංඝනය කරන්නෙ නෑ. හැකිනම් බඹසරෙහි හැසිරෙනව. වචනයෙන් අනුන් රවටන්නෙ නෑ බිඳුවන්නෙ නෑ. පෙළන්නෙ නෑ. ප්‍රමාදයට පත් කරන්නෙ නෑ. වැරදි උපක්‍රම වලින් දිවි ගෙවන්නෙත් නෑ.

මේ විදියට සීලය පිබිදෙනකොට නීවරණත් දුර්වල වෙනව. කාම, ව්‍යාපාද, විහිංසා සිතිවිලි ඔස්සේ සිත අයාලේ යන්නෙත් නෑ. මේ පසුබිම මේ ආකාරයෙන් සකස් වෙනකොට පහසුවෙන් සිත සමාධිමත් වෙනව. සමාධිමත් සිත ප්‍රඥාවට යොමු කිරීම පහසුයි. නිවන් පිළිවෙතේ දී ප්‍රඥාව කියන්නේ යථාභූත ඤාණදස්සනයට. අපේ අත්දැකීම් ලෝකය යම් සේ සකස් වෙනව ද, ඒ ආකාරය දකිනව. කයේ, මනසේ, ලෝකයේ ස්වභාවය තමයි ප්‍රඥාවෙන් දැනගන්නෙ.

කරුණු වශයෙන් දැනගත්තාට දහම දැනගත්තා වෙන්නෙ නෑ. දහම හොඳට වැටහෙන්නේ අපේ ජීවන අත්දැකීම් දිහා හොඳින් විමසුම් නුවණින් දැකීමෙනුයි. අපට දහම්මග වඩන්න වුවමනා වුනත් රාග සිතිවිල්ලක් බාධකය හැටියට ඉදිරිපත් වෙන්න පිළිවන්. එහි දී අපි ඒකට නතු වෙන්නත් පිළිවන්. පලවා හැරීමට සටන් වදින්නත් පිළිවන්. ඒ දෙකෙන් කොයික කළත් දුක වැළඳ ගැනීමක් ම තමයි. ඒ වෙනුවට අපි කරන්න ඕන, එහි හේතු ඵල සම්බන්ධය විමසල බැලීමයි'. මගේ ඇරයුමක් නැතිව ම පැමිණි මේ සංකල්පය මගේවත් නො වෙයි. වෙනත් කෙනකුගේවත් නො වෙයි. කිසි කෙනෙක් වෙතින් නො ආ මේ කාමවිතර්කය ඇතිවුණා වගේම නැතිවන දෙයක්. එය ක්‍ෂය වෙන්නට දෙන්නෙ නැතිව තවත් අවුලුවන්න පිදුරු දාන්න හොඳ නෑ. ඒකට බියේ පලායන්න ඕනත් නෑ. ඒක ඇති වෙලා නැති වෙන සංකල්ප මාත්‍රයක් විතරයි. ඉන්ධන සපයන්නෙ නැත්නම් ගින්න නිවිල යනව. මෙතන ක්‍රියාත්මක වුණේ ප්‍රඥාව. කෙනෙක් ප්‍රඥාවන්තයි කියල කියන්නෙ එයාගෙ කථාබහේ හරබර කම අනුව නොවෙයි. මේ වාගේ විතර්කයන් ඉදිරියේ සාමකාමීව සිටින්නට හැකියාව අනුවයි. සීලය, සමාධිය, ප්‍රඥාව වැඩෙන්නෙ සංකල්පනාවලට නතු වීමත් පලවා හැරීමත් වෙනුවට ප්‍රඥාවෙන් බැලීමෙන් ම යි. ඒ හින්ද සංකල්පයන් ප්‍රඥාවෙන් දැක දැක ප්‍රහාණය කළයුතු වෙනව. **(පඤ්ඤාය දිස්වා දිස්වා පහාතබ්බං)- (අං: නි: 6, කාය සූත්‍රය, 72 පිට)**

සංකල්පනා වශයෙන් අපව මැඩගන්න මනෝධර්ම ගොඩක් තියෙනව. ලෝභය, ද්වේෂය, මෝහය, අනුන්ගේ දොස් කථාකරන ගතිය වන පලාසය, මසුරුකම, අනුන්ගේ සැපත නො ඉවසන ඊර්ෂ්‍යාව, තමා තුළ නැතිගුණ ඇති සේ අන් අය දකින්වායි කැමති වීම කියන පාපිච්ඡාව ආදී වශයෙන්. මේ හැම සංකල්පයක් ම මනසට එන, ඇවිත් අතුරුදන් වන ඒව විතරයි. ඒ වුණාට නැවත නැවතත් පැමිණෙනවා ද ඇත. ආවා වගේම නැවතත් අතුරුදන් වෙනව. මේ විදියට මේවා පැමිණෙන, නැතිවෙන ස්වභාවය තේරුම් ගැනීම බොහොම ප්‍රයෝජනයි. ඒවාට නතුවීමේ භයත්, ඉවතට තල්ලු කිරීමේ භයත් දෙක ම ලිහිල් වෙලා යන්නෙ එහෙම තේරුම් ගන්න කොට.

මේ බව දන්නෙ නැති නිසා අපි ඒ ආවේග වලට ප්‍රතික්‍රියා කරනව. අපි නිසැකව ම දැනගන්න ඕන ප්‍රඥාව තියෙනව නම් මේ දුර්ගුණ පුද්ගලයාව යටපත් කරන්නෙ නෑ. සංකල්ප කියන්නෙ අපි හදන ඒව නොවෙයි. ඇවිල්ල ආපහු යන මුහුදු රැල්ලක් වගේ. විඤ්ඤාණයේ පිළිබිඹුවන නාමරූප ප්‍රතිබිම්බයන් විතරයි. මේ හේතු ප්‍රත්‍ය සම්බන්ධතාව ම නිශ්පුද්ගලයි. තණ්හා උපාදානයේ මැදිහත් වීමක් නැත්නම් ක්‍රමයෙන් ඒ සංකල්ප නැවත නැවතත් නො පැමිණෙනවා ඇති. ඕකට තමයි කියන්නෙ අනුසය සහිතව ම ප්‍රහාණය වෙනව කියල.

මේ කරුණු අහල කියල අනුමත කරන එක නම් ලේසියි. සිතිවිලි, හැසිරීම් නැවත නැවතත් මතුවන විට ඉවසීමෙන් යුක්තව මේ දැනුම භාවිතා කිරීම අමාරුයි කියල හිතේවි. ටිකෙන් ටික පටන් ගන්න. නිවන්මග සුවදායක යි. ප්‍රීතිමත්. **(සො ය්වාස්ස මග්ගො ඛෙමො සොවත්ථිකො පීතිගමනීයො)- (මඃ නිඃ 1, ද්වේධාවිතක්ක සූත්‍රය, 296 පිට)**

මේ විදියට නිවනට අදාළ ධර්ම වැඩෙනකොට අද ආස්‍රව මෙච්චර ක්ෂයවුණා, අද මෙච්චර ක්ෂයවුණා කියල තමන්ට දැනගන්න බෑ. බුදුරජාණන් වහන්සෙ මේකට උපමාවක් දෙනව. හරියට වෑයකින් වැඩ කරන වඩුවෙක් දවසක් පුරා වෑයෙන් වැඩකරනව. වෑ මිටේ ඇඟිලි සටහන් වැදිල තියනව දකින්න ලැබෙණව. ඒත් මිට කොච්චර ගෙවුණ ද කියල දැකගන්න බෑ. කලක් වැඩ කරන කොට ගෙවුණාම ගෙවිල කියල දැනගන්න පුළුවන්. අන්න ඒ වගේ ආස්‍රවයනුත් භාවනා මාර්ගය වඩාගන යන කොට කලක දි දැනගන්නව ක්ෂය වූ ආස්‍රව ක්ෂය වෙලා කියල. **(ඛීණෙ ඛීණංත්වෙව ඤාණං හොති)- (සංඃ නිඃ 3, වාසිජටොපම සූත්‍රය, 266 පිට)**

මෙහිදි බුදුරජාණන් වහන්සේ සඳහන් කරන්නෙ ආස්‍රව සංසිඳී යාම වැඩි වෙහෙසක් නැතිව ම **(අප්පකසිරෙනෙව)**ක්ෂය වෙන බවයි. කෙලෙස් සිතිවිලි වලට නතු වෙන්නෙත් නැත්නම්, පලායන්න මහන්සි ගන්නෙත් නැත්නම්, ඒ කෙලෙස් සිතිවිලි වල සමුදය නිරෝධය දකිනව නම් නියම සම්මාවායාමය තමයි. ක්‍රියාත්මක වෙන්නෙ.

## විදසුන් වැඩීම.

අපට සාමාන්‍යයෙන් එදිනෙදා පැවැත්මෙදි වෙන දේ තමයි, පෙනෙනවා, ඇහෙනවා, ආඝ්‍රාණ දැනෙනවා, රස දැනෙනවා, ස්පර්ශ දැනෙනවා, කල්පනා වෙනවා. එකෙණෙහි ම තමා ආයතන උපදින්න. අරමුණු උපදින්නෙ. එතකොට ඒ තමයි මේ මොහොතෙ සිදුවන දේ. අරමුණු උපදිනකොටයි, නිත්‍ය සංඥාවක් හදාගන්නෙ. අරමුණ ප්‍රිය නම් හැදෙන්නේ සුඛවේදනාව. ප්‍රිය නැත්නම් දුක්ඛවේදනාව. 'අත්දැකීම මගේ, අත්දකින්නෙ මම' කියල ගන්න නිසා ආත්මසංඥාවෙන් යුක්තයි. සුභසංඥාවෙන්, පටිඝසඤ්ඤාවෙන් නුනුවණින් තමයි, අරමුණු අල්ලගන්නෙ. මේ දේ නම් සිදුවෙන්නේ, වැඩෙන්නේ සසරයි. මුල්වුනේ ඡන්දරාගය. අරමුණ ලැබුණේ මනසිකාරය නිසා. සමුදය වුනේ සළායතනික ස්පර්ශයෙන්. වින්දනයටයි යොමු වෙලා තියෙන්නෙ. මේ තමයි සසරේ සකස් වීම.

වින්දනයෙන් තමයි, මමත්වය ඉස්සරහට පනින්නෙ. ඒ තමයි, තණ්හාවේ මතු වීම. මුලින් වෙන්නෙ දුටුබවක්, ඇසූ බවක්, ආඝ්‍රාණයවුණ බවක්, රසදැනුණ බවක්, ස්පර්ශවුණ බවක්, කල්පනාවුණ බවක් පමණයි. එපමණකින් නතර වේ නම් ප්‍රශ්නයක් නෑ. එහෙත් එපමණකින් නතර වීමක් නෑ. විඳීම්, හැඳිනීම්, චේතනා ගොඩනගනව. විඤ්ඤාණ නමැති වෙන්කර දැනගැනීමේ ක්‍රියාවලියෙන් තමයි, මේ රූපයි, නාමයි, මවල දෙන්නෙ. බුදුරජාණන් වහන්සේ මේ කාරණය කියල දෙනකම් අපි දන්නෙ නෑ. ඒ හින්ද අපි හිතනව, අත්දකින මම ඉන්නව. අත්දකින දේවල් තියෙනව, කියල. මැවෙන මමෙක් මිසක් ඉන්න මමෙක් නෑ. අත්දකින්නේ තියෙන දේවල් නොවෙයි, නාමරූප වශයෙන් මැවෙන දේවල්. සක්කායදිට්ඨිය කියන්නෙ ඕකයි. මේ කථාකළේ සිතක අවයව ගැනයි.

මේ මොහොතෙ තමයි ඔය කොයිවත් සමුදය වෙන්නෙ. අපට ඕන සමුදය වෙන තත්ත්ව තියාගන්න. ඒත් ඒවා, තියෙ දේවල් නොවෙයි, හිතාගත්ත දේවල් (මඤ්ඤනා) එසැණින් නිරුද්ධ වෙනව. ඵස්සය මනසිකාරය නිසා ඊළඟ සිත උපදිනව. ඒකත් නිරුද්ධ වෙනව. ඊළඟ සිත උපදිනව. සිත් ප්‍රවාහයක්. නිරෝධය අපට පෙනෙන්නෙ නෑ. සමුදයෙන් සමුදය සම්බන්ධ

කරල දෙන්නෙ තණ්හාව විසින්. නිරෝධය නො දකින හින්ද, අපි ඉතින් හිතාගන්නව අත්දකින දේවල් තියෙනව. අත්දකින මම ඉන්නව, කියල. මේ විදියට තේරුම් ගන්නකොට වැටහෙනව, පුද්ගලයා ඉන්නෙ සමුදය පැත්තෙ, කියල. ඒ වුණාට ප්‍රත්‍යුත්පන්න වශයෙන් සමුදය දකින්නෙ නෑ. ඒ කියන්නෙ, මේ ලිපියේ මුල් ඡේද දෙකේ පැහැදිලි කරපු විදියට සමුදය දකින්නෙ නෑ. හිතාගෙන ඉන්නෙ කලක් තිස්සේ ඉන්න මම කෙනෙක් කලක් තිස්සේ තියෙන දේවල් අත්දකිනව කියල. සමුදයෙන් සමුදය තණ්හාවෙන් සම්බන්ධ වෙමින් නිරෝධය නො දකිකොට මැවෙන මුළාව තමයි මේ. සද්ධර්මය හරිහැටි දැනගන්නකම් පුද්ගලයා සමුදය දන්නෙත් නෑ නිරෝධය දන්නෙත් නෑ.

මේ සමුදයත් නිරෝධයත් තේරුම් ගන්න තියෙන්නෙ පච්චුප්පන්නය. ඒ කියන්නෙ මේ මොහොතෙ. පච්චුප්පන්නයත් පුද්ගලයට පෙනෙන්නෙ නෑ. ඒ ඇයි? අතීතෙ විඳගත්ත දේවල් ගැනයි, විඳගන්න බැරිවෙච්ච දේවල් ගැනයි හිත හිත ඉන්නකොට අපේක්ෂා කරන්නේ අතීතෙ. මතු විඳගන්න කැමති වන දේවල් ගැන හිත හිතා ඉන්නකොට බලාපොරොත්තු වෙන්නෙ අනාගතේ. හිත හිතා ඉන්න වෙලාව තමයි, පච්චුප්පන්නය. ඒත් මේ මොහොතේ හිතන්නෙ අතීතය ගැන හරි අනාගතය ගැන හරි නිසා පච්චුප්පන්නය පෙනෙන්නෙ නෑ.

**යෙ ච රූපූපගා සත්තා යෙ ච අරූපට්ඨායිනො,**
**නිරොධං අප්පජානන්තා ආගන්තාරෝ පුනබ්භවං.**
**(සුඃ නිඃ ද්වයතානුපස්සනා සූත්‍රය, 236 පිට)**

රූපලෝකවල ඉන්න අයත් අරූපලෝකවල ඉන්න අයත් නිරෝධය තේරුම් නො ගැනීම නිසා නැවත නැවත භවයට පැමිණෙනව කියල ද්වයතානුපස්සනා සූත්‍රයේ දී, බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ ඒ නිසා. පච්චුප්පන්නයට ප්‍රඥාවෙන් යුතුව අවධානය යොමු කළොත් තමයි, නිරෝධය හසු කරගන්න පුළුවන් වෙන්නෙ. නිරෝධය නො පෙන්නා ඊළඟ සමුදයට පනින එක තමයි, තණ්හාවේ ස්වභාවය. නැවත නැවතත් පැවැත්ම අල්ලන හින්ද තමයි, තණ්හාවට 'පෝනෝභවිකා' කියල කියන්නෙ. අතහැරෙනකොට ඊළඟ එක

අල්ලගන්න කැමති වෙන නිසා 'තත්‍ර තත්‍රාභිනන්දිනී' කියනව තණ්හාවට. මේ තණ්හා කියන්නෙ, රූපතණ්හාව, සද්දතණ්හාව, ගන්ධතණ්හාව, රසතණ්හාව, ඵොට්ටබ්බතණ්හාව, ධම්මතණ්හාව. තණ්හාවෙන් අල්ලන මේ ඔක්කොම විඤ්ඤාණයේ නාමරූප මැව්ලි. ඇස, කන, නැහැය, දිව, කය, මන කියන මේ අජ්ඣත්තික ආයතන සමුදය වෙන්නේ රූප, ශබ්ද, ගන්ධ, රස, ඵොට්ටබ්බ, ධම්ම කියන බාහිර ආයතනයන්ගේ සමුදයත් සමගයි. මේ ආයතන ඇසත් රූපත් ආදී වශයෙන් එකිනෙකට ප්‍රත්‍යවයි සමුදය වෙන්නෙ. මේ ආයතනයන්ගේ සමුදය සමග විඤ්ඤාණයේ සමුදයත් වෙනව. මේ අජ්ඣත්තික බාහිර ආයතන අන්ත දෙක නම් මැද විඤ්ඤාණයයි. ඉන්ද්‍රියයත් අරමුණුත් අතර අපි තණ්හාවෙන් දෝලනය වෙනව. විඤ්ඤාණය හසුවෙන්නෙ නෑ. මේ අජ්ඣත්තික බාහිර ආයතනත් විඤ්ඤාණයක් එක්තැන් වීමට තමයි ඵස්සය කියන්නෙ. මේ ඵස්සය ප්‍රත්‍යය කරගෙන තමයි, විඳීම්, හැඳිනීම්, චේතනා දක්වා ගෙනියන්නෙ. මේ ක්‍රියාවලිය නොතේරෙන එක තමයි, අවිද්‍යාව, මෝහය. ඒ නිසා ඔය කියපු ආකාරයට ආයතන සමුදය වෙන ආකාරයත් තේරුම් ගන්න ඕන.

**තණ්හක්ඛයාධිමුත්තස්ස අසම්මොහඤ්ච චෙතසො,**
**දිස්වා ආයතනුප්පාදං සම්මා චිත්තං විමුච්චති.**

මේ **අඞ්ගුත්තර නිකායෙ ඡක්කනිපාතෙ සොණ සූත්‍රයේ (අං: නි: 4, 158 පිට)** එන ගාථාවක්. ඒකෙ තේරුම මෙහෙමයි. " **මුළා නො වූ සිතේ ආයතනයන්ගේ හටගැනීම දක තෘෂ්ණාව ක්ෂය කිරීමේ යෙදුණ පුද්ගලයාගේ සිත මැනැවින් මිදේ."**

දැන් අපි මේ කරුණු කාරණා තේරුම්ගත්තේ පටිච්චසමුප්පාද ධර්මන්‍යායට අනුවයි. එතැන දී වැදගත් වෙන්නෙ මේ මොහොතයි. "යම් කිසිවක් සමුදය ස්වභාව කොට ඇත් ද ඒ සියල්ල නිරෝධය ස්වභාවය කොට ඇත" **(යං කිඤ්චි සමුදයධම්මං සබ්බං තං නිරොධධම්මං)- (මහාවග්ගපාළි, 1, 24 පිට)** මේ ස්වභාවය ප්‍රඥාවෙන් දැකීමයි, දහම්ඇස පහළ වීම.

දැන් අපි අවශ්‍ය දහම් කරුණු රැසක් දන්නව. ඒවා දැන, දරමින්, අරුත් පරීක්ෂා කරනකොට තව තවත් වැටහෙනව. වැටහෙනකොට මේ මුළාවෙන් මිදෙන්න කැමැත්තක් ඇති වෙනව. ඒක ප්‍රතිපදාවේ උත්සාහවත් වෙන්න හේතු වෙනව. විඥාන තණ්හා උපාදාන භව ජාති ජරාමරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස කියන මේ දුක නිමකරන්න, උනන්දුවක් ඇති කෙනා අරමුණු නිමිති අනුබ්‍යඤ්ජන ආශ්වාදයට බැඳීම ට වෙනුවට ඉතා සරළ තැනින් මෙනෙහි කිරීම පටන් ගන්නව. අරමුණු ලැබෙන එක වළක්වන්න යා යුතු නෑ. අරමුණු හොය හොයා යන්න ඕනත් නෑ. සාමාන්‍යයෙන් අපට සිදුවන්නේ පෙනෙනවා, ඇහෙනවා, ආඝ්‍රාණ දැනෙනවා. රස දැනෙනවා. ස්පර්ශ දැනෙනවා. කල්පනා වෙනවා කියන මේ ක්‍රියාවලියයි. රූපයක් පෙනෙනවා, ශබ්දයක් ඇසෙනවා කියන්නේ සිත් පහළ වෙනව කියන එකයි. සිතක් පහළ නො වී අරමුණක් ලැබෙන්නේ නෑ. සිත් පහළ වීම කියන්නේ හේතුඵල වශයෙන් වන සකස් වීමක්. ඒක මම කළ දෙයක් නොවෙයි. විඥානය නිසා වැඩි විස්තර හොයන්න ගියොත් තමයි, තණ්හා උපාදාන වශයෙන් ඇතට ඇදෙන්නෙ.

1. දැන් අපි පළවෙනි පියවර වශයෙන් ඉතා සරළ තැනින් පටන් ගන්නව. පේන කොට **රූපයක්** කියල මෙනෙහි කරනව. ඇහෙන කොට **ශබ්දයක්** කියල මෙනෙහි කරගන්නව. ආඝ්‍රාණ දැනෙනකොට **ගන්ධයක්** කියල මෙනෙහි කරගන්නව. රස දැනෙනකොට **රසයක්,** කයට පහසක් දැනෙනකොට **පහසක්,** යමක් කල්පනාවෙනකොට වෙනකොට **කල්පනාවක්** කියල මෙනෙහි කරගන්නව. එහෙම මෙනෙහි කරනකොට අරමුණ ලුහුබඳින ගතිය ටිකෙන් ටික අඩු වෙනව. ඉඩ ලැබෙන ලැබෙන හැටියට මේක පුහුණු වෙනව. බසයක ගමන් කරන වෙලාවට ගමනාන්තය දක්වාම පුහුණු වෙන්න පුළුවන්. කා සමගවත් කථාබහට යොමු නො වුන හැම වෙලාවෙදිත් පුළුවන්. මෙහෙම ටිකකලක් පහුණු වෙන කොට තමන්ගෙ සතියත් වැඩෙනව.

2. ඊළඟට මෙනෙහි කිරීම තව ටිකක් සියුම් කරනව. පෙනෙනකොට **පෙනෙනවා, පෙනෙනවා** එහෙම නැත්නම්

**දැකීමක්, දැකීමක්** කියල මෙනෙහි කරගන්නව. ඇහෙනකොට **ඇහෙනවා, ඇහෙනවා** එහෙම නැත්නම් **ඇසීමක්, ඇසීමක්** කියල මෙනෙහි කරනවා. ගන්ධ, රස, ස්පර්ශ දැනෙනකොට **දැනෙනවා, දැනෙනවා** එහෙම නැත්නම් **දැනීමක්, දැනීමක්** කිය මෙනෙහි කරනවා. යමක් කල්පනා වෙනකොට **හිතෙනවා, හිතෙනවා** එහෙම නැත්නම් **සිතීමක් සිතීමක්** කියල මෙනෙහි කරනව. කලක් මේ මනසිකාරය කරන කොට අරමුණු ලැබෙද්දී මනසට සිහිපත් වෙනව මේ මෙනෙහි කිරීම වැඩි වැඩියෙන් කරන්න. සතිය දියුණු වන පමණට මේ කාර්යය කරන්න පුළුවන් වෙනව. අරමුණුවල වැඩිවිස්තර සොයන ගතිය අඩුවෙන හැටි තමන්ට ම වටහාගන්න පිළිවන්. විඳන සංඥා වලට හසුවෙන ගතිය අඩුවෙලා, දැකීම් මාත්‍රයෙන්,ඇසීම් මාත්‍රයෙන්, දැනීම් මාත්‍රයෙන් නතර වෙන්නයි මේ පුහුණු වෙන්නෙ. අත්දකින කෙනෙක් ඉන්නව, අත්දකින දෙයක් තියෙනව කියල ගත්තම වෙන්නෙ මෝහය වැඩෙන එක. යට කියපු විදියට මෙනෙහි කරන කොට මෝහය වැඩෙන්නෙ නෑ.

3. ඊළඟට පෙනෙන කොට සිතක්, ඇහෙනකොට සිතක් ආදී වශයෙන් අරමුණු ලැබෙනකොට **'සිතක්, සිතක්'** කියල මෙනෙහි කරනව. පෙනෙනවා ඇහෙනවා කියන එක වෙන්නේ සිතක් පහළ වුණොත් විතරයි. සිත් සකස් වීම තමන් කරන වැඩක් නොවෙයි. විඳන, සංඥා වලට හසුවෙමින් පිදුරු දාන්න ගියාම තමයි, ඇවිලෙන්නෙ.

4. මේ **'සිතක්'** කියන්නේ නාම, රූප, විඤ්ඤාණ කියන අවයවයන්ගේ සමුදය වීමක්. විඤ්ඤාණයේ පිළිබිඹු වන දේ තමයි, නාම රූප කියන්නේ. ආයතන හයේ රූපධර්ම ස්පර්ශයට මනසිකාරය යොමුවෙනකොට විඳීම්, හැඳිනීම්, චේතනා ක්‍රියාත්මක වෙනව. විඤ්ඤාණ කියන්නෙත් මොහොතක් මොහොතක් පාසා මැවෙන ස්වභාවයක්. නාමරූප කියන්නෙත් මොහොතක් පාසා සමුදය වන ස්වභාවයක්. විඤ්ඤාණය නාමරූප ප්‍රත්‍යයෙන් සමුදය වෙනව. නාමරූප විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් සමුදය වෙනව. ඒ නිසා අරමුණු ලැබෙනකොට මේ **විඤ්ඤාණයේ මැවෙන නාමරූප බව මෙනෙහි කරගන්නව.**

5. පුද්ගලයා අත්දැකීම් ලබන්නේ එක සිතකින් නොවෙයි. විඤ්ඤාණ නාමරූප සිත් ප්‍රවාහයකින්. ඒ බව අපට වැටහෙන්නෙ නෑ. මමත් දිගට ඉන්නව. දේවලුත් දිගට පවතිනව කියල හිතෙන්නෙ ඒ නිසා. අපි එකක් කියල හිතුවට මැවෙන්නෙ රූප රාශියක්. විඳන රාශියක්. හැඳිනීම් රාශියක්. චේතනා රාශියක්. දැනීම් රාශියක්. ස්කන්ධ කියන භාවිතාව යොදන්නේ මේ රාශි ස්වභාවය නිසා. කෙනෙක් අත්දැකීම් ලබනකොට සිත් පහළ වෙනව කියන්නේ මේ රූපස්කන්ධ, වේදනාස්කන්ධ, සංඥාස්කන්ධ, සංස්කාරස්කන්ධ, විඥානස්කන්ධ පහළ වෙනව කියන එකයි. තෘෂ්ණා උපාදාන වශයෙන් ගන්නකොට පංච උපාදානස්කන්ධ කියල කියනව. මේ කාරණා හොඳට තේරුම් අරගන්න. "අරමුණු ලැබෙනව කියන්නේ සිත් පහළවෙනව, කියන එකයි. සිත්පහළ වෙනව කියන්නෙ විඤ්ඤාණ නාමරූප සමුදය වෙනව කියන එකයි. ඒ කියන්නෙ සිත් වශයෙන් පංචස්කන්ධ පහළ වෙනව කියන එකයි. **ඒ නිසා පේනකොට ඇහෙනකොට පංචස්කන්ධසිතක් කියල කලක්මෙනෙහි කරගන්නව.** සරළ මෙනෙහි කරගැනීම් වලින් පටන් අරන් දැන් ටික ටික ගැඹුරටයි මේ යන්නෙ.

6. මේ පංචඋපාදානස්කන්ධ කියන්නේ දිගට පවතින ස්වභාවයක් නොවෙයි, මේ මොහොතේ සමුදය වන නිරුද්ධ වන ධර්මතාවක්. සළායතනිකව මැවෙන අත්දැකීම් ලෝකයයි, මේ සමුදය වෙන්නෙ. නිරුද්ධ වෙන්නෙ. ඵස්සය ප්‍රත්‍යයෙන් තමයි, නාමරූප සමුදය වෙන්නේ. **(නාමඤ්ච රූපඤ්ච පටිච්ච ඵස්සා)**නාමරූප සමුදයෙන් විඤ්ඤාණය සමුදය වෙනව. **(නාමරූප පච්චයා විඤ්ඤාණං) (දීඝ නිඃ 2, මහානිදාන සූත්‍රය, 92 පිට)** පඤ්චස්කන්ධ සිත් කියන්නෙ පටිච්චසමුප්පාද ධර්ම න්‍යායයට අනුව සමුදය වන ප්‍රත්‍ය ධර්ම. සිත් පහළවී , නැත්නම් ස්කන්ධ පහළ වීම කියන්නෙ මේ මොහොතේ සමුදය වන නිරුද්ධවන හේතුප්‍රත්‍ය ක්‍රියාවලියක් පමණයි කියල නැවත නැවතත් නුවණින් දකින්න ඕන. **ඒ නුවණ ඇතිව 'හේතු ඵල', 'හේතු ඵල' කියල මෙනෙහි කරගන්නව.**

7. රූපය අල්ලගන්නකොටයි, මම මැවෙන්නෙ. විඳනය අල්ලගන්නකොටයි, මම මැවෙන්නේ. සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ අල්ගන්නකොටයි, මම මැවෙන්නෙ. අල්ලගත්තෙ නැත්නම් මම මැවෙන්නෙ නෑ. **(උපාදාය අස්මීති හොති නො අනුපාදාය)-(සං: නි: 3, 180 පිට)** මෝහය නිසා 'මම' දිගට ඉන්නව කියල හිතුවත් 'මම' කියන්නේ මොහොතක් පාසා මැවෙන ස්වභාවයක්. අපේ සළායතනික අත්දැකීමුත් එහෙමයි. හිතාගත්ත දේවල් වෙනස් නොවී තියාගන්නයි කැමැත්ත. ඒත් ඒවා අන්‍යථාභාවයට යනව. අනිත්‍ය වෙනව. බුදුරජාණන් වහන්සේ අස්මිමානය ක්ෂය කරන්නයි අනිත්‍ය සංඥාව වැඩියයුතුයි කියල වදාළෙ. **(අනිච්චසඤ්ඤා භාවෙතබ්බා අස්මිමාන සමුග්ඝාතාය)- (ඛු: නි: 1, උදානපාළි, මේඝිය සූත්‍රය, 200 පිට)** අපි ආශාකරන්නෙ බාහිර පුද්ගලයින්ට දේවලට වගේ පෙනුනත් ඇත්ත වශයෙන් ම අපි ආශා කරල තියෙන්නෙ අපේම හැඟීම් වලට. මඤ්ඤනා වලට. හිතාගත්ත දේවලට. හිතාගත්ත දේවල් පවත්වාගන්නයි කැමැත්ත. ඒත් හිතාගත්ත දේ හිතාගත්ත තත්ත්වයෙන් අන් අයුරකට යනව. **(යෙන යෙන හි මඤ්ඤති තතො තං හොති අඤ්ඤථා)** වෙනස් වුනත් පැවැත්මෙහි ඇලුණ පුද්ගලයා පැවැත්මට ගැතිව පැවැත්ම ම කැමති වෙනව. කැමති නිසා වෙනස් වෙනවට බයයි. ඒ බය ම තමයි දුක.

ඒ නිසා බාහිර දේවල් විනාශවෙනව දැකල අනිත්‍යයි කියල හිතුවට වැඩක් නෑ. එකක් විනාශ වුනාට අලුත් එකක් හොයාගන්න පුළුවන් නෙ. ඒකෙන් මම වෙමි කියන මානය දුරුවෙන්නෙ නෑ. ඒ නිසා අත්දැකීම් ලැබෙණවා යන්නෙන් පහළවන සිත් ඇති වී නිරුද්ධ වී යන බවයි දැකියයුත්තෙ. **මේ අවබෝධය ඇතිව සිත් පහළ වනවිට අනිත්‍යයි කියල මෙනෙහි කරගන්න ඕන.** මෙහෙම දවසක් දෙකක් නෙවෙයි, දිගින් දිගට මේ අනිත්‍යසංඥාව වඩන්න ඕන.

**මේ අතර ආනාපානසතිය, බුද්ධානුස්සතිය, මෛත්‍රීචෙතොවිමුක්තිය, අශුභමනසිකාරය, ධාතුමනසිකාරය, මරණානුස්මෘතිය සක්මන්භාවනාව වැනි භාවනාත් පුහුණු වෙන්න ඕන. ඒ තුළින් චිත්ත සමාධිය හඳුනාගන්න ඕන. සීලයත් සමාධියත් ප්‍රඥාවත් එකිනෙකට සම්බන්ධයි.**

ඒ විදියට පුහුණු වෙන ගමන් උපාදානස්කන්ධ සිත් ප්‍රවාහය අනිත්‍ය වශයෙන් දකිනව කියන්නෙ උදය වය දකිනව කියන එකයි. එතකොට මෙතන සතිය වැඩෙනව. ධම්මවිචය වැඩෙනව. වීර්යය වැඩෙනව. ප්‍රීතිය වැඩෙනව. කාය චිත්ත සැහැල්ලුව වැඩෙනව. චිත්තසමාධිය වැඩෙනව. උපේක්ෂාව වැඩෙනව. මේ විදියට යම් කෙනෙක් බෝධ්‍යඞ්ග ධර්ම හොඳින් වඩන ලද්දේ නම් උපාදාන නො කර ගැනෙන අරමුණු අනිත්‍ය වශයෙන් දකිමින් අතහැරීමෙහි ඇලුනේ ද බැබලෙන්නා වූ ඒ ක්ෂීණාශ්‍රවයන් වහන්සේලා ලෝකයෙහි පිරිනිවුණ අය වෙනව.

**යෙසං සම්බෝධි අඞ්ගෙසු සම්මාචිත්ත සුභාවිතං**
**ආදාන පටිනිස්සග්ගෙ අනුපාදාය යෙ රතා**
**ඛීණාසවා ජුතීමන්තා තෙ ලොකෙ පරිනිබ්බුතා.**
**(ඛුඃ නිඃ 1, ධම්මපද, 44 පිට)**

ධම්මපද පණ්ඩිත වග්ගයේ එන මේ ගාථාවෙන් කියැවෙන්නේ ආශ්‍රවයන් ක්ෂය කර පිරිනිවෙන්නේ අර අරමුණු ලැබෙන වෙලාවට ඒවා උපාදාන කරගන්නේ නැතිව ගැනුණ අරමුණ අතහැර දැමීමයි. අනිත්‍යයි කියන මනසිකාරයෙන් සිතින් සකස් වුණ සියල්ල අතහැර දැමීමයි.

එකක් පසු එකක් වශයෙන් ප්‍රවාහයක් වශයෙන් සිත් පහළ වන්නේ තණ්හාව විසින් දෙන තල්ලුව නිසයි. සමුදය වූ සිතක් නිරුද්ධ වී යළි සිතක් සමුදය වනවිට සිත් දෙකක් අතර පරතරය නො දකින්නේ තණ්හාව නිසා. සක්මන් භාවනාව කරනකොට පියවර එසවීම තැබීම, උදය වය වශයෙන් මෙනෙහි කරන කොට සිත්වල උදය වය ටික ටික දකින්න පුළුවන්. එසවීම තැබීම අතර අවස්ථා වෙන් කර දකින්න පුළුවන් පමණට සිත් ප්‍රවාහයක් බව නුවණින් දකින්න පුළුවන්. මේ උදය වය දකිනව කියන්නෙ අනිත්‍යතාව දකිනව කියන එකයි.

**අනිච්චානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති අනිච්චානුපස්සී පස්සසිස්සාමීති සික්ඛති,** කියූ පිළිවෙළට අනිත්‍යතාව දකිමින් ආශ්වාද කරනව ප්‍රශ්වාසකරනව කියන්නෙ, ආශ්වාසයේ උදය වය දැකීමයි. ප්‍රශ්වාසයේ උදය වය දැකීමයි. හැම ස්වභාවයක්ම ක්ෂණයක් පාසා වැය වන බව වැඩියෙන් පෙනෙන්න පටන් ගන්නව. වැය වන ධර්ම ගැන ඇල්මත් අඩුවෙනව. **(විරාගානුපස්සී)** එතකොට වැඩියෙන් පෙනෙන්නෙ

නිරෝධය. **(නිරෝධානුපස්සී)** නිරෝධය දකිනකොට අතහැරීම පහසු වෙනව. **(පටිනිස්සග්ගානුපස්සී)- (මඃ නිඃ 3, ආනාපානසති සූත්‍රය, 232 පිට)** ඉතින් මේ අතහැරෙන්නේවිඤ්ඤාණය පිළිබිඹු කරන නාමරූප. මේ විදිහට විදසුන් වඩන කොට නාමරූප ලෝකය ගැන ප්‍රඥාවෙන් කලකිරෙනව. **(නිබ්බින්දති)** උපාදානස්කන්ධ ලෝකය පිළිබඳ උනන්දුව ක්‍රමයෙන් මැකිල යනව. **(විරජ්ජති)**මේ ආකාරයෙන් විදසුන් නුවණ වැඩෙන පමණටයි, සිත ආස්‍රවයන්ගෙන් මිදෙන්නෙ. **(විමුච්චති)** එතකොට සමුදය තවදුරටත් යෙදෙන්නෙ නෑ. **'ඉමස්මිං අසති ඉදං න හොති'** කියන නිරෝධ න්‍යායයෙන් කියැවෙන්නෙ ඒකයි.

## අතීතයෙන් අනාගතයෙන් හා පච්චුප්පන්නයෙන් මිදීම.

එක් කාලෙක බුදුරජාණන් වහන්සේ වැඩහිටියෙ රජගහ නුවර තපෝදා වනයෙ. දවසක් සමිද්ධි හාමුදුරුවො රෑ අලුයම තපෝදාවේ උණුවතුර පොකුණෙන් ඇඟ සෝදාගෙන කය වේලෙන තුරු එක්සිවුරකින් සිටිය. ඔය අවස්ථාවේ එක්තරා දෙව්දුවක් ඇවිල්ල "මහණ, ඔබ භද්දේකරත්ත මහණහුගේ උද්දේසයත් විභඞ්ගයත් දරණව ද" කියල ඇහුව. සමිද්ධි හාමුදුරුවො කිව්ව නෑ කියල. කියල සමිද්ධි හාමුදුරුවො ආපහු ඇසුව ඔබ දරණව ද කියල. දෙව්දුවත් කිව්ව නෑ කියල.

ඊට පස්සෙ දෙව්දුව අහනව මහණ ඔබ භද්දේකරත්ත ගාථා දරණව ද කියල. සමිද්ධි හාමුරුවො ඒකටත් නෑ කියල, දෙව්දුවගෙන් ඇහුව ඔබ දරණව ද කියල. ඒකටත් දෙව්දුව කිව්ව නෑ කියල. ඒ එක්ක ම ඇය කියනව "මහණ භද්දෙකරත්ත භික්ෂුවගේ උද්දෙසය විභඞ්ගය ඉගෙනගන්න. මගබඹසරට මුල් වන පූර්වභාග ප්‍රතිපදාවක් වන එය ප්‍රයෝජනයි." කියල.

සමිද්ධි හාමුදුරුවො මේ කථාබහ ඔක්කොම බුදුරජාණන් වහන්සේ ට කියා හිටිය. එහෙනම් මහණ, අහගන්න. හොඳින් මෙනෙහි කරන්න කියල, බුදුරජාණන් වහන්සේ භද්දෙකරත්ත ගාථා දේශනා කළා.

**අතීතං නාන්වාගමෙය්‍ය නප්පටිකඞ්ඛෙ අනාගතං**
**යදතීතං පහීනං තං අප්පත්තඤ්ච අනාගතං**

අතීතය අනුගමනය නො කරන්නේ ය. අනාගතය නො පතන්නේ ය. යමක් අතීත ද එය ප්‍රහීණ ය. අනාගතය නො පැමිණියේ ය.

**පච්චුප්පන්නඤ්ච යො ධම්මං තත්‍ථ තත්‍ථ විපස්සති**
**අසංහීරං අසඞ්කුප්පං තං විද්වාමනුබ්‍රෑහයෙ**

යම්බඳු වූ පච්චුප්පන්න ධර්මය එතැන එතැන දී විදර්ශනය කෙරේ ද, ඒ නුවණැත්තා නො ඇදෙන නො සැලෙන විදර්ශනාව වඩන්නේ ය.

**අජ්ජෙව කිච්චං ආතප්පං කො ජඤ්ඤා මරණං සුවෙ**
**න හි නො සඞ්ගරං තෙන මහාසෙනෙන මච්චුනා.**

අද ම උත්සාහය කළයුතු ය. කවුද දන්නෙ මරණය හෙට ද කියල. මහත් සේනා ඇති මාරයා සමග මිතුරු ගිවිසුම් නැත.

**එවං විහාරිං ආතාපිං අහොරත්තමතන්දිතං**
**තං වෙ භද්දෙකරත්තොති සන්තො ආචික්ඛතෙ මුනි**

මෙසේ වාසය කරන කෙලෙස් තවන වීර්යය ඇති අලස නො වූ පුද්ගලයා "භද්දෙකරත්ත" යැයි බුද්ධමුනිවරයා ප්‍රකාශ කෙරේ.

මේ ගාථා දේශනා කරල බුදුරජාණන් වහන්සේ ගඳකිළියට වැඩිය. මේ මූලික සංක්ෂිප්ත දේශනාවටයි, උද්දේසය කියන්නේ. ඒකේ විස්තර විභාගයටයි, විභඞ්ගය කියන්නේ. ඉතින් උද්දේසය විතරක් දේශනා කරල බුදුහාමුදුරුවො වැඩිය. එතන හිටිය භික්ෂූන්ට විස්තර විභාග තේරෙන්නේ නෑ.

ආයුෂ්මත් මහාකච්චාන හාමුදුරුවන් කියන්නේ ශාස්තෘන් වහන්සේ විසිනුත් වර්ණනා කරන ලද, විඥ්ඥ සබ්‍රහ්මචාරීන් වහන්සේලාගෙන් සම්භාවනා ලද හිමිනමක්. උන්වහන්සේට මේ උද්දේසයේ විස්තර විභාග දක්වන්න පුළුවන්. අපි ගිහින් උන්වහන්සේගෙන් මේ ගැන දැනගනිමු, කියල භික්ෂූන්වහන්සේලා මහාකච්චාන මහරහතන් වහන්සේ මුණගැසුණ. මුලු විස්තරයමත් දැනුම් දීල, භද්දේකරත්ත ගාථා වල විස්තර විභාග විමසුව. උන්වහන්සේ එකපාරට ඕකට උත්තර දෙන්න ගියෙත් නෑ.

අරටුව හොයන කෙනෙක් ගහක මුල කඳ ඉක්මවල කොළ අතු වල අරටුව හොයනව වගේ බුදුරජාණන් වහන්සේ හමුයෙහි ඉඳලත් ඇයි, උන්වහන්සේ ඉක්මවල මගෙන් මේක දැනගන්න කල්පනා කරන්නෙ. භාග්‍යවතුන් වහන්සේ දැනගතයුතු දේ දන්නව. දැක්කයුතු දේ දකිනව. ඇසක් වගේ. ඥානමයයි. ධර්මමයයි. ශ්‍රේෂඨයි. වක්තෘයි. ප්‍රවක්තෘයි. අර්ථය දක්වන්නායි. නිවන් අමෘතය දෙන්නායි. ධර්මස්වාමීයි. ශාස්තෘන් වහන්සේගෙන් අහල දැනගන්න පුළුවන්. භාග්‍යවතුන් වහන්සේ ප්‍රකාශ කරන ආකාරයකට දරාගන්න. කියල පැවසුව.

ඇවැත් කච්චානයෙනි, අපි භාග්‍යවතුන් වහන්සේගේ ශාස්තෘත්වය දනිමු. ඔබවහන්සේ ද ශාස්තෘන් වහන්සේ විසින් වර්ණනා කරන ලද කෙනෙක්. විඥූසබ්‍රහ්මචාරීන් වහන්සේලා විසින් සම්භාවිතයි. ඔබවහන්සේට මේ උද්දේසයේ අර්ථ විභාග දක්වන්න පුළුවන්. බරක් හැටියට නො සිතා අර්ථය පැහැදිලි කරදෙන්න. කියල භික්ෂූන් වහන්සේලා ඉල්ලා හිටිය.

එහෙම නම් ඉතින් අහගන්න කියල, උන්වහන්සේ විස්තරවිභාග දක්වා වදාළ. දැන් අපි තේරුම් ගනිමු උන්වහන්සේ විස්තර විභාග දැක්වූයේ කොහොම ද, කියල.

මුළින් ම අතීතය අනුගමනය කිරීම **(අතීතං අන්වාගමෙති)** කියන්නේ කුමක්දැයි පැහැදිලි කළා. අතීතෙ තිබුණ ඇස ගැනයි, දැක්ක රූප ගැනයි දැන් හිතන කොට වෙන්නේ ඒ අතීත ඇස ගැන රූප ගැන විඤ්ඤාණය ඡන්දරාගයෙන් බැඳෙන එකයි. විඤ්ඤාණය ඡන්දරාගෙන් බැඳෙණ හින්ද එය කැමති වෙනව. මෙසේ කැමති වීම තමයි, අතීතය අනුගමනය කරනව කියල කියන්නෙ. ඉතින් ඔය විදියට අතීතෙ තිබුණ කන, නැහැය, දිව, කය, මන ගැනත් ලැබුණ ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, සංකල්ප ගැනත් සිහි කර කර ඡන්දරාගෙන් බැඳෙනව කියන්නේ අතීතය අනුගමනය කරනව කියන එකයි.

මේ පැහැදිලි කිරීම දිහා බලන කොට ඔබටත් තේරෙනව ඇති ඔබත් එහෙම අතීත සළායතනික අත්දැකීම් සිහිපත් කරමින් දැනුත් ඡන්දරාගෙන් පටලැවෙනව කියල. අං: නි: 1, සම්බෝධිවග්ගයේ 10 වැනි සූත්‍රයේ සඳහන් වෙනවා මෙහෙම අතීත ඡන්දරාගට්ඨානීය ධර්ම අනුව විතක්ක විචාර කරන්න ගියාම කර්ම සමුදය වෙනව කියල. චේතනාව තමයි, කර්මය. කර්මයට නිදානය තමයි, ඵස්සය. ඉතින් මේකෙන් වෙන්නේ පරණ කර්ම වැල්පොලී කරගන්න එකනෙ. එහෙම කරල කවද නිවන් දකින්න ද? ඒ වුනත් මේවයෙන් එකපාර මිදෙන්න බෑ. ඒ හින්ද ඒවා සිහිපත් වෙන කොට ඡන්දරාගයට වැටෙන්නෙ නැතුව ඒ සංකල්පනා අනිත්‍ය බව දුක්සහගත බව අනාත්ම බව නුවණින් දකින්න ඕන. කාලයක් මේවා මේ විදියට පුහුණු වෙන්න ඕන.

මේ සූත්‍රයේ දි මහාකච්චාන හාමුදුරුවො අතීතය අනුගමනය නොකිරීම **(අතීතං නාන්වාගමෙති)** මොකක් ද කියලත් පැහැදිලි කරනව. අතීත අජ්ඣත්තික ආයතන බාහිර ආයතන ගැන විඤ්ඤාණය ඡන්දරාගෙන් බැඳෙන කොට ඒවා නො පතා ඉන්න එකයි, කළයුත්තේ. එහෙම නො පතන කොට අතීතය අනුගමනය කිරීමක් වෙන්නේ නෑ. කර්ම වැල් පොලී වෙන්නෙත් නෑ. පරණ ඇලුනු, ගැටුනු, රැවටුනු ඒවා මේ

විදියෙන් අතහැරගන්න ඕන. මතක්වෙලා එන පරණ එව්වට පිදුරු දාන්නැත්නම් අලුත් වෙන්නේ නෑ.

අතීතයෙ මතක සංස්කාර සටහන් යන්න අරිනව වගේ ම අනාගතේ දේවල් පතන එකත් නවත්වන්න ඕන. අනාගතේ ලැබියයුතු දේවල් ගැන හිතනව නම් **(අනාගතං පටිකඞ්ඛති)** කර්මෙ හැටියට හොඳ ඒවයෙන් හරි නරක ඒවයෙන් හරි ලැබෙයි. අනාගතේ මාගේ ඇස, කන, නැහැය, දිව, කය, මන මෙසේ වන්නේ ය. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, සංකල්ප මෙසේ වන්නේ ය, කියල අතීතෙ නො ලැබුණ ඒව මතු ලබාගැනීමට කැමති වෙන එකයි, සාමාන්‍යයෙන් පුද්ගලයින්ගෙ සිරිත. **(අප්පටිලද්ධස්ස පටිලාභාය චිත්තං පණිදහති)**

දැනුත් අපට ඔය අජ්ඣත්තික බාහිර ආයතන දොළහ ලැබිල තියෙන්නේ අතීතෙ තිබුණ පැතුම ඉටුවීමක් හැටියට. පැතුම් පතන්නෙ නම් ඉහළ මට්ටමෙන්. ඒත් පැතුමෙ මට්ටමට ම දෙන්න බෑ. කර්මෙ හැටියටයි ලැබෙන්නෙ. ඒකට කියනව පුරාණ කර්මය කියල. ඇහැ පුරාණ කර්මයක්. චේතනාමය වශයෙන් අභිසංස්කරණය කරපු එකක්. වේදනාවට කරුණක් කියල දැනගන්න ඕන. **(චක්ඛුං භික්ඛවෙ පුරාණං කම්මං අභිසඞ්ඛතං අභිසඤ්චෙතයිතං වෙදනීයං දට්ඨබ්බං)** කන, නැහැය, දිව, කය, මන ලැබිල තියෙන්නෙත් ඒ විදියට. දැන් ඉතින් ලැබුණ නම් නිකං ඉන්නෙ නෑ. කයින් වචනයෙන් සිතෙන් නව කර්ම කරනව. ඉතින් සසර නතර වෙයි ද? නෑ නේ ද? සසර නතර කළයුත්තක් බව දැනගන්න තරම් සම්මාදිට්ඨියක් නැත්නම් සැකසෙන්නේ සසර ම තමා. ඒකනේ අපි මේ තාමත් ඉන්නෙ.

ඉතින් අපි ඊළඟට බලමු, මහාකච්චාන මහරහතන් වහන්සේ අනාගතය ප්‍රාර්ථනා නො කිරීම ගැන කියල දුන්නෙ කොහොම ද, කියල. අනාගතේ මගේ ඇස මෙසේ වන්නේ ය, රූප මෙසේ වන්නේ ය, කන- ශබ්ද, නාසය- ගන්ධ, දිව- රස, කය- පහස, මනස- සංකල්ප මෙසේ මෙසේ වන්නේය කියල නො ලැබුණ දේවල් ලබාගන්න අභිනන්දනයක් නැත්නම් අනාගතය ප්‍රාර්ථනා නො කිරීම කියන්නෙ එයයි. එතකොට හොඳට මතක තියාගතයුතු දෙයක් තමයි, මේ ලැබිල තියෙන්නෙ අපි කැමති වෙච්ච දේවල්. බ්‍රහ්ම, දිව්‍ය, මනුෂ්‍ය,

අසුර, ප්‍රේත, තිරිසන්, නරක හැම ස්වභාවයක ම ආයතන ප්‍රතිලාභය පැතුම නිසා ලැබුණ දේ. ඒවායේ හීන ප්‍රණීත භාවය ඉතින්, කර්මෙ හැටියට තමා. පැතුම් වැඩිවෙන පමණට කර්ම බිහිවෙනව වැඩියි. පැතුම් අඩුවෙන පමණට කර්ම බිහිවීමත් අඩුයි. පැතුම් නැත්නම් කර්ම බිහිවෙන්නෙත් නෑ.

දැන් අපි අතීත ප්‍රශ්නෙත් තේරුම් ගත්ත. අනාගත ප්‍රශ්නෙත් තේරුම් ගත්ත. දැන් ඉතුරු වෙලා තියෙන්නෙ මේ වෙලාව. පච්චුප්පන්නය. දැන් ඉතින් පුරාණ කර්මෙන් හම්බවෙච්ච දැන් තියෙන ආයතන දොළහ දිහා බලමු. දැන් මේ වෙලාවෙ ආයතන වලට තණ්හා මාන දිට්ඨි වශයෙන් ඇදෙන එකයි වෙන්නෙ. **(පච්චුප්පන්නෙසු ධම්මෙසු සංහීරති)** ඇස යමක් ද, රූපය යමක් ද ඒ දෙක ම පච්චුප්පන්නයි. **(යඤ්චාවුසො චක්ඛුං යෙ ච රූපා උභයමෙතං පච්චුප්පන්නං)** පච්චුප්පන්න කියන්නේ ප්‍රත්‍යයන්ගෙන් උපන් කියන එකයි. ඒ කියන්නේ "මෙය ඇති කල්හි මෙය වෙයි" **(ඉමස්මිං සති ඉදං හොති)** කියන ධර්ම න්‍යායයට අනුව සමුදය වුන, කියන එකයි. ඇස සමුදය වෙන්නෙ වර්ණරූපයත් එක්ක. වර්ණරූපය සමුදය වෙන්නෙ ඇසත් එක්ක. විඤ්ඤාණය මේ පච්චුප්පන්නයෙ ඡන්දරාගෙන් බැඳෙනව. **(තස්මිං පච්චුප්පන්නෙ ඡන්දරාග පටිබද්ධං හොති විඤ්ඤාණං)** දැන් මේ ඇසයි, වර්ණරූපයය, චක්ඛුවිඤ්ඤාණයයි තුන් තැනක වෙන වෙන ම තිබිල පස්සෙ එකතු වෙන දේවල් නො වෙයි. එකිනෙකට ප්‍රත්‍යය වෙමින් සමුදය වෙන ධර්ම. ඒ බව දන්නෙ නැති හින්ද තමයි, මම මගේ කරගෙන කල්පගණන් සංසාරයක් හැදුවෙ. මතු අනාගත සංසාරයක් හදන්නෙ. දැන් මෙතන හදාගත්ත මුළාවට තමයි, අතීතෙත් වැටුනෙ. අනාගතෙත් මුළාවට වැටෙන්න ප්‍රාර්ථනා කරන්නෙ. දැන් මේ සැකසෙන ප්‍රත්‍ය සම්බන්ධතාව ම යි, අතීතෙත් වුනේ. අනාගතයක් සැකසෙනව නම් සකස් වෙන්නේ මේ ප්‍රත්‍ය සම්බන්ධතාව විදියට මයි.

අතීතය නිරුද්ධයි. අනාගතය පැමිණියෙ නෑ. දැන් මේ මොහොතෙ අපි ඉන්නව වගේ දැනෙන්නේ ප්‍රත්‍යුත්පන්න ධර්ම සමුදය වීමක් හැටියට. සමුදය වෙලා තියෙන්නෙ නෑ. නිරුද්ධ වෙනව. ඡන්දරාගය හින්ද ආයෙත් සමුදය වෙනව. එසැණින් නිරුද්ධ වෙනව. එසැණින් සමුදය වෙනව. ඔය විදියට

ඡන්දරාගයෙන් බැඳුණු විඤ්ඤාණය ප්‍රත්‍යුත්පන්නය අභිනන්දනය කරනව. **(ඡන්දරාගපටිබද්ධත්තා විඤ්ඤාණස්ස තදභිනන්දති)** පතනව නම් කැමති වෙනව නම් මොනව කරන්න ද? අභිනන්දනය නිසා ප්‍රත්‍යුත්පන්න ධර්මයන්ට ඇදෙනව. **(තදභිනන්දන්තො පච්චුප්පන්නෙසු ධම්මෙසු සංහීරති)**ඔය ප්‍රත්‍යුත්පන්නය නිරුද්ධ වුනාම අතීත ඡන්දරාගට්ඨානීය ධර්ම කියනව. මතු පතන ඒවට කියනව අනාගත ඡන්දරාගට්ඨානීය ධර්ම කියල. මේ මොහොතේ සමුදය වෙන ඒවට කියනව පච්චුප්පන්න ඡන්දරාගට්ඨානීය ධර්ම කියල.

කනයි ශබ්දයයි සෝතවිඤ්ඤාණයයි සමුදය වෙන්නෙත් මේ මොහොතෙ. නාසයය ගන්ධයයි ඝානවිඤ්ඤාණයයි සමුදය වෙන්නෙත් මේ මොහොතෙ. දිවයි රසයය ජිව්හා විඤ්ඤාණයයි සමුදය වෙන්නෙත් ප්‍රත්‍යුත්පන්නයෙ. කයයි පහසයි කායවිඤ්ඤාණයය සමුදය වෙන්ටනත් ප්‍රත්‍යුත්පන්නයෙ. මනසයි ධම්මයි මනෝවිඤ්ඤාණයයි සමුදය වෙන්නෙත් ප්‍රත්‍යුත්පන්නයෙ. මේ කාරණය හොඳට වටහා ගන්න.

ඉතින් මේ ප්‍රත්‍යුත්පන්නයට ඇදිල බෑ නෙ. මිදෙන්න එපායැ. ඉතින් මෙතැනදි කෙනෙක් ප්‍රත්‍යුත්පන්නයට ඡන්දරාගයෙන් ඇදෙන්නෙ නැත්නම් කර්ම බිහි වෙන්නෙ නෑ. මේ වෙලාවෙ ඡන්දරාගයක් ඇතිවන්නෙ නැත්නම් ආනගතයකුත් නෑ.

දැන් මේ මහාකච්චාන හිමියන්ගේ විස්තර විභාගය අපිත් පැහැදිලි කරගත්ත. අර භික්ෂූන් වහන්සේලාට මහකච්චාන හාමුදුරුවො මතක් කළා භද්දෙකරත්තගාථා වල විස්තරාර්ථ මම දන්නෙ ඔය විදියටයි, ඔබවහන්සේලා කැමති නම් මේ ගැන බුදුරජාණන් වහන්සේගෙන් විමසන්න. ශාස්තෲන් වහන්සේ දේශනා කරන සැටියක් පිළිගන්න, කියල. ඒ භික්ෂූන් වහන්සේලාත් බුදුරජාණන් වහන්සේ හමුවෙලා මේ සියලු ප්‍රවෘත්තිය ප්‍රකාශ කර සිටිය. මහාකච්චාන හිමියන්ගේ විස්තර විභාගය දන්වා සිටිය.

මේ විවරණය අහල බුදුරජාණන් වහන්සේ සඳහන් කළේ, ”මහාකච්චාන මහාප්‍රාඥයෙක්. නුඹලා මගෙන් මේ කරුණ ගැන විමසුවා නම් මම ප්‍රකාශ කරන්නෙත් ඔය මහාකච්චාන ප්‍රකාශ තළ ආකාරයට ම යි. එහි අර්ථය ඒක තමයි. ඒ විදියෙන්

ඒක දරාගන්න", කියලයි. **(මඃ නිඃ 3, මහාකච්චානභද්දෙකරත්ත සූත්‍රය, 410 සිට 422 දක්වා පිටු)**

පිළිතුර දැන් පැහැදිලියි. කරන්න ඕන දේත් දැන් දන්නව. ඒත් ඉතින් ඡන්දරාගෙන් නො බැඳී ඉන්න එකනෙ, අමාරු. සසර හැංගිල තියෙන සත්‍යයන් අපි ඉස්සරවෙලා අහල දැනගන්න ඕන. ඒක තමයි, අපි දැන් මේ කළේ. මේ දැන ගැනීම නිසාත් අපට ශක්තියක් ලැබෙනව. ප්‍රඥාවේ ආලෝකයක් හිතට දැනෙනව. ඒ නිසා අපට පටන්ගන්න හිත යෙදෙනව. පුළුවන් තරමින් පටන්ගන්නයි තියෙන්නෙ. ටික ටික කරගෙන යනකොට පුළුවන් කම වැඩි වෙනව. සීලය, සමාධිය හොඳ පදනමක්. පන්සිල් ටිකත් ඇති. බුද්ධානුස්සතියෙන්, මෛත්‍රීභාවනාවෙන්, ආනාපාන සතියෙන්, ධාතුමනසිකාරයෙන්, අශුභ මනසිකාරයෙන් සමාධිගුණය දියුණු කරගන්න පිළිවන්. සමාධි ගුණ වැඩෙන කොට දහම්මග සුවදායක වෙනව. පස්කම් සුවයට තියෙන බලවත් ඕනෑකම අඩු වෙනව. සමාහිතයේ සුවය දන්න කෙනා දන්නව පස්කම් සුවය කොතරම් ඕළාරික ද කියල. කයට තියෙන වසඟ බව අඩු වෙන පමණට සිත සංසුන්. මේක රසවිඳිය යුතුයයි හිතන ජීවිතය නීරස කිරීමක් නොවෙයි.

හිතට එන එන හැටියට ජීවත් වෙන, පස්පව්, දසඅකුසල් කරන අය තමාට ම තමා හතුරෙක් වෙලා. ගතකරන ජීවිතයත් නොසංසුන්. මරණින් මතු බොහෝ විට දුගති උපතකටයි වැටෙන්නෙ. මම මගේ කියන්නෙ සත්‍ය වශයෙන් ඇති හරවත් යමක් නොව හැඟීම් මාත්‍රයක් පමණයි. ඒ බව දැනගන්න කොට දුර්වල වෙන්නෙ සක්කාය දිට්ඨිය. සක්කායදිට්ඨි ප්‍රහාණය කළ, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස නැති සෝතාපන්න පුද්ගලයකු ට වුවත් අතීතයේ අනාගතයේ ප්‍රත්‍යුත්පන්නයේ ඡන්දරාගයට බැඳීම ක්‍රියාත්මක වෙනව. ගෘහස්ථ කාමභෝගී ජීවිතය සෝතාපන්න සකදාගාමි අවස්ථා දෙකට ම විවෘත්ත වෙලා තියෙන්නෙ ඒ නිසා. හැබැයි, ඒ ඡන්දරාගය අපායගමනීය අකුසලයකට තරම් බලගතු වෙන්නෙ නෑ. ඒකයි , එතැන ඇති විශේෂත්වය. අපගේ ඡන්දරාගයට කරුණු වන කවර ප්‍රණීත සැපතක් වුවත් දුක් නො උපදවා තියෙන්නේ නැත. දුකට කරුණු හැම ලෞකික සැපතක ම අනිවාර්යයෙන් ම තියෙනව. එ බව දහම් මග යන පුද්ගලයා පැහැදිලිව දන්නව. අඩු කැළඹීමකින් යුක්තව ඒ දුකට ඔරොත්තු දීමේ ශක්තියක් ශ්‍රැතවත් ආර්යශ්‍රාවකයාට තියෙනව. මේ කථා කළේ අනාගාමි අරහත් උතුමන්ගේ තත්ත්වය නො වේ.

සෝතාපන්න සකදාගාමි අවස්ථාවන් ගැනයි. ගිහි පස්කම් සුව ලබන නමුත් දහම් මග තහවුරු වීමක් ඇති සසුනක ධර්මයෙන් ලැබිය හැකි රැකවරණය ගැනයි. මේ කරුණ මතක් කළේ ඡන්දරාගයෙන් නො පෙළඹීම ගැන කියන කොට ආරම්භයේ දී ම රහතන් වහන්සේගේ තත්ත්වයෙන් මේ කරුණ ගැන ගැඹුරු තැනකින් සිතුවොත් පිළිවෙත ඇරඹීමට විශේෂයෙන් ගිහි අය තුළ මනෝත්සාහයක් ඇතිවීමට ඇති ඉඩකඩ වළකාලනු පිණිසයි.

අපි මෙහි මුලින් සඳහන් කළ ගාථා හතර හඳුන්වනු ලබන්නෙ භද්දෙකරත්තගාථා නමිනුයි. මේ නමින් අදහස් කරන්නේ කුමක් ද, යන්න පිළිබඳ නොයෙක් මතභේද තිබෙනව. ඒවා ගැන ඔබේ සිත පටලවා ගතයුතු නැහැ. ඡන්දරාගය කියන්නෙ තණ්හාව. යම් කෙනෙක් තනිව හිටියත් තණ්හාවෙන් යුක්ත නම් තණ්හාව දෙවැන්නා කරගෙන සිටින නිසා හුදකලා බවක් නැතැයි, ඒ පිළිබඳව කියැවෙන සූත්‍ර වල සඳහන් වෙනව. කෙනෙක් තණ්හාවෙන් තොරව පිරිසක් මැද සිටියත් හුදෙකලාවෙන් යුක්ත බව සඳහන් වෙනව. එකරත්ත කියන්නේ හුදකලාවේ ඇලුණ (එකලා බවෙහි ඇලුණු) කියන එකයි. තෘෂ්ණාව (ඡන්දරාගය) නැතිකම නම් වූ එකලා බවෙහි ඇලීම, උසස් ම ඇලීමයි. ඒ නිසා භද්දෙකරත්ත යන්නෙහි තේරුම උත්තරීතර හුදෙකලාව බව සලකන්න.

මේ උත්තරීතර හුදකලාව කියන්නෙත් අන්තයන්ගෙන් මිදීමක්. මධ්‍යය විනිවිද යාමක්. අතීතය එක අන්තයක්. අතීත ධර්ම අනපේක්ෂිත වෙන්න ඕන. **(අතීතෙසු ධම්මෙසු අනපෙක්ඛො හොති)** අනෙක් අන්තෙ අනාගතය. අනාගතය කැමති වීම අතහරන්න ඕන. **(අනාගතෙ ධම්මෙ නාභිනන්‍දති)** එතකොට ප්‍රත්‍යුත්පන්නය තමයි මැද. මේ මොහොතෙ මමයි, මගෙයි කියල ගන්න ඔක්කොමත් චේතනාමය වශයෙන් සකස් කරගැනිමක්. ඒ බව දකින කොට පච්චුප්පන්න ධර්ම ගැන නුවණින් යුක්ත කලකිරීමක් ඇතිවෙන්නේ. එතකොට උනන්‍දුව මැකිල යනව. නිරෝධය දකිනව. **(පච්චුප්පන්නානං ධම්මානං නිබ්බිදාය විරාගාය නිරොධාය පටිපන්නො හොති)- (සං: නිඃ 4, බාහිරානිච්ච සූත්‍රය, 12 පිට)** උත්තරීතර හුදෙකලාව පූර්වභාග ප්‍රතිපදා වශයෙන් වැඩෙන්නෙ එහෙමයි.

## කය ලෙඩ වුණත් සිත ලෙඩ නො වෙන්නට

නකුලපිතා කියන්නේ සෝවන් වෙච්ච උපාසක කෙනෙක්. නකුලමාතාවගේ ස්වාමි පුරුෂයා. විශ්වාස කටයුතු වදන් ඇත්තවුන් අතරින් අගතැන්පත් වුනේ මේ දෙන්න. දිනක් බුදුරජාණන් වහන්සේ දකින්නට ගිය මේ උපාසකතුමා උන්වහන්සේට මෙහෙම කියනව. **"ස්වාමීනි, මම දැන් ජරාජීර්ණයි. වයසින් වැඩිල. මහලුයි වයස්ගතයි. අන්තිම වයසෙ ඉන්නේ. කයත් ලෙඩගානෙ. නිතර ම ලෙඩ. ස්වාමීනි, හිත දියුණු කරන භික්ෂූන් වහන්සේලා මට නිතර දකින්න ලැබෙන්නෙත් නෑ. දිගු කලක් හිත සුව පිණිස පවතින අනුශාසනාවක් මට කරන්න." (සං: නි: 3, නකුලපිතු සූත්‍රය, 02 පිට)**

අපිත් ඉතින් වයසට යන නිසා ටික ටික ලෙඩ දුක් එහෙමත් වැඩි වෙන නිසා නකුලපිතා අහපු ප්‍රශ්නෙ අපෙත් ප්‍රශ්නය ම තමයි. මෙතැනදී බුදුරජාණන් වහන්සේ කරන අනුශාසනය අප කාටත් වැදගත් වෙනවාට කිසි ම සැකයක් නෑ. එහෙනම් අපි බලමු, බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ මොකක් ද, කියල. "ගෘහපතිය, ඒක එහෙම ම තමයි. ඒක එහෙම ම තමයි. මේ කය ලෙඩ සහිත එකක් ම යි. බිත්තරයක් වගේ, සියුම් සිවියෙන් වැහිල තියෙන්නෙ. මේ වගේ කයක් පරිහරණය කර කර කවුරු හරි කියනව නම් මොහොතකට වත් මගේ කය නිරෝගියි කියල, ඒකට කියන්න තියෙන්නෙ වෙන මොකක් වත් නෙවෙයි, බාල බව කියල. ඒ නිසා ඔබ මෙන්න මේ විදියට හික්මෙන්න. මගේ කය ලෙඩ වුනත් මගේ සිත ලෙඩ නො වන්නේ යම් ආකාරයකින් ද අන්න ඒ ආකාරයෙන් හික්මෙන්න. **(ආතුරකායස්ස මෙ සතො චිත්තං අනාතුරං භවිස්සතීති, එවං හි තෙ ගහපති සික්ඛිතබ්බං)**

ඉතින් නකුලපිතු ගෘහපතිතුමා භාග්‍යවතුන් වහන්සේ වදාළ මේ වචනය අහල සතුටු වුණා. සතුටු වෙලා හිඳගෙන හුන් ආසනයෙන් නැගිටල භාග්‍යවතුන් වහන්සේට වැඳල, ප්‍රදක්ෂිණාත් කරල, ඊට පස්සෙ ගියෙ සාරිපුත්ත ස්වාමීන් වහන්සේ සොයාගෙන. උන්වහන්සේටත් වැඳල නමස්කාර කරල එකත්පස්ව වාඩිවුණා. ඒ වෙලාවේ සැරියුත් හාමුදුරුවො

නකුලපිතුට මෙහෙම වදාරණව. "ගෘහපතිය, ඔබේ ඉන්ද්‍රියයන් බොහොම ප්‍රසන්නයි. මුහුණත් පැහැපත් වෙලා. අද භාග්‍යවතුන් වහන්සේගෙන් දැහැමි කථාවක් වත් අහන්න ලැබුණ ද," කියල. ඒ වෙලොව නකුලපිතු ගෘහපති තුමා කියනව, "මොක ද, නැත්තෙ ස්වාමීනි, මම දැන් භාග්‍යවතුන් වහන්සේගේ ධර්මකථාව නමැති අමා ජලයෙන් අභිෂේක ලබලයි ඉන්නෙ", කියල.

එතකොට සැරියුත් හාමුදුරුවො අහනව, "ගෘහපතිය, කොයි විදියෙ දහම් අමා ජලයකින් ද, ඔබ අභිෂේක ලැබුවෙ." කියල. "ස්වාමීනි, මම බුදුරජාණන් වහන්සේ මුණගැහිල මගේ ලෙඩදුක් ගැනත් කියල, සිත දියුණු කරන ස්වාමීන් වහන්සේලා මට නිතර ඇසුරු කරන්න ලැබෙන්නේ නැති බවත් කියල, එහෙවු, මට දිගු කලක් හිතසුව පිණිස වන අනුශාසනාවක් කරන්න කියල මම ඉල්ලා හිටිය. ඒ වෙලොවේ මට දුන්න අවවාදය තමයි, "කය ලෙඩ වුණත් හිත ලෙඩ නො වන ආකාරයෙන් හික්මෙන්න" කියන අනුශාසනය.

"ඉතින් ඔය වෙලාවෙ, කොපමණකින් කයත් සිතත් දෙක ම ලෙඩ වෙනව ද, කොපමණකින් කය ලෙඩ වුණත් හිත ලෙඩ නො වෙනව ද කියල අහන්න හිතුනෙ නැද්ද"යි සැරියුත් හාමුදුරුවෝ ප්‍රශ්න කළා. "මං මේ දුර ඉඳල ආවේ සාරිපුත්ත ස්වාමීන් වහන්සේ සමීපයෙන් මේ කියමනේ අර්ථය අහල දැනගන්න තමයි." කියල නකුලපිතු උපාසකතුමා කිවුව.

"එහෙනම් අහන්න. හොඳින් මෙනෙහි කරන්න. මම පැහැදිලි කරන්නම්. කියල සැරියුත් හාමුදුරුවෝ සූදානම් වෙන කොට නකුලපිතු ගෘහපතියාත් "එසේ ය, ස්වාමීනි" කියල සවන් දෙන්න සූදානම් වුණා.

"ගෘහපතිය, ගිලන් කයින් හා ගිලන් සිතින් යුක්ත වන්නේ කොපමණකින් ද, මෙතන දී ගෘහපතිය, ආර්යයන් නො දකින, ආර්ය ධර්මයෙහි අදක්‍ෂ, ආර්ය ධර්මයෙහි නො හික්මුණ, සත්පුරුෂයන් නො දකින, සත්පුරුෂ ධර්මයෙහි අදක්‍ෂ, සත්පුරුෂ ධර්මයෙහි නො හික්මුණ අශ්‍රැතවත් පෘථක්ජනයා රූපය තමා (අත්ත) වශයෙන් දකියි. **(රූපං අත්තතො සමනුපස්සති)** තමා (අත්ත) රූපය සහිතයයි දකියි. **(රූපවන්තං වං අත්තානං)**තමාකෙරෙහි (අත්තයෙහි) රූපය වේ යයි දකියි.

**(අත්තනි වා රූපං)**රූපයෙහි තමා (අත්ත) වේ යයි දකියි. **(රූපස්මිං වා අත්තානං)**"රූපය මම ය, රූපය මගේ ය." **(අහං රූපං , මම රූපං)**යන අදහස ඉස්මතු වී සිටියි. "රූපය මම ය' රූපය මගේ ය" යන අදහස වැළඳගෙන සිටින පුද්ගලයාගේ ඒ රූපය විපරිණාමී වේ. අන් අයුරකට යේ. රූපය විපරිණාම වෙනකොට අන් අයුරකට යන කොට සෝ වැළපුම් දුක්දොම්නස් උපායාස උපදියි." දැන් මෙහෙම දුක් දොම්නස් ඇති කරගන්නේ ඇයි. අන් අයුරකට යාම ධර්මතාවයි. ඒක අපට නවත්තන්න බෑ. පැවැත්මට ම ඇලුණ ඊට ගැතිවුණ, සත්‍වයා පැවැත්ම ම කැමති වෙනව. (**අඤ්ඤදථාභාවී භවසත්තො ලොකො භවපරෙතො භවමෙවාභිනන්‍දති)** මේක තමයි හිත ලෙඩ වීම.

මේ ආකාරයට වේදනාව ඇසුරිනුත්, සඤ්ඤාව ඇසුරිනුත්, සංස්කාර ඇසුරිනුත්, විඤ්ඤාණය ඇසුරිනුත් මම ය, මගේය යන හැඟීමට වැටී ඒවා විපරිණාමී වෙන කොට අන් අයුරකට යනකොට සෝ වැළපුම්, දුක් දොම්නස් උපායාස ඇති කරගන්නා ආකාරය සැරියුත් හාමුදුරුවෝ දේශනා කළා. එහෙම දේශනා කරල "ගෘහපතිය, ගිලන් කය ඇත්තේත් ගිලන් සිත ඇත්තේත් මෙන්න මෙසේ යයි වදාළ." **(එවං ඛො ගහපති, ආතුරකායො චෙව හොති ආතුරචිත්තො ච)**

ඊට පස්සෙ ගිලන් කය ඇති නමුත් සිත ගිලන් නොවන්නේ කොහොම ද, **(කතඤ්ච ගහපති, ආතුරකායො හි ඛො හොති, නො ච අනාතුරචිත්තො)**කියන කාරණයත් පැහැදිලි කළා. "මෙහි දී ගෘහපතිය, ආර්යයන් නො දකින, ආර්යධර්මයෙහි අදක්‍ෂ, ආර්යධර්මයෙහි හික්මෙන, සත්පුරුෂයන් දකින, සත්පුරුෂ ධර්මයෙහි දක්‍ෂ, සත්පුරුෂධර්මයෙහි හික්මෙන ශ්‍රැතවත් ආර්යශ්‍රාවකයා රූපය තමා යයි නො දකියි. තමා රූපය සහිතයයි නො දකියි. තමා කෙරෙහි රූපය වේ යයි නො දකියි. රූපයෙහි තමා වේ යයි නො දකියි. "රූපය මම ය, රූපය මගේ ය" යන අදහස ඉස්මතු වී නො සිටියි. "රූපය මම ය, රූපය මගේ ය" යන අදහස ඉස්මතු වී නො සිටින බැවින් රූපය විපරිණාමයට, අන් අයුරකට යන විට ශෝක වැළපුම් දුක් දොම්නස් උපායාස නො උපදියි." යනුවෙන් වදාළ.

මේ ආකාරයට වේදනාව ඇසුරිනුත්, සඤ්ඤාව ඇසුරිනුත්, සංස්කාර ඇසුරිනුත්, විඤ්ඤාණය ඇසුරිනුත් මමය, මගේ ය, යන අදහස ඉස්මතු කරගන්නෙ නැති නිසා ශෝක වැළපුම් දුක් දොම්නස් උපායාස ඇති නොවන ආකාරය සැරියුත් ස්වාමීන් වහන්සේ දේශනා කළා. එහෙම දේශනා කරල "ගෘහපතිය, ගිලන් කය ඇති නමුත් නො ගිලන් සිත ඇත්තේ මෙසේ යයි වදාළ." **(එවං ඛො ගහපති, ආතුරකායො හොති, නො ච ආතුරචිත්තො.)**

අපි මේ තේරුම් ගන්න යන්නේ ඛන්ධ සංයුත්යේ පළවෙනි ම සූත්‍රය වන නකුලපිතු සූත්‍රය. මේ සූත්‍රයෙන් පේන්නෙ අශ්‍රැතවත් පෘථක්ජනයා කොහොමටත් හිතින් ලෙඩෙක්. හිත ලෙඩ නො වන පිළිවෙතට ඇවිල්ල නෑ. ශ්‍රැතවත් ආර්යශ්‍රාවකයා කියන්නේ සිත ලෙඩ නො වන ආකාරයට හික්මෙන කෙනා. මෙහි දී වැදගත් වෙන්නේ අතීතයවත් අනාගතයවත් නොවෙයි. මේ මොහොතයි.

දහම දැනගන්නකම් පුද්ගලයා හිතන්නේ දිගින් දිගට රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් තියෙනව කියල. දිගින් දිගට තියෙනවයි කියල හිතාගත්තට සිදු වෙන්නේ සමුදය නිරෝධ ප්‍රවාහයක්. රූපය අල්ලගෙන, වේදනාව අල්ලගෙන, සඤ්ඤාව අල්ලගෙන, චේතනා නැත්නම් සංඛාර අල්ලගෙන, දැනීම නැත්නම් විඤ්ඤාණය අල්ලගෙන මම මවාගන්නව. කෙනෙක් කල්පගණන් සසරක් ගතකරනව කියන්නේ මොහොතක් මොහොතක් පාසා මම මැවෙන බව දන්නෙ නැතුව "මම වෙමි" කියල ඇති කරගත්ත දෘෂ්ටියක් ගැනීමයි. මේ දෘෂ්ටිය තියෙනකම් සසර නවතින්නේ නෑ. "වෙමි" යන්න බැහැර නො වෙන තාක් පංච ඉන්ද්‍රියයන්ගේ ඉපදීම සිදු වෙනව, කියල ඛන්ධ සංයුත්තයේ සමනුපස්සනා සූත්‍රයේ දේශනා කරල තියෙනව. **(අස්මීති ඛො පන භික්ඛවෙ අවිගතෙ, පඤ්චන්නං ඉන්ද්‍රියානං අවක්කන්ති හොති)** ඉතින් මෙතන මනසත් තියෙනව නෙ. එහෙනම් සිතිවිලිත් මැවෙනව. "මම ඉන්නව. අත්දකින දේවල් තියෙනව" කියල ගන්නෙ අවිද්‍යාව හින්ද. අවිද්‍යා සම්ඵස්සයෙන් හටගන්න විඳීම් ස්පර්ශ කරන අශ්‍රැතවත් පෘථක්ජනයාට "මම වෙමි" කියන හිතාගැනීම (මඤ්ඤනාව) ඇති වෙනව. **(අවිජ්ජාසම්ඵස්සජෙන භික්ඛවෙ, වෙදයිතෙන**

**ඵුට්ඨස්ස අස්සුතවතො පුථුජ්ජනස්ස අස්මීතිපි'ස්ස හොති)- (සං: නි: 3, සමනුපස්සනා සූත්‍රය, 84 පිට)** ඕක තමයි ධර්මමාර්ගය වැඩෙන්නෙ නැත්තම් අපි කාටත් වෙන දේ. මේක තමයි හිතේ ලෙඩේ. ඉතින් සැරියුත් හාමුදුරුවො නකුලපිතුට කියල දුන්න විදියට මේ රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් සමුදය වන නිරුද්ධවන ස්වභාව බව මේ මොහොතේ ලැබෙණ අත්දැකීම් ඔස්සේ නුවණින් දකින්න පුළුවන් නම් මම, මගේ කියන මඤ්ඤනාව මැවෙන එක අඩු වෙනව. මෙතන කෙරෙන්නේ මුළාවෙන් පරාමර්ශනය කිරීම වෙනුවට නුවණින් සම්මර්ශනය කිරීම.

දැන් අපට පැහැදිලියි, පංචඋපාදානස්කන්ධ තේරුම් ගැනීමයි, මෙතන වැදගත් වෙන්නෙ කියන එක. මේ ගැන දැනගතයුතු පස් ආකාරයක් තියෙනව කියල බුදුරජාණන් වහන්සේ වදාළ. සමුදය, නිරෝධ, අස්සාද, ආදීනව, නිස්සරණ කියන්නේ ඒ පස් ආකාරයයි.

1. අප දරණ මේ උපාදින්න ඕළාරික කය අයිති වෙන්නෙත් රූපස්කන්ධයට. සළායතනයට සම්බන්ධ වර්ණරූප, සද්දරූප, ගන්ධරූප, රසරූප, ඵොට්ඨබ්බරූප, ධම්මරූප අයිති වෙන්නෙත් රූපස්කන්ධයට. මේ රූපස්කන්ධය පැණවෙන්නෙ මහාභූතරූප ප්‍රත්‍යය කරගෙන. මෙතන වර්ණරූප, සද්දරූප ආදීවශයෙන් කියන රූප සතරමහාභූත රූප ඇසුරෙන් මැවෙන නාමමාත්‍ර රූප. ඒවට කියනව උපාදායරූප කියල. ඒ නිසා මහාපුණ්ණම සූත්‍රයේ දී බුදුරජාණන් වහන්සේ දේශනා කරනව, **"චත්තාරො බො භික්ඛු, මහාභූතා හෙතු චත්තාරොමහාභූතා පච්චයො රූපක්ඛන්ධස්ස පඤ්ඤාපනාය"** කියල. එතකොට අපට පෙනෙනව මහාභූතරූප නැත්නම් රූපස්කන්ධයක් පණවන්න බෑ. රූපය ප්‍රත්‍යය කරගෙන යම් සුව සොම්නසක් විඳිනව නම් ඒ තමයි රූපයෙහි ආස්වාදය. ඒ රූපය අනිත්‍ය, දුක්ඛ විපරිණාමී බව තමයි එහි ආදීනවය. රූපයෙහි ඡන්දරාගය ප්‍රහීණ වීම තමයි රූපයෙහි නිස්සරණය.
2. වේදනාස්කන්ධය පණවන්නෙ ඵස්සය ප්‍රත්‍යය කරගෙන. **(ඵස්සො හෙතු ඵස්සපච්චයො වෙදනාක්ඛන්ධස්ස පඤ්ඤාපනාය)** මෙතන ඵස්සය කිව්වෙ ආයතන හයෙන්ම

රූපනිමිති ස්පර්ශ කිරීම. රූපය නැත්නම් ඵස්සය නෑ. **(රූපෙ විභූතෙ න ඵුසන්ති ඵස්සා)- (සුඃ නිඃ කලහවිවාද සූත්‍රය, 276 පිට)** වේදනා කිව්වෙ ආයතන හයේ ම ස්පර්ශයන් අනුව සමුදය වන විඳනයි. මේ තමයි වේදනාවේ සමුදය. ඵස්ස නිරෝධයෙන් වේදනා නිරෝධය වේ. වේදනාව ප්‍රත්‍යයෙන් යම් සුව විඳනයක් වේ නම් එය වේදනාවේ ආස්වාදයයි. ඒ වේදනාව අනිත්‍ය, දුක්ඛ, විපරිණාමී වීම එහි ආදීනවයයි. වේදනාවේ ඡන්දරාගය ප්‍රහාණය වේදනාවේ නිස්සරණයයි.

3. සඤ්ඤාක්ඛන්ධය පැණවෙන්නෙත් ස්පර්ශය ප්‍රත්‍යය කරගෙන. **(ඵස්සො හෙතු ඵස්සපච්චයො සඤ්ඤාක්ඛන්ධස්ස පඤ්ඤාපනාය)** සඤ්ඤා කියන්නේ හඳුනාගැනීමයි. ස්පර්ශය නිරුද්ධ නම් සඤ්ඤාවත් නිරුද්ධයි. සඤ්ඤාවෙන් යම් සුව සොම්නසක් වේ නම් එය සඤ්ඤාවේ ආස්වාදයයි. සඤ්ඤාවේ අනිත්‍ය බව, දුක් බව, විපරිණාමී බව ආදීනවයයි. සඤ්ඤාව පිළිබඳ ඡන්දරාගය ප්‍රහීණ වීම නිස්සරණයයි.

4. සංඛාරක්ඛන්ධය පැණවෙන්නේ ද ස්පර්ශය ප්‍රත්‍යයෙනි. **(ඵස්සො හෙතු ඵස්ස පච්චයො සඞ්ඛාරක්ඛන්ධස්ස පඤ්ඤාපනාය)** සංඛාර කියන්නේ සළායතනික නිමිති පිළිබඳව විඳීම් හැඳිනීම් ඔස්සේ චේතනාමය වශයෙන් රැස්කරගන්නා සංකල්පයි. ඵස්සනිරෝධයෙන් සංඛාර නිරෝධය වේ. සංඛාර ප්‍රත්‍යයෙන් යම් සුව සොම්නසක් උපදී නම් ඒ සංස්කාරයන්ගේ ආස්වාදයයි. එහි අනිත්‍ය බව, දුක් බව, විපරිණාමී බව සංස්කාරයන්හි ආදීනවයයි. සංස්කාර පිළිබඳ ඡන්දරාගය ප්‍රහීණ වීම නිස්සරණයයි.

5. විඤ්ඤාණක්ඛන්ධය පැණවෙන්නේ නාමරූප ප්‍රත්‍යයෙනුයි. **(නාමරූපං බො භික්ඛු, හෙතු නාමරූපං පච්චයො විඤ්ඤාණක්ඛන්ධස්ස පඤ්ඤාපනාය)- (සංඃ නිඃ 3, පුණ්ණමා සූත්‍රය, 172 පිට)** නාමරූප කියන්නේ විඳන, හැඳිනීම්, චේතනා, ස්පර්ශ, මනසිකාර කියන නාමධර්මත් ඒ ඔස්සේ ආයතන හයෙන් නිමිති කරගන්න රූපත් කියන සියල්ලටයි. මේ නාමරූප පිළිබිඹු වෙන්නේ විඤ්ඤාණයෙ. නාමරූප ප්‍රත්‍යයෙන් විඤ්ඤාණස්කන්ධය පැණවෙනව කියන්නෙ ඒකයි. ඒ තමයි විඤ්ඤාණයේ සමුදය. නාමරූප නිරුද්ධ

නම් විඤ්ඤාණයත් නිරුද්ධයි. විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් යම් සුව සොම්නසක් උපදී නම් ඒ විඤ්ඤාණයේ ආස්වාදයයි. විඤ්ඤාණයේ අනිත්‍ය බව, දුක් බව, විපරිණාමී බව ආදීනවයයි. විඤ්ඤාණය පිළිබඳ යම් ඡන්දරාගයක් වේ නම් එය ප්‍රහාණය වීම නිස්සරණයයි.

ස්කන්ධයන් පිළිබඳව සමුදය, නිරෝධ, අස්සාද, ආදීනව, නිස්සරණකියන පස් ආකාරය හොඳට වටහා ගන්න. මේ පස් ආකාරය නො දක්ක නිසා අතීත සංසාරයක් ගතවුණා. අතීත වූයෙත් මේ සමුදය නිරුද්ධ වන සිත් ප්‍රවාහයි. මවාගත්ත මම මගේ කියන ස්කන්ධ ප්‍රවාහයයි. දැනුත් කරන්නේ එය ම නම්, මතුත් එය ම බලාපොරොත්තු වන්නේ නම් සසර දිගට ම සිදු වේවි. මේ පංචස්කන්ධ සිත් ප්‍රවාහය සකස් වෙන්නේ මේ සවිඤ්ඤාණක කයත් බාහිර නිමිතිත් පිළිබඳව මම කියන මානයත්, මගේ කියන තණ්හාවත් නිසා බව හොඳින් තේරුම් ගන්න. අපි පෙර භවයෙන් මියයන අවස්ථාවේ මානානුසය නිසා තණ්හානුසය නිසා ඒ සවිඤ්ඤාණක කය, බාහිර සියලු නිමිති අතහරින්න කැමති වෙලා නෑ. සවිඤ්ඤාණක කයයි, බාහිර නිමිතියි, නම්, මම මගේ කියල ගත්තෙ, ඒවා අතහරින්න කැමති නෑ. ඒ වුණත් එතනට තිබූ ජනක කර්ම ශක්තිය ඉවර නම් අකැමැත්තෙන් නමුත් අතහැරෙනව. ඊළඟට විඤ්ඤාණය කර්ම නියාමයේ හැටියට මවුකුසක මූලබීජයක් සවිඤ්ඤාණක කරගෙන මවාගත්ත නාමරූපය තමයි දැන්මේ දරණ කය. මේ කය ඔබගේ නොවේ. අනෙකකුගේ ද නො වේ. ප්‍රත්‍යයන්ගේ සමුදයෙන් සකස් වූ, චේතනාව විසින් පිළියෙළ කරන කරන ලද, වේදනාවට කරුණු වූ පුරාණ කර්මයයි කියල දැනගන්න. **(නායං භික්ඛවෙ, කායො තුම්හාකං. නාඤ්ඤෙසං. පොරාණමිදං භික්ඛවෙ කම්මං, අභිසඞ්ඛතං අභිසඤ්චෙතයිතං, වෙදයිතං දට්ඨබ්බං)** මේ දේශනාව සඳහන් වෙන්නෙ **සංඃ නිඃ 2. නතුම්හ සූත්‍රයෙ. (100 පිට)**

මේ කය පමණක් නොවෙයි, ඇස, කන, නැහැය, දිව, කය, මන සියල්ල ම පුරාණ කර්මය බව සංඃ නිඃ 4, කම්ම සූත්‍රයේ සඳහන් වෙනව. දැන් මේ සිදුවෙන්නෙ මම මවාගෙන පුරාණ කර්මය විඳිනව. ඒ විතරක් නම් කමක් නෑ. විඳින්නේ මම

ඉදිරියට දාල නිසා අලුත් කර්මත් කරනව. අලුත් කර්ම කෙරෙන්නේ කොහොම ද? "දැන් කයින් වචනයෙන්, සිතින් යම් කර්මයක් කෙරේ නම් මහණෙනි, මේ අලුත් කර්මයි." **(යං ඛො භික්ඛවෙ, එතරහි කම්මං කරොති කායෙන වාචාය මනසා. ඉදං වුච්චති භික්ඛවෙ, නවං කම්මං.)**

එතකොට මේ කර්ම නිරෝධය කුමක් ද? "මහණෙනි, යම් කෙනෙක් කයින් කරන කර්ම වචනයෙන් කරන කර්ම සිතින් කරන කර්ම නිරෝධයෙන් විමුක්තිය ස්පර්ශ කරනව නම්, ඒ තමයි කර්ම නිරෝධය. **(යො ඛො භික්ඛවෙ කායකම්මවචීකම්මමනොකම්මස්ස නිරොධා විමුත්තිං ඵුසති, අයං වුච්චති භික්ඛවෙ කම්මනිරොධො)- (සංඃ නිඃ 4, කම්ම සූත්‍රය, 266 පිට)** මේ කම්මනිරෝධගාමිනී පටිපදාව නම් ආර්යඅෂ්ටාඞ්ගික මාර්ගයයි.

එහෙම නම් හිත සැප ඇති වන විදියට අපි පිළිවෙත වඩන්නේ කොහොම ද? දැන් අර පුරාණ කර්මය වන ඇස, කන, නැහැය, දිව, කය, මන තමන්ගෙත් නො වෙයි නම් අනුන්ගෙත් නොවෙයි නම්, ඒත් ඒවා අරමුණු ගෙන දෙනවනම් කළයුත්තෙ මොකක් ද? දැන් අපි දන්නව ඇස සමුදය වෙන්නෙ රූප නිමිත්තත් එක්ක. රූප නිමිත්ත සමුදය වෙන්නෙ ඇසත් එක්ක. ඒවට තනිව සමුදය වෙන්න බෑ. චක්ඛු විඤ්ඤාණය සමුදය වෙනව කියන්නෙ ඇසයි රූපයයි සමුදය වෙනව කියන එකයි. ඇසයි, රූපයයි, චක්ඛු විඤ්ඤාණයයි සමුදය වෙන්නෙ නෑ ඵස්සයෙන් තොරව. ඵස්සය සමුදය වෙනව කියන්නෙ වේදනාවත් සමුදය වෙනව කියන එකයි. එතකොට මෙන්න මේ ඇසත්, රූපයත්, චක්ඛුවිඤ්ඤාණයත්, චක්ඛුසම්ඵස්සයත්, චක්ඛුසම්ඵස්සයෙන් උපදින විඳනයත් පටිච්චසමුප්පාද ධර්මන්‍යායය අනුවයි සමුදය වෙන්නේ. එහෙනම් මේවට අයිතිකාරයෙක් ඉන්න විදියක් නෑ. එහෙම ඒවා මම, මගේ කරගන්න එක තමයි හිතේ ලෙඩේ. "යමක් ඔබගේ නො වේ නම් අතහරින්න" **(යං භික්ඛවෙ න තුම්භාකං තං පජහථ)**ඒවා ප්‍රහීණ වෙනකොට හිත පිණිස සුව පිණිසයි පවතින්නෙ. **(තෙ වො පහීනා හිතාය සුඛාය භවිස්සන්ති)**

කන, නැහැය, දිව, කය, මන කියන අනෙක් ඒවාට මේ ධර්මන්‍යායය යොදල බලන්නයි තියෙන්නෙ. **(මේ කාරණය සංඃ**

**නිඃ 4, නකුම්හාක සූත්‍රයේ (172 පිට)** පැහැදිලි වෙනව.) මේ ආයතන හය ගැන කිව්වා වගේ ම පංචස්කන්ධ ගැනත් තේරුම් ගන්න ඕන. ඛන්ධසංයුත්තයේ නතුම්හාක සූත්‍ර දෙකකින් මේ කාරණයත් පැහැදිලි කෙරනව. සිත ආතුර නො වෙන්න නම් ආයතන, ස්කන්ධ තමාගේ නො වන බව නුවණින් දකින්න ඕන. නුවණ වැඩෙන පමණට කර්ම රැස්වීමත් අඩු වෙනව. නිරෝගි බවක් පණවන්න බැරි කයේත් ලෙඩ බොහෝ දුරට අඩු වෙනව.

## සසර නිමකරන්නට නුවණින් දැකියයුතු පච්චුප්පන්නය.

දවසක් අපේ බුදුරජාණන් වහන්සේ ගිජ්ඣකූට පර්වතයේ වැඩ ඉන්න කාලෙක භික්ෂූන් වහන්සේලාත් කැඳවාගෙන දිවාවිහරණය කරන්නට පටිභානකූට කියන ස්ථානයට වැඩිය. ඒ හරියෙ තියෙන විශාල ගැඹුරු ප්‍රපාතයක් දැක්ක එක භික්ෂූන්වහන්සේ නමක් "ස්වාමීනි, මේ ප්‍රපාතයටත් වඩා මහත් වූ බියකරු වූ ප්‍රපාතයක් තියෙන්න පුළුවන් ද" කියල ඇහැවුව. මේ වගේ කරුණක් ඉදිරිපත් වුණාම බුදුරජාණන් වහන්සේගේ සිරිත ආධ්‍යාත්මික ජීවිතයට වැදගත් වන කරුණක් දේශනා කරන්න, ඒක නිමිත්තක් කරගන්න එක. ඒ නිසා ම බුදුරජාණන් වහන්සේ "මහණ, මේ ප්‍රපාතයට වඩා මහත් බියකරු ප්‍රපාතයක් තිබේ" කියල වදාළ. මොකක් ද ඒ ප්‍රපාතෙ කියල ඇසුවාම බුදුරජාණන් වහන්සේ මෙහෙම වදාරණව.

"මහණ, යම් කිසි මහණ කෙනෙක් හෝ බමුණු කෙනෙක් 'මෙන්න දුක' කියල ඇති සැටියෙන් දන්නෙ නැත්නම්, 'මෙන්න දුකේ සමුදය' කියල ඇති සැටියෙන් දන්නෙ නැත්නම්, 'මෙන්න දුකේ නිරෝධය' කියල ඇති සැටියෙන් දන්නෙ නැත්නම්, 'මෙන්න දුක නැති කරන මාර්ගය' කියල ඇති සැටියෙන් දන්නෙ නැත්නම්, ජාතිදුක පිණිස පවතින සංස්කාර වල ඇලෙනව. ජරාදුක පිණිස පවතින සංස්කාර වල ඇලෙනව. මරණදුක පිණිස පවතින සංස්කාර වල ඇලෙනව. සෝක පරිදේව දුක් දොම්නස් උපායාස පිණිස පවතින සංස්කාර වල ඇලෙනව. මේ සංස්කාර වල ඇලෙන ඒ අය ජාතිය පිණිස වන සංස්කාර රැස් කරනව. **(සංඛාරෙ අභිසංඛරොන්ති)**ජරාව පිණිස වන සංස්කාර රැස් කරනව. මරණය පිණිස වන සංස්කාර රැස් කරනව. සෝක, පරිදෙව, දුක්, දොම්නස්, උපායාස පිණිස පවතින සංස්කාර රැස් කරනව. එහෙම සංස්කාර රැස්කරල ජාති ප්‍රපාතයට ද වැටෙනව. **(ජාති පපාතම්පි පපතන්ති)** ජරා ප්‍රපාතයට ද වැටෙනව. **(ජරා පපාපම්පි පපතන්ති)**මරණ ප්‍රපාතයට ද වැටෙනව. **(මරණ පපාතම්පි පපතන්ති)**සෝක පරිදේව දුක් දොම්නස්උපායාස ප්‍රපාතයට ද වැටෙනව. **(සොකපරිදෙවදුක්ඛදොමනස්සුපායාසපපාතම්පි පපතන්ති)**ඒ අය ජාති ජරා මරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස වලින්

මිදෙන්නෙ නෑ. දුකෙන් මිදෙන්නෙ නෑ කියල, මම කියනව". සච්චසංයුත්තයෙ පපාත සූත්‍රයෙ **(සං: නි: 5 (2), 308 පිට)** තමයි, මෙහෙම දේශනා කරල තියෙන්නෙ. මේ සංස්කාර රැස් කරන්නෙ කොයි වෙලාවෙ ද කියල බලනකොට පෙනෙනව පච්චුප්පන්නයෙ කියල. මේ මොහොතෙ කියල. කල්ප ගණන් දිගු සසරක ඇදී ආවේ, ඒ කියන්නෙ නැවත නැවතත් ප්‍රපාතයට වැටුනෙ, මේ මොහොතේ සැකසෙන සංස්කාර නිසා.

සාමාන්‍යයෙන් කෙනෙක් එදිනෙදා එළඹෙන කටයුතු කරමින්, එළඹෙන අරමුණු වල බැඳෙමින් ජීවිතය ගත කරන කොට මේ ඉන්නේ ප්‍රපාතයට තල්ලු වෙමින් ය කියල හිතන්නෙවත් නෑ. හැම විට ම අත්දැකීම් ලෝකය සකස් වෙන්නෙ රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් ක්‍රියාවලියක් හැටියට. මේ ස්කන්ධ සකස්වීම, ආයතන ප්‍රතිලාභය තමයි ජාතිය කියන්නෙ. උපත කියන්නෙ. උපතට තල්ලු වුනානම් එතන ඉඳල තල්ලු වෙන්නේ ජරාවට. ලෙඩදුක් වලට. මරණයට. ශෝකයට. හැඬීමට. කායික දුකට. මානසික දුකට. වෙහෙසට. පීඩාවට. අපි අපේ සිතැඟියා අනුව, සතුට පිණිස, සැපත පිණිස මොන මොන සැලසුම් සකස් කරගත්තත් ඒවයින් ඔය කියාපු සංසාර සැලැස්ම ඉක්මවන්න නම් බෑ. ඒකට අනුකූල වෙන්න ම වෙනව. එක සැරෙයක් ද, දෙකක් ද? අනන්ත වාරයක්.

ඒ නිසා ස්ත්‍රියක් වේවා, පුරුෂයෙක් වේවා, ගිහියෙක් වේවා, පැවිද්දෙක් වේවා නිතර ප්‍රත්‍යවේක්ෂණය කළයුතු දෙය නම් 'මම මහලු වීම ඉරණම් කොට ඇත්තෙක්මි, එය ඉක්මවූවෙක් නො වෙමි', 'මම ලෙඩවීම ඉරණම් කොට ඇත්තෙක්මි. එය ඉක්මවූවෙක් නො වෙමි', 'මම මරණය ඉරණම් කොට ඇත්තෙක්මි, එය ඉක්මවූවෙක් නො වෙමි', 'මා ප්‍රිය කරන හැම දෙයින් ම වෙන් වෙන්නට සිදු වෙනවා', 'පින වේවා, පව වේවා මා කරන කර්මයට දායාද වෙමි' යන කරුණුයි. **(අං: නි: 3, ඨානසූත්‍රය, 112 පිට)** අපි මොන සුවපහසු කම් හදාගත්තත් ඔය කියපු සංසාර සැලැස්ම මත තමයි, අන්තිමට ක්‍රියාත්මක වෙන්නෙ. ඒක තමයි, කෙලෙස් සහගත චේතනාමය සංස්කරණයන්ගේ ප්‍රතිඵලය.

බුදුරජාණන් වහන්සේ දුගති දුක ගැන නෙවෙයි, වැඩිය අවධානය යොමුකරල තියෙන්නේ. ජරාමරණ දුක ගැනයි. දුගති

දුක ඉවර වෙන්නෙත් , ජරාමරණ දුක ඉවර නම් පමණයි. ඒ නිසා වඩාත් වැදගත් වෙන්නේ ජරාමරණ නිරෝධයයි. ජරාමරණ නිරුද්ධ වෙන්න නම් ජාතිය නිරුද්ධවෙන්න ඕන. ආයති පුනබ්භවාභිනිබ්බත්තිය නො වෙන්න නම් කාමතණ්හාව භවතණ්හාව, විභව තණ්හාව ක්‍ෂය වෙන්න ඕන. ඒ කියන්නේ, අපි මෙතෙක් ලෝකය දිහා බලපු විදිය වෙනස් කරන්න ඕන, කියන එකයි. මේ කය පිළිබඳව යොවුන්මදයෙන් බලන කොට ජරාධර්මයක් බව පෙනෙන්නෙ නෑ. ආරෝග්‍යමදයෙන් බලන කොට ලෙඩවෙන දෙයක් බව පෙනෙන්නෙ නෑ. ජීවිතමදයෙන් බලනකොට මැරෙණ දෙයක් බව පෙනෙන්නෙ නෑ. ප්‍රියයන් කෙරෙහි ප්‍රිය වස්තූන් කෙරෙහි ඡන්‍දරාගයෙන් ඉන්න කොට ඉන් වෙන් වීමක් තියෙන බව පෙනෙන්නෙ නෑ. සැප ලැබෙණ කොට, දුක් ලැබෙණ කොට මේ කර්ම දායාදයක් කියල පෙනෙන්නෙ නෑ. කායදුසිරිත්, වචීදුසිරිත් මනෝදුසිරිත් පුද්ගලයින් තුළ ක්‍රියාත්මක වෙන්නෙ මේ නිසා.

මේ ආකාරයෙන් ප්‍රපාතයට නැඹුරු වෙලා සිටින්නෙ නැතිව නිබ්බිදාවට යොමු වන විදියට ලෝකය දිහා බලන ආකාරය වෙනස් කරන්න ඕන. සාමාන්‍යයෙන් පුහුදුන් සිත නිබ්බිදාවට යොමු වීම ගැන පසුබානවා. ඡන්‍දරාගයෙන්, තණ්හාවෙන්, ඇල්මෙන් කටයුතු කරන්න නම් පුහුදුන් සිත එක පයින් සූදානම්. තණ්හාවෙන් මවාගත්ත මායා ලෝකය පවත්වාගෙන යන්න පුහුදුන් හිත කැමතියි. මේ පවත්වාගන්න තියෙන කැමැත්තට තමයි කියන්නෙ භවතණ්හාව කියල. තමන් අකැමති දේවල් පිළිබඳව නො පැවැත්මක්, ඉවරයක් කැමති වෙනව. ඒකට කියනව විභවතණ්හාව කියල. ඒක අතිධාවනයක්.

පසුබාන්නෙත් නැතිව, අතිධාවනය කරන්නෙත් නැතිව නුවණැසින් බලන්න අපට ඉගෙනගන්න වෙනවා. බුදුරජාණන් වහන්සේ මග පෙන්වන්නෙ ඒ සඳහා. අපි මොනව ද, මේ වෙසෙස් නුවණින් බැලීම ගැන දැනට ඉගෙනගෙන තියෙන්නෙ කියල, ආපසු හැරිල බලමු.

1. මේ කය ඔබගේත් නො වෙයි. වෙනත් අයකුගේත් නො වෙයි. රූප ශබ්ද, ගන්‍ධ, රස, ස්පර්ශ ලබන්න තිබුණ තණ්හාචේතනාවෙන් අභිසංස්කරණය වුණ, වේදනාවට කරුණු වූ පුරාණ කර්මයයි.

2. විඥ්ඤාණය මේ කයට ප්‍රතිබද්ධවෙලා මම කියන හැඟීමක් මවාගනිමින් ක්‍රියාත්මක වෙනව.
3. මේ සවිඥ්ඤාණක කයත් බාහිරින් ගන්නා නිමිතිත් පිළිබඳව මම මගේ කියන හැඟීම අනුසය කරගනිමින් ඉන්නව.
4. තමන් මේ අත්දකින්නේ ද්‍රව්‍යමය වශයෙන් මොනවා තිබුණත් අනුසය කරගත් කෙලෙස් තුළින් මවාගත්ත මායාවක්.
5. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, සංකල්ප වශයෙන් අප අත්දකින මේ රූපමායාවන් පිළිබිඹු කර පෙන්වන්නෙ දැනීම නමැති විඥ්ඤාණයෙ.
6. ඒ රූපමායාවන් සකස් වෙන්නෙ විඳීම්, හැඳිනීම්, චේතනා, ස්පර්ශ, මනසිකාර යන නාමධර්ම ක්‍රියාවලියක් හැටියට.
7. නාමධර්ම ඔස්සේ අල්ලගන්නා නිමිති නියම රූප නොවෙයි. නාමමාත්‍ර රූප.
8. මේ නාමධර්මත්, රූපධර්මත්, විඥ්ඤාණයත් කියන්නෙ සිතක අවයව. නාමරූප සමුදයෙන් තමයි සිතක් උපදින්නෙ. (නාමරූපසමුදයා චිත්තස්ස සමුදයො)
9. 'නාමධර්ම' ප්‍රත්‍යය වෙන්නෙ 'රූපධර්ම' සමුදයට. 'රූපධර්ම' ප්‍රත්‍යය වෙන්නෙ 'නාමධර්ම' සමුදයට. මේ නාමරූප සමුදයට විඥ්ඤාණය ප්‍රත්‍යය නො වී බෑ. අනෙක් අතට නාමරූප ප්‍රත්‍යය නො වී, විඥ්ඤාණයේ සමුදය වීමකුත් නෑ.
10. මේ නාමරූපයෙහි වැදගෙන මෙය ඇත්තක් ය කියල හිතනව. **(නිවිට්ඨං නාමරූපස්මිං ඉදං සච්චන්ති මඤ්ඤති)**
11. ඉඳුරන්ගෙන් අත්දැකීම් ලබන කොට අපි අත්දකින්නේ මේ නාමරූපයි. අත්දැක දැනගන්නේත් ඒ නාමරූපමයි. **(පස්සං නරො දක්ඛිති නාමරූපං දිස්වාන වා ඤස්සති තානිමෙව)- (සුඃ නිඃ මහාව්‍යූහ සූත්‍රය, 286 පිට)**
12. අපි අත්දැකීම ලබන්නෙ මේ වගේ විඥ්ඤාණ නාමරූප සිත් ප්‍රවාහයකින්.
13. විඥ්ඤාණය 'නාමරූප' මැවීමක් හැටියටත්, නාමරූප 'විඥ්ඤාණය' මැවීමක් හැටියටත් තමයි මේ සිත් ප්‍රවාහය සකස් වෙන්නෙ.

14. දිගින් දිගට රූපනිමිති අල්ලන්නෙ මනසිකාරයෙන්. **(මනසිකාරසම්භවා සබ්බෙධම්මා)** නාමරූප නමැති සියලු ධර්ම සමුදය වෙන්නෙ ඵස්සය ප්‍රත්‍යයෙන්. **(ඵස්සසමුදයා සබ්බෙධම්මා)**
15. මේ සියලු ධර්ම සමුදය වෙන්න මුල් වෙන්නෙ ඡන්දරාගය. **(ඡන්දමූලකා සබ්බෙධම්මා)** මේ ඔක්කොම යොමුවෙලා තියෙන්නෙ වින්දනයට. **(වෙදනා සමොසරණා සබ්බෙධම්මා)**
16. මේ නාමරූප මැවිල්ලක් කියල දන්නෙ නැත්නම් හිතන්නෙ වෙන්න පුළුවන් විදිය තමයි මේ අත්දකින්නෙ කියල. **(හබ්බරූපොව දිස්සති)** හැමදාටම මෙහෙමෙයි කියල. **(සස්සති විය ඛායති)**මේ නාමරූප මැවිල්ලක් නේ, කියල දැනගත්තාමයි, හර වශයෙන් මොකුත් ම නැනෙ කියල, දැනගන්නෙ. **(පස්සතො නත්ථි කිඤ්චනං)**

විඤ්ඤාණ නාමරූප, නාමරූප විඤ්ඤාණ වශයෙන් සිත් පහළ වෙන්නෙ එකක් පසු එකක් වශයෙන්. සමුදය නිරෝධ, සමුදය නිරෝධ ක්‍රියා ප්‍රවාහයක් වශයෙන්. ඵස්සයත්, මනසිකාරයත් ප්‍රත්‍යය වෙමින් නැවත නැවතත් විඤ්ඤාණ නාමරූප මවනව. සිත් ප්‍රවාහයක් සකස් වෙන්නෙ ඒ හින්ද. මේ විදියෙ සිත් ප්‍රවාහයකිනුයි අත්දැකීම් ලබන්නෙ කියල, බුදුරජාණන් වහන්සේ කියල දෙනකම් පුද්ගලයා දන්නෙ නෑ. හිතන්නෙ දිගින් දිගට තියන දෙයක් දිගින් දිගට ඉන්න මම කෙනෙක් අත්දකිනව කියල. දේවල් සකස් වෙලා කලක් තිබිල විනාශ වීම, කෙනෙක් ඉපදිලා කලක් ඉඳල මියයාම කියන මට්ටමට අනිත්‍යය දැකල වැඩක් නෑ. සමුදය හා නිරෝධය එකිනෙකින් බොහොම ඈත සිදුවන දෙයක් නො වෙයි. ඒ මට්ටමේ අනිත්‍යය නම් කවුරුත් දන්නව. ඔය මට්ටමේ අනිත්‍යයක් ගැන කියන්න නම් බුදුකෙනෙක් ඕනත් නෑ. බුදුකෙනෙක් ලොව පහළ වෙන්නෙ ප්‍රත්‍යුත්පන්නයේ සමුදය නිරෝධය දේශනා කරන්න.

පුහුදුන් පුද්ගලයා කලක් පැවතිලා (භව) විනාශ වීම (විභව) කියන විදියේ විනිශ්චයක් කරන්නෙ සාමාන්‍ය සංජානන මට්ටමේ රූප අත්දැකීම් අනුව බව බුදුරජාණන් වහන්සේ දේශනා කරනව. **(රූපෙසු දිස්වා විභවං භවඤ්ච විනිච්ඡයං කුරුතෙ**

**ජන්තු ලොකෙ)**ඒ මට්ටමේ දී නිබ්බිදාවට (ප්‍රඥා සම්ප්‍රයුක්ත කලකිරීමට) යොමුවීමක් වෙන්නෙ නෑ. සැප විඳීම්, දුක් විඳීම් වලටයි යොමු වෙලයි, ඉන්නෙ. විඥනයට ප්‍රත්‍යය වෙන්නෙ ආයතන හයේ ස්පර්ශයයි. නාම රූප ප්‍රත්‍යයෙන් තමයි, ස්පර්ශ උපදින්නෙ. **(නාමඤ්ච රූපඤ්ච පටිච්ච ඵස්සා)** වෙනස් නො වී පවත්වාගන්න කැමති වෙන්නෙ විඥනයයි. විඥනයට තියෙන ඉච්ඡාව (කැමැත්ත, තණ්හාව) හිඳ හැම පැත්තෙන්ම ග්‍රහණය කරගන්නව. **(ඉච්ඡා නිදානානි පරිග්ගහානි)** ඉච්ඡාව නැත්නම් මගේ කියල අල්ලා ගැනීමකුත් නෑ. **(ඉච්ඡාය'සන්ත්‍යා න මමත්තමත්‍ථී)** නාමමාත්‍ර රූප ඉක්මෙව්වොත් ස්පර්ශයෝ ස්පර්ශ නො කරති **(රූපෙ විභූතෙ න ඵුසන්ති ඵස්සා)- (සු: නි: කලහවිවාද සූත්‍රය, 276 පිට)** යි බුදුරජාණන් වහන්සේ දේශනා කරනව. ඵස්සය නිරුද්ධ නම් නාමරූප මැවිල්ලක් නෑ. රහතන් වහන්සේ අර්හත් ඵලසමාපත්තියට සමවැද සිටින අවස්ථාව එබඳුයි. නාමධර්ම ඔස්සේ මැවෙන නාමමාත්‍ර රූපය ඉක්මෙව්වොත් ඒ තමයි නිවන. සියලු බවබැඳුම් සිඳෙන්නෙ එතැනින්. දහම් මගේ යොමුව එතැනටයි.

උපාදින්න දළ කයකුත් දරාගෙන, පංචකාමගුණික අත්දැකීම් ලබමින් ඉන්න අය හැටියට අපි බණ අහන්නෙ මේ යොමුව දනගන්න. සිතේ සමාධි ගුණයක් දියුණු වෙනකොට විතර්ක අඩුවෙන නිසා අපට පුළුවන් වෙනව මේ විඤ්ඤාණ නාමරූප සිත් වලට යට වෙවී සිටින එකේ අපහසුව ටිකක් හරි තේරුම් ගන්න. අපේ අත්දැකීම් ක්‍රියාවලියෙ සමුදය නිරෝධය තේරුම් ගන්න. දන් අපි හිතමු, කෙනෙක් ටෙලිනාට්‍යයක් බලනව කියල. දහම පැත්ත දන්නෙ නැත්නම් හිතන්නෙ එකහිතින් නාට්‍යයක් බලනව කියල. මොහොකත් මොහොතක් පාසා වෙනස් වන පසුබිම් දර්ශන, නොයෙක් ආකාරයෙන් ඉරියව් වෙනස් කරමින් කරන නළු නිළි රංගන, ඔවුන්ගේ දෙබස්, නොයෙක් සිද්ධි වශයෙන් දිගහැරෙන මේ නාට්‍යය එක හිතකින් බලන්න බෑ. ඒ සියලු සිද්ධි වෙන වෙන ම ඇතිවෙන නැතිවෙන සිත් ප්‍රවාහයකින් තමයි, අල්ලගන්නේ. ඵස්සය, මනසිකාරය වේගයෙන් ක්‍රියාත්මක වෙනව. තිරයේ දිස්වන සියලු වෙනස් වීම් පිළිබඳව විඥන, සංඥා, චේතනා වේගයෙන් ඇතිවෙනව. නැතිවෙනව. නාට්‍යයේ පහුවුණ දර්ශන එක්ක මේ

මොහොතේ දිස්වෙන දර්ශනය සම්බන්ධ කරගනිමින්, ඊළඟ දර්ශනය බලාපොරොත්තුවෙන් තණ්හා ලාටුව වැඩ කරනව. දැන් නාට්‍යය පිළිබඳ උපාදානය තදයි. මම, මගේ කරගෙන. කවුරු හෝ වෙනත් නාලිකාවකට මාරු කළොත්, නැත්නම් විදුලිය ඇණහිටියොත් පෙනෙයි, ඒ උපාදානය කොතරම් තදබල ද කියල. ඉක්මී ගිය සංස්කාර සටහනුත් අනාගත සංස්කාර පිළිබඳ බලාපොරොත්තුවත් අතර පුංචි මේ මොහොතට, එක ම එක තත්පරයට පුද්ගලයා කොතරම් තදින් බැඳෙනව ද, කියල වටහා ගන්න. විපස්සනාවේ දී වැදගත් වෙන්නේ මෙන්න මේ පුංචි තත්පරය බව වටහා ගන්න. මේ මොහොත සමුදය වුණා. නිරුද්ධ වුණා. අත්දැකීම සමුදය වුණා. නිරුද්ධ වුණා. සංස්කාරය සමුදය වුණා නිරුද්ධ වුණා. ප්‍රත්‍යුත්පන්න වුණා. ක්‍ෂය වුණා. එච්චරයි. "යම් කිසිවක් සමුදය ස්වභාවයෙන් යුතු නම් ඒ සියල්ල නිරෝධ වන ස්වභාවයෙන් යුක්තයි." **(යං කිඤ්චි සමුදයධම්මං සබ්බං තං නිරොධධම්මං)** කියන දහම් ඇසයි මේ. සමුදය වුණා වැය වුණා. කෝ පැවතීමක්?. පැවැත්ම කියන්නෙ තණ්හා උපාදාන නිසා හිතේ මවාගන්නා මායාවක් විතරයි. **(තණ්හා පච්චයා උපාදානං උපාදාන පච්චයා භවො)**

මේ මායා ස්වභාවය දන්නෙ නැතිව, පුද්ගලයා කරන, කියන, සිතන හැම මොහොතක ම මවන භවසංස්කාර ජාති, ජරාමරණ, සෝක, පරිදේව, දුක්, දොම්නස්, උපායාස ප්‍රපාතයට තල්ලුකරල දානව. මේ කාරණය දැනගැනීම කාමභෝගී ගිහි ජීවිතයටත් අදාළ බව අපි අමතක කරන්න හොඳ නෑ. මොක ද, දුගති භයින් මිදෙන්න තියෙන ප්‍රඥාසම්පත්තිය මේකයි. කෝලියපුත්‍ර දීඝජාණුට දේශනා කළ ව්‍යග්ඝපජ්ජ සූත්‍රයේ සම්පරායහිත ධර්ම අතර දක්වා තිබෙණ පඤ්ඤාසම්පදාව මේකයි. "මැනැවින් දුක් කෙළවර කිරීම පිණිස පවතින, නිබ්බිදාව පිණිස පවතින, උදය වය දැකීම නමැති ආර්ය වූ ප්‍රඥාවෙන් සමන්විත වීම පඤ්ඤාසම්පදාවයි."

**(ඉධ ව්‍යග්ඝපජ්ජ කුලපුත්තො පඤ්ඤවා හොති උදයත්ථගාමිනියා පඤ්ඤාය සමන්නාගතො, අරියාය නිබ්බෙධිකාය සම්මාදුක්ඛක්ඛයගාමිනියා)- (අංඃ නිඃ 5, ව්‍යග්ඝපජ්ජ සූත්‍රය, 242 පිට)** ගිහි පැවිදි දෙපිරිසටම මේ දැක්ම එක සේ අදාළ බව මෙයින් පැහැදිලිව පෙනෙනව.

අතීතයත්, අනාගතයත්, මේ මොහොතත් කාලය පිළිබඳ පණවා ගැනීම්. සිදුවීම් නැතිව කාලය විතරක් අපට හඳුනා ගන්න බෑ. කාලය පැණවෙන්නෙ සිදුවීම් වලට සාපේක්ෂකව. සිදුවීම් ඉක්මී ගියාම පැණවෙන්නෙ අතීතය. තව ම නො සිදුවුණ දේවල් අනුව පැණවෙන්නෙ අනාගතය. සිදුවීමක් අත්දකිද්දී පැණවෙන්නෙ මේ මොහොතයි. සිදුවීමක් අත්දකිනව කියන්නෙ ඇතිවෙන නැතිවෙන සිත් ප්‍රවාහයක් ගලායනව කියන එකයි. ඒ නිසා මේ මොහොත දකින්නත් අමාරුයි. ඒ අතීතයටත් අනාගතයටත් තණ්හාවෙන් බැඳිල ඉන්නෙ හින්දයි. මේ කාරණය මජ්ඣෙ සූත්‍රයේ පැහැදිලි කෙරෙන ආකාරය මෙතනදි තේරුම් ගනිමු.

අතීතය එක අන්තයක්. **අතීතං ඛො ආවුසො එකො අන්තො)**දෙවෙනි අන්තය අනාගතය. **(අනාගතං දුතියො අන්තො)** පච්චුප්පන්නය මැදයි. **(පච්චුප්පන්නං මජ්ඣෙ)**පච්චුප්පන්නය නො පෙනෙන විදියට අතීත සංස්කාර වලටත්, අනාගත සංස්කාර වලටත් තණ්හාවෙන් බැඳිල. **(තණ්හා සිබ්බනි)**තණ්හාව ම යි, ඒ ඒ භවයේ ඉපැදීම පිණිස සංස්කාර සම්බන්ධ කරන්නෙ. **(තණ්හාහි නං සිබ්බති තස්ස තස්සෙව භවස්ස අභිනිබ්බත්තියා)- (අංඃ නිඃ 4, මජ්ඣෙ සූත්‍රය, 186 පිට)** මේ ස්වභාවය විශේෂ නුවණින් දැනගන්න ඕන. එහෙම දැනගන්න කොට තමයි, නිබ්බිදාවට යොමු වෙන්නෙ. මේ කයේ ස්වභාවය, මනසේ ස්වභාවය, ලෝකයේ ස්වභාවය දන්නෙ නැතුව, සතුටු දායක වෙයි කියල තමන්ට හිතෙන විදියට දුක පාලනය කරන්න ගියාට වැඩක් නෑ. කළයුත්තෙ ලෝකය දිහා බලන ආකාරය වෙනස් කිරීමයි. ඒක කරන්නේ මවාගත් පැවැත්මට රැවටෙන්නෙ නැතිව අන්‍යථාභාවය දැකීමයි. ලෝකය අවබෝධ කිරීමයි. එහෙම අවබෝධ කරගන්න කොට ඇලීම, ගැටීම, රැවටීම වෙනුවට වෙනත් ප්‍රතිචාරයක් අපට ලැබෙණවා. ඒ තමයි, නිබ්බිදාව. මේක බුදුරජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ කොහොම ද, කියල දැන් සොයල බලමු.

අතීත, අනාගත ධර්ම අනිත්‍යයි. දුකයි අනාත්මයි. **(ධම්මා අනිච්චා, දුක්ඛා, අනත්තා)**පච්චුප්පන්න ධර්ම ගැන කියන්න ම දෙයක් නෑ. **(කො පන වාදො පච්චුප්පන්නානං)**මේ විදියට දකින ශ්‍රැතවත් ආර්යශ්‍රාවකයා අතීත ධර්ම පිළිබඳව අනපේක්ෂිත

වෙනව. **(එවං පස්සං භික්ඛවෙ සුතවා අරියසාවකො අතීතෙසු ධම්මෙසු අනපෙක්ඛො හොති)**නො පැමිණි අනාගත දේවල් පතන්නෙ නෑ. **(අනාගතෙ ධම්මෙ නාභිනන්දති)**මේ මොහොතේ සමුදය වන පච්චුප්පන්න ධර්ම අවබෝධයෙන් කලකිරීම පිණිස, නො ඇල්ම පිණිස, නිරෝධය පිණිස පිළිපන් කෙනෙක් වෙනව. **(පච්චුප්පන්නානං ධම්මානං නිබ්බිදාය විරාගාය නිරොධාය පටිපන්නො හොති.)- (සංඃ නිඃ 4, දුතියබාහිරානිච්ච සූත්‍රය, 12 පිට)** අවබෝධයෙන් කලකිරෙන කොට දේවල් මැකිල යනව. තණ්හා ලාටුවට ඉඩ නො තබා නිරුද්ධ වෙනව. මේකයි නිවන් පිළිවෙත.

## ඉදප්පච්චයතා පටිච්චසමුප්පාදය.

දැන් අපි තේරුම් ගන්න මහන්සි ගන්නෙ, මේ මොහොතේ පටිච්චසමුප්පාදය දැකීම ගැනයි. 'මෙය ඇති කල්හි මෙය වෙයි.' **(ඉමස්මිං සති ඉදං හොති)**'මෙය ඉපදීමෙන් මෙය උපදියි.' **(ඉමස්ස උප්පාදා ඉදං උප්පජ්ජති)**'මෙය නැති කල්හි මෙය නො වේ.' **(ඉමස්මිං අසති ඉදං න හොති)** 'මෙය නිරුද්ධ වීමෙන් මෙය නිරුද්ධ වේ.' **(ඉමස්ස නිරොධා ඉදං නිරුජ්ඣති)**මේ සමුදය නිරෝධ ධර්ම න්‍යායයට තමයි, පටිච්චසමුප්පාදය කියන්නෙ. **(අයඤ්ච පටිච්චසමුප්පාදො)**ඒ කියන්නෙ කිසි ම ධර්මයකට තනිව ඇති වෙන්න බෑ. එහි සමුදයට ගැලපෙන ධර්මයකුත් එක්කයි හටගන්නෙ. අපි බාහිර ලෝකෙන් නිදසුනක් ගනිමු. ගින්නට තනිව මතුවෙන්න බෑ. දර හරි තෙල් හරි මොකක් හෝ ඉන්ධනයක් ඕන. යමක් ඉන්ධනයක් වෙන්නෙ ගින්නට ආහාරයක් වෙන කොටයි. ගින්නට ආහාර වීමෙන් තොර ඉන්ධනයක් නෑ. ගින්නට ආහාරයක් වෙන කොටයි, 'ඉන්ධනය ඇත' කියන්න පුළුවන් වෙන්නෙ. ඉන්ධනය ආහාර වෙන කොටයි, 'ගින්න ඇත' කියල කියන්න පුළුවන් වෙන්නෙ. ඔය දෙක තනි තනිව මතු වෙන්නෙ නෑ. ආහාරය වන ඉන්ධන නිරුද්ධ වීමෙන් ගින්න නිරුද්ධ වෙනව.

මේ වගේ සත්ත්‍ව පුද්ගල බව සකස් වෙන්නෙත් එකිනෙකට යැපෙනසුලු ප්‍රත්‍ය ධර්ම වල සමුදය වීමක් හැටියට. සමුදය වෙන ධර්ම දිගින් දිගට තියෙන්නෙ නෑ. සමුදය වෙන්න ප්‍රත්‍යය වෙච්ච ධර්මය නිරුද්ධ වෙනකොට ම නිරුද්ධ වෙනව. සමුදය වෙනව කියන්නේ ප්‍රත්‍ය ධර්ම එකිනෙකට යැපීම් වශයෙන් ප්‍රකට වෙනව කියන එකයි. ඒවා සැලෙන වැයවන ධර්ම නිසා පවතින්නෙ නෑ. නිරුද්ධ වෙනව. තණ්හාව, උපාදානය කියන ප්‍රත්‍යයන් නිසා යළි යළිත් සමුදය වෙනව. නිරෝධයට පත් වෙනව. ඉතින් මේ පටිච්චසමුප්පාද ධර්ම න්‍යායයට අනුව සමුදය වන ධර්මයන්ට කියනව පටිච්චසමුප්පන්න ධර්ම කියල. **(පටිච්චසමුප්පන්නා ධම්මා)**මේ සත්ව පුද්ගල බව පිණිස වන ප්‍රත්‍ය ධර්ම මොනවද කියල, දැන් අපි බලමු.

ජාති ප්‍රත්‍යයෙන් ජරාමරණ වෙනව. භවප්‍රත්‍යයෙන් ජාතිය වෙනව. උපාදාන ප්‍රත්‍යයෙන් භවය වෙනව. තණ්හා ප්‍රත්‍යයෙන් උපාදානය වෙනව. වේදනා ප්‍රත්‍යයෙන් තණ්හාව වෙනව. ඵස්සය ප්‍රත්‍යයෙන් වේදනාව වෙනව. සළායතන ප්‍රත්‍යයෙන් ඵස්සය වෙනව. නාමරූප ප්‍රත්‍යයෙන් සළායතන වෙනව. විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාමරූප වෙනව. සඞ්ඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය වෙනව. අවිජ්ජා ප්‍රත්‍යයෙන් සඞ්ඛාර වෙනව. **සංයුත්ත නිකායේ නිදානවග්ගයේ පච්චය සූත්‍රයේ (සං: නි: 2, 40 පිට)** මේ ආකාරයට කරුණු දක්වන බුදුරජාණන් වහන්සේ විශේෂ කරල මෙන්න මෙහෙමත් දේශනා කරනව.

"තථාගතයන් වහන්සේලා උපන්නත් නො උපන්නත් ඒ ධර්මධාතුව, ධර්මස්ථිතිය, ධර්ම නියාමතාව, ඉදප්පච්චයතාව තියෙනව ම යි. තථාගතයන් වහන්සේ එය අවබෝධ කරගන්නව. වටහා ගන්නව. එහෙම අවබෝධ කරගෙන වටහාගෙන කියල දෙනව. දේශනා කරනව. පණවනව. පිහිටුවනව. විවරණය කරනව. බෙදා දක්වනව. ලිහිල් කරල දක්වනව. 'බලවු' කියල වදාරණව." මේ වදාරන්නෙ, දේවල් සමුදය වුනොත් නිරුද්ධ වෙන්න වෙනව. ඒ වුනත් ධර්මතාව තිනෙව, කියන එකයි.

හැම බෝධිසත්ව වරයකු ම සත්වයා පිළිබඳ ප්‍රත්‍ය සම්බන්ධතාව මුලින් ම දකින්නෙ යෝනිසෝමනසිකාරයෙන්. ඒ කියන්නේ ප්‍රභවය මොකක් ද කියල නුවණින් මෙනෙහි කිරීමෙන්. පටන් ගන්නෙ ප්‍රකට දුක වන ජරාමරණයෙන්.

**01. ජරාමරණ:** මෙතන ජරාවයි මරණයයි වෙන වෙන ම තේරුම් කරල තියෙනව. ඒ ඒ සත්වයින්ගෙ දිරීම, දත් වැටීම, කෙස්පැසීම, ඇඟ රැලි වැටීම, ආයුෂ ගෙවී යාම, ඉඳුරන් දුර්වල වීම තමයි **ජරා** කියන්නෙ. ඒ ඒ සත්වයින්ගෙ ච්‍යුතවීම, මරණය, කලුරිය කිරීම, ස්කන්ධයන්ගේ බිඳීම, ජීවිතින්ද්‍රිය සිඳීයාම තමයි **මරණය** කියන්නෙ. ඉපදුන දා ඉඳන් ම මේ දිරායාම සිදුවෙමින් තමයි තියෙන්නෙ. ස්කන්ධ ප්‍රවාහය සමුදය වෙනව. නිරුද්ධ වෙනව.

**02. ජාතිඃ** ඉතින් ඔය කියපු ජරාමරණ ස්වභාවය වෙන්නෙ කුමක් ඇති කල්හිද, කියල බලන කොට පෙනුන 'ජාතිය හින්දයි, ජරාමරණ වෙන්නෙ' කියල. ඒ ඒ සත්වයින්ගෙ සත්වනිකායවල හටගැනීම, ඉපදීම, බැසගැන්ම, ස්කන්ධයන්ගේ පහළ වීම, ආයතන ප්‍රතිලාභය තමයි, **ජාති** කියන්නෙ. කෙටියෙන් කියනව නම්, 'උපන්න නම් මැරෙන්න වෙනව'.

**03. භවඃ**ජාතිය සමුදය වෙන්නෙ භවය ප්‍රත්‍යය කරගෙන. මේ කියන්නෙ කාම, රූප, අරූප භවතුන ගැන. ඒ භව වල විපාක දෙන්න කර්ම සකස් වෙනව නම් ඒ භව පැණවෙනව.

**04. උපාදානඃ** භවය සමුදය වෙන්නෙ උපාදානය ප්‍රත්‍යය කරගෙන. උපාදාන හතරක් සැකසෙනව. පංචකාමගුණ අල්ලගත්තම **කාමඋපාදානය** කියනව. භව විභව දෘෂ්ටි අල්ලගත්තම **දිට්ඨිඋපාදානය** කියනව. මම, සත්ව, පුද්ගල සංඥාවන් අල්ලගත්තම **අත්තවාද උපාදාන** කියනව. ඒ උපාදාන වල හැටියට ඇතිවන කල්පනාවලට දෘෂ්ටිවලට අනුව හැසිරෙන එකට කියනව **සීලබ්බත උපාදාන** කියල.

**05. තණ්හාඃ** උපාදානය සමුදය වෙන්නෙ තණ්හාව ප්‍රත්‍යය කරගෙන. තණ්හාව හය ආකාරයි. ඇසට පෙනෙන රූප පිළිබඳ තණ්හාව. කනට ඇසෙන ශබ්ද පිළිබඳ තණ්හාව. නාසයට දැනෙන ගන්ධ පිළිබඳ තණ්හාව. දිවට දැනෙන රස පිළිබඳ තණ්හාව. කයට දැනෙන පහස පිළිබඳ තණ්හාව. මනසේ ඇති වන සංකල්ප පිළිබඳ තණ්හාව.

**06. වෙදනාඃ** තණ්හාව සමුදය වෙන්නෙ වේදනාව ප්‍රත්‍යය කරගෙන. වේදනා කියන්නෙ විඳීනයට. වේදනාකාය හයයි. චක්ඛුසම්ඵස්සයෙන් සමුදය වන විඳීන. සෝතසම්ඵස්සයෙන් සමුදය වන විඳීන. ඝාණසම්ඵස්සයෙන් සමුදය වන විඳීන. ජිව්හාසම්ඵස්සයෙන් සමුදය වන විඳීන. කායසම්ඵස්සයෙන් සමුදය වන විඳීන. මනෝසම්ඵස්සයෙන් සමුදය වන විඳීන.

**07. ඵස්සඃ** වේදනාව සමුදය වන්නේ ඵස්සය ප්‍රත්‍යය කරගෙන. සළායතනික ප්‍රසාදරූපත් විෂයරූපත් විඤ්ඤාණයේ පිළිබිඹු වෙනකොටයි, ඵස්සය වෙන්නේ. විස්තර ඇතුව කියනව නම්, ඇසත් රූපයත් ප්‍රත්‍යය කරගෙන චක්ඛුවිඤ්ඤාණය සමුදය වෙනකොට ඒ තුනෙහි එක්වීම චක්ඛුඵස්සයයි. ඒ වගේ කනත් ශබ්දයත් ප්‍රත්‍යය කරගෙන සෝතවිඤ්ඤාණය සමුදය වෙනකොට සෝතසම්ඵස්සයයි. නාසයත් ගන්‍ධයත් ප්‍රත්‍යය කරගෙන ඝාණවිඤ්ඤාණය ඇතිවෙනකොට ඝාණසම්ඵස්සයයි. දිවත් රසයත් ප්‍රත්‍යය කරගෙන ජිව්හාවිඤ්ඤාණය ඇතිවෙනකොට ජිව්හාසම්ඵස්සයයි. කයත් පහසත් ප්‍රත්‍යය කරගෙන කායවිඤ්ඤාණය ඇතිවෙනකොට කායසම්ඵස්සයයි. මනසත් ධර්මත් ප්‍රත්‍යය කරගෙන මනෝවිඤ්ඤාණය සමුදය වෙනකොට මනෝසම්ඵස්සයයි.

**08. සළායතනඃ** ඵස්සය සමුදය වෙන්නෙ සළායතන ප්‍රත්‍යය කරගෙන. ඇසත් රූපයත් සම්බන්‍ධ වෙනකොට සමුදය වෙන්නෙ චක්ඛායතනය. කනත් ශබ්දයත් සම්බන්‍ධ වෙනකොට සමුදය වෙන්නෙ සෝතායතනය. නාසයත් ගන්‍ධයත් සම්බන්‍ධ වෙනකොට සමුදය වෙන්නෙ ඝාණායතනය. දිවත් රසයත් සම්බන්‍ධ වෙනකොට සමුදය වෙන්නෙ ජිව්හායතනය. කයත් පහසත් සම්බන්‍ධ වෙනකොට සමුදය වෙන්නේ කායායතනය. මනසත් ධම්මත් සම්බන්‍ධ වෙනකොට සමුදය වෙන්නෙ මනායතනය.

**09. නාමරූපඃ** සළායතන සමුදය වෙන්නෙ නාමරූප ප්‍රත්‍යය කරගෙන. විඳීම (වින්‍දන), හැඳිනීම (සඤ්ඤා), අරමුණ පිළිබඳව වින්‍දන සඤ්ඤා ඔස්සේ සිතීම (චේතනා), ස්පර්ශය (ඵස්ස), මෙනෙහිකිරීම (මනසිකාර) කියන්නෙ නාමධර්ම. හැම සිතක් ම පහළ වෙන්නෙ ඔය නාමධර්ම සහිතව ම යි. මේ නාමධර්ම පහළ වෙන්නේ වණ්ණරූප, සද්දරූප, ගන්‍ධරූප, රසරූප, ඵොට්ඨබ්බරූප, ධම්මරූප කියන සළායතනික රූප නිමිති පිළිබඳවයි. සළායතනිකව නිමිති වෙන්නෙ පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන මහාභූතරූප ඇසුරින් නිමිති කරගන්න උපාදායරූපයි. මේ කියපු නාමධර්මත්, රූපධර්මත් තමයි

නාමරූප කියන්නෙ. පුද්ගලයා අත්දකින්නෙ නාමරූපයයි. දැනගන්නේ එය ම යි. ඊට වැඩි දෙයක් නො වෙයි.

**10. විඤ්ඤාණ:** යට කී නාමරූප සමුදය වෙන්නෙ, විඤ්ඤාණය ප්‍රත්‍යය කරගෙන. විඤ්ඤාණය කියන වචනයේ තේරුම 'වෙන්කර දැනගැනීම' කියන එකයි. ඇසත් රූපයත් වෙන් කරල දැනගන්නෙ චක්ඛුවිඤ්ඤාණයෙන්. කනත් ශබ්දයත් වෙන් කරල දැනගන්නෙ සෝතවිඤ්ඤාණයෙන්. නාසයත් ගන්ධයත් වෙන් කරල දැනගන්නෙ ඝාණවිඤ්ඤාණයෙන්. දිවත් රසයත් වෙන් කරල දැනගන්නෙ ජිව්හාවිඤ්ඤාණයෙන්. කයත් පහසත් වෙන් කරල දැනගන්නෙ කායවිඤ්ඤාණයෙන්. මනසත් ධම්මත් වෙන් කරල දැනගන්නෙ මනෝවිඤ්ඤාණයෙන්. හැම සංසාර සත්වයකුගේ ම අත්දැකීම් ලෝකය කියන්නේ මේ විඤ්ඤාණයේ මැවෙන නාමරූප ලෝකය බව හොඳින් වටහා ගන්න. මේ සංසාර දුක් ගොඩ නිරුද්ධ කරන්න නම් මේ කාරණය ගැන අවබෝධයක් තියෙන්න ම ඕන.

**11. සංඛාර:** මේ විඤ්ඤාණය සමුදය වෙන්නෙ, සංඛාර ප්‍රත්‍යය කරගෙන. ආශ්වාස ප්‍රශ්වාස කියන කයට සම්බන්ධ කායසංඛාරයත්, විතක්ක විචාර කියන වචනයට සම්බන්ධ වචීසංඛාරයත්, සඤ්ඤා වේදනා කියන සිතට සම්බන්ධ චිත්තසංඛාරයත් තමයි මෙතන සංඛාර කියන්නෙ. කලින් කියාපු විඤ්ඤාණය පිළිබිඹු කරන නාමරූප අත්දැකීම් ලෝකය ගොඩනැගෙන්න අවශ්‍ය කරන පසුබිම් සකස් වීමක් තමයි, මෙතන සංඛාර නමින් දැක්වෙන්නෙ. පච්චුප්පන්නයේ පටිච්චසමුප්පාදය දකින කොට වැදගත් වෙන්නේ මේ සකස් වීමයි. සවිඤ්ඤාණක කයක් ඇති සත්වයෙක් බාහිර නිමිති වලට යොමු වෙන කොට සකස් වෙන්නෙ මේ කාය වචී චිත්ත සංඛාරයි.

**12. අවිජ්ජා:** මේ සංඛාර සමුදය වෙන්නෙ අවිද්‍යාව ප්‍රත්‍යය කරගෙන. අවිද්‍යාව කියන වචනයේ තේරුම, නො දැනීම. නො දැකීම. කුමක් නො දැනීම ද? දුක නොදැනීම, දුකෙහි සමුදය නො දැනීම, දුකෙහි නිරෝධය නො දැනීම, දුක නිරුද්ධ වන මාර්ගය

නො දැනීම, කියන චතුරාර්යසත්‍යය නො දැනීමයි. දුක කියන්නෙ මේ ප්‍රත්‍ය සම්බන්ධතාව ම යි. දුකෙහි සමුදය නො දැනීම කියන්නෙ, විඤ්ඤාණයේ පිළිබිඹුවන නාමරූප ඇත්තක් කියල ගැනීම රැවටීමක් බව නො දැනීමයි. සවිඤ්ඤාණක කයත් බාහිර නිමිතිත් පිළිබඳව මම ය, මගේය යන මැනගැනීම ඇතිවෙන්නේ මේ රැවටිල්ල නො දන්න නිසා. නාමරූප නිරෝධයෙන් දුක නිරුද්ධ වන බව නො දැනීමයි. ඒ සඳහා පිළිවෙත වන ආර්යඅෂ්ටාඞ්ගික මාර්ගය නො දැනීමයි.

දුකෙහි සකස් වීම කියන්නෙ මේ ප්‍රත්‍ය ධර්මයන්ගේ සමුදයයි. මේ ප්‍රත්‍ය නිරෝධය දුකෙහි නිරෝධයයි. මේ පච්චය ධර්ම හැම එකක් ගැන ම කියන්න තියෙන්නෙ අනිත්‍ය බවයි. **(අනිච්චං)** සකස් වන බවයි. **(සඞ්ඛතං)** ප්‍රත්‍ය සම්බන්ධතාවෙන් සමුදය වන බවයි. **(පටිච්චසමුප්පන්නං)** ක්‍ෂය වන ස්වභාව දරණ බවයි. **(ඛයධම්මං)** ව්‍යව වන ස්වභාව දරණ බවයි. **(වයධම්මං)** මැකී යන ස්වභාව දරණ බවයි. **(විරාගධම්මං)** නිරුද්ධ වන ධර්ම බවයි. **(නිරොධධම්මං)- (එම, 42 පිට)**

සියලු බෝසතාණන් වහන්සේලා මේ පටිච්චසමුප්පාදය දකින්නෙ යෝනිසෝමනසිකාරයෙන්. ජරාමරණ දුකේ ඉඳන් මේ ප්‍රත්‍ය සම්බන්ධතාවේ සුලමුල සොයා නුවණින් මෙනෙහි කරන විට විඤ්ඤාණයත් නාමරූපයත් එකිනෙකට ප්‍රත්‍ය වෙන බව දකිනව. මවාගත් පැවැත්ම බල ගැන්වෙන්නෙ විඤ්ඤාණ නාමරූප සම්බන්ධතාවෙන් බව දැනගන්නව. නිර්වාණාවබෝධයට අවශ්‍ය විපස්සනා මාර්ගය මම සොයාගත්තයි, කියල දැනගන්නව. **(අධිගතො ඛො ම්‍යායං විපස්සනා මග්ගො බොධාය)- (දීනිඃ 2, මහාපදාන සූත්‍රය, 52 පිට)** විදර්ශනා ප්‍රඥාවට විෂය වියයුතු තැනත් මෙ තැනයි. **(එත්තාවතා පඤ්ඤාවචරං)- (දීඃ නිඃ 2, මහාදිදාන සූත්‍රය, 94 පිට)** සසරදුක නිම කරන්න බලාපොරොත්තු වෙනව නම් අපිත් තේරුම් ගන්න ඕනවිඳන සංඥා ඔස්සේ කෙලෙස් ටික බාහිර ලෝකයට ආරෝපණය කරල සළායතනික රූපසංඥා වලට රැවටෙන තාක් අවිද්‍යා සංස්කාර සැකසෙනව, කියල. ආයතන, ස්පර්ශ, විඳන, තණ්හා, උපාදාන, භව, ජාති, ජරාමරණ සමුදය වෙනව, කියල. අපි බාහිර ලෝකය අත්දකිනව කියල කරන්නෙ, විඤ්ඤාණයේ මැවෙන නාමරූප ලෝකයට බැඳෙන එක බව දැනගන්න ඕන.

කලහවිවාද සූත්‍රයේ මේ ගැන කියන්නෙ මෙහෙමයි. මේ නාමධර්මත් රූපධර්මත් නිසා තමයි. ඵස්සය සමුදය වෙන්නෙ. **(නාමඤ්ච රූපඤ්ච පටිච්ච ඵස්සා)** මිහිරි අමිහිරි වේදනාවන්ට ප්‍රත්‍යය වෙන්නෙ මේ ඵස්සයයි. ඵස්සය නැත්නම් මිහිරි අමිහිරි වේදනා නෑ. **(ඵස්සනිදානං සාතං අසාතං ඵස්සෙ අසන්තෙ න භවන්ති හෙතෙ)** යම් කෙනෙක් ලෝකයේ ලෝභයෙන් හැසිරෙනව නම් ඒ ප්‍රිය වස්තු වලට තියෙන ඡන්දරාගය නිසා. **(ඡන්දනිදානානි පියානි ලොකෙ, යෙ චාපි ලොභා විචරන්ති ලොකෙ)**මිනිසාට පරලොව දඅාශාවත් ආශාව සපුරා ගැනීමත් වෙන්නෙ ඡන්දරාගය නිසා. **(ආසා ච නිට්ඨා ච ඉතො නිදානා, යෙ සම්පරායාය නරස්ස හොන්ති)** මිහිරි අමිහිරි විඳීම් ඇසුරු කරගෙනයි, ඡන්දරාගය උපදින්නෙ. **(සාතං අසාතන්ති යමාහු ලොකෙ, තමුපනිස්සාය පභොති ඡන්දො)**ලෝකෙ සත්වයා නාමධර්ම ඔස්සේ ගන්න උපාදාය රූප ඡන්දරාගයෙන් අල්ලගෙනයි, භව විභව දෘෂ්ටි තනාගන්නෙ. **(රූපෙසු දිස්වා විභවං භවඤ්ච විනිච්ඡයං කුරුතෙ ජන්තු ලොකෙ)**උපාදායරූප හාත්පසින් අල්ගන්නෙ, ඉච්ඡාව, ඡන්දරාගය හින්දයි. **(ඉච්ඡානිදානානි පරිග්ගහානි)**ඉච්ඡාව නැත්නම් මම, මගේ කියල ගැනීමකුත් නෑ. **(ඉච්ඡාය'සන්ත්‍යා න මමත්තමත්ථි)**උපාදායරූප ඉක්මෙව්වොත් ඵස්සයත් නෑ. **(රූපෙ විභූතෙ න ඵුසන්ති ඵස්සා)** (මේ කලහවිවාද සූත්‍රයේ එන අදහස කියවන කොට පාලි කොටස් අතහරිමින් කියවීමෙන් තේරුම් ගැනීම පහසු වේවි)

ඉතින් යම් වෙලාවක මෙන්න පටිච්චසමුප්පාදය, මෙන්න පටිච්චසමුප්පන්න ධර්ම කියල, දකල ඒවා සමුදය වන ආකාරය මෙහෙමයි කියල, හොඳින් දකිනව නම් ඒ අරියසාවකය දැනගන්නව, මේ ප්‍රත්‍ය සම්බන්ධතාව තමයි අතීතයෙත් වුනේ කියල. වෙනව නම් අනාගතේ වෙන්නෙත් මේ ප්‍රත්‍ය සම්බන්ධතාවමයි කියල. දැනුත් වන්නෙ ඒ ප්‍රත්‍ය සම්බන්ධතාවයි කියල. සමුදය වන ඵස්සයෙන් ඵස්සයට තණ්හා ලාටුවෙන් ඇලෙන කොට ඵස්සනිරෝධය දකින්නෙ නැති නිසා දිගින් දිගට ඉන්න එක ම මම කෙනෙක් ගැන හිතාගන්නෙ, අත්දකින දේවල් දිගින් දිගට තියෙන දේවල් කියල හිතාගන්නෙ, මේ පටිච්චසමුප්පාද ක්‍රියා වලිය දන්නෙ නැති නිසා.

මේ පටිච්චසමුප්පන්න ධර්මතාව දන්නෙ නැති නිසා තමයි, අතීතය ඇසුරිනුත් අනාගතය ඇසුරිනුත් භවදෘෂ්ටි විභවදෘෂ්ටි මවාගන්නෙ. ආර්යශ්‍රාවකයාට "මම අතීතයෙ වුනා ද, මම අතීතයේ වුනේ නැද්ද, මම අතීතයේ කවරෙක් වීම් ද, මම අතීතයේ කෙසේ වීම් ද, මම අතීතයේ කවරෙක් වී කවරෙක් වීම් ද, යනුවෙන් පූර්වාන්තය කරා දිවීමක් වෙන්නෙ නෑ." **(පුබ්බන්තං වා පරිධාවිස්සතීති නෙතං ඨානං විජ්ජති)**"මම අනාගතයේ වන්නෙම් ද, මම අනාගතයේ නො වන්නෙම් ද, මම අනාගතයේ කවරෙක් වන්නෙම් ද, මම අනාගතයේ කෙසේ වන්නෙම් ද, මම අනාගතයේ කවරෙක්ව කවරෙක් වන්නෙම් ද, යනුවෙන් අපරාන්තය කරා දිවීමක් වෙන්නෙ නෑ." **(අපරන්තං වා උපධාවිස්සතීති නෙතං ඨානං විජ්ජති)**"මම ඉන්නව ද, මම නැද්ද, මම කවරෙක් ද, මම කෙසේ වෙම් ද, මේ සත්වයා කොහෙන් ද ආවෙ, කොහාට ද යන්නෙ, යනුවෙන් වර්තමානයේ සැක මුසුව කල්පනා කරන්නෙ නෑ." **(එතරහි වා පච්චුප්පන්නං අද්ධානං අජ්ඣත්තං කථඞ්කථී භවිස්සතීති නෙතං ඨානං විජ්ජති)** එහෙම වෙන්නෙ නැත්තෙ ඇයි? මෙන්න පටිච්චසමුප්පාදය, මෙන්න පටිච්චසමුප්පන්න ධර්ම කියල මනා නුවණින් දකින ලද නිසයි. මේ කාරණය සඳහන් වෙන්නෙ සංයුත්තනිකායේ පච්චය සූත්‍රයේ.

පච්චුප්පන්නයේ එනම් ප්‍රත්‍යධර්ම සමුදය වන අවස්ථාවේ ම විදර්ශනාවට ලක් කරන්නේ නම් විදසුන් නුවණ වැඩිල යම් අවස්ථාවක නිරෝධය ප්‍රත්‍යක්ෂ වෙනව. මෙතන නියත කෙනෙක් නෑ. නියත ධර්මයක් නෑ. දිගින් දිගට ඉන්න කෙනෙක්, දිගින් දිගට තියන දෙයක් මෙතන නෑ. නමුත් පටිච්චසමුප්පාදය නො දකින කොට හිතෙන්නෙ, කෙනෙක් ඉපදිලා කලක් ඉඳල මැරෙණ එක. දෙයක් ඇති වෙලා කලක් තිබිල නැතිවෙලා යන එක. සාමාන්‍ය පුද්ගලයා ඉන්නෙ සමුදය පැත්තෙ. ඒ වුනත් සමුදය නෙවෙයි දකින්නේ ඉන්නව, තියෙනව කියලයි. නිරෝධය දකින්නෙ නෑ. සමුදය දකින කොට නෑ යි කියන්න බෑ. නිරෝධය දකින කොට ඉන්නව, තියෙනව කියල කියන්න බෑ. මෙතන වෙන්නෙ සමුදය ධර්ම නිරුද්ධ වෙන එකයි. ඉන්නව, තියෙනව කියල ගැනීම රැවටිල්ලක්. ඒ බව දන්නව නම් ඡන්දරාගෙන් ලං වෙන්නෙ නෑ. **(න**

**උපෙති)**අල්ලගන්නෙ නෑ. **(න උපාදියති)**මාගේ ආත්මය යයි කියල ගන්නෙ නෑ. **(නාධිට්ඨාති අත්තා මෙ'ති)- (සං: නි: 2, කච්චානගොත්ත සූත්‍රය, 28 පිට)** උපදිනව නම් උපදින්නේ කෙනෙක් දෙයක් නෙවෙයි දුක ම යි. නිරුද්ධ වන්නෙත් දුක ම යි. මේ ගැන සැකයක් නැත්නම්, විචිකිච්ඡාවක් නැත්නම් තමන්ට ම පැහැදිලි නම් ඒක තමයි සම්මාදිට්ඨිය.

## ප්‍රත්‍යුත්පන්නය දැක අතහැරීම නිවනට මඟයි.

දැන් අපි හුඟක් ධර්ම කාරණා කථා කරල තියෙනව. අපි දැන් දන්නව 'මම' කියන්නෙ දිගින් දිගට තියෙන දෙයක් නොවෙයි, කියල. සළායතනික අත්දැකීම් ලැබෙණ කොට මොහොතින් මොහොත මැවෙන සංකල්පනාමය තත්ත්වයක් පමණයි කියල. සිත් පහළ වෙනකොට අපට දැනෙන්නෙ, පෙනෙනවා, ඇහෙනවා, ආඝ්‍රාණ වෙනවා, රස දැනෙනවා, ස්පර්ශ වෙනවා, කල්පනා වෙනවා කියන ක්‍රියාවලියයි. අතීතයේ වුණෙත් ඔය ක්‍රියාවලිය බව අපි දන්නව. මතුත් වෙනව නම් වෙන්නේ මේ ක්‍රියාවලියට වඩා අමුතු දෙයක් නෙවෙයි, කියන එකත් අපි දන්නව. මේ විදියට අත්දැකීම් ලැබුවෙ, මේ මොහොතෙත් අත්දැකීම් ලබන්නෙ, මතු මතුත් අත්දැකීම් ලැබීමට කැමති වෙන්නෙ කවු ද? ඒ තමයි 'මම'. එතකොට 'මම' කියන්නෙ අත්දැකීම් එක්ක මැවෙන හැඟීමක් පමණයි. බණදහමෙ 'මම වෙමි' කියන්නෙ මඤ්ඤිතයක් (හිතාගැනීමක්) කියල දැක්වෙන්නෙ ඒ නිසා. **(අස්මීති භික්ඛවෙ මඤ්ඤිතමෙතං)**

ඉතින් මේ 'මම' මැවෙන හැඟීමක් පමණයි කියන බව දන්නෙ නැති නිසා තමයි, අපි කල්ප ගණන් සසරක් සකස් කරගත්තෙ. දැනුත් 'මම' කියන හැඟීම ම ඉදිරියට පණිනව නම් මතුත් සසර සකස් වෙනවා ඇත. බුදුවරයන් වහන්සේ නමක් ලොවට හෙළි කරනකම් මේ 'මම' හැඟීමෙ වරදක් අපට පෙනෙන්නෙ නෑ. මේ 'මම' කියන හැඟීමත් එක්කල 'මගේ' කියන හැඟීමකුත් එනව. මම කියන හැඟීමට කියනව**,** **'අහංකාරත්'** කියල. 'මගේ' කියන හැඟීමට කියනව **'මමංකාර'** කියල. "ඉතින් මමත් ඉන්නව නං මගේ කියල දේකුත් තියෙන්න එපායැ, ඕකෙ මොකක් ද, තියෙන වැරැද්ද" කියල තමයි, කාටත් හිතෙන්නෙ. ළිඳේ ඉන්න ළිං මැඩියෙකුත් කිව්වයි කියනව නෙ, "මම ළිඳේ නම්, ළිඳ මගේ නම් කාටවත් ඇයි, වේදනා" කියල. ඒ වගේ ඕන්නම් කෙනකුට කියන්න පුළුවන්, "මම සසරෙ නම් සසරෙ තියෙන හැම දෙයක් ම මගේ නම්, ඉතින් මොකෝ" කියල.

ඒ වුණත් සසර මගේ කරගන්නා හැම දෙයක් ම ජාති, ජරා, ව්‍යාධි, මරණ, සෝක, පරිදේව, දුක්, දොම්නස්, උපායාස

පිණිස පවතින ධර්ම බව අමතක කරන්න හොඳ නෑ. මේ දුක් වලින් මිදීමක් පණවන්න තමයි, බුදුවරයන් වහන්සේලා ලොව වරින් වර පහළ වෙන්නෙ. බුදුවරයන් වහන්සේ නමක් ම පහළ වෙලා ම මේවා කියල දෙන්න වෙන්නෙ, සංසාරිකව අපි කවුරුත් ලොකු රැවටිල්ලකට අහු වෙලා හිටියත් ඒ බව නො දැන ඉන්න හිඳයි. ඒ රැවටිල්ල තමයි, විඤ්ඤාණයේ පිළිබිඹු වන නාමරූපයට රැවටෙන එක. සසර කවර පැවැත්මක් මවා ගත්තත් මැවිල තියෙන්නෙ නාමරූප. අපි ලෝකය අත්දකිනව කියල අත්දැකල තියෙන්නෙත් දැන් අත්දකින්නෙත් මතු අත්දැකීමට කැමති වෙන්නෙත් මේ නාමරූප. නාමරූප සමුදය වුණා කියන්නෙ ආයතන සයේ සමුදය සිදුවුණා කියන එකයි. බාහිර වස්තු වශයෙන් කොච්චර දේවල් තිබුණත් ඒ කොයි දේ ගැනත් අපට ඇති වන්නේ නාමරූප වශයෙන් ලබන අත්දැකීමක් විතරයි. ඒ නාමරූප ලෝකය මොහොතක් මොහොතක් පාසා සමුදය වෙනව. නිරුද්ධ වෙනව. නිරෝධය නො පෙනෙන නිසා මේ නාමරූප රාශිය ඝන සංඥාවෙන් රැවටිලා එකක් වගේ හිතාගන්නව. ඒ පිළිබඳ තණ්හාවෙන් මැවෙන 'මම', ඒ අත්දැකීම් 'මගේ' කරගන්න එක තමයි, අවිද්‍යාව.

ඒ හිඳ බුදුරජාණන් වහන්සේ අපට මෙහෙම කියල දෙනව. ලෝකය හට ගන්නෙ ආයතන හයේ. **(ඡසු ලොකො සමුප්පන්නො)**ආයතන හය තමයි, ඇසුරු කරන්නෙ. **(ඡසු කුබ්බති සන්ථවං)**මේ ආයතන හය අල්ලාගෙන ඒ ආයතන හයෙහි ලෝකය පීඩාවට පත් වෙනව. **(ඡන්නමෙව උපාදාය ඡසු ලොකො විහඤ්ඤති)- (සංඃ නිඃ 2, ලොක සූත්‍රය, 76 පිට)** මේ ඇත්ත හොඳට තේරුම් ගන්නව නම් අභ්‍යවකාශ තරණය කර කර ලෝකය හොයන්න ඕන නෑ. අපි තේරුම් ගන්න ඕන අපි ආයතන හයේ මවාගන්න ලෝකය ගැනයි. බාහිර ලෝකෙ පරමාණු බිඳ බිඳ අනිත්‍යය හෙව්වට වැඩක් නෑ. ඒව අනිත්‍යයි කියන්න බුදුවරයන් වහන්සේ නමක් ඕනත් නෑ. අනිත්‍යය දැකියයුත්තෙ මම, මගේ කියන හිතාගැනීම ඇති වෙන තැනයි. ඒ කියන්නෙ, සළායතනිකව මවා ගන්නා ලෝකයේ අනිත්‍යතාවයි දකින්න ඕන. අනිත්‍යතාව දකින්න ඕන මම කියන මැණගැනීම නිමකරන්නයි. **(අනිච්චසඤ්ඤා භාවෙතබ්බා**

**අස්මිමාන සමුග්ඝාතාය)- (ඛුඃ නිඃ 1, 200 පිට)** මේ කාරණේ හොඳට තේරුම් ගන්න.

පුහුදුන් හිතේ හැටි තමයි, මේ මොහොතේ අරමුණු ගැන කෙලෙස් ඇති කරගන්නව මදිවට, පරණ ඉපදුණ කෙලෙස් මේ මොහොතේ කල්පනා වෙන කොට ඒව ගැන හිත හිතා කෙලෙස් උපදවන එක. තමන්ට විඳගන්න අවස්ථාව නැතුව මග ඇරිච්ච, අහිමි වෙච්ච අත්දැකීම් ගැනත් හිත හිත හූල්ලන එක. මේ රැස් කරන්නෙ නම් වෙන මොනවක්වත් නො වෙයි. කර්ම. කර්ම. ඊළඟට පුහුදුන් හිත කරන අනෙක් දේ තමයි, අනාගතයේ ලබා ගන්න බලාපොරොත්තු වෙන අත්දැකීම් ගැන හිත හිත මේ මොහොතෙ කෙලෙස් උපදවන එක. මේ රැස් කරන්නෙත් කර්ම. මේ මොහොතේත් මැවෙන නාමරූප නිමිති අරමුණු කරගෙන කෙලෙස් උපදවනව. පුහුදුන් කම හින්ද නාමරූප පිළිබිඹු හිතට ගණන් වැටුණ කියන්නෙ, කෙලෙස් අනුසය කරගත්ත කියන එකයි. රාගානුසය වැඩෙන්නෙත් ඔහොම. පටිඝානුසය වැඩෙන්නෙත් ඔහොම. අවිජ්ජානුසය වැඩෙන්නෙත් ඔහොම. මෙතැන දී සකස් වෙන්න සසර. කාමභවයෙ චේවා, රූපභවයෙ චේවා, අරූපභවයෙ චේවා විපාක දෙන්න චේතනා සකස් වෙනතාක් භවය සකස් වෙනව.

කර්ම බිහිවෙන්න මුල්වෙන ප්‍රත්‍යය තමයි, ඵස්සය. ඉන් කියැවෙන්නෙ ආයතන හයේ ඵස්සය. **(ඵස්සො භික්ඛවෙ කම්මානං නිදානසම්භවො)- (අංඃ නිඃ 4, 208 පිට)** ඵස්සය සමුදය වුණා කියන්නෙ වේදනාවත් සමුදය වුණා කියන එකයි. වේදනාසමුදය වෙලා කියන්නෙ, තණ්හාව සමුදය වුණා කියන එකයි. තණ්හාව සමුදය වුණා කියන්නෙ උපාදානය සමුදය වුණා කියන එකයි. උපාදානය සමුදය වුණා නම් භවය සමුදය වෙනවා ම යි. ජාති ජරා මරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාසත් එතැන ම යි. මවාගත්ත මම හැඟීම හින්ද වෙච්ච දේ. මම කරනව කියල හිතාගෙන කරපු ඒව තමයි කර්ම. ඒවායේ වගකීම මට ම භාරගන්න වෙනව. පහන් සිතින් කරපු ඒවට සැපවිපාක ලැබෙයි. දූෂිත හිතින් කරපු ඒවට දුක් විපාක ලැබෙයි. ඒත් විපාක විඳින වෙලාවෙ 'මම කරනව' කියල කරපු ඒවටයි, මේ විපාක විඳින්නෙ කියල පුහුදුන් පුද්ගලය දන්නෙ නෑ. 'මමයි විඳින්නෙ' කියල හිතාගෙන විඳිනව. ඒ හින්ද

වෙන්නෙ තවත් කර්ම රැස් වෙන එක. ඒ නිසා බුදුරජාණන් වහන්සේ අත්තදණ්ඩ සූත්‍රයෙහි මෙහෙම දේශනා කරනව.

**යං පුබ්බෙ තං විසොසෙහි**
**පච්ඡා තෙ මාහු කිඤ්චනං,**
**මජ්ඣෙ නො ගහෙස්සසි**
**උපසන්තො චරිස්සසි. (සුඃ නිඃ 298 පිට)**

"අතීතයට ගිය චේතනා සංස්කාර හිඳ කෙලෙස් ඉපදෙනව නම් ඒව වියළල දාන්න. අනාගතේ බලාපොරොත්තු වෙන දේවල් පිළිබඳ කෙලෙස් ඉපදෙන්නට ඉඩ තියන්න එපා. මේ මොහොතේ සළායතනිකව නිමිති වන අරමුණු කෙලෙස් තුළින් අල්ලා නො ගන්න. මෙසේ කටයුතු කරන පුද්ගලයා උපශාන්තව හැසිරෙනව."

මේක තමයි බුදුසමයේ නිවන් ප්‍රතිපදාව. අතීතෙත් ගොඩනැගුවෙ කෙලෙස්. ඒව මතක් කර කර ආයෙත් කෙලෙස් හදන්නෙ මොකට ද? දැන් ලැබෙණ නිමිති වලට කෙලෙස් හදනව මදිවට අනාගතේ කැමතිවෙන දේවල් ගැනත් හිත හිතා දැන් ඉඳන් ම කෙලෙස් ගොඩනගනව. මේ පුහුදුන් ස්වභාවය හොඳට තේරුම් ගන්න. තේරුම් අරගෙන මේ මොහොතෙ ඉඳන් සිහියෙන් නුවණින් කටයුතු කරන්න කියලයි, බුදුහාමුදුරුවො අපට උපදෙස් දෙන්නෙ.

පුද්ගලයාට අතීතය කියල තියෙන්නෙ නාමරූප වශයෙන් මවාගත්ත චේතනාමය සංස්කාර ගොඩක් විතරයි. අනාගතය කියා කියන්න තියෙන්නෙ නාමරූප අත්දැකීම් වශයෙන් මතු බලාපොරොත්තු වන චේතනාමය සංස්කාර ගොඩක් විතරයි. මේ මොහොත කියල මැවෙන්නෙත් නාමරූප වශයෙන් මැවෙන චේතනාමය සංස්කාර ගොඩක් පමණයි. වස්තු දේවල්, පුද්ගලයො, මව, පියා, ස්වාමියා, බිරිඳ, දුව, පුතා, බෑණා, ලේලි, මුණුපුරා, මිණිපිරී, නෑයා, අසල්වාසියා, මිතුරා, හතුරා, පාලකයා, පාලිතයා, සේවකයා, මම, අපි, ගේ දොර, ඉඩකඩම්, ධනසම්පත්, ආදී ඔය කියන හැම උපධි සම්පත්තියක් ම ඇසුරු කරගෙන පුද්ගලයා තුළ සකස් වෙන්නෙ චේතනාමය අභිසංස්කරණ පමණයි. පුද්ගලයා අත්දකින්නෙ, දන්නෙ මම, මගේ කියන හැඟීමෙන් අභිසංස්කරණය කරගත්ත සළායතනික අත්දැකීම් ලෝකය පමණයි. මේ ක්‍රියාවලිය තමයි, අතීතයේ සිදු

වුනෙත්. අනාගතයෙහි වෙනව නම් වෙන්නෙත්. පච්චුප්පන්නය සකස් වන හැටි හොඳින් තේරුම් ගන්නව නම් ඒ ඇති. අතීතයෙ කියල මීට වඩා අමුතු දෙයක් තිබුණෙ නෑ. අනාගතයෙ කියල බලාපොරොත්තු වෙන්නෙ මේ හේතුප්‍රත්‍ය සම්බන්ධතාවට වඩා අමුතු දෙයක් නොවෙයි. මෙතැනදි අපි අමතක කරන්න හොඳ නෑ, 'මම' කියන්නෙ, රූප, විඳීම්, හැඳිනීම්, චේතනා (සංස්කාර), දැනීම් අල්ලා ගැනීම නිසා මැවෙන හැඟීමක් බව.

මේ ඇත්තයි කියල අල්ලා ගන්නා ස්කන්ධ වල සමුදය දන්නෙ නැතුව, නිරෝධය දන්නෙ නැතුව එක ම පැවැත්මක් හැටියට හිතාගත්තොත් ඒ තමයි සක්කාය දිට්ඨිය. සක්කාය හැටියට ගැනෙන්නෙ මේ මොහොතේ සමුදය වෙන නිරුද්ධ වන ස්කන්ධ රාශියක් බව බුදුරජාණන් වහන්සේ දේශනා කරනකම් අපි දන්නෙ නෑ. අරමුණු ගන්න කොට විඤ්ඤාණයේ මැවෙන නාමරූප සත්‍ය වශයෙන් ඇති දේ හැටියට ගන්න තාක් තමයි, අතීතයක්, අනාගතයක්, පච්චුප්පනයක් වලංගු වෙන්නෙ.

සළායතනිකව ගන්න බාහිර රූප නිමිති කියල අපි අල්ලගන්නෙ විඤ්ඤාණයේ පිළිබිඹු වන උපාදාය රූප. සළායතනික ස්පර්ශය නිසා තමයි, විඳීම්, හැඳිනීම්, චේතනා, සමුදය වෙන්නෙ. නාමරූප ප්‍රත්‍යයෙන් තමයි විඤ්ඤාණය සමුදය වෙන්නෙ. මේ ප්‍රත්‍ය නිරුද්ධ වීමෙන් මේ ස්කන්ධත් නිරුද්ධ වෙනව. සසර කියල ඒකකයක් වශයෙන් ගත්තත් සමුදය නිරෝධ ප්‍රවාහයකට වැඩි දෙයක් නෑ.

මෙතන තේරුම් ගතයුතු තවත් කරුණක් තියෙනව. පුබ්බෙනිවාසානුස්සති ඤාණයෙන් ඇතැමෙක් අතීත සංසාර තත්ත්වය සිහිපත් කරනවනෙ. මෙහෙම අතීත භව සිහි කරන්න පුළුවන් වෙන්නෙ ආත්මයක් තියෙන හින්දයි, කියල සාමාන්‍යයෙන් කෙනකුට හිතෙනව. බොහෝ දෙනෙක් එහෙම හිතල තමයි, අතීතය ඇසුරින් (පූර්වාන්ත කල්පනයෙන්) ආත්මවාදයක් තහවුරු කරගත්තෙ. ඇතැම් රහතන් වහන්සේලාත් පුබ්බේනිවාසානුස්සතියෙන් අතීත භව සිහි කරනව. කවුරු සිහි කළත් පෙරනිවාසයන් සිහි කරන්න වෙන්නෙ ආත්මයක් ඔස්සෙ නම් නොවෙයි. උපාදානස්කන්ධ පටිපාටිය (කඳපිළිවෙළ) ආපස්සට සිහිකිරීමෙන්. **(සබ්බෙ තෙ පඤ්චුපාදානක්ඛන්ධෙ අනුස්සරති)- (සංඃ නිඃ 3, ඛජ්ජනීය සූත්‍රය,**

**148 පිට)** අතීතයෙහි මෙවන් රූප ඇත්යෙම් වීමි. මෙවන් වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ ඇතියෙම් වීමි, කියලයි සිහි කරන්නෙ. ආත්මසාරයක් නම් හම්බවෙන්නෙ නෑ. වෙනත් ශාසන වල මහණ බමුණන් වුනත් සිහිකරන්නෙ ඔහොම ම තමයි. ඒත් ඒ අය ස්කන්ධ වලට ආත්ම වටිනාකමක් දීල. ඒවායේ සමුදය නිරෝධය නො දකින නිසා. ඉතින් ඒ අය අනාගතෙත් බලාපොරොත්තු වුනේ ඉපදිලා සදාකාලිකව සැපෙන් ම ඉන්න පුළුවන් තැනක්. ඕක නම් ඉටුවෙන්නෙ නැති බලාපොරොත්තුවක් බව බුදුරජාණන් වහන්සේ දැක්ක. උපන්නොත් මැරෙන්න වෙනව ම යි. **(නත්ථි ජාතස්ස අමරණං)** කවර භවයක් වුනත් ඒක ඇතුළත් වෙන්නෙ සක්කායයට ම යි.

දීර්ඝ ආයුෂ තියෙන, වර්ණවත්, සැපෙන් පිරිච්ච, උසස් විමාන වල දිගුකාලයක් තිස්සෙ සිටින සමහර දෙවිවරු හිතා ගන්නව මම නිත්‍යයි, ස්ථිරයි, සදාකාලිකයි, කියල. ලෝකයේ සම්‍යක් සම්බුදුවරයන් වහන්සේ නමක් පහළ වෙලා, දේශනා කරන ධර්මය අසන ඒ දීර්ඝායුෂ්ක දෙවිවරු බොහෝ සෙයින් බියට, සන්ත්‍රාසයට, සංවේගයට පැමිණෙනවලු, අනිත්‍ය වූ ම අපි නිත්‍යයි කියල හිතාගෙන හිටිය. අස්ථිර වූ ම අපි ස්ථිරයයි හිතාගෙන හිටිය. සදාකාලික නො වූ අපි සදාකාලිකයයි කියල හිතාගෙන හිටිය. මිතුරනි, අපිත් අනිත්‍යයි. අස්ථිරයි. සදාකාලික නෑ. සක්කායපරියාපන්නයි කියල තමයි ඒ දෙවිවරු සංවේගයට පත් වෙන්නෙ. සක්කායය සියුම් කර කර සැප ඇති නිත්‍ය තැනක් හෙව්වට හම්බ වෙන්නෙ නෑ. ශ්‍රැතවත් ආර්යශ්‍රාවකය කියන්නෙ මේ අවුල තේරුම් ගත්ත කෙනෙක්.

ඉතින් ශ්‍රැතවත් ආර්යශ්‍රාවකය මෙතැනදි කල්පනා කරන්නෙ මෙහෙමයි. "මම දැන් රූපය විසින් කනු ලබමි. දැන් රූපය විසින් මම කනුලබන්නා සේ ම, අතීතයේ ද රූපය විසින් මම කනු ලැබීමි. දැන් රූපය විසින් මම කනුලබන්නා සේ ම, අනාගත රූපය කැමති වන්නෙම් නම් මම මතු ද රූපය විසින් කනු ලබන්නෙමි, යනුවෙන් නුවණින් සළකා බලමින් අතීත රූපයෙහි අපේක්ෂා අතහරියි. අනාගත රූපය කැමති නො වෙයි. ප්‍රත්‍යුත්පන්න රූපය පිළිබඳව කළකිරීම විරාගය නිරෝධය පිණිස පිළිපන්නේ වෙයි." මේ ආකාරයට ම වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන ස්කන්ධ පිළිබඳවත් නුවණින් ප්‍රත්‍යවේක්ෂණය

කරනව. මේ ස්කන්ධ අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන් දකිනව. මේ තමයි නිවන් මග. (මේ කරුණු ටික පැහැදිලි කළේ **සං: නි: 3, සීහෝපම, ඛජ්ජනීය සූත්‍ර ඇසුරිනි.) (146 / 148 පිටු)**

මේ අපි තේරුම් ගත්තෙ නිවන් මග වැඩෙන්නට නම් දැන සිටියයුතු දුක්මයි. ඇති සැටියෙන් මනා නුවණින් දතයුතු දෙය මෙයයි. **(එවමෙතං යථාභූතං සම්මප්පඤ්ඤාය දට්ඨබ්බං)** යෝනිසෝමනසිකාරය කියල කියන්නෙ මේ විශේෂ නුවණටයි. මේකෙ වචනාර්ථය තමයි, යමක සමුදයට, හටගැනීමට එහෙම නැත්නම් හේතුවට හිත යොදල තේරුම් ගන්නව කියන බව. සාමාන්‍ය සංජානන මට්ටමට සීමා වෙලා ඉන්න කෙනා මේ විශේෂ නුවණින් බලන මට්ටම නෑ. අපි ධර්මය දැනගන්නෙ, බණ අහන්නෙ මේ විශේෂ නුවණ ඇති කරගන්න. එතකොට තමයි, සංස්කාර නිරෝධයමයි, දුක්ඛ නිරෝධය, නිවන කියල පෙනෙන්නෙ. සාමාන්‍ය සංජානන මට්ටමේ ඉඳල බලන පුද්ගලයාට හිතෙන්නෙ නිවන කියන්නෙ උච්ඡේදයක්, හැටියට. නමුත්, ස්කන්ධයන්ගේ සමුදය නිරෝධය දකින කෙනාට නිවන දුකෙහි නිරෝධයක් බව පෙනෙනව. ප්‍රත්‍ය සම්බන්ධතාවෙන් මැවෙන ස්වභාව වල නිරෝධය තිබුණ දෙයක අභාවයක් නො වෙයි. නැති වෙනව නම් නැති වෙන්නේ 'මම' කියල ගත්ත අවිද්‍යාව. තව මදි කියල ඇති කරගත්ත තණ්හාව. වෙන මොනව ද? රැවටිල්ල ඉවර නම්, රැවටෙන්න කෙනකුත් නෑ. රැවටෙන්න දේකුත් නෑ.

දැන් අපි පච්චුප්පනයෙහි වන දෙයත් දන්නව. අතීතයෙහි වුණ දේත් දන්නව. අනාගතයේ වන දෙයත් දන්නව. දහම්මග තියෙන්නෙ පැහැදිලිව දැනගෙන, මේ මොහොතේ සිහියෙන් යුක්තව කටයුතු කරන්න. මේ මොහොතේ සළායතනයන්ගේ ප්‍රත්‍ය සම්බන්ධතාව මනානුවණින් දකිනව නම් ස්කන්ධයන්ගේ සමුදය මනානුවණින් දකිනව නම් එතකොට අතීතය අනුසාරයෙන් දෘෂ්ටි ඇති වීමක් නෑ. **(එවමෙතං යථාභූතං සම්මප්පඤ්ඤාය පස්සතො පුබ්බන්තානුදිට්ඨියො න හොන්ති)** අතීතය අනුසාරයෙන් දෘෂ්ටි ඇති වීමක් නැති කල්හි අනාගතය අනුසාරයෙන් දෘෂ්ටි ඇති වීමකුත් නෑ. **(පුබ්බන්තානුදිට්ඨීනං අසති අපරන්තානුදිට්ඨියො න හොන්ති)**

මෙතන මේ සඳහන් කරන්නෙ බ්‍රහ්මජාල සූත්‍රයේ දක්වෙන අතීතය ඇසුරින් ඇති වන දෘෂ්ටි දහඅටකුත් අනාගතය ඇසුරින් ඇතිවන දෘෂ්ටි හතළිස් හතරකුත් ඇති වෙන්නෙ නෑ කියන එකයි. ඔය හැම දෘෂ්ටියක්මත් ඇති වෙන්නෙ සක්කායදිට්ඨිය පදනම් කරගෙන. ඒ කියන්නෙ, රූප, විඳීම්, හැඳිනීම්, චේතනා, දැනීම් කියන ස්කන්ධ පහ මම, මගේ කියල ගැනීම පදනම් කරගෙන. පච්චුප්පන්නයේ ඒ ස්කන්ධ වල සමුදය නිරෝධය තේරුම් ගත්තොත් දෘෂ්ටි ඇති වෙන්නෙ නෑ. සංසාරෙක හුරු පුරුදු වෙච්ච තණ්හා උපාදාන නැඹුරුව එකපාරට කෙනෙකුගෙන් ඉවත් වෙන්නෙත් නෑ. ඒ නිසා ආයතන හයෙන් අරමුණු ලැබෙණ කොට නුවණ යොදමින් පුහුණුව ආරම්භ කරන්න ඕන.

මේ අන්තිමට කියාපු කරුණු දක්වෙන **දුතිය අනිච්චතා සූත්‍රයේ (සංඃ නිඃ 3, 82 පිට)** අනාගතය ඇසුරෙන් දෘෂ්ටිත් ඇති නො වෙන කොට බලවත් ලෙස ස්කන්ධ මම, මගේ කියල පරාමර්ශනය කරන ගතිය අඩුවෙනව කියල, සඳහන් වෙනව. **(පුබ්බන්තානුදිට්ඨීනං අසති ථාමසා පරාමාසො න හොති)**නුවණින් සම්මර්ශනය කරන කොට පරාමර්ශනය අඩු වෙනව. බලවත් ලෙස පරාමර්ශනය නො වෙන කොට රූපයෙහි, වේදනාවෙහි, සඤ්ඤාවෙහි, සංඛාරවල, විඤ්ඤාණයෙහි සිත් ඇලෙන ගතිය ටික ටික දුර්වල වෙනව. **(ථාමසා පරාමාසෙ අසති රූපස්මිං වෙදනාය සඤ්ඤාය සඞ්ඛාරසු විඤ්ඤාණස්මිං චිත්තං විරජ්ජති)**උපාදාන වශයෙන් නො ගෙන ආස්‍රවයන්ගෙන් සිත මිදෙනව. **(විමුච්චති අනුපාදාය ආසවෙහි)** මිදිල නිසා තැන්පත් වෙනව. **(විමුත්තත්තා ඨිතං)**තැන්පත් නිසා තෘප්තිමත් වෙනව. **(ඨිතත්තා සන්තුසිතං)**තෘප්තිමත් නිසා තැතිගැන්මක් නෑ. **(සන්තුසිතත්තා න පරිතස්සති)**තැතිගැන්මක් නැති නිසා තෙමේ ම පිරිනිවෙයි. **(අපරිතස්සං පච්චත්තංයෙව පරිනිබ්බායති)**ජාතිය ක්‍ෂය වුණා, බඹසර වැස නිම කළා, කරන්න තිබුණ දේ කළා, මේ උදෙසා තවදුරටත් කරන්න දෙයක් නෑ, කියල දැනගන්නෙ මෙතැනදි. මේකයි, නිවනට මග.

## ඇත යන්නෙන් හා නැත යන්නෙන් මිදීම

සමුදය නිරෝධ ධර්මතාව දන්නෙ නැතුවාම හිතෙන්නෙ හැම දෙයක් ම දිගින් දිගට පවතිනව වගේ. සාමාන්‍ය මනසට යමක නැතිවීම ගැන හිතෙන්නෙ තිබිල විනාශ වීමක් හැටියට. භව විභව දෘෂ්ටි මැවෙන්නෙ ඒ ආකාරයට. සළායතනික වශයෙන් අත්දකින්නේ විඤ්ඤාණයේ මැවෙන නාමරූප ලෝකය බව බුදුරජාණන් වහන්සේ සිහිපත් කරදෙනකම් අපි දන්නෙ නෑ. එය තේරුම් ගන්න නම් යෝනිසෝමනසිකාරය භවිතා කරන්න ඕන. යෝනිසෝමනසිකාරය කියන්නෙ නුවණින් මෙනෙහි කිරීම කියලයි, සාමාන්‍යයෙන් තේරුම් කරන්නෙ. ඒකෙ වරදක් නැතත් එයින් අපිට එහි අදහස පැහැදිලිව වැටහෙන්නෙ නෑ. අපි සළායතන ක්‍රියාකාරීත්වය ඔස්සේ හමුවන හැම ප්‍රත්‍යයක ම සමුදය පක්ෂයට අවධානය තබල තේරුම් ගැනීමටයි, යෝනිසෝමනසිකාරය කියල කියන්නෙ. තව විදියකට කියනව නම් අත්දැකීම් ලැබෙණ කොට ප්‍රකට වන තත්ත්වයේ සමුදයට ප්‍රත්‍යය වන ධර්මය දකිනව නම් ඒ දකින්නේ යෝනිසෝමනසිකාරයෙන්. ඒ වගේ ම නැති ආස්‍රව ඇති නොවෙන විදියට, තියෙන ආස්‍රව ප්‍රහීණ වෙන විදියට මෙනෙහි කරනව නම් එවිට ක්‍රියාත්මක වෙන්නෙ යෝනිසෝමනසිකාරය.

මේ යෝනිසෝමනසිකාරය භාවිතා කිරීම ගැන දැනගතයුතු හොඳ විස්තරයක් **සබ්බාසව සූත්‍රයේ (මඃ නිඃ 1, 18, 20, 22, 24 පිටු)** දකින්න ලැබෙණව. බුදුරජාණන් වහන්සේ එය මෙහෙම පැහැදිලි කරදෙනව. "මහණෙනි, මම දන්න කෙනාට දකින කෙනාට ආස්‍රවයන් ක්ෂය වෙන බව කියනව. කුමක් දන්න කෙනාට ද, කුමක් දකින කෙනාට ද. යෝනිසෝමනසිකාරයත් අයෝනිසෝ- මනසිකාරයත් දන්න කෙනාට දකින කෙනාට. මනසිකාරය අයෝනිසෝ විදියට නම් කෙරෙන්නෙ නො උපන්න ආස්‍රව උපදිනව. උපන් ආස්‍රව වැඩෙනව. මනසිකාරය යෝනිසෝ විදියට නම් කෙරෙන්නෙ නො උපන්න ආස්‍රව උපදින්නෙ නෑ. උපන් ආස්‍රව ප්‍රහීණ වෙනව."

සද්ධර්මය අහල නැති පුහුදුන් පුද්ගලයා **(අස්සුතවා පුථුජ්ජනො)** මෙනෙහි කරන්න ඕන මොකක් ද, මෙනෙහි නො කරන්න ඕන මොකක් ද, කියල දන්නෙ නෑ. එහෙම කෙනා මෙනෙහි නො කළයුතු දේ මෙනෙහි කරනව. මෙනෙහි කළයුතු දේ මෙනෙහි කරන්නෙ නෑ.

යම් මෙනෙහි කිරීමක් නිසා නො තිබිච්ච කාමාස්‍රව ඇති වෙනවනම්, තියෙන කාමාස්‍රව වැඩෙණව නම්, නො තිබිච්ච භාවාස්‍රව ඇති වෙනව නම්, තියෙන භවාස්‍රව වැඩෙණව නම්, නොතිබිච්ච අවිජ්ජාසව ඇතිවෙනව නම්, තියෙන අවිජ්ජාස්‍රව වැඩෙණව නම් අපි දැනගන්න ඕන මෙනෙහි නො කළයුතු දේ මෙනෙහි කරනව කියල. කාමාසව කියන්නෙ පස්කම්සුවය පිළිබඳ සිතිවිලි ගලාඑන ගතිය. භවාසව කියන්නෙ තමන්ට පවතින්න තියෙන කැමැත්ත වගේ ම තමන්ගෙ කියල හිතාගත්ත දේවල් පවත්වගන්න තියෙන කැමැත්ත පිළිබඳ සිතිවිලි ගලා එන ගතිය. අවිජ්ජාසව කියන්නෙ 'මම', 'මගේ' කියන සිතිවිලි ගලාඑන ගතිය.

ඒ ඒ සත්‍වයින්ගෙ හිතට තම තමන්ගෙ අත්දැකීම් ලෝකයේ හැටි හැටියට මේ ආස්‍රව ගලා එනව. අපේ තනි හිතට මේවායේ වැරැද්දක් පේන්නෙ නෑ. සාමාන්‍යයෙන් අපට තේරෙන මේ මිනිස් සමාජය දිහා බැලුවොත් පේන්නෙ මේ කෙලෙස් සහිත ලෝකය තියාගන්න පවත්වගන්න මිනිසුන් ගන්න උත්සාහය ම යි. අපට මේ සසර දුක නිම කරන්න ඕන කියල හිතෙනව නම් හිතෙන්නෙ ජරාමරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස වලට වැඩි දෙයක් මේ සසර ඇත්තෙ නෑ කියල තේරුණොත් විතරයි. සද්ධර්මය දැන ගැනීමෙන්මයි, මේව තේරෙන්න පටන් ගන්නෙ. බුදුරජාණන් වහන්සෙ මෙහෙම දේශනා කරල තියෙනව, බණපොතේ මෙහෙම සඳහන් වෙලා තියෙනව කියල දැනගත්තට ම යෝනිසෝමනසිකාරය ආරම්භ වෙන්නෙ නෑ. වැඩිවශයෙන් තියෙන්නෙ නම් ඒ ස්වභාවය තමයි. කාමයට ඇති කැමැත්ත බලවත් නම් කාමය නිරුද්ධ කිරීමට, භවනිරෝධයට, සක්කායනිරෝධයට දම්දෙසුවත් ඊට සිත වැදගන්නෙ නෑ.

කොහොම හරි මේ කරුණු කාරණා වැටහිලා කාමාසව, භවාසව, අවිජ්ජාසව ඇති නොවන විදියට, තියෙන ආස්‍රව ප්‍රහීණ

වෙන විදියට මනසිකාරය සකස් වෙනව නම් තමයි, මෙනෙහි කළයුතු ආකාරයට මෙනෙහි කරනව කියල කිවහැකි වෙන්නෙ.

පුහුදුන් හිතක ඉඳගෙන මම අතීතයෙ හිටිය ද, මම අතීතයෙහි නො හිටිය ද, අතීතයෙ හිටිය නම් කවරෙක් වෙලා ද හිටියේ, කෙසේ ද වෙලා හිටියෙ, කවරෙක්ව ඉඳල කවරෙක් වුණා ද, කියල හිතනව නම් ඒක අයෝනිසෝමනසිකාරයක්. ඒ වගේ ම පුහුදුන් හිතක ඉඳගෙන මම අනාගතයේ වෙනව ද, මම අනාගතේ නො වෙනව ද, කවරෙක් වන්නේ ද, කෙසේ වන්නේ ද, කවරෙක් වී කවරෙක් වන්නේ ද, කියල හිතනව නම් ඒක අයෝනිසෝමනසිකාරයක්. පුහුදුන් හිතක ඉඳගෙන දැන් මේ වෙලොවේ මම ඉන්නව ද, මම නැද්ද, කවරෙක් වෙම් ද, කෙසේ වෙම් ද, මේ සත්‍වයා කොහෙන්ද ආවෙ, කොහාට ද යන්නෙ, කියල හිතනව නම් ඒක අයෝනිසෝමනසිකාරයක්.

පුද්ගලත්‍වය ඇසුරු කරගෙන ඇති රූපය කියන්නෙ, සවිඤ්ඤාණක වෙච්ච මේ කයත්, බාහිර නිමිතිත් බව දැනගන්න. වේදනාව කියන්නෙ, ආයතන හය අනුව සැකසෙන විඳින බවත් දැනගන්න. සඤ්ඤා කියන්නෙ ආයතන හය අනුව ලැබෙණ රූප ශබ්දාදී නිමිති හඳුනාගැනීම බවත් දැනගන්න. සංස්කාර කියන්නෙ සළායතනිකව ලබන නිමිති පිළිබඳව ඇතිවන රූපසඤ්චෙතනා සද්දසඤ්චෙතනාදී චේතනා බව දැනගන්න. විඤ්ඤාණ කියල කියන්නෙ චක්ඛුවිඤ්ඤාණ සෝතවිඤ්ඤාණාදී වශයෙන් සමුදය වන විඤ්ඤාණය බව දැනගන්න. අපට අත්දැකීම් ලැබෙණව කියන්නෙ මේ ස්කන්ධ මේ මොහොතේ සමුදය වෙනව කියන එකයි. සමුදය වන ධර්ම නිරුද්ධ වන ස්වභාවයෙන් යුක්ත බව දැනගන්න ඕන. ඒත් සමුදයෙන් සමුදය තණ්හා ලාටුවෙන් අලෝගන්න නිසා නිරෝධය පෙනෙන්නෙ නෑ.

මේ සමුදය නිරුද්ධ ක්‍රියා ප්‍රවාහයක් බව නො දැන රූපය උපාදාන කරගෙන 'මම වෙමි' කියල මැවෙන බව දන්නෙ නැත්නම්, විඳීම් උපාදාන කරගෙන 'වෙමි' යන්න මැවෙන බව දන්නෙ නැත්නම්, හැඳිනීම් උපාදාන කරගෙන 'වෙමි' යන්න මැවෙන බව දන්නෙ නැත්නම්, චේතනා උපාදාන කරගෙන 'වෙමි' යන්න මැවෙන බව දන්නෙ නැත්නම්, දැනීම් උපාදාන කරගෙන 'වෙමි' යන්න මැවෙන බව දන්නෙ නැත්නම්

පුද්ගලයට හිතෙන්නෙ දිගින් දිගට පවතින මම කෙනෙක් ඉන්නව කියලයි. ඒ හිතාගැනීම නිසා මේ මම සදාකාලිකව පවතින කෙනෙක් කියල රැවටෙන්න පුළුවන්. **'මාගේ ආත්මය ඇත'** කියන දෘෂ්ටිය ඇතිවෙන්න පුළුවන්. එතනදි වැටෙන්නෙ ශාශ්වත දෘෂ්ටියට. එහෙම නැත්නම් කලක් මම පැවතිල විනාශ වෙනව කියල රැවටෙන්න පුළුවන්. **මාගේ ආත්මය නැත'** කියන දෘෂ්ටිය ඇති වෙන්න පුළුවන්. එතනදි වැටෙන්නෙ උච්ඡේද දෘෂ්ටියට. සියලු ම වැරදි දෘෂ්ටි ඇතිවෙන්නෙ මේ දෘෂ්ටි පදනම් කරගෙන බව දැනගන්න. එහෙම දෘෂ්ටිවලට වැටෙන කෙනා ජාති ජරාමරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාසයන්ගෙන් මිදෙන්නෙ නෑ. දුකින් මිදෙන්නෙ නෑ.

සද්ධර්මය අහල තියෙන ආර්යශ්‍රාවකයා මෙනෙහි කළයුතු දේ දන්නව. මෙනෙහි නො කළයුතු දේත් දන්නව. එහෙම දැනගෙන මෙනෙහි කළයුත්ත මෙනෙහි කරනව. මෙනෙහි නො කළයුත්ත මෙනෙහි කරන්නෙ නෑ. කාමාසව භවාසව අවිජ්ජාසව ඇති වන දේ මෙනෙහි කරන්නෙ නෑ. කාමාසව භවාසව අවිජ්ජාසව ඇති නො වන දේ මෙනෙහි කරනව. දුක මේ යයි නුවණින් මෙනෙහි කරනව. දුකේ සමුදය මේ යයි නුවණින් මෙනෙහි කරනව. දුකේ නිරෝධය මේ යයි නුවණින් මෙනෙහි කරනව. දුක නිරුද්ධවන ප්‍රතිපදාව මේ යයි නුවණින් මෙනෙහි කරනව. සක්කායදිට්ඨි, විචිකිච්ඡා සීලබ්බතපරාමාස කියන සංයෝජන ප්‍රහාණය වෙන්න අවශ්‍ය දර්ශන සම්පත්තිය තමයි මේ. මේ සංයෝජන තුන දර්ශනයෙන් ප්‍රහාණය කළයුතු ආස්‍රව ලෙස සබ්බාසව සූත්‍රයේ දක්වල තියෙනව.

මානයෙන් හිටිය ඡන්න හාමුදුරුවන් වහන්සේට බුද්ධපරිනිර්වාණයෙන් පස්සෙ පළමු සංගායනාවේ දී බ්‍රහ්මදණ්ඩය පැණෙව්ව බව අපි දන්නව. එයින් පස්සෙ මානය බිඳහෙළා උන්වහන්සේ ස්ථවිර භික්ෂූන් වහන්සේලාගෙන් ඉල්ලාහිටිය, **(සං: නි: 3, ඡන්න සූත්‍රය, 126 පිට)** "ධර්මය දකින්න පුළුවන් විදියට මට අවවාද අනුශාසනා කරන්න" කියල. ඒ වෙලාවේ ස්ථවිර භික්ෂූන් වහන්සේලා රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන මේ ස්කන්ධ ධර්ම අනිත්‍යබවත් අනාත්ම බවත්, සියලු ධර්ම අනාත්ම බවත්, ප්‍රකාශ කළා. ඡන්න

හාමුදුරුවන්ට ඒ ප්‍රකාශය ප්‍රමාණවත් වුනේ නෑ. ඒ හින්ද උන්වහන්සේ මෙහෙම කල්පනා කළා. **"මමත් ඔය කාරනේ දන්නව. එහෙම දැන සිටියට මගේ සිත නිවනෙහි පැහැදෙන්නෙ නෑ. තැතිගැනුම් උපදිනව. උපාදානය උපදිනව. 'මාගේ ආත්මය කුමක් ද' කියන සිත නැවත නැවතත් ඇති වෙනව. දහම දකින කෙනකුට එහෙම වෙන්න බෑ. දහම දකින්නට පුළුවන් විදියට මට ධර්මය දේශනා කරන්නෙ කවුද?."**

මේ වෙලාවෙ මට ඒ විදියට ධර්මයක් දේශනා කරන්න ආනන්ද හිමියන් සමර්ථයි කියල කල්පනා කරල ආනන්ද හිමියන් හොයාගෙන කොසඹෑ නුවර ඝෝසිතාරාමයට වැඩිය. ආනන්ද හිමියන්ට කියා හිටිය, තමන් වහන්සේ ස්ථවිර භික්ෂූන් වහන්සේලාගෙන් අවවාද ඉල්ලාසිටිය බවත්, ස්කන්ධධර්ම අනිත්‍ය බව අනාත්ම බව, සියලු ධර්ම අනාත්ම බව දේශනා කළ බවත්, එපමණකින් මගේ සිත නිවනෙහි නො පැහැදුන බවත්, කියා හිටිය. මට දහම දකින්න පුළුවන් විදියට ධර්මය දේශනා කරන්නෙ කවුද, කියල මම කල්පනා කළා. ඒ වෙලොවෙ මට කල්පනා වුණා කොසඹෑ නුවර ඝෝසිතාරාමෙ වැඩ ඉන්න ආනන්ද හාමුදුරුවො ශාස්තෲන් වහන්සේ විසිනුත් වර්ණනා කළ කෙනෙක්. නුවණැති සබ්‍රහ්මචාරීන් වහන්සේලාත් බුහුමන් කරන කෙනෙක්. උන්වහන්සේ සමර්ථයි, මට දහම දකින්න පුළුවන් වෙන විදියට ධර්මය දේශනා කරන්න, කියල කල්පනා කරලයි, මම ආවෙ. ඒ නිසා මට අවවාද කරන සේක්වා, කියල, ඉල්ලා හිටිය.

ඒ වෙලොවේ ආනන්ද හාමුදුරුවො, දහම් දෙසන්නට ඉස්සර වෙලා මානය බිඳහැරීම ගැන සතුට ප්‍රකාශ කරල, දැන් ඔබවහන්සේ කන් යොමු කරල දහම අසන්නට සුදුස්සෙක් කියල මතක් කළා. ඒ වචනෙ අහන කොට 'දැන් මම දහම දැනගන්න සුදුසුයි' කියල ඡන්න හාමුදුරුවන්ට මහත් වූ ප්‍රීති ප්‍රමෝදයක් ඇති වුණා. ඉතින් මේ වෙලාවෙ කච්චානගොත්ත හිමියන්ට වදාළ දහමක් භාග්‍යවතුන් වහන්සේගෙන් අසා පිළිගෙන සිටි ආකාරයෙන් ඡන්න හිමියන්ට දේශනා කළා.

"කච්චාන, මේ ලෝකයා බොහෝ සෙයින්, ඇතිබව හා නැති බව ඇසුරු කරනව. (එක්කෝ 'ඇත', නැත්නම් 'නැත' කියන අන්ත වලට වැටෙන ගතිය) කච්චාන, ලෝකයේ සමුදය

(මෙය ඇති කල්හි මෙය වෙයි යන සඳමුදය රටාව) වන හැටිය විදසුන් නුවණින් දකින කෙනාට ලෝකයේ නැති බවක් වේ නම් එය නො වෙයි. ලෝකයේ නිරෝධය (මෙය නැති කල්හි මෙය නො වෙයි යන නිරෝධ රටාව) වන සැටිය විදසුන් නුවණින් දකින කෙනාට ලෝකයේ ඇති බවක් වේ නම් එය නො වෙයි. මේ ලෝකයා ලංවීමට, අල්ලාගැනීමට, එහි වැදගැනීමට වැඩි වශයෙන් බැඳිලයි ඉන්නෙ. විදසුන් නුවණින් දකින කෙනා 'මේ මාගේ ආත්මය ය'යි කියල ලං වීමට, අල්ලාගැනීමට, සිතින් තහවුරු කරගැනීමට, වැදගැනීමට, අනුසය වශයෙන් ගැනීමට පත්වෙන්නෙ නෑ. 'උපදින්නේ දුක් රැසක් ම උපදියි, නැති වන්නේ දුක් රැසක් ම නැති වෙයි' යන්න ගැන ඔහුට සැකයක් නෑ. විචිකිච්ඡාවක් නෑ. මෙහි ලා අනුන් පිහිට කරගත්තෙ නැති ඥාණයක් ඔහුට ඇති වෙනව. කච්චාන මෙපමණකින් සම්මාදිට්ඨියෙන් යුක්ත වෙයි."

දැන් මේ දේශනාවෙන් පැහැදිලි කරගන්න ඕන, සමුදය නිරෝධ පෙනෙන්නෙ නැත්නම් 'ඇත' කියල හිතා ගන්න එකත් වැරදි බව. විනාශ වුනාම 'නැත' කියල හිතාගන්න එකත් වැරදි බව. ඒ බව දන්නෙ නැති සාමාන්‍ය ලෝකයා ඉන්නෙ. 'ඇත' කියන අන්තයටත් 'නැත' කියන අන්තයටත් වැටි වැටී. ඒ නිසා බුදුරජාණන් වහන්සේ කච්චාන හිමියන්ට මෙහෙමත් දේශනා කළා.

"කච්චාන, 'සියල්ල ඇත' කියන්නෙ එක අන්තයක්. 'සියල්ල නැත'කියන්නෙ දෙවෙනි අන්තය. මේ අන්ත දෙකටම නො ගොහිල්ල තථාගතයන් වහන්සේ මධ්‍යයෙහි සිට ධර්මය දේශනා කරනව. අවිද්‍යාව ප්‍රත්‍යයෙන් සංස්කාර වෙනව. සංස්කාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය වෙනව. විඤ්ඤාණප්‍රත්‍යයෙන් නාමරූප වෙනව. නාමරූප ප්‍රත්‍යයෙන් සළායතන වෙනව. සළායතන ප්‍රත්‍යයෙන් ස්පර්ශය වෙනව. ස්පර්ශ ප්‍රත්‍යයෙන් විඳනය වෙනව. විඳනය ප්‍රත්‍යයෙන් තණ්හාව වෙනව. තණ්හාව ප්‍රත්‍යයෙන් උපාදානය වෙනව. උපාදාන ප්‍රත්‍යයෙන් භවය වෙනව. භවප්‍රත්‍යයෙන් ජාති වෙනව. ජාතිප්‍රත්‍යයෙන් ජරාමරණ සෝක, පරිදේව දුක් දොම්නස් උපායාස ඇතිවෙනව. මේ ආකාරයෙන් මුලුමහත් දුක්සමූහයේ ම සමුදය වෙනව.

අවිද්‍යාව ඉතිරි නො කොට නිරෝධයෙන් සංස්කාර නිරෝධය වෙනව. සංස්කාර නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධය වෙනව. විඤ්ඤාණ නිරෝධයෙන් නාමරූප නිරෝධය වෙනව. නාමරූප නිරෝධයෙන් සළායතන නිරෝධය වෙනව. සළායතන නිරෝධයෙන් ඵස්ස නිරෝධය වෙනව. ඵස්ස නිරෝධයෙන් වේදනා නිරෝධය වෙනව. වේදනා නිරෝධයෙන් තණ්හා නිරෝධය වෙනව. තණ්හා නිරෝධයෙන් උපාදාන නිරෝධය වෙනව. උපාදාන නිරෝධයෙන් භව නිරෝධය වෙනව. භව නිරෝධයෙන් ජාති නිරෝධය වෙනව. ජාති නිරෝධයෙන් ජරාමරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස යන මුලුමහත් දුක් සමූහය ම නිරෝධය වෙනව."

ඉතින් ඔය විදියට ආනන්ද හාමුදුරුවො ඡන්න හිමියන්ට උපාදානස්කන්ධ වල අනිච්ච දුක්ඛ අනත්ත බව දැකීම පමණක් මදි නිසා පටිච්ච සමුප්පාද දේශනාව කළා. සමුදය නිරෝධ ක්‍රියාවලිය තේරුම් කර දුන්න. ඇත නැත කියන භාවිතා බිහිවෙන්නෙ මේ සමුදය නිරෝධය නො දකින විට බව කියල දුන්න. ඒ කියන්නෙ අපි මේ දහම් පත්‍රිකා වලින් වරින් වර පැහැදිලි කරපු පච්චුප්පන්නය කියල දුන්න. පච්චුප්පන්නය දකිනව කියන්නෙ ප්‍රත්‍යයන්ගේ සමුදය දකිනව කියන එකයි. එතකොට අතීතය අනාගතය හොයන්න වෙන්නෙ නෑ.

අතීතය කියන්නෙ එක අන්තයක්. අනාගතය කියන්නෙ දෙවන අන්තය. පච්චුප්පන්නය මැදයි. එතැනට වර්තමානය කියන වචනය යොදලත් නෑ. ඒ වචනෙත් තියෙන්නෙ පවතිනව කියන අදහස. පච්චුප්පන්නය කියල යොදපුවම ගැටලු ඇති වෙන්නෙ නෑ. අපි සළායතනිකව අත්දැකීම් ලෝකයක් මවාගන්නෙ පච්චුප්පන්න වශයෙන්. අපේ කෙලෙස් මතු වෙන්නෙත් පච්චුප්පන්න වශයෙන්. ඉතින් අතීත සංස්කාර සටහන් සිහිපත් කරන්නෙත් නැත්නම්, අනාගතයේ ඒවා කැමති වෙන්නෙත් නැත්නම් පච්චුප්පන්න වශයෙන් සමුදය වන අත්දැකීම් වල ඇලෙන්නෙත් නැත්නම් ඒ තමයි නිවීම. මේ ප්‍රතිපදාව තමයි අපිත් පුහුණු වෙන්න ඕනකරන්නෙ.

මේ විදියට ප්‍රඥාව මෙහෙයවන කොට තණ්හා මාන දිට්ඨි වශයෙන් අපි බලාපොරොත්තු වීම් වශයෙන්, පාරට්ටු කිරීම් වශයෙන්, හිතින් ගිලගැනීම් වශයෙන් ලෝකය අල්ලන්නෙ

නැතුව යනව. තව විදියකින් කියනව නම් නිබ්බිදානුපස්සනාව වැඩෙන කොට, ඒ කියන්නෙ විඤ්ඤාණය මවල දෙන හරයක් නැති නාමරූප මායාවක් බව පැහැදිලි වෙනකොට කෙලෙස් වලින් මැඩෙමින් ඇතිවන පෙළඹීම් ටිකෙන් ටික මැකිල යනව. දුරු වෙනව. **"නිබ්බින්දං විරජ්ජති"** කියන බණපදයෙන් කියැවෙන්නෙ ඒකයි. එහෙම මැකිල මැකිල කෙලෙස් වලින් මිදෙනව. **"විරාගා විමුච්චති"** කියන බණපදයෙන් කියැවෙන්නෙ ඒකයි. එහෙම මිදුනම ප්‍රතිපදාවෙහි නියැලෙණ පුද්ගලයාට මිදුන කියන ඥානය වෙනව. **"විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති"** කියල සඳහන් වෙන්නෙ ඒකයි.

රූප වේදනා සඤ්ඤා සංඛාර විඤ්ඤාණ යන උපාදානස්කන්ධ අනිත්‍ය වශයෙන් අනාත්ම වශයෙන් සියලු ධර්ම අනාත්ම වශයෙන් දැක්කට නිවනට සිත් යොමු නො වුණ ඡන්න හාමුදුරුවන් වහන්සේ ආනන්ද හිමියන්ගේ දේශනාවෙන් සෝවන් වුණා. ඒ කාරණේ ඡන්න හාමුදුරුවො සඳහන් කරන්නෙ මෙහෙමයි.

**"ඇවැත් ආනන්දයෙනි, යම් කෙනකුන්ට අනුකම්පා කරන වැඩ සලසනු කැමති අවවාද කරන අනුශාසනා කරන සබ්‍රහ්මචාරීන් වහන්සේලා වැඩ ඉන්නව නම් ඒ ආයුෂ්මතුන් වහන්සේ වාගෙ අය තමයි. ආයුෂ්මත් ආනන්ද තෙරුන් වහන්සෙගේ මේ ධර්ම දේශනාව අහල මට ධර්මය අවබෝධ වුණා."** ඡන්න හාමුදුරුවො මේ සඳහන් කළේමේ ධර්මය අහල උන්වහන්සේ සෝවන් වුණ බවයි. බුදුරජාණන් වහන්සේ ඇසුරු කළත් ඡන්න හිමියන් තුළ තිබුණ මානය නිසා ධර්මාවබෝධය කොතරම් නම් පසු වුණා ද? උන්වහන්සේට ආනන්ද හිමියන් කල්‍යාණමිත්‍රයෙක් වුණා. ශාසනයේ කල්‍යාණමිත්‍රත්වය කොතරම් වැදගත් ද යන්නත් මෙයින් පැහැදිලි වෙනව.

## නො තිර වූ කයෙහි සමුදය.

බුදුබණ හරිහැටි දනගන්නකම් කවුරුත් හිතන්නෙ "කය තමයි මම" කියල. **(තං ජීවං තං සරීරං)**පුද්ගලයෙක් කියන්නෙ කයක් කියලයි හිතන්නෙ. ඒ කයෙන් සැපතකුත් ලැබෙණ නිසා අපි මේ කයට කැමති වෙනව. ඇස, කන. නැහැය, දිව, කය කියන ඉඳුරන් ඇසුරු කරගෙන අපි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන අරමුණු ලබනව. මනසින් සංකල්ප මවනව. ප්‍රිය අරමුණු ම කැමති වෙනව. ඒ වුනාට ප්‍රිය අරමුණු ම ලැබෙන්නෙ නෑ. ප්‍රිය අරමුණු ලැබෙණකොට ඒවට ඇලෙනව. අප්‍රිය අරමුණු ලැබෙණ කොට ඒවට ගැටෙනව. ප්‍රිය වුණත් අප්‍රිය වුණත් ඒ දෙකෙන් ම තොර වුණත් ලැබෙණ අරමුණු ඇත්තයි කියල හිතාගන්නව. ඒ අනුව ලෝභයට ද්වේෂයට මෝහයට නතු වෙනව.

තිරිසන් ගත සතුන්ටත් ඒ ඒ සතුන්ගෙ මට්ටමෙන් මේ ඉන්ද්‍රිය හය තියෙනව. ඒවායින් සැප දුක් ලබනව. කාමාවචර දෙවි වරුන්ටත් මේ ඉන්ද්‍රිය තියෙනව. අපට තිරිසන් සතුන්ව පෙනුනත් දෙවිවරුන් පෙනෙන්නෙ නෑ. අපේ ඉඳුරන් භෞතික වශයෙන් ගොරෝසු නිසා අපි අත් දකින්නේ ඊට ගැලපෙන අරමුණු පමණයි. රූපාවචර අත්දැකීම් තල කාමාවචර දේව තත්ත්ව වලට වඩා සියුම්. අරූපාවචර තල ඊටත් වඩා සියුම්. මේ සියුම් තත්ත්ව ගොරෝසු තත්ත්ව සකස් වෙන්නෙ සත්‍වයාගේ කෙලෙස්වල ස්වභාවය අනුව.

විශ්වය කියන්නෙ ලෝකධාතු බොහෝ ගණනක්. සත්ත සුරියුග්ගමන සූත්‍රයේ සඳහන් වන්නේ ලෝකධාතුවක් විනාශ වන ආකාරය. අග්ගඤ්ඤ සූත්‍රයේ සඳහන් වෙන ආකාරයට මේ ලෝකධාතුව දිගු කලක් ඇවෑමෙන් නැසෙනව. **(සංවට්ටති)** ඒ කියන්නෙ කාමභවයට අයත් පැවතුම් හා ප්‍රථමධ්‍යාන තලය විනාශ වෙනව. කියන එකයි. එහෙම නැසෙන කොට බොහෝ සත්වයන් ආභස්සර සංවත්තනික වෙනව. ඒ කියන්නෙ දෙවන ධ්‍යාන තලයට අයත් පැවැත්මකට වැටෙනව. ඒ අය මනෝමයයි. ප්‍රිතිය තමයි ආහාරය. මනෝමයකය ආලෝකයෙන් යුක්තයි. ආකාසචාරීයි. සිත්කලු වස්ත්‍රාභරණ සහිතයි. මේ විදිහට දිගු කාලයක් ගතවෙනව. එහෙම කාලයක් ගතවෙලා නැවත මේ ලෝකය ක්‍රමයෙන් සකස් වෙනව. **(විවට්ටති)** මෙහෙම සකස්වෙන කාලෙට පින හෝ ආයුෂය හෝ ඉවර වුණු සත්වයො ආභස්සර කයින් ච්‍යුත වෙලා සකස්වෙමින් තියෙන පොළව ඇසුරට එනව. ඒත් ඉන්නෙ මනෝමය කයින් ආකාසචාරීව. මනෝමයකයේ ආලෝකයෙන්. ස්ත්‍රී පුරුෂ

භේදයක් නෑ. තාම ඉර, හඳ, නැකත් තරු, දිවා, රාත්‍රී, ඍතු, සංවත්සර ප්‍රඥප්තීන් නෑ. සෙසු භෞතික ග්‍රහ වස්තුගේ ආලෝකය අත්දකින්නෙ නෑ. දේවකායිකයින් අතර ද චන්ද්‍ර සූර්ය ආලෝකය අත් නො දකින දේවකායිකයින් බොහෝ ඉන්නව කියල චූළසකුළුදායි සූත්‍රයේ සඳහන් වෙන බවත් මතක තියාගන්න. එහෙම වෙන්නෙ භෞතික අරමුණු වලට සංවේදී වන්නට තරම් ගොරෝසු වූ ඉන්ද්‍රියයන් නැති හින්ද. මේ ආකාරයෙනුත් දිගු කලක් ගතවෙනව. කලකදි දියමත කිරියොදයක් සේ පැතිරුණ රසපඨවිය සකස් වෙනව. එය මිහිරි සුවඳින් යුක්තයි. යම් ලෝලත්වයෙන් යුතු සත්‍වයෙක් 'මේ මොකක් ද' කියල රසපඨවිය ඇඟිල්ලෙන් ගෙන රස බැලුව. රස තෘෂ්ණාවට බැසගත්ත. දිගු කලක් යටපත් වෙලා තිබුණ පඤ්චකාමගුණික රාගය අවදි වෙන්නෙ ඊට ගැලපෙන පරිසරය සකස් වන පමණට බව දැනගන්න.

ලෝලත්‍වය කියන්නෙ කුතුහලයෙන් යමක් හරා අවුස්සා බලන ගතියටයි. එක්කෙනෙක් ඒක රහයි කියල රසපඨවිය කන්න පටන්ගත්ත නිසා අනෙක් අයත් කාල බලනව. දිට්ඨානුගතියට යනව කියන්නෙ ඒකයි. මේ විදියට තෘෂ්ණාව ඇතිවීම නිසා රසපඨවිය අතුරුදන් වෙලා බිම්හතු වර්ගයක් ඇති වෙනව. ඒවත් රසයි. තව තෘෂ්ණාව ගොරෝසු වෙනව. ස්වයම් ප්‍රභාව අඩු වෙනව. කය ගොරෝසු වෙනව. ඒවත් අතුරුදන් වෙනව. බදාලතා වැල් ඇති වෙනව. ඊට පස්සෙයි කුරුට්ට නැති උයන්නෙ නැතිව කන්න පුළුවන් ඇල් වී ඇති වෙන්නෙ. "අපට ඉස්සර තිබුණ. දැන් නෑ" කියන තැවුල් ඇතිවුණේ වඩාත් කලින් ආහාර රස වුණත් පසුව ඇතිවෙන ඒව රසයෙන් අඩු නිසා. මීට අවුරුදු පණහකට හැටකට එහා ගැන අද වුනත් අපි කියන්නෙ, 'ඒ දවස්වල නම් තිබුණ දැන් අපිට එහෙම නෑ' කියල නේද?

දැන් අපට තේරෙනව, සත්වයා භෞතික ආහාර ගන්න පටන් ගත්තෙ බඩගිනි වෙලා නොවෙයි. කුතුහලය නිසා රසතෘෂ්ණාවට වැටීමක් හැටියටයි. සසර පුරුදු වෙලා තිබුණ කෙලෙස් අවදි වීමක් හැටියටයි. මේ ආහාරය නිසා සමහර අයගේ කය පැහැපත්. සමහර අයගෙ කය දුර්වර්ණයි. මේ ස්වයංජාත ඇල් වී කන්න පටන්ගත්තයින් පස්සෙ ශරීර තවත් ගොරෝසු වෙනව. ස්ත්‍රී පුරුෂ භේදය ඇති වෙන්නෙ ඔය අවස්ථාවෙ. සසර දී මෛථුරාගය පිළිබඳව චේතනාමය වශයෙන් ඒ ඒ පුද්ගලය අභිසංස්කරණය කරගත්ත ස්වභාවය අනුව තමයි, ස්ත්‍රී පුරුෂ වෙන්නෙ. ස්ත්‍රීන් පුරුෂයින් එකිනෙකා දිහා බොහෝ වේලා බලාගෙන ඉන්න කොට රාගය ඇති වෙනව. මේක දිගින් දිගට වෙනකොට කයට රාගපරිදාහය ඇති වෙනව. මෛථුන්දම්

සේවනය ආරම්භ වෙන්නෙ ඒ විදියට. මේකට ධර්මයේ සඳහන් වෙන්නෙ අසද්ධර්මය කියල. අසද්ධර්මය සඟවන්න තමයි, ගෙවල් ඇති වුනේ. ඇල් වී වල ස්වයංජාත ගුණය අඩු වෙනකොට ඇල් කෙත් බෙදා ගන්න වෙනව. වගාකරන්න වෙනව. අනුන්ගේ කොටස පැහැරගන්න හිතෙනව. පැහැරගත්ත කෙනා හසු වුණාම 'මං ගත්තෙ නෑ' කියන්න ගිහින් බොරුව ඇති වෙනව. කේලම ඇති වෙනව. පහර දෙනව. ඝාතනය ඇති වෙනව. ඉතින් මේ විදියට දස අකුසලය ම සමාජයේ ඇති වෙන්නෙ මනසේ ශක්තිය යටපත් වෙමින් කයට තියෙන තෘෂ්ණාව වැඩි වෙන කොට. පවුල, සමාජය, අධිකරණය, රජය කියන ආයතන ඇති වෙන්නේ කයට තියෙන වසඟ භාවය වැඩිවෙච්ච නිසා.

මේ සඳහන් කළේ **අග්ගඤ්ඤ සූත්‍රයේ (දීඃ නිඃ 3, 144 පිට)** එන විස්තරය කෙටියෙන්. මේ ක්‍රියාවලිය සකස් වෙන්නෙ පටිච්චසමුප්පාද ධර්ම න්‍යායයට අනුව බව දැනගන්න. මේ විදියේ සංවෘතකල්ප විවෘත්තකල්ප බොහෝ ගණනක් තමයි, සත්‍වයකුගෙ සසර කියන්නෙ. මම, මගේ කියන හැඟීම ඉස්සරහට දාගෙන සිතින් කයින් වචනයෙන් රැස් කරන කර්මය පිහිට කරගෙන තමයි සසර සකස් වෙන්නෙ. **(කම්ම පටිසරණා)** දවසක් මාලුඞ්ක්‍යපුත්ත හිමියෝ බුදුරජාණන් වහන්සේගෙන් ඉල්ලා සිටිය, අප්‍රමාදීව කෙලෙස් තවන්න කෙටි අවවාදයක් දෙන්න කියල. ඒ වෙලාවෙ බුදුරජාණන් වහන්සේ ඇසුව, **"ඔබ චක්ඛුවිඤ්ඤාණයෙන් දැනගතයුතු රූප, සෝතවිඤ්ඤාණයෙන් දැනගතයුතු ශබ්ද, ඝාණවිඤ්ඤාණයෙන් දැනගතයුතු ගන්ධ, ජිව්හාවිඤ්ඤාණයෙන් දැනගතයුතු රස, කායවිඤ්ඤාණයෙන් දැනගතයුතු පහස, මනෝවිඤ්ඤාණයෙන් දැනගතයුතු සංකල්ප කලින් ලබල නැත්නම්, ඒ නිමිති ගැන දැන් කැමැත්තකුත් නැත්නම්, මතු ලබන්නට සිතකුත් නැත්නම් ඔබට රූප, ශබ්ද, ගන්ධ, රස, පහස, සංකල්ප ගැන රාගයක් ප්‍රේමයක් තියෙන්න පුළුවන් ද,'** කියල. එතැනදි මාලුඞ්ක්‍යපුත්ත හිමියන් පැවසුව, 'ස්වාමීනි එහෙනම් රාගයක් ප්‍රේමයක් තියෙන්න බෑ' කියල. **(සංඃ නිඃ 4, මාලුඞ්ක්‍යපුත්ත සූත්‍රය, 156 / 158 පිටු)**

බුදුරජාණන් වහන්සේ මතු කරවදාළ මේ කාරණයෙන් අපට පැහැදිලි වෙන්න ඕන, ආයතන හයේ නිමිති වලට අතීතයේ වැඩුණ කැමැත්ත නිසා තමයි, දැනුත් කැමති වෙන්නෙ, කියන බව. දැනුත් කැමැත්ත තියෙනව නම් ඒ කැමැත්තෙන් මිදීමට කටයුතු කරන්නෙ නැත්නම් මත්තටත් බලාපොරොත්තුව ඉතුරු වෙනව. එහෙනම් මතුත් ලැබෙයි. එහෙම වුණොත් සසර නතර වෙන්නෙ නෑ. අද වෙනකොට අපේ ලෝකෙ ආයතන

හයේ නිමිති විසිතුරු වෙලා. වර්ණවත් වෙලා. අද මේව දියුණු කරගෙන තියෙන්නෙ අන්තර්ජාල පහසු කම් ඔස්සේ. මනුෂ්‍යයාගෙ මනස නන්නත්තාරයි. ඒ හින්ද අද වෙනකොට දස අකුසලය හුඟක් උත්සන්න වෙලා.

එහෙම යුගයක වුණත් යම් තරමකින් හෝ දහම්මග ගැන උනන්දු වන අයත් ඉන්න නිසයි, මේ කරුණු කථා කරන්නෙ. ඒ නිසා පින්වත් ඔබ ප්‍රඥාවෙන් යුක්ත වෙන්න. බුදුරජාණන් වහන්සේ කබලිඞ්කාර ආහාරයෙන් සමුදය වුණ මේ කය ගැන කථාකරන්නෙ කොහොම ද, කියල හොඳින් තේරුම් ගන්න. "මහණෙනි, මේ කය නුඹලාගේ නො වේ. අනෙකකුගේ ද නො වේ. ප්‍රත්‍යයන්ගෙන් සකස් වුණ, චේතනාව මුල් කරගත්ත, විඳිනයට කරුණු වූ මෙය පුරාණ කර්මයයි." කියලයි. **(නායං භික්ඛවෙ කායො තුම්හාකං නාඤ්ඤෙසං, පුරාණමිදං භික්ඛවෙ කම්මං අභිසඞ්ඛතං අභිසඤ්චෙතයිතං වෙදයිතං දට්ඨබ්බං. නතුම්හ සූත්‍රය,නිදානවග්ග, සං: නි:2, 100 පිට)**

දැන් මේ දේශනාව මාලුඞ්ක්‍යපුත්ත හිමියන්ට කළ දේශනාවත් එක්ක සම්බන්ධ කරල තේරුම් ගන්න. අතීතෙත් සවිඤ්ඤාණක කයින් බාහිර නිමිති ලැබුව. ඉන් මිදෙන්න දැක්මක් ඇති වුනේ නෑ. ඒ කාලේ මතුත් ලැබේවා කියල හිතාගෙන හිටිය නිසා ඔන්න දැන් ලැබිල තියෙනව. හැබැයි ලැබිල තියෙන්නෙ ආසකරපු ටික විතරක් නෙවෙයි. එහෙනම් විඳෝපං කියල දුන්න ජරා, ව්‍යාධි, මරණ, සෝක, පරිදේව, දුක්, දොම්නස්, උපායාසත් එක්කයි හම්බවෙලා තියෙන්නෙ. මිනිස් කයක් සහිත මේ ජීවිතය පිළිබඳව මේ දැක්ම නම් අපට ලබාදෙන්නෙ බුදුවරයන් වහන්සේ නමක් ම යි. වෙන මොන විශේෂඥයෙක්වත් නෑ.

පුහුදුන් පුද්ගලයා 'මම වෙමි', **(අහිංකාර)** 'මගේ' ය **(මමිංකාර)**කියන මානයෙන් යුක්ත කෙනෙක්. අපි කවුරුත් සද්ධර්මය හරිහැටි දැනගන්නකම් හිතන්නෙ එහෙම තමයි. ඒ මැනගැනීම සිදු වෙන්නෙ මේ සවිඤ්ඤාණක කයත් බාහිර නිමිතිත් ඇසුරු කරගෙන. **(ඉමස්මිං ච සවිඤ්ඤාණකෙ කායෙ බහිද්ධා ච සබ්බ නිමිත්තෙසු)- (සං: නි: 3, පඨම රාහුල සූත්‍රය, 232 පිට)**මේ විදියෙන් 'මම' කියල හිතාගන්න එකට තමයි 'අවිද්‍යාව' කියන්නෙ. මගේ කියල හිතාගන්න එකට තමයි 'තණ්හාව' කියන්නෙ. අවිද්‍යාව නීවරණයක්. නිවන් පිළිවෙත ආවරණය කරන ධර්මයක්. තණ්හාව සංයෝජනයක්. මේ කය හටගන්නෙ, අවිද්‍යා නීවරණයෙන් ආවරණය වෙච්ච, තණ්හාවෙන් යුක්ත බාලයටයි, කියල බුදුරජාණන් වහන්සේ **සං: නි: 2, බාලපණ්ඩිත සූත්‍රයේ (38 පිට) දී** දේශනා කරනව.

**(අවිජ්ජානීවරණස්ස භික්ඛවෙ, බාලස්ස තණ්හාය සම්පයුත්තස්සඑවමයං කායො සමුදාගතො.)** අපි මිනිස් කයක් ලබල ඒක සැපයක් කියල හිතුවත් බුදුරජාණන් වහන්සේ මේ කය නිසා විඳින දුක් හඳුන්වල තියෙන්නෙ පාතාලය කියල. සං: නි: 4 පාතාල සූත්‍රයේ දී ඒ බව සඳහන් කරල තියෙනව. " මහණෙනි, ශාරීරික දුක් වලට වෙන නමක් තමයි, පාතාලය කියල කියන්නෙ." **(සාරීරිකානං ඛො එතං භික්ඛවෙ දුක්ඛානං වෙදනානං අධිවචනං යදිදං පාතාලො)- (සං: නි: 4, පාතාල සූත්‍රය, 392 පිට)**

එතකොට අපිට මේ කය හම්බ වුනේ අපේ බාල බව නිසා. අවිද්‍යාව, තණ්හාව දුරුකරන්න බැරිවෙච්ච එක තමයි අපේ බාලකම. **ම: නි: 2, 446 පිට, රට්ඨපාල සූත්‍රයේ** රට්ඨපාල හිමියන් දේශනා කරන ගාථාවක මෙහෙම සඳහන් වෙනව.

**"රාජා ච අඤ්ඤෙ ච බහූ මනුස්සා**
**අවීතතණ්හා මරණං උපෙන්ති,**
**ඌනාව හුත්වාන ජහන්ති දෙහං**
**කාමෙ හි ලොකම්හි නහත්ථි තිත්ති."**

"රජු හා අනෙකුත් බොහෝ මනුෂ්‍යයො තණ්හාව බැහැර කරන්නෙ නැතුව මරණයට පත් වෙනව. මනදොල සපිරෙන්නෙ නැතිව ම මැරෙණව. ලෝකයෙහි පංචකාමයේ සෑහීමක් නම් නෑ."

දැන් එතකොට පුහුදුන් පුද්ගලයා මියයන්නේ තව විඳගන්න බොහෝ දේ තියෙනව. මට ඒවා නැවතත් විඳගන්න ඕන කියල හිතාගෙන. මියගියේ මේ හිතිවිල්ලෙන් නම් ආයෙත් කොහේ හරි උපතක් හදාගන්නව. යහපත් මට්ටමේ මිනිසත් භවයක් ලැබෙන්න ඉඩ අඩුයි. දුගතිගාමී වෙන්න ඉඩ වැඩියි. දේව කායිකයෙක් වීමටත් හුඟක් ම ඉඩ අඩුයි. සුගති භවයක් ලැබුණත් ජරාමරණ, සෝක පරිදේව දුක් දොම්නස් උපායාස වලින් මිදිල නෑ. ඊළඟ භවය සකස් වෙන ආකාරය ගැන කියැවෙන්නෙ මෙහෙමයි.

**"උපෙති ගබ්භඤ්ච පරඤ්ච ලොකං**
**සංසාරමාපජ්ජ පරම්පරාය,**
**තස්සප්පපඤ්ඤො අභිසද්දහන්තො**
**උපෙති ගබ්භඤ්ච පරඤ්ච ලොකං"**

"මේ තැනැත්තා නැවත නැවතත් සසරට ම ඇවිදින් මව්ගැබ කරාත් යනව. පරලොව කරාත් යනව. තමන්ගෙ (ලෝභ,

ද්වේෂ, මෝහ) වැඩපිළිවෙළ ම අදහගෙන ඉන්න නුවණ මද මේ පුද්ගලයා මව්ගැබ කරාත් යනව. පරලොව කරාත් යනව."

දැන් අපට හුඟක් පැහැදිලි වුණා මේ කය හම්බ වුණේ පුරාණ කර්මය නිසා බව. අපි තවදුරටත් කලින් මතක් කළ බාලපණ්ඩිත සූත්‍රය අනුව කරුණු විමසල බලමු. අපි ඒ සූත්‍රයෙන් තව ම දැනගත්තෙ මේ කය අවිද්‍යානීවරණයෙන් යුක්ත තණ්හාවෙන් යුක්ත බාලයාට හටගත් එකක් බව විතරයි. තවදුරටත් මෙහෙම සඳහන් වෙනව. "මේ විදියට මේ කයත් බාහිර නාමරූපත් දෙකක් දෙකක් හේතුකරගෙන ස්පර්ශය ඇති වෙනව. ආයතන හයක් තියෙනව. ඉන් කිසිවකින් හෝ ස්පර්ශ ලබන බාලයා සුව දුක් විඳිනව." **(ඉති අයඤ්චෙව කායො බහිද්ධා ච නාමරූපං ඉත්‍යේතං ද්වයං ද්වයං පටිච්ච ඵස්සො. සළෙවායතනානි යෙහි පුට්ඨො බාලො සුඛදුක්ඛං පටිසංවෙදියති එතෙසං වා අඤ්ඤතරෙන.)**

මේ සූත්‍රයේ බාලයා ගැන විතරක් නොවෙයි, පණ්ඩිතයා ගැනත් කථා කෙරෙනව. එතැනදිත් මේ කියපු විස්තරයමයි ඉදිරිපත් වෙන්නෙ. දැන් අපි ඒක විමසල බලමු. "මහණෙනි, අවිද්‍යා නීවරණය ඇති, තෘෂ්ණාවෙන් යුක්ත පණ්ඩිතයාගේ කය මෙසේ හටගත්තේ ය. මෙසේ කය ද බාහිර නාමරූප ද මේ දෙකක් දෙකක් හේතු කරගෙන ස්පර්ශය වේ. ආයතන හයක් තියෙනව. ඉන් කිසිවකින් හෝ ස්පර්ශ ලබන පණ්ඩිතයා සුව දුක් විඳිනව." මෙහෙම සඳහන් කරල බුදුරජාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලාගෙන් විමසනව, මෙහෙම නම් බාලයාගෙත් පණ්ඩිතයාගෙත් අතර වෙනස මොකක් ද, කියල.

ඒ වෙලාවෙ දහම් අසමින් හිටි භික්ෂූන් වහන්සේලාට ඒ වෙනස පැහැදිලි නෑ. ඒ නිසා උන්වහන්සේලා කියා හිටිය, ස්වාමීනි, අපේ මේ ධර්මය භාග්‍යවතුන් වහන්සේ මුල් කරගෙනයි තියෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේ පිහිට කරගෙනයි තියෙන්නෙ. ස්වාමීනි, මේ කියමනේ අර්ථය ඔබවහන්සේට ම වැටහේවා. භාග්‍යවතුන් වහන්සේගෙන් අහල භික්ෂූන් වහන්සේලා දරාගනීවි." කියල. ඒ අවස්ථාවේ දී බුදුරජාණන් වහන්සේ එහෙනම් මහණෙනි, අහන්න. හොඳින් මෙනෙහි කරන්න. කියල, මෙහෙම වදාළ.

"මහණෙනි, යම් අවිද්‍යාවකින් වැහුණ, යම් තණ්හාවකින් යුක්ත මේ කය හටගත්ත ද, ඒ බාලයාගේ අවිද්‍යාව ප්‍රහාණය වෙලා නෑ. තණ්හාව බැහැර වෙලා නෑ. මොකක් ද ඒකට හේතුව? **මහණෙනි, බාලයා මැනැවින් දුක් කෙළවර කිරීම සඳහා බ්‍රහ්මචර්යාව කරල නෑ. ඒ හින්ද බාලයා මේ කය බිඳෙනකොට අනෙක් කයකට පැමිණෙනව.** එහෙම කයකට ආවහම ජාති ජරා

මරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස වලින් මිදෙන්නෙ නෑ. දුකින් හැම අයුරින් ම මිදෙන්නෙ නෑ.”

දැන් අපි ඊළඟට බලමු, පණ්ඩිතයා ගැන කියන්නෙ කොහොම ද, කියල. “මහණෙනි, යම් අවිද්‍යාවකින් වැසුණු, යම් තණ්හාවකින් යුක්ත පණ්ඩිතයාගේ මේ කය හටගත්ත ද, පණ්ඩිතයාගේ ඒ අවිද්‍යාව ප්‍රහීණ වෙලා. තණ්හාව බැහැර වෙලා. ඒකට මොකක් ද, හේතුව? **මහණෙනි, පණ්ඩිතයා මැනැවින් දුක් කෙළවර කිරීම සඳහා බ්‍රහ්මචර්යාව කරල. ඒ හින්ද පණ්ඩිතයා මේ කය බිඳෙනකොට අනෙක් කයකට පැමිණෙන්නෙ නෑ.** අන් කයකට නො පැමිණෙන ස්වභාව ඇති ඔහු ජාති ජරා මරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස වලින් මිදෙනව. හැම අයුරින් ම දුකින් මිදෙනව.”

දැන් අපට පැහැදිලියි, බාලයාගෙන් පණ්ඩිතයා වෙනස් වෙන්නෙ කොහොම ද, කියල. මෙතැන පණ්ඩිතයා කිව්වෙ රහතන්වහන්සේට. උන්වහන්සේලා දරණ කය රහත්වෙන්න පෙර, තිබුණ අවිද්‍යා තණ්හා නිසා සැකසිච්ච කය ම යි. නිසි විදියට සසුන් බඹසර පිරුව නිසා අවිද්‍යාවත් තණ්හාවත් ප්‍රහීණයි. මේ කය අතහරින්නේ වෙන කයක් අල්ලගන්න නෙවෙයි. ඉතින් අපි මේ කය සමුදය වෙන්නෙ කොහොම ද, කියල තේරුම් ගන්නෙ කය අතහරින්න අවශ්‍ය මූලික දැක්මක් හැටියට. ධර්මය අහන්නෙ ඒ දැක්ම ඇති කරගන්න. ඒ දැක්ම ඇති වෙන කොට තමයි, කාම, ව්‍යාපාද, විහිංසා සකල්පනා වලින් මිදෙන්න ඕන කියල සිතක් පහළ වෙන්නේ. නෙක්ඛම්ම, අව්‍යාපාද, අවිහිංසා සංකල්ප ඇති වෙනකොට තමයි සීලය පිබිදෙන්නෙ. ඒ කියන්නෙ නිවැරදි වචනය, නිවැරදි ක්‍රියාව, නිවැරදි ආජීවය සකස් වෙන්නේ. ඒ තමයි, සීලය.

මේ වැඩ පිළිවෙළට උත්සාහයක් ඕන. ඒ තමයි සම්මා වායාමය. උත්සාහය පවත්වන්න සතිය ඕන. මේ ඔක්කොම ටික සකස් වෙනකොට තමයි සම්මාසමාධිය වැඩෙන්නේ. මේ සකස් වීම තුළයි මගඵල නුවණ පිබිදෙන්නෙ.

තමන් තමන් ගැන ම හොඳට විමසල බලන්න. පේන, ඇහෙන, ආඝ්‍රාණය වෙන, රස දැනෙන, ස්පර්ශ වෙන, කල්පනා වෙන වෙලා වල තමන්ට මොකක් ද, වෙන්නෙ කියල. මොකක් ද හිතෙන්නෙ කියල. අරමුණු හිතට ගණන් වැටුණ කියන්නේ කෙලෙස් වශයෙන් අනුසය වුණා කියන එකයි. ඒ හින්ද අනුසය ඉවර වෙනකම් ප්‍රඥාව වඩන්න වෙනව.

## මූලපරියාය සූත්‍රය.

අපි මේ දහම් පත්‍රිකා වලදී නැවත නැවතත් කථාකරපු කරුණක් තමයි, බාහිර ලෝකෙ මොනවා තිබුණත් අපි අත්දකින්නේ සළායතනයන්ගේ මැවෙන ස්වභාවයයි කියන බව. ආයතන හයේ විඤ්ඤාණයෙන් පිළිබිඹු වෙන නාමරූප ලෝකය බව. අප අත්දකින සළායතනික රූප නිමිති කියන්නෙ පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන මහාභූතරූප ඇසුරෙන් හඳුනාගන්න උපාදාය රූප වලටයි. ඒවා මනසිකාරයෙන් තමයි **(මනසිකාරසම්භවා සබ්බෙධම්මා)**අරමුණු කරන්නෙ. චක්ඛුසම්ඵස්ස, සෝතසම්ඵස්සා දී සළායතනික ඵස්සෙයෙන් තමයි සමුදය වෙන්නෙ. **(ඵස්සසමුදයා සබ්බෙධම්මා)**විඳගැනීම්, හඳුනාගැනීම්, චේතනා මැවීම් ක්‍රියාත්මක වෙන්නෙ මේ රූපනිමිති පිළිබඳවයි.

මේ විඳීම, සඤ්ඤා, චෙතනා, ඵස්ස, මනසිකාර ක්‍රියාත්මක නො වී රූප නිමිති වෙන්නෙත් නෑ. මේ රූපනිමිති නැතිව නාමධර්ම සමුදය වීමක් වෙන්නෙත් නෑ. මේ නාම රූප දෙක එකිනෙකට ප්‍රත්‍යය වෙනව. මේ නාමරූප සමුදය වෙන්නෙ විඤ්ඤාණයේ සමුදයත් සමගයි. විඤ්ඤාණය සමුදය වෙන්නෙ නාමරූපත් සමගයි. විඤ්ඤාණය නාමරූප මවනව. නාමරූප විඤ්ඤාණය මවනව. මේවා එකිනෙකට යැපෙන සුලු ප්‍රත්‍ය ධර්ම. සමුදය වෙලා පවතින සළායතනික ලෝකයක් නෑ. සළායතනික වශයෙන් සමුදය වෙන ධර්ම ඔක්කොම නිරුද්ධ වෙනව. **"යං කිඤ්චි සමුදයධම්මං සබ්බං තං නිරෝධ ධම්මං"** කියන බණ පදයෙන් කියැවෙන්නෙ ඒකයි. මේ තමයි සෝතාපත්ති ඵලය උදාවන විට උපදින දහම් ඇස.

සක්කාය කියන්නෙ විඤ්ඤාණ නාමරූප වශයෙන් ලබන අත්දැකීම් රාශිය සමුදය නිරෝධ වශයෙන් නො දැක සංඥාවෙන් ඇති දේ හැටියට ගැනීමයි. 'කාය' කිව්වෙ මේ විඤ්ඤාණ නාමරූප රාශියට. ඒවා ඒකකයක් හැටියට ඇති දේ වශයෙන් ගැනීම සක්කායසමුදයයි. පුද්ගලයා අත්දැකීම් ලෝකය වශයෙන් සකසා ගන්න සාමාන්‍ය සංජානන මට්ටම ඒකයි. **(සඤ්ජානාති)**නුවණින් දැකීමක් එතැනදි නෑ.එතනතියෙන්නෙ විපරීත සඤ්ඤාවක්. වරදවා හඳුනා ගැනීමක්.පුහුදුන් පුද්ගලයා

මේ සක්කායසමුදයට මූලික කරගන්නා සක්කායපරියාපන්න මූලකාරණා විසිහතරක්ගැන **මූලපරියාය සූත්‍රයේ- (මඃ නිඃ 1, 01 පිට සිට)** සඳහන් වෙනව.

01. පඨවි - තද ගතිය. බුරුල් ගතිය
02. ආපෝ - තෙත ගතිය. බැඳෙනසුලු ගතිය.
03. තේජෝ - උණුසුම් ගතිය, සිසිල් ගතිය.
04. වායෝ - චංචල ගතිය, පිම්බෙන, සැලෙන ගතිය.
05. භූත - මනුෂ්‍ය අත්දැකීම් තලය හා නරක, තිරිසත් , ප්‍රේත, අසුර අත්දැකීම් තල.
06. දේව - දේවකායික අත්දැකීම් තල. එනම්ඃ චාතුර්මහාරාජික, තාවතිංස, යාම, තුසිත, නිම්මාණරති, පරනිම්මිතවසවත්ති.
07. පජාපති - මාර.
08. බ්‍රහ්ම - ප්‍රථමධ්‍යාන තලය.
09. ආභස්සර - ද්විතීයධ්‍යාන තලය.
10. සුභකිණ්හ - තෘතීයධ්‍යාන තලය.
11. වේහප්ඵල - චතුර්ථධ්‍යාන තලය.
12. අභිභූ - අසංඥ තලය.
13. ආකාසානඤ්චායතනය.
14. විඤ්ඤාණඤ්චායතනය.
15. ආකිඤ්චඤ්ඤායතනය.
16. නෙවසඤ්ඤානාසඤ්ඤායතනය.
17. දිට්ඨ - රූපායතනය. (දුටු)
18. සුත - ශබ්දායතනය. (ඇසූ)
19. මුත - ගන්ධායතනය (සායිත) රසායතනය, (සායිත) ඵොට්ඨබ්බායතනය (ඵුසිත)
20. විඤ්ඤාත - ධම්මායතනය (මනසින් දත්)
21. ඒකත්ත - වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන ස්කන්ධ සතර ඒකත්වයෙන් හඳුනා ගැනීම.
22. නානත්ත - රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ යන ස්කන්ධ පහ වෙන වෙන ම හඳුනා ගැනීම.
23. සබ්බ - සියලු සක්කායධර්ම සියල්ල හැටියට හඳුනා ගැනීම.
24. නිබ්බාන - නිර්වාණය. පුහුදුන් පුද්ගලයා නිවන ද දෙයක් කරගෙන සක්කායයට කරුණක් කරගනියි.

මේ සඳහන් කළේ පුද්ගලයා අත්දැකීම් වශයෙන් මවා ගන්න අවස්ථා විසිහතරක්. මේ කරුණු පුහුදුන් මනසට වැටහෙන විදියට පුහුදුන් පුද්ගලයා හඳුනගන්නව. **(සඤ්ජානාති)**එහෙම හඳුනාගෙන මම, මගේ කියල හිතාගන්නව. **(මඤ්ඤති)** ඒ කරුණු වල ආත්මය එනම්ඃ තමා පිහිටියයි කියල හිතාගන්නව. ඒවායින් බැහැරව මම වෙමි කියල හිතාගන්නව. ඒවා කැමති වෙනව. **(අභිනන්‍දති)** මොකක් නිසා ද? ඔහුගේ හාත්පසින් නො දත් කම නිසා. **(අපරිඤ්ඤාතං)**පිරිසිඳ නො දත් කම නිසා. තව විදියකින් කිව්වොත් ඒවා හේතු ප්‍රත්‍ය සම්බන්‍ධතාවක් කියල නොදන්න කම නිසා.

මේ කථා කළේ පුහුදුන් පුද්ගලයාගේ සඤ්ජානන ලෝක සකස් වෙන හැටියි. පුහුදුන් පුද්ගලයෙක් හැටියට රූපාවචර අරූපාවචර සමාපත්ති ලබන්නත් පිළිවන්. සමාපත්ති තිබුණට ම කෙනෙක් පුහුදුන් බවින් මිදෙන්නෙ නෑ. ඒ සමාපත්ති මම කරගන්නව. මගේ කරගන්නව. එහෙම කෙනෙක් නිවන ගැන හිතුවත් නිවනත් මම කරගන්නව. මගේ කරගන්නව. එහෙම වෙනකොට නිවන් අවබෝධ වීම වෙනුවට හදාගන්නෙ චේතනාමය අභිසංස්කරණයක්. නිවන කියන්නෙ සියලු චේතනාමය අභිසංස්කරණයන් නිමවීමයි, කියල මතක තියාගන්න. **(සබ්බ සංඛාර සමථො)**

දැන් අපි කථා කරන්නේ නිවන් මගට බැස්ස පුද්ගලයා, ඒ කියන්නෙ **සේඛ** පුද්ගලයා මේ මූලකාරණා විසිහතර ගැන කොහොම ද දකින්නෙ කියන එක ගැනයි. නිවන ප්‍රාර්ථනා කරන සේඛ පුද්ගලයත් මේ පඨවි ආපෝ තේජෝ වායෝ ආදී වශයෙන් කියන මූල කාරණා විසිහතර අත්දකිනව. ඒත් ඒවා සාමාන්‍ය සංජානන මට්ටමෙන් ගන්නෙ නෑ. වෙසෙසින් දැනගන්නව. වෙසෙස් නුවණින් දැනගන්නව. හේතු ප්‍රත්‍ය වශයෙන් සමුදය වන ධර්ම හැටියට දැනගන්නව. පුහුදුන් පුද්ගලයා ගැන කියන කොට **සංජානාති** කියල කියපු තැන සේඛ පුද්ගලයා ගැන කියනකොට යොදන්නේ ඒ වෙසෙස් නුවණ අදහස් කරන **අභිජානාති** කියන ක්‍රියාපදයයි. එහෙම වෙසෙස් නුවණින් දැනගෙන ඒ මූලකාරණා මම කියල, මගේ කියල නො සිතා ගැනීම පිණිස හික්මෙනව. **(මාමඤ්ඤි)** මතු මතුත් ලැබේවායි කියල කැමති නො වීම පිණිස, ප්‍රාර්ථනා නො

කිරීම පිණිස හික්මෙනව. **(මාභිනන්දි)**මොකක් හින්ද ද? ඒ මූලකාරණා අර්හත් මාර්ගයෙන් හාත්පසින් ම, නො අඩුව ම, දැනගතයුතු හින්ද. **(පරිඤ්ඤෙය්‍යං)** සේඛ පුද්ගලයාගේ අවබෝධය තාම සම්පූර්ණ වෙලා නැති හින්ද.

ඊළඟට අපි කථා කරන්නේ අසේඛ පුද්ගලයා ගැන. ක්ෂීණාශ්‍රව රහතන් වහන්සේ ගැන. රහතන් වහන්සේත් මේ මූලකාරණා විසිහතර අත්දකිනව. උන්වහන්සේ මේවායේ හේතු ප්‍රත්‍ය සම්බන්ධතාව දන්නව. වෙසෙසින් දන්නව. **(අභිජානාති)** රහතන් වහන්සේට මෙතැන දි හික්මෙන්න දෙයක් නෑ. හික්මිලා ඉවරයි. ඒ නිසා උන්වහන්සේ වෙසෙස් නුවණින් දක්නා මේ මූලකාරණා මම ය මගේ ය කියල හිතා ගන්නෙ ම නෑ. **(න මඤ්ඤති)** ඒ මූලකාරණාවන්හි මම වෙමියි කියල හිතාගන්නෙ ම නෑ. ඒවායින් බැහැරව මම වෙමියි කියල හිතාගන්නෙත් නෑ. ඒවා මගේ ය කියල හිතාගන්නෙත් නෑ. ඒවා මතු ලැබේවායි බලාපොරොත්තු වෙන්නෙත් නෑ. **(නාභිනන්දති)** මොක ද, ඒකට හේතුව? පිරිසිඳ දන්නා ලද නිසා ම යි. **(පරිඤ්ඤාතං)**

අසේඛ වූ රහතන් වහන්සේ මේ විදියට වෙසෙස් නුවණින් දැනගෙන මඤ්ඤනා නො කරන්නේ අභිනන්දනය නො කරන්නෙ රාගය ක්ෂය වීමෙන් වීතරාගී වූ නිසා. **(ඛයා රාගස්ස වීතරාගත්තා)**ද්වේෂය ක්ෂය වීමෙන් වීතදෝස වූ නිසා. **(ඛයා දොසස්ස වීතදෝසත්තා)**මෝහය ක්ෂය වීමෙන් වීතමෝහ වූ නිසා. **(ඛයා මෝහස්ස වීතමෝහත්තා)**

තථාගතයන් වහන්සේ පිළිබඳව දේශනා කරන්නෙත් මේ මේ අසේඛ පුද්ගලයාට සමානවයි. යට කී සක්කාය සමුදයට හේතු වන මූලකාරණා වෙසෙස් නුවණින් දක්නා තථාගතයන් වහන්සේ ඒවා පිරිසිඳ දත් බැවින් **(පරිඤ්ඤාතං තං තථාගතස්ස)**මඤ්ඤනා කරන්නෙත් නෑ. ඒ කියන්නෙ මම, මගේ වශයෙන් ගන්නෙත් නෑ. **(න මඤ්ඤති)**ඒවා මතු බලාපොරොත්තු වෙන්නෙත් නෑ. **(නාභිනන්දති)** ඊට හේතු කවරේ ද, යන්න දැක්වීමේ දී රහතන් වහන්සේට දැක් වූ වීතරාග, වීතදෝස, වීතමෝහ යන හේතු වලට එහා යමින් **"නන්දිරාගය නම් වූ තණ්හාව දුකට මුල වේ. භවයෙන් ඉපදීම වෙයි. උපන් පුද්ගලයාට ජරාමරණ වේ. යයි දැන එහෙයින් මහණෙනි, තථාගතයන් වහන්සේ හැම අයුරින් තෘෂ්ණාවන් ක්ෂය**

**කිරීමෙන්,මකා හැරීමෙන්, නිරෝධයෙන්, අතහැරීමෙන්, දුරලීමෙන් අනුත්තර වූ සම්‍යක් සම්බෝධිය මැනැවින් අවබෝධ කළ හෙයිනැ යි කියමි"** යනුවෙන් තථාගතයන් වහන්සේ වදාරති.**(නන්දි දුක්ඛස්ස මූලන්ති ඉති විදිත්වා, භවා ජාති, භූතස්ස ජරාමරණන්ති. තස්මාතිහ භික්ඛවෙ තථාගතො සබ්බසො තණ්හානං ඛයා විරාගා නිරොධා චාගා පටිනිස්සග්ගා අනුත්තරං සම්මාසම්බොධිං අභිසම්බුද්ධො'ති වදාමි)**

<u>සළායතනික අත්දැකීම් ලැබීම පිළිබඳ පුහුදුන්, සේඛ, අසේඛ පුද්ගලයින් අතර වෙනස තේරුම් ගැනීම පිණිස උපකාරක සටහන</u>

| පුහුදුන් | සේඛ | අසේඛ |
|---|---|---|
| **සඤ්ජානාති** පුහුදුන් පුද්ගලයා ලෝක සම්මත හැඳිනීම් මට්ටමින් අත්දැකීම් දැනගනියි. | **අභිජානාති** සේඛ පුද්ගලයා අත්දැකීම් වෙසෙස් නුවණින් දැන හික්මෙයි. | **අභිජානාති** අසේඛ පුද්ගලයා අත්දැකීම් වෙසෙස් නුවණින් දැනගනියි. |
| **මඤ්ඤති** පුහුදුන් පුද්ගලයා අත්දැකීම් මම, මගේ වශයෙන් ගනියි. | **මාමඤ්ඤි** සේඛ පුද්ගලයා අත්දැකීම් මම, මගේ වශයෙන් නො ගන්නා පිණිස හික්මෙයි. | **න මඤ්ඤති** අසේඛ පුද්ගලයා අත්දැකීම් මම, මගේ වශයෙන් නො ගනියි. |
| **අභිනන්දති** පුහුදුන් පුද්ගලයා අත්දැකීම් මම, මගේ වශයෙන් මතු මතුත් ගැනීමට කැමති වෙයි. | **මාඅභිනන්දි** සේඛ පුද්ගලයා අත්දැකීම් මම, මගේ වශයෙන් මතු මතුත් ගැනීමට කැමති නො වනු පිණිස හික්මෙයි. | **නාභිනන්දති** අසේඛ පුද්ගලයා අත්දැකීම් මම, මගේ වශයෙන් මතු මතුත් කැමති නො වෙයි. |
| **අපරිඤ්ඤාතං** පුහුදුන් පුද්ගලයා අත්දැකීම් ලෝකය පිරිසිඳ නො දනියි. | **පරිඤ්ඤෙය්‍යං** සේඛ පුද්ගලයා අත්දැකීම් ලෝකය පිරිසිඳ දැනගනු පිණිස හික්මෙයි. | **පරිඤ්ඤාතං** අසේඛ පුද්ගලයා අත්දැකීම් ලෝකය පිරිසිඳ දනියි. |

අපේ සළායතනික අත්දැකීම් ලෝකය පටිච්චසමුප්පාද ධර්ම න්‍යායය අනුව තේරුම් ගන්නව නම් සංජානන මට්ටමේ රැඳෙන්නෙ නැතුව අභිජානාති කියන වෙසෙස් නුවණින් දකින්න පුළුවන් වෙනව. මේ මොහොතේ සමුදය වන අත්දැකීම් ක්‍රියාවලිය දකිනව නම් පටිච්චසමුප්පාදය දකිනව කියන්නෙ ඒකයි. මම ය, කියන අවිද්‍යාවෙනුත් මගේ ය, කියන තණ්හාවෙනුත් ගැනීම වෙනුවට හේතු ප්‍රත්‍ය සම්බන්ධතා වශයෙන් අත්දැකීම් තේරුම් ගන්නව නම් පටිච්චසමුප්පාදය දකිනව කියන්නෙ ඒකයි. දිට්ඨ, සුත, මුත, විඤ්ඤාත කියන සළායතනික නිමිති පිළිබඳ ඇලීම්, ගැටීම්, රැවටීම් ඇතිවීම වළකින්නේ පටිච්චසමුප්පාද ධර්ම න්‍යායය අනුව බලනකොටයි. සෝවන්, සකදාගාමි, අනාගාමි, අරහත් අවස්ථා හතරකින් සම්පූර්ණ වෙන්නෙ ඒ අවබෝධයයි.

ඒ නිසා නුවණින් දකින්න අවශ්‍ය කරන වැටහීම පිණිස තව ටිකක් කරුණු කථා කරමු. ඇස, කන, නැහැය, දිව, කය, මන කියන ආයතන හය පුරාණ කර්මයයි. සත්‍වයා අතීතෙ ආයතන හයෙන් නිමිති සකස් කෙරුව. **(අභිසඞ්ඛතං)**චේතනා වශයෙන් පිළියෙළ කළා. **(අභිසඤ්චෙතයිතං)**ඒවට ඡන්දය රාගය ප්‍රේමය ඇති කරගත්ත. ඒ තමයි පුරාණ කර්මය. ඒක වේදනාවට කරුණක්. **(වෙදනීයං)** මතු මතුත් බලාපොරොත්තු වුණේ, චක්ඛුවිඤ්ඤාණයෙන් දතයුතු රූප, සෝතවිඤ්ඤාණයෙන් දතයුතු ශබ්ද, ඝාණවිඤ්ඤාණයෙන් දතයුතු ගන්ධ, ජිව්හාවිඤ්ඤාණයෙන් දතයුතු රස, කායවිඤ්ඤාණයෙන් දතයුතු ස්පර්ශ, මනෝවිඤ්ඤාණයෙන් දතයුතු ධර්ම. **'විදපං එහෙනම්'** කියල ඒ පුරාණ කර්මයේ ප්‍රතිවිපාක වශයෙන් ආයතන ප්‍රතිලාභය දැනුත් සිදුවෙනව. සළායතනික නිමිති පිළිබඳ ඡන්දයෙන් රාගයෙන් ප්‍රේමයෙන් යුතුව සිත, කය, වචනය මෙහෙයවනව. එතකොට නව කර්ම සකස් වෙනව. එහෙම ඉන්න කෙනෙක් මියයන්නෙ ආයතන හයේ නිමිති අත්දැකගන්න බලාපොරොත්තු තියාගෙන. ඉතින් සිත කය වචනය හසුරවපු හැටියට, ඒ කියන්නෙ කර්මයේ හැටියට **'විඥෝපන්'** කියල නාමරූපයක විඤ්ඤාණය වැදගන්නව.

අතීත සකස් කරපු කර්ම නිසා දැන් ලැබෙනව. දැන් සකස් කරන කර්ම නිසා මතුත් ලැබෙනව. සසර නතර

වෙන්නෙ නෑ. ඕකයි මේ පුහුදුන් සත්‍වයාට සකස් වෙලා තියෙන විපත. හැබැයි එහෙම විපතකට ගොදුරු වෙලයි, මම ඉන්නෙ කියන එක පුහුදුන් පුද්ගලයා දන්නෙ නෑ. සම්‍යක් සම්බුදුවරයන් වහන්සේ නමකගෙ දහම දැනගැනීමෙන් ම යි, මේ කාරණේ දැනගන්නෙ. ඒ ධර්මය දැනගන්න කෙනාට හිතන්න තියෙන්නෙ කරන්න තියෙන්නෙ මෙච්චරයි. **"අතීතෙ ආයතන හයේ නිමිති වලට ඡන්දයෙන් රාගයෙන් ප්‍රේමයෙන් හිත කය වචනය හසුරවපු එක ගැන දන් පසුතැවිලි වෙවී ඉඳල වැඩක් නෑ. මම දන් ඉඳල සළායතන නිමිති වලට ඡන්දයෙන් රාගයෙන් ප්‍රේමයෙන් සිත කය වචනය හසුරුවන එක අඩු වෙවී යන විදියට දහම්මග වඩන්න ඕන"** කියල අදිටන් කරගෙන ඒ අනුව කටයුතු කරන එකයි.

මෙතැනදි අපි හිතල බලමු, හේමක මාණවකයා බුදුරජාණන් වහන්සේගෙන් ඉල්ලා සිටි දෙයත්, උන්වහන්සේ දේශනා කළ දෙයත් ගැන. හේමක මෙහෙම කියනව. "මේ ගෞතම ශාසනය හැරෙන්නට, මට දේශනා කළ ගුරුවරු මට කිව්වෙ, 'මෙසේ විය' **(ඉච්චාසි)**කියල අතීතයක් ගැන. 'මෙසේ වන්නේ ය'**(ඉති භවිස්සති)**කියල අනාගතයක් ගැන. අතීතෙ ඉකුත් වෙලා. අනාගතය තව ම සිදුවුන එකක් නො වෙයි. මේ දෙක ම පරිවිතර්ක වඩන කථාවක් විතරයි. ඒවා මගේ සිත් ගත්තෙ නෑ. **(නාහං තත්‍ථ අභිරමිං)** මුණිවරයන් වහන්ස, මට තණ්හාව නසන මාර්ගය කියා දෙන්න. **'යම් ධර්මයක් තේරුම්අරගෙන සිහියෙන් යුක්තව හැසිරෙන්නේ, ඇලෙන සුලු තණ්හාවෙන් එතෙර වන්නේ ය'** කියල කියන්න පුළුවන් දහමක් මට දේශනා කරන්න."

ඉතින් බුදුරජාණන් වහන්සේ මෙතැනදි ඉතාම පැහැදිලි කෙටි දේශනාවක් කරනව.

**ඉධ දිට්ඨ සුත මුත විඤ්ඤාතෙසු පියරූපෙසු හෙමක,**
**ඡන්දරාගවිනොදනං නිබ්බානපදමච්චුතං"**

"හේමක, මේ ලෝකයේ ප්‍රිය ස්වරූප වූ ඇසින් පෙනුන,, කණින් ඇහුණ, නැහැයෙන් දිවෙන් කයෙන් දැනුණ, මනසින් දැනගත් දේ වල ඡන්දරාගය දුරුකිරීම නො ගිලිහෙන නිවනයි."

**"එතදඤ්ඤාය යෙ සතා දිට්ඨධම්මාභිනිබ්බුතා,**
**උපසන්තා ච ෙ යසතා තිණ්ණා ලොකෙ විසත්තිකං"**

"මේ කරුණ දැනගෙන සිහියෙන් යුක්තව යම් කෙනෙක් මේ අත්බැව්හි දී ම නිවුණා නම් ඒ අය හැම කල්හි ම උපශාන්තයි. ලෝකයේ ඇලෙන සුලු තණ්හාවෙන් එතෙර වූ අයයි."

දැන් අපට තේරෙනව, අතීතෙ ගැන පසුතැවිලි වෙවී ඉඳල වැඩක් නෑ. අනාගත පැතුම් ගොඩ නගමින් ඉඳලත් වැඩක් නෑ. වැදගත් වෙන්නේ මේ හොහොතේ අවදිමත් බවයි, කියන එක. පුහුදුන් හැඳිනීම් මට්ටමේ රැඳී ඉන්නෙ නැතිව පටිච්චසමුප්පාද ධර්ම න්‍යායයෙන් සළායතනික ලෝකය තේරුම් ගැනීමයි කළයුත්තෙ. සළායතනික අත්දැකීම් ලෝකය පිළිබඳව ඡන්දරාගය බැහැර වීම ම නිවන නම් ඒ පිළිබඳව මම ය, මගේ ය කියල කල්පනයක් ඇතිකර ගැනීම වැරදියි.

මේ කරුණු කාරණා කොයිවත් අපට තනි හිතින් හිතා ගන්නට බෑ. තථාගතයන් වහන්සේගෙන් හෝ තථාගත ශ්‍රාවකයකුගෙන් අහල දැනගන්නට වෙනව. ඒ පිණිසයි, අපි බණ අහන්නෙ. මේ මූලපරියාය සූත්‍රයත් වචන වල ව්‍යාකරණ සීමාවෙන් විතරක් අපට එක පාරට තේරුම් යන්නෙ නෑ. පටිච්චසමුප්පාද දැක්මෙන් යුතුව, සම්මාදිට්ඨියෙන් යුතුව යෝනිසෝමනසිකාරයෙන් යුතුව තේරුම් ගන්න කොට තමයි, තේරෙන්න පටන් ගන්නෙ. සසරට ම නැඹුරු වුණ සංකල්පනා රටාවෙන් මිදෙන පමණටයි තේරෙන්නෙ.

මේ මූලපරියාය සූත්‍රයේ අන්තිමට සඳහන් වෙන්නෙ, ඒ දේශනාව අහල ඒ අවස්ථාවේ හිටපු භික්ෂූන් වහන්සේලා සතුටු වුණේ නෑ, කියල. තුන් ලෝකෙට ම අයිති ඔක්කොමත් අතහැරල බලාපොරොත්තු වෙච්ච නිවන ගැනත් මම මගේ කියල හිතාගන්න එපා කියපු එකට, ඒ භික්ෂූන් වහන්සේලා අකැමති වුණ බවයි, පේන්නෙ. බුදුරජාණන් වහන්සේ මාර්ගය පෙන්වන්නෙ ඉපදිලා ඉන්න අයට කොහේ හරි සැප පමණක් ඇති තැනක සදාකාලික වෙන්න නෙවෙයි. උපන්නොත් මැරෙන්න වෙනව ම යි. ඒ නිසා නො උපදින ලෙස, යළි උපදින්නට නාමරූප නො මවන ලෙස සියලු කෙලෙස් අනුසය සහිතව ම ප්‍රහාණය කරන්නටයි.

මේ සූත්‍රයේ ඇතුළත් කරුණු අපි දැනගන්නෙ, දැනගත්ත ගමන් නිවන් ලැබෙයි කියල නොවෙයි. නිවන් මගට යොමු වීමට තරම් නුවණැසක් සකස් වීමටයි.